# සිංහල

# භාෂාව හා සාහිත්‍යය

## 10 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්‍ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය** පී. එන්. අයිලප්පෙරුම
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම** ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලී
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය** ප්‍රගීතිකා ජයසේකර
නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය** ඒ.වී. දිලේකා හර්ෂණී අමරසේන
සංවර්ධන නිලධාරී
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සංස්කාරක මණ්ඩලය

1. රත්නසිරි අරංගල — මහාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය
2. ඊ.ආර්. නිමල් ප්‍රේමකුමාර — කථිකාචාර්ය, ජාතික අධ්‍යාපන ආයතනය
3. ශ්‍රියානි අබේවික්‍රම — නියෝජ්‍ය අධ්‍යක්ෂ, භාෂා හා මානව ශාස්ත්‍ර අංශය අධ්‍යාපන අමාත්‍යාංශය
4. එච්.පී. සුසිල් සිරිසේන — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, අධ්‍යාපන විද්‍යා පීඨය, හාපිටිගම
5. ප්‍රගීතිකා ජයසේකර — සහකාර කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## භාෂා සංස්කරණය

මහාචාර්ය පී.බී. මීකනායක

## ලේඛක මණ්ඩලය

1. ගයා වැයිහේන — ගුරු උපදේශක, කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, පාදුක්ක
2. බී.ඩී. සුනිල් බියන්විල — ගුරු සේවය, ගිරි/ වික්‍රමශීලා ජාතික පාසල, ගිරිඋල්ල
3. සුමිත් අබේනායක — ගුරු මධ්‍යස්ථාන කළමනාකරු, ගුරු මධ්‍යස්ථානය, බණ්ඩාරවෙල
4. ඩබ්.ඩී. සන්ධ්‍යා ප්‍රියානි වීරසූරිය — ගුරු සේවය, බප/ජය/මහාමාත්‍ය විද්‍යාලය, අතුරුගිරිය
5. කේ.ඒ. සධ්‍යා අයිරාංගනී — ගුරු සේවය, පානදුර බාලිකා විද්‍යාලය

## සෝදුපත් කියවීම

සමිතා විද්‍යාසේකර — උප කර්තෘ, සිංහල ශබ්දකෝෂ කාර්යාලය

## පිටකවර නිර්මාණය

රුමේෂ් ද සිල්වා

## පරිගණක අක්ෂර සංයෝජනය

එස්.වී.ජී. එරංගා දිල්රුක්ෂි — අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

නෙල්කා ප්‍රසාදිනි — අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# සංස්කාරක සටහන

2015 වර්ෂයේ සිට ක්‍රියාත්මක කෙරෙන නව විෂය නිර්දේශයට අනුකූලව මෙම 10 ශ්‍රේණිය සිංහල භාෂාව හා සාහිත්‍යය පෙළපොත සම්පාදනය කර ඇත. විවිධ ලේඛකයන්ගේ කෘතිවලින් උපුටා ගෙන සිසුන්ට ගැළපෙන අකාරයට සංස්කරණය කරන ලද කොටස් සහ විෂය නිර්දේශයට අදාළව අලුතෙන් ම රචනා කරන ලද ලේඛනවලින් සමන්විත මෙම පෙළපොත, භාෂා කුසලතා හා භාෂා ඥානය වර්ධනයටත් සාහිත්‍ය පරිශීලනයෙන් ජීවිතාවබෝධය පුළුල් කර ගැනීමටත් ඔබට ආධාරක වනු ඇත.

ස්වාධීනව කියවා රස විඳිය හැකි නිර්මාණ ද දැනුම, අවබෝධය වර්ධනය කරන ලේඛන කොටස් ද මෙහි ඇතුළත් වන අතර ඒවායේ මුල් කෘති සොයා ගෙන කියවීමට කටයුතු කරන ලෙස ඔබට යෝජනා කරමු. මෙම පෙළපොත අධ්‍යයනයේ දී අවශ්‍ය වූ විට ගුරු සහාය ලබා ගැනීම සුදුසු බව ද සිහිපත් කරමු.

මෙම පෙළපොතෙහි පාඩම් අනුපිළිවෙළ සකස් කර ඇත්තේ ජාතික අධ්‍යාපන ආයතනය මගින් නිර්දේශිත ඉගැන්වීම් අනුක්‍රමයට අනුකූල වන ආකාරයට ය. ඒ සඳහා ජාතික අධ්‍යාපන ආයතනයේ සහාය ලබා ගන්නා ලදි.

මෙහි ඇතුළත් ලේඛනවල මුල් කර්තෘවරුන්ට කෘතඥතා පූර්වක ප්‍රණාමය පිරිනමන අතර විවිධ ආකාරයෙන් සහාය දැක් වූ සියලු දෙනාට ද අපගේ කෘතඥතාව පළ කර සිටිමු. ඡායාරූප ලබා දීම පිළිබඳව එන්.එම්.අයි.කේ. කරුණාරත්න මහතාට සහ මහාචාර්ය රාජ් සෝමදේව මහතාට අපගේ විශේෂ ස්තුතිය හිමි වේ.

ජීවිතයේ බොහෝ කාර්යයන් සඳහා අත්‍යවශ්‍ය භාෂා කුසලතාව වර්ධනය කර ගනිමින් මනා සන්නිවේදන හැකියාවන්ගෙන් සමන්විත ජීවිතාවබෝධයෙන් පිරිපුන් පුරවැසියකු ලෙස අනාගත ලෝකයට එක්වන්නට ඔබට ඇරයුම් කරමු. ඒ සඳහා මෙම පෙළපොත ද පිටුබලයක් වනු ඇතැයි උදක් ම අපේක්ෂා කරමු.

විද්‍යමාන පැරණි ම සිංහල ගී කාව්‍ය ග්‍රන්ථය වන සියබස්ලකරෙහි දැක්වෙන්නේ භාෂාව, මනාව පරිහරණය කරන අයට සුරභිධේනුවක් සේ සිතු පැතු සම්පත් ලබා දෙන බවයි.

> "ගවඟන වේ පසස්න දා  බස් කර සුසකස්
> පියසුව හට ..."

භාෂාව මැනවින් ඉගෙන ගෙන එයින් මහඟු ඵල ලබන්නට ඔබට හැකි වේවා යි පතමු.

**සංස්කාරක මණ්ඩලය**

# පටුන

# 1 අතීතයෙන් කතාවක්

අපට විවිධ සමාජ අවස්ථාවන්ට සහභාගි වෙමින් අදහස් පළ කිරීමට සිදු වෙයි. එවිට අදාළ අවස්ථාව හා ඊට සම්බන්ධ වන පුද්ගලයන් මෙන් ම ශ්‍රාවකයා අනුව ද යෝග්‍ය පරිදි ද අදහස් ඉදිරිපත් කළ යුතු ය.
ක්‍රිස්තු පූර්ව තෙවන සියවසේ සිදු වූ මහින්දාගමනය දිවයිනේ ආගමික ඉතිහාසයේ මෙන් ම සමාජ - ආර්ථික හා සංස්කෘතික ක්ෂේත්‍රයන්හි ද සන්ධිස්ථානයක් බව අවිවාදයෙන් පිළිගැනේ. මිහිඳු මාහිමියෝ පණස් වසරක පමණ කාලයක් මේ දිවයිනෙහි වැඩ වෙසෙමින් ධර්ම ශාස්ත්‍රීය හා ශාසනික සේවාවක් ඉටු කළහ. උන් වහන්සේ අපවත් වන විට මෙරට පාලකයා වූයේ මහින්දාගමනය සිදු වන විට ලක් රජය කළ දේවානම්පිය තිස්ස රජුගේ කනිටු සොහොවුරා වූ උත්තිය රජතුමා ය. මිහිඳු මාහිමිපාණන්ගේ ආදාහන පූජෝත්සවයේ දී උත්තිය රජතුමා විසින් කරන ලද ගුණ කථනයක් සේ ලියවුණු කල්පිත රචනයක් මේ පාඩමෙහි ඇතුළත් වෙයි. එය දිවයිනේ සමාජ-සංස්කෘතික මෙන් ම ආර්ථික ප්‍රගමනයෙහි ද පුරෝගාමියකු සම්බන්ධයෙන් රාජ්‍ය පාලකයකු කරන ඇගයීමකි. මේ කල්පිත දේශනය ශ්‍රී ලංකා පරිපාලන සේවයේ ජ්‍යෙෂ්ඨ නිලධාරියකු වන ආචාර්ය ආනන්ද ගුරුගේ විසින් රචිත ***Voices from Ancient Sri Lanka*** නම් ග්‍රන්ථයේ සිංහල පරිවර්තනය වන *හෙළදිව අතීත ප්‍රතිරාව* කෘතියෙන් (පරිවර්තනය අභය හේවාවසම්) උපුටා ගන්නා ලදි.

(ක්‍රි.පූ. 199 දී පමණ අනුරාධපුරයේ දී)

"ඒ මිහිපල් තෙමේ සතියක් පුරා නා නා පූජා සත්කාර කරවා, තෙරුන්ගේ බද්ධමාලක නම් තැන සුවඳ දර සෑයක් කරවා, මනරම් කුළු ගෙය එහි පමුණුවා... දර සෑයෙහි තබ්බවා අවසන් ගරු බුහුමන් කෙළේ ය."

(මහාවංසය - XX, 29-44)

අද අප මෙහි රැස්ව සිටිනුයේ රාජදූත මෙහෙවරෙහි යෙදෙමින් බුදුදහම මෙහි රැගෙන පැමිණි මහින්ද මා හිමිපාණන්හට අවසන් බුහුමන් දැක්වීම පිණිස ය. උන් වහන්සේ ඉතා ළඟින් ඇසුරු කළ මා වැන්නවුන් පමණක් නො ව, අඩ සියවසක් තිස්සේ උන් වහන්සේගේ සිල්වත් මෙන් ම බුද්ධිමත් මඟ පෙන්වීම යටතේ මෙහෙයවුණු රටවැසියන්ගේ සෝබර මුහුණු දකින විට අද දින ශෝක දිනයක් හැටියට ප්‍රකාශයට පත් කළ යුතුව තිබිණ. එහෙත් උන් වහන්සේ විසින් මෙන් ම, සෙසු නැණවත් හිමිවරුන් විසින් ද යළි යළිත් වදාරනු ලැබූ පරිදි, මරණය වූකලි සොවින් වැලපීමට අවස්ථාවක් නො ව, පැවැත්මේ අනිත්‍යය මෙනෙහි කර සංවේග උපදවා ගැනීමට අවස්ථාවක් බව අවබෝධ කර ගත් නිසා එසේ අද දින

ශෝක දිනයක් හැටියට ප්‍රකාශයට පත් කිරීමෙන් වැළකී සිටියෙමි. එහෙත් මිහිඳු මහ රහතන් වහන්සේ පිළිබඳ සැනසීමට කරුණක් වන්නේ උන් වහන්සේ මේ වේදනාකාරී සංසාර චක්‍රයෙන් මිදී සදාතනික සුවය ගෙන දෙන අමා මහ නිවනට සැපත් වීම යි.

මහින්ද මහ තෙරුන් වහන්සේ සහ උන් වහන්සේගේ ශ්‍රාවක පිරිස අනුරාධපුර නගරයට සපැමිණි දිනය මා මනසෙහි ඉතා පැහැදිලිව සටහන් වී තිබේ. මම එවකට කොලු ගැටයෙක්මි. රජ මැඳුරේ සිටි අපි සියලු දෙනා ම මහත් සේ කුතුහලයට පත් වී සිටියෙමු. එයට පෙර දින උන් වහන්සේ මිස්සක පවුවේ පෑ පෙළහර පිළිබඳ බොහෝ දෑ අප අසා තිබිණ.

මාගේ වැඩිමහල් සෝවුරු තිස්ස මහ රජතුමා ඒ දඩයම් චාරිකාවෙන් පෙරළා පැමිණි පසු, ඒ සිද්ධිය හැර අන් කිසි දෙයක් පිළිබඳ කථා නො කෙළේ ය. එතුමාගේ පිරිවර සේනාවේ සිටි අයට ද මේ සම්බන්ධව හැර අන් කරුණක් පිළිබඳ කථා කිරීමට සිහියක් නො තිබුණාක් මෙනි. ඒ සැම අයෙක් ම එක් කරුණක් පිළිබඳව ඒකමතික තීරණයකට එළඹ සිටියහ. එනම්, ඔවුන් ද වඩාත් පුළුල් ලෙස ගත හොත් මුළු දිවයින ද මෛත්‍රිය මුල් කොට පැන නැඟුණු ආධ්‍යාත්මික ධර්මතාවක ග්‍රහණයට හසු වී ඇති හෙයින් එයින් විශාල වෙනස්කමක් මින් පසු සිදු වන බව යි.

රාජ සභාවෙන් අඩකටත් වැඩි ප්‍රමාණයක් දෙනා දැනටමත් තම කීර්තිය සහ බලය සහිත තනතුරු අත්හැර දමා තවුස්දම් පිරීමේ අභිලාෂය පළ කොට ඇත. ප්‍රධාන ඇමති මහාතිත්ථ තම නැන්දණියන් වන අනුලා බිසවුන්ට මෙසේ කීවේ ය: "නැන්දණියනි, මම මහ වනාන්තරයේ අලි ඇල්ලීමේ යෙදී සිටින්නෙක් නම්, සාමාන්‍ය ඇතුන්ගේ අඩි සලකුණු අතර, සුවිශේෂ විසල් අඩි සලකුණු දුටුව හොත් මා අනිවාර්යයෙන් ම හඹා යන්නේ ඒ විසල් අඩි සහිත හස්ති රාජයා ය. නැන්දණියනි, මම ඒ හස්ති රාජයා අල්ලා ගැනීමේ මාර්ගය අවබෝධ කර ගෙන සිටිමි. ඒ සතා හඹා යෑමේ දී මාහට අත්විඳින්නට සිදු වන සැම දුෂ්කරතාවකට ම මට අවසානයේ දී වන්දි ලැබෙනු ඇත."

අප බොහෝ දෙනකු සිතුවේ ඔහුගේ මේ අභිලාෂය, තමා මීට පෙර ධර්මාශෝක රජතුමාගේ රාජසභාවට ගිය දූත ගමනේ දී, බුදු රජාණන් වහන්සේගේ කාරුණික ඉගැන්වීම් පිළිබඳව අසා දැන ගැනීමෙන් ඇති වූ දෙයක් ලෙස ය.

කෙසේ වුව ද, ඒ කුඩා කාලයේ සිතෙහි උන් වහන්සේ කෙරෙහි ඇති වූයේ අතිගම්භීර, පූජනීය මහා පුරුෂයකු පිළිබඳ හැඟීමකි. මේ දිවයිනේ මහා රාජෝත්තමයාණන් මේ තරම් ගරු සැලකිලි දැක්වූ අන් අය කවුරු ද? ඒ නිසා එදින මහා තෙරණුවන් නගර ද්වාරය අසල දී පිළිගනු ලබද්දී එතුමන් අසල සිටීමට මම වග බලා ගත්තෙමි.

අප එසේ උන් වහන්සේගේ සම්ප්‍රාප්තිය අපේක්ෂාවෙන් නගර ද්වාරයේ සිටින විට තිස්ස මහ රජතුමා පෙර දින සැන්දෑවේ වූ සිදුවීම පිළිබඳව ද තමන්ගේ බුද්ධි මහිමය උරගා බැලීමට අසනු ලැබූ ප්‍රශ්න පිළිබඳව ද පුන පුනා කියද්දී උන් වහන්සේ කෙරෙහි මා සිත්හි වූ කුතුහලය අහස උසට නැඟුණේ ය.

එදින මා හිමියන් රජ වාසලේ දී පැවැත්වූ ධර්ම දේශනය විශේෂයෙන් ම කාන්තාවන් සහ දරුවන් අරභයා කරන ලද්දකි. යහපත් දෑ කිරීමෙන් යහපත් ප්‍රතිඵල ලැබීමත් අයහපත් දේ කිරීමෙන් අයහපත් ප්‍රතිඵල ලැබීමත් අරමුණු කර ගනිමින් උන් වහන්සේ දහම් දෙසූහ. සැම

පුද්ගලයකු ම තමන්ගේ ඉරණමේ නිර්මාතෘවරයා බව පවසමින් කර්මය පිළිබඳ ඉතා සරලව පැවසූ කරුණු කුඩා දරුවකු හැටියට මට ද කිසි ආයාසයකින් තොරව වැටහිණි.

උන් වහන්සේගේ ශාන්ත ඉරියවු මා සිත් ගත් අතර, තමන් දෙසූ දහම එහි සිටියවුනට වැටහිණි ද යන්න පිළිබඳව උන් වහන්සේ නිරන්තරයෙන් සැලකිලිමත් වූහ. දින ගණනාවක් තිස්සේ, කිසිවක් නො තේරෙන ගී ස්තෝත්‍ර ගායනාවලට ද එමෙන් ම ඉමක් කොනක් නැති පූජා විධිවලට ද හුරු පුරුදු ව සිටි කුඩා අපට, එම අලුත් දෑ තුළ ඉතා තුටු පහටු බවක් හා නවතාවක් විය. තමන් වහන්සේ දෙසූ දෑ අප විසින් වටහා ගැනීම උන් වහන්සේගේ පැතුම විය. එසේ නැතිව යාග හෝම හෝ ඉන්ද්‍රජාල බලයකින් කරන දෑ මෙහි නැති.

උන් වහන්සේ ඉතා වෙහෙස වී වැඩ පළෙහි යෙදුණාහ. විවිධ ශ්‍රාවකයන් සඳහා උන් වහන්සේ සෑම දිනයෙක ම ධර්ම දේශනා කිහිපයක් පැවැත්වූහ. ඒ අතර ම උන් වහන්සේ තම පිරිවර සමග ගෙන් ගෙට පිඬු සිඟා වැඩි සේක. මේ අතර තිස්ස මහ රජතුමා සමඟ එක්ව අනුරාධපුර ඉදි වන පළමු බොදු අසපුව පමණක් නො ව, ඉදිරි සියවස් කිහිපය සඳහා බෞද්ධ දර්ශනය කියා පෑමේ මූලස්ථානය ද අග නගරයෙහි පිහිටුවීමට සැලසුම් කළහ.

එදා මහින්ද මහ තෙරණුවන්, ඒ විචිත්‍රවත් උත්සවයේ දී මහා විහාරය සඳහා මඟුලැතු විසින් අදින ලද රන් නඟුලකින් සීමා සලකුණු කළ අවස්ථාවේ මෙහි සිටින කී දෙනකු එහි සිටියා දැයි මම නො දනිමි. මෙයට වසර හතළිස් අටකට පෙර, එදා, ඒ විසල් භූමි භාගය පිරී යන ලෙස ගොඩනැඟිලි කිසි දාක හෝ ඉදි වේ දැයි සාධාරණ සැකයක් මා තුළ විය. එහෙත් අද, උන් වහන්සේගේ නිර්මාණශීලීත්වය සහ සූක්ෂ්ම සැලැසුම් ක්‍රම සඳහා දෙස් දෙමින් ඒ විශාල භූමි භාගය වසා පැතිරී ඇත්තේ මහා විහාරය යි.

ගොඩනැඟිලි සංකීර්ණය ඉදි කිරීම සඳහා බිම වෙන් කිරීමේ දී උන් වහන්සේ විසින් පෙන්වනු ලැබූයේ පුදුම කුසලතාවකි. මෙසේ බිම් වෙන් කරද්දී මෙයට සියවසකට පසු රජවාසල සෑදීමට තීරණය කරනු ලබන ස්ථානය දක්වා ම පැමිණියෝ ය. පියවරෙන් පියවර ගොඩනැඟිලි ඉදි වෙද්දී උන් වහන්සේගේ මනසෙහි මේ ගොඩනැඟිලි සංකීර්ණය පිළිබඳ නිරවුල් අදහසක් තිබූ බව මාහට සහ මගේ සහෝදර රජතුමාට පෙනිණි. එපමණක් නො ව, බෝධීන් වහන්සේ සඳහා ද මහා ස්තූපය සඳහා ද මෙහෙණියන්ගේ ආශ්‍රම සඳහා ද දාන ශාලා සඳහා ද උන් වහන්සේගේ සැලසුමේ ඉඩකඩ වෙන් වී තිබිණි.

පූජා භූමිය වෙන් කිරීමේ කටයුතු සතියකින් නිම කිරීමට උන් වහන්සේ සමත් වූහ. අප සිතුයේ බිම ඒ ඒ ගොඩනැඟිලි සඳහා වෙන් කළ පසු උන් වහන්සේ තමන් වහන්සේ සහ පිරිවර සංඝයා සඳහා සැප පහසු සංඝාවාසයක් නො පමාව ඉදි කරනු ඇත කියා යි. එක් අතකින් උන් වහන්සේ රජ පවුලක සුඛෝපභෝගී ජීවිතයක් ගත කළ අයකු නිසාත් අනෙක් අතට ධර්මාශෝක රජතුමා දඹදිව වැඩ වසන සඟුන් සඳහා බොහෝ සැප සම්පත් ලබා දෙන නිසාත් අප එසේ සිතීම සාධාරණ විය. එහෙත් මහා විහාර භූමිය සලකුණු කළ වහා ම සිදු වූයේ කුමක් ද?

උන් වහන්සේ නැවත, කුඩා ගල් ගුහා කිහිපයක් තිබෙන මිස්සක පව්ව බලා වැඩම කළ සේක. වැසි සමයේ මේ ගල් ගුහාවල වාසය කිරීමට උන් වහන්සේට ඇවැසි විය. මේ වන විට මහ රජු, මා හිමියන් කෙරෙහි සීමා රහිත භක්තියකින් වෙළී සිටියේ ය. වියදම සහ මහන්සිය නොබලා සුඛෝපභෝගී ප්‍රාසාදයක් වුව ද සාදා දීමට එතුමා ඉදිරිපත් විය. එහෙත් මා හිමියන් ඉල්ලා සිටියේ තමන් වහන්සේ සදෙනාට පමණක් නො ව, මෙරට

පැවිදි බිමට එකතු වන ප්‍රථම පනස් සදෙනාටත් ප්‍රමාණවත් වන පරිදි තව ගල් ගුහා එළි පෙහෙළි කොට පිරිසිදු කොට දෙන ලෙස පමණි. වස්සාන සමය එළැඹීමත් සමග ම රහතන් වහන්සේලා සැට දෙනමක්, මේ ලෙන් විහාර තුළට වී, එතැන් සිට දිවයිනේ සාමාන්‍ය සිද්ධියක් වූ වස් වැසීම ආරම්භ කළ අතර, ඒ කාලය තුළ දී ධර්මය ඉගැන්වීම, අර්ථ විවරණය කිරීම සහ සාහිත්‍ය ක්‍රියාවන්ගෙන් සමන්විත වූ සංකීර්ණ ක්‍රියාවලියක් ආරම්භ විය. උචිත පරිද්දෙන් ම මේ කඳුකරය, ආරාම කඳුකරය හැටියට හඳුන්වන ලදි.

මා වඩාත් භාග්‍ය සම්පන්න වූයේ මා හිමියන්ගේ ම මූලිකත්වය යටතේ මාගේ අධ්‍යාපන කටයුතු ද ඒ වකවානුවේ ම ආරම්භ වූ හෙයිනි. අධ්‍යාපනය ලබා දීම සඳහා මහා සංඝයා වහන්සේ උපයෝගි කර ගත් විශේෂ ක්‍රමවේදය මාගේත් සෙසු සම වයස් අයගේත් සිත් තදින් ඇද ගති. මහා සංඝරත්නය සමග නිරන්තරයෙන් ගැටෙමින් ජීවත් වූ නිසා හුදෙක් ආගමික සහ අධ්‍යාපනික අරමුණුවලින් ඔබ්බට ගිය මහා තෙරුන් වහන්සේගේ සැලසුම් පිළිබඳ පෞද්ගලිකව ම දැනුම් තේරුම් ඇති කර ගැනීමට හැකි විය.

තම පියාණන් වූ අශෝක අධිරාජ්‍යයා ලවා ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ අංකුරයක් මෙරටට වැඩම කරවීමට කටයුතු සම්පාදනය කිරීමත් සමග ම විශිෂ්ට බුද්ධියක් සහ කුසලතා දක්ෂතා ඇති බොහෝ දෙනකු මෙරටට ආගමනය වීම සඳහා පදනම බිහි වූ අතර, ඒ නිසා අප රට තුළ සිදු වූ සංස්කෘතික, සමාජීය සහ තාක්ෂණ දියුණුව ඉතා විශිෂ්ට විය. මේ සිදුවීමට මුල් වූයේ මහ තෙරුන් වහන්සේගේ නැගණියන් වූ සංඝමිත්තා මහ තෙරණියන් වීම විශේෂ සංසිද්ධියකි.

සංඝමිත්තා මෙහෙණින් වහන්සේ සමඟ සපිරිවරින් පැමිණි උගත්තු, පරිපාලකයෝ, ව්‍යාපාර ප්‍රධානියෝ, වෙළෙන්දෝ, කලාකරුවෝ සහ තාක්ෂණික ශිල්පීහු අප රට සංවර්ධන කේන්ද්‍රස්ථානයක් බවට පත් කළහ. දැනට දශක පහක් ගෙවී යෑමට ආසන්නව ඇති අතර, එක් අතකින් අපගේ ආර්ථිකයට ද අනෙක් අතින් සමාජ ස්තරයට ද ඔවුන්ගේ පැමිණීම කෙසේ බලපෑවේ දැයි විමර්ශනය කිරීමට සුදුසු අවස්ථාවක අපි සිටිමු. අද අප තාක්ෂණික වශයෙන් මනා පදනමක සිටින අතර, ජනගහනය විවිධාංගීකරණය වී තිබේ.

මෙසේ මිහිඳු හිමියන්ගේ දීර්ඝකාලීන කැප වීමේ ප්‍රතිඵලයක් වශයෙන් අප රටට සිදු වූ යහපත විශිෂ්ට සම්පතකැයි විවාදයෙන් තොරව පිළිගත යුතු ය. මෙහි අද රැස්ව සිටින සියල්ලෝ ම ඒ රාජකීය දූත මෙහෙවර නිසා සිදු වූ විප්ලවයේ විපුල ඵල භුක්ති විඳින අය යි. මහ තෙරණුවන්ගේ සේවාවේ ප්‍රතිඵල සියවස් ගණන්, නැත; අවුරුදු දහස් ගණන් ජනතාවට ලැබෙන අතර ඒ සේවාව වෙනත් රටවල් කරා ද පැතිර යනු ඇත.

සාමාන්‍යයෙන් මෙවන් අවස්ථාවක කරනු ලබන්නාක් මෙන් මිහිඳු මහ හිමිඳුන්ට නිවන් සුව ප්‍රාර්ථනා කිරීමට මට නොහැකි ය. මන්ද? උන් වහන්සේ තමන්ගේ උත්සාහය මඟින් නිවනට ගොස් සිටින බැවිනි.

## අවබෝධය

1. පාඩමේ දැක්වෙන ආකාරයට ධර්මාශෝක රජතුමාගේ රාජසභාවට දූත ගමන් ගිය අමාත්‍යවරයා කවරෙක් ද?
2. මඟුලැතු විසින් අඳින ලද රන් නඟුල භාවිතයෙන් සිදු කළ කාර්යය කුමක් ද?
3. මිහිඳු හිමියන්ගේ මහා විහාර සැලැස්මේ ඇතුළත් වූ අංග මොනවා ද?
4. ආරාම කඳුකරය යනු කුමක් ද?
5. පාඩමේ දැක්වෙන ආකාරයට එවකට අප රටේ සංස්කෘතික, සමාජීය හා තාක්ෂණ දියුණුවට බල පෑ සිදුවීම කුමක් ද?

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පද යොදා වාක්‍ය නිර්මාණය කරන්න.**
   i. විශිෂ්ට -
   ii. සූක්ෂ්ම -
   iii. කේන්ද්‍රස්ථානය -
   iv. විවිධාංගීකරණය -
   v. විමර්ශනය -

2. **පහත සඳහන් පදවලට සමාන පද පාඩමෙන් සොයා ලියන්න.**
   i. විශාල -
   ii. මැඳුර -
   iii. ප්‍රයත්නය -
   iv. ආරාමය -
   v. පැමිණීම -

3. **මිශ්‍ර ක්‍රියා පද පහක් පාඩමෙන් සොයා ලියන්න.**
4. **උපසර්ග සහිත පද පහක් පාඩමෙන් සොයා වාක්‍ය නිර්මාණය කරන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **ගුරු උපදෙස් අනුව පන්තියේ සිසුන් කණ්ඩායම් කීපයකට බෙදෙන්න.**
2. **කථනයට සුදුසු පරිදි කාලීන මාතෘකාව බැගින් සකසා කරුණු රැස් කරන්න.**
3. **එකී තේමාවක් යටතේ විනාඩි තුනක කතාවක් කරන්න.**
4. **එක් එක් කථිකයාගේ කථිකත්වයේ ලක්ෂණ ඉස්මතු කරමින් සමාලෝචනයක යෙදෙන්න.**
5. **ඔබේ පාසලේ පැවැත්වෙන සිංහල භාෂා දින වැඩසටහනෙහි දී ඉදිරිපත් කිරීමට යෝග්‍ය මාතෘකානුකූල කතාවක් පිළියෙල කරන්න.**
6. **මෙබඳු වෙනත් චරිතයක් පිළිබඳ කතාවක් ගොඩ නඟන්න.**

# 2 සිංහල අක්ෂර මාලාව

මිනිසා භාෂණය හෙවත් කථා කිරීම අරඹා පෑ විසි හතරක් ගෙවී ඇත්නම් ලේඛනය හෙවත් අකුරු මඟින් අදහස් ලියා දැක්වීම අරඹා තව මත් ගෙවී ඇත්තේ විනාඩි පහක් තරම් සුළු කාලයකැයි ඇශ්ලි මොන්ටේගු නමැති මානව විද්‍යාඥයා උපහැරණයක් දක්වා ඇත. එයින් පැහැදිලි වන්නේ ලේඛනය මානව ශිෂ්ටාචාරයේ මෑත යුගයේ ජයග්‍රහණයක් බව යි. ලෝක ඉතිහාසයේ මෙතෙක් හමු වී ඇති පැරණි ම ලේඛන සාධක අයත් වන්නේ ක්‍රිස්තු පූර්ව 3500-3000 පමණ කාලයේ දී සුමේරියානු ශිෂ්ටාචාරයට ය යන්න දැනට පවත්නා සාධක අනුව පිළිගැනේ.

පසුව බැබිලෝනියානු, මිසර, හිටයිට්, ඉන්දු-නිම්න, චීන හා මධ්‍ය අමෙරිකානු යන ශිෂ්ටාචාරයන්හි ලේඛනය ව්‍යාප්ත වූ බවට සාධක හමු වෙයි. මේ දිවයිනේ නව සභ්‍යත්වයක් ආරම්භ කළ උතුරු ඉන්දියානු සාංක්‍රමණිකයන් අක්ෂර භාවිතය පිළිබඳ අවබෝධයක් සහිත පිරිසක් වන්නට ඇතැයි සැලකේ. එහෙත් දිවයිනේ ලේඛන කාර්යයන්හි ව්‍යාප්තිය පිළිබඳ සාධක හමු වන්නේ මහින්දාගමනයෙන් පසුව සිදු කෙරුණු භික්ෂූන් උදෙසා ආරාම පූජා කිරීම් සම්බන්ධයෙනි. මෙවැනි පැරණි ම ලේඛන මිහින්තලය, වෙස්සගිරිය, දඹුල්ල, සිතුල්පව්ව ආදි දිවයිනේ පෞරාණික ස්ථානවලින් හමු වෙයි. ඒ ආදි ම ලේඛන ලියවී ඇත්තේ වර්තමානයේ අප භාවිත කරන සිංහල අකුරින් නොවේ. ඒවා බ්‍රාහ්මී අකුරු නමින් හඳුන්වන, එකල ඉන්දියානු උපමහාද්වීපය පුරාත් අවට රාජ්‍යයන්හිත් භාවිත අක්ෂර මාලාව යි. ඒ ලේඛනවල භාෂාව ද සිංහල භාෂාව නො වේ. සිංහලයට මෙන් ම නූතන ඉන්දියානු භාෂාවන්ට ද මුල් වූ ඉන්දියානු ජන ව්‍යවහාර භාෂාවකින් සකස් වූ බසකි. එතැන් පටන් සියවසින් සියවසට සිංහල අකුරු සකස් වෙමින් ආ ආකාරයත් සිංහල භාෂාව ආරම්භ වී විකාසනය වූ ආකාරයත් කියා පාන ලේඛනාවලියක් අප සතු ය.

කථා කිරීමේ දී මුවින් නිකුත් වන ශබ්ද ලියා දක්වන දෘෂ්ටිගෝචර සංකේත අක්ෂර හෙවත් අකුරු නමින් හැඳින්වේ. එම සංකේත භාෂාවෙන් භාෂාවට වෙනස් වේ.

| ශ්‍රව්‍යගෝචර ශබ්ද (වාචික) | දෘෂ්ටිගෝචර සංකේත (ලිඛිත) | | |
|---|---|---|---|
| | සිංහල | දෙමළ | ඉංග්‍රීසි |
| 'අ' ශබ්දය | අ | அ | A |
| 'උ' ශබ්දය | උ | உ | U |
| 'ල' ශබ්දය | ල්, ළ් | ல், ழ், ள் | L |
| 'ම' ශබ්දය | ම් | ம் | M |
| 'ව' ශබ්දය | ව් | வ் | V, W |

ඇතැම් භාෂාවල එක ම ශබ්දය සඳහා සංකේත කීපයක් ද භාවිත වන බව ඉහත සටහනෙන් පැහැදිලි වේ.

නිදසුන්:-

'ල' - ල්, ළ්

'ල්' - ல், ழ், ள்

'ව' - V, W

අක්ෂර සඳහා 'වර්ණ' යන නම ද භාවිත වේ. ඒ අනුව සිංහල හෝඩිය, සිංහල අක්ෂර මාලාව, සිංහල වර්ණ මාලාව යන නම්වලින් හැඳින්වෙන්නේ සිංහල භාෂාවේ ශබ්ද ලියා දක්වන සංකේත සමූහයයි.

සිංහල භාෂාවේ අක්ෂර මාලාව අක්ෂර 60කින් සමන්විත වේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

සිංහල අක්ෂර මාලාව ප්‍රධාන වශයෙන් කොටස් 2කට වෙන් කළ හැකි ය.

1. ස්වර
2. ව්‍යඤ්ජන

## ස්වර

වෙනත් ශබ්දයක උපකාරයකින් තොරව තනිව උච්චාරණය කළ හැකි අකුරු 'ස්වර' නමින් හැඳින්වේ. සිංහල අක්ෂර මාලාවේ ස්වර 18කි.

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |

ස්වර ද තවත් අනුකොටස් දෙකකට වෙන් කළ හැකි ය. ඒ කෙටි ස්වර (හ්‍රස්ව ස්වර) දික් ස්වර (දීර්ඝ ස්වර) වශයෙනි.

## කෙටි ස්වර, ලුහු ස්වර (හ්‍රස්ව ස්වර)

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| අ | ඇ | ඉ | උ | ඍ | ඏ | එ | ඔ |

යන ස්වර උච්චාරණයට ගත වන කාලය අඩු ය. එනිසා ඒවා 'කෙටි ස්වර' නම් වේ. ඒ අර්ථයෙන් ම 'ලුහු ස්වර', 'හ්‍රස්ව ස්වර' යන නම් ද යෙදේ.

## දික් ස්වර (දීර්ඝ ස්වර), ගුරු ස්වර

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ආ | ඈ | ඊ | ඌ | ඎ | ඐ | ඒ | ඕ |

ස්වර උච්චාරණයට ගත වන කාලය කෙටි ස්වරවලට වඩා සාපේක්ෂව වැඩි ය. එබැවින් මේ ස්වර 'දීර්ඝ ස්වර' නම් වේ. ගුරු ස්වර, දික් ස්වර යන නම් ද යෙදේ.

## ව්‍යඤ්ජන, ගතකුරු (ගාත්‍රාක්ෂර)

ස්වර ගණයට අයත් නොවූ අකුරු, 'ව්‍යඤ්ජන අක්ෂර' වේ. ව්‍යඤ්ජන අක්ෂර තනිව උච්චාරණය කළ නො හැකි ය. එම ශබ්ද පහසුවෙන් උච්චාරණය කිරීමට නම් ස්වරයක් එකතු කර උච්චාරණය කළ යුතු ය.

| | | |
|---|---|---|
| (අ)ං | සංගමය | (ස්+අංගමය) |
| (අ)ඃ | මනඃකල්පිත | (මන්+ අඃකල්පිත) |
| ක් + අ | කමත | (ක්+අ මත) |
| ම්+ඉ | මිදුල | (ම්+ඉ දුල) |

සිංහල අක්ෂර මාලාවේ ව්‍යඤ්ජන අක්ෂර 42කි.

| | | | | | |
|---|---|---|---|---|---|
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

ව්‍යඤ්ජන අක්ෂර ද තවත් අනුකොටස් ගණනාවකට වෙන් කළ හැකි ය.

## වර්ග අක්ෂර

අක්ෂර මාලාවේ ඇති පහත සඳහන් අක්ෂර 25 'වර්ගාක්ෂර' යි.

| | | | | | |
|---|---|---|---|---|---|
| ක වර්ගය | ක | ඛ | ග | ඝ | ඞ |
| ච වර්ගය | ච | ඡ | ජ | ඣ | ඤ |
| ට වර්ගය | ට | ඨ | ඩ | ඪ | ණ |
| ත වර්ගය | ත | ථ | ද | ධ | න |
| ප වර්ගය | ප | ඵ | බ | භ | ම |

## අල්පප්‍රාණ, මහාප්‍රාණ අක්ෂර

වර්ගාක්ෂරවල පළමු වන හා තුන් වන තීරුවල ඇති අක්ෂර දහය අල්පප්‍රාණ අක්ෂර යි. ඒ ශබ්ද උච්චාරණය කෙරෙන්නේ අඩු ප්‍රාණයකිනි.

වර්ගාක්ෂරවල දෙවන සහ හතර වන තීරුවල ඇති අක්ෂර දහය මහාප්‍රාණ අක්ෂර යි. ඒ ශබ්ද වැඩි ප්‍රාණයකින් උච්චාරණය කළ යුතු වෙයි.

| | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| අල්පප්‍රාණ | ක | ග | ච | ජ | ට | ඩ | ත | ද | ප | බ |
| මහාප්‍රාණ | ඛ | ඝ | ඡ | ඣ | ඨ | ඪ | ථ | ධ | ඵ | භ |

අල්පප්‍රාණ, මහාප්‍රාණ අක්ෂරවල වෙනස පහත දැක්වෙන වචන ඇසුරෙන් අධ්‍යයනය කරන්න.

| අල්පප්‍රාණ | | මහාප්‍රාණ | |
|---|---|---|---|
| ක - ලේකම් | ග - සංයෝග | ඛ - ලේඛන | ඝ - අනර්ඝ |
| ච - චන්ද්‍රයා | ජ - විජය | ඡ - ඡන්දය | ඣ - බොජ්ඣංග |
| ට - ශිෂ්ට | ඩ - දඩය | ඨ - කුෂ්ඨ | ඪ - දෘඪ |
| ත - සමස්ත | ද - මර්දනය | ථ - මාර්ගස්ථ | ධ - වර්ධනය |
| ප - පවර | බ - අර්බුදය | ඵ - නිෂ්ඵල | භ - ප්‍රභේද |

## වර්ගාන්ත අක්ෂර

වර්ගාක්ෂරවල අවසාන තීරුවේ තිබෙන අක්ෂර පහ වර්ගාන්ත අක්ෂර ලෙස හැඳින්වේ. එම අක්ෂර උච්චාරණයේ දී නාසයෙන් උදව්වක් ලැබීම නිසා 'නාසික්‍ය අක්ෂර' නමින් ද නාසයට අනුව උච්චාරණය කරන නිසා 'අනුනාසික අක්ෂර' නමින් ද හඳුන්වනු ලැබේ.

ඞ ඤ ණ න ම

සාම්ප්‍රදායිකව 'ඞ', 'ඤ' අක්ෂර සහිත ව ලියැවුණු ඇතැම් වචන වර්තමානයේ 'ං' (බින්දුව) සහිතව ද ලියනු ලැබේ.

| | |
|---|---|
| ඞ | මඞ්ගල - මංගල |
| ඤ | වඤ්චාව - වංචාව |
| ණ | ආණ්ඩුව |
| න | සන්තාපය |
| ම | සම්මානය |

## සඤ්ඤක අක්ෂර

සිංහල අක්ෂර මාලාවේ ඇති ඟ, ඦ, ඬ, ඳ, ඹ යන අක්ෂර සඤ්ඤක අක්ෂර වේ. ඒ අක්ෂර තවත් අක්ෂරයක් සමග එකතු වීමෙන් (සංයෝග වීමෙන්) සකස් වී ඇති නිසා සඤ්ඤක අක්ෂර හෙවත් 'අර්ධානුනාසික්‍ය අක්ෂර' නමින් හැඳින්වේ.

| | |
|---|---|
| ඟ | සුළඟ |
| ඦ | ඉඦුඃ |
| ඬ | දඬුවම |
| ඳ | සඳකිරණ |
| ඹ | නිලඹර |

සඤ්ඤක අක්ෂර අතුරෙන් 'ඦ' අකුර යෙදෙන අවස්ථා ඉතා විරල ය.

## අන්තඃස්ථාක්ෂර (අර්ධස්වර)

ය, ර, ල, ව යන අකුරු ස්වර සහ ව්‍යඤ්ජන අතර පිහිටීම නිසා 'අන්තඃස්ථාක්ෂර' යනුවෙන් හැඳින්වේ. පිළිවෙළින් ඉ, ඍ, ඏ හා උ යන ස්වරවලට අනුරූප වන හෙයින් මේ අකුරු 'අර්ධස්වර' නමින් ද හඳුන්වනු ලැබේ. සන්ධි වීමෙහි දී මේ ස්වර හතර ඊට අනුරූප ව්‍යඤ්ජනය බවට පත් වෙයි.

නීති+අනුකූල - නීත්+ඉ+අනුකූල - නීත්+ය් + අනුකූල -නීත්‍යනුකූල
යන නිදර්ශනයෙහි 'ඉ' ස්වරය වෙනුවට 'ය්' ව්‍යඤ්ජනය ආදේශ වන්නේ ඒ අනුව ය.
බහු+අර්ථ - බහ්+උ+අර්ථ- බහ්+ව්+අර්ථ-බහ්වර්ථ
යන නිදසුනෙහි 'උ' ස්වරය වෙනුවට 'ව්' ව්‍යඤ්ජනය ආදේශ වෙයි.

| | | |
|---|---|---|
| ය | (ය්) | ඉ |
| ර | (ර්) | ඍ |
| ල | (ල්) | ඏ |
| ව | (ව්) | උ |

## ඌෂ්මාක්ෂර

උච්චාරණයේ දී මුඛයෙන් වායු ධාරාව උණුසුම්ව නිකුත් වන ශබ්ද සංකේතවත් කරන අක්ෂර 'ඌෂ්මාක්ෂර' යි. ඌෂ්මාක්ෂර 'සර්ෂ' නමින් ද හඳුන්වනු ලැබේ.

| (අ)ඃ | ශ | ෂ | ස | හ | ෆ |
|---|---|---|---|---|---|

## අනුස්වාරය සහ විසර්ගය

ස්වරයකට පසුව යෙදෙන බැවින් 'ං' (බින්දුව) 'අනුස්වාරය' නමින් ද, උච්චාරණයේ දී හුස්ම වේගයෙන් පිට වන නිසා 'ඃ' යන ශබ්දය 'විසර්ගය' නමින් ද හඳුන්වනු ලැබේ.

| ං | ඃ |
|---|---|
| සංඛ්‍යා | මනඃකල්පිත |
| සංවාදය | දුඃඛදායක |

★ සිංහල අක්ෂර මාලාවේ අවසාන අකුර ලෙස ඇති 'ෆ' සංකේතයෙන් ඉංග්‍රීසි හා අරාබි භාෂාවන්හි හමු වන 'ෆ්' ශබ්දය නිරූපණය වෙයි. ඉංගිරිසි, අරාබි භාෂාවලින් සිංහල භාෂාවට පැමිණ ඇති තත්සම වචනවල මේ අක්ෂරය යෙදේ.

ෆාමසි, ෆිල්ටරය, ෆැන්ටසි, ෆාතිමා, ෆවුසි, ඉර්ෆාන්

## ඝෝෂ, අඝෝෂ අක්ෂර

භාෂාවෙහි ශබ්ද උච්චාරණය සම්බන්ධ එක් ප්‍රභේදයක් ඝෝෂ -අඝෝෂ භේදය යන්නෙන් හැඳින්වේ. මෙය ප්‍රධාන වශයෙන් ම අල්පප්‍රාණ හා මහාප්‍රාණ උච්චාරණය හා සම්බන්ධ ය.

වර්ගාක්ෂරවල පළමු වන හා තෙවන ශබ්ද අල්පප්‍රාණ ද දෙවන හා සිවු වන ශබ්ද මහාප්‍රාණ ද වන බව අපි දනිමු.

ක, ච, ට, ත, ප යන මුල් අල්පප්‍රාණ ශබ්ද පහ හා ඊට සමාන්තර ඛ, ඡ, ඨ, ථ, ඵ යන මහාප්‍රාණ ශබ්ද පහත් අඝෝෂ ශබ්ද යි.

ග, ජ, ඩ, ද, බ යන අල්පප්‍රාණ ශබ්ද පහ හා ඊට සමාන්තර ඝ, ඣ, ඪ, ධ, භ යන මහාප්‍රාණ ශබ්ද පහ ඝෝෂ යි.

'ශ-ෂ-ස' යන ඌෂ්මන් ශබ්ද හා විසර්ගයත් ((අ)ඃ), සිංහල අක්ෂර මාලාවට අලුතින් එක් කොට ඇති ෆ ශබ්දයත් අඝෝෂ වේ. ඉහත දක්වන ලද ග, ජ, ඩ, ද, බ යන ඝෝෂ අල්පප්‍රාණ ශබ්ද පහ හා ඝ, ඣ, ඪ, ධ, භ ඝෝෂ මහාප්‍රාණ ශබ්ද පහට අමතරව සියලු ම ස්වර ශබ්ද ද සියලු වර්ගාන්ත ශබ්ද හා අර්ධානුනාසික ශබ්ද ද ය, ර, ල, ළ, ව, හ් යන ශබ්ද ද ඝෝෂ ගණයට අයත් ය.

සන්ධි හා සමාස යන ව්‍යාකරණාංග සම්බන්ධයෙන් ඝෝෂ- අඝෝෂ භේදය වැදගත් වෙයි. නිදසුන්: සත්, තත් වැනි පදයක් වෙනත් පදයක් සමඟ එක් වීමේ දී පර පදයේ මුල් ශබ්දයේ ඝෝෂ-අඝෝෂ භාවය මත මුල් පදයෙහි වන 'ත්' ශබ්දය වෙනස් වෙයි.

සත් + කාර්යය - සත්කාර්යය
සත් + ගුණ - සද්ගුණ
තත් + කාලීන - තත්කාලීන
තත් + අනුබද්ධ - තදනුබද්ධ

සත් + ආශ්‍රය - සදාශ්‍රය
සත් + භාවය - සද්භාවය
තත් + සම - තත්සම
තත් + භව - තද්භව

ඉහත නිදර්ශනයන්හි අඝෝෂ ශබ්දයට පෙරටුව යෙදෙන 'තත්', 'සත්' යන රූප වෙනසකට ලක් නො වී පවතින බවත් ඝෝෂ ශබ්දයකින් පෙරටුව යෙදෙන විට 'ත්' යන්න අනුරූප ඝෝෂ ශබ්දය වන 'ද්' බවට පෙරළෙන බවත් පැහැදිලි ය.

## අක්ෂර උත්පත්ති ස්ථාන

ශබ්ද උච්චාරණයේ දී මුවෙහි ඇති දිව, යටි දත් හෝ යටි තොල යන ඉන්ද්‍රියයන් උගුර, තල්ල, මුදුන, උඩුදත්, උඩුතොල් ආදි චලනය නො වන ඉන්ද්‍රියයන් වෙත ස්පර්ශ වීම සිදු වේ. ඒවා අක්ෂර උපදින ස්ථාන යි. අක්ෂර උපදින ස්ථාන අනුව සිංහල අක්ෂර වර්ග කළ හැකි ය.




| | | |
|---|---|---|
| කණ්ඨජ | දිවේ මුල කොටස උගුර (කණ්ඨය) දෙසට ළං වීමෙන් උපදින ශබ්ද | අ ආ ක ඛ ග ඝ ඞ ඟ හ (අ)ඃ |
| තාලුජ | දිවේ මැද කොටස තල්ල (තාලුව) වෙත සමීප වීම නිසා උපදින ශබ්ද | ඉ ඊ ච ඡ ජ ඣ ඤ ඦ ය ශ |
| මූර්ධජ | දිවේ අග කොටස මූර්ධය හෙවත් මුදුන වෙත සමීප වීම නිසා උපදින ශබ්ද | ඍ ඎ ට ඨ ඩ ඪ ණ ඬ ර ෂ ළ |
| දන්තජ | දිවේ අග කොටස උඩු දත් වැටියේ ස්පර්ශ වීමෙන් උපදින ශබ්ද | ත ථ ද ධ න ඳ ල ස |
| ඕෂ්ඨජ | යටිතොල හා උඩුතොල ආධාරයෙන් උපදින ශබ්ද | උ ඌ ප ඵ බ භ ම ඹ ව ෆ |

ඉහත දක්වා ඇත්තේ සිංහල අක්ෂර මාලාව වර්ගීකරණයට ලක් කළ හැකි විවිධ ආකාරයන් ය. එම වර්ගීකරණ පහත දැක්වෙන ආකාරයේ සටහනකින් ඉදිරිපත් කළ හැකි ය.

| ව්‍යඤ්ජන | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| වර්ගාක්ෂර | | | | | | | | | | | |
| | අඝෝෂ ශබ්ද | | ඝෝෂ ශබ්ද | | | | | | | | අඝෝෂ ශබ්ද |
| | අල්පප්‍රාණ | මහාප්‍රාණ | අල්පප්‍රාණ | මහාප්‍රාණ | නාසික්‍ය/අනුනාසික වර්ගාන්ත | සඤ්ඤක අක්ෂර/ (අර්ධානුනාසික අක්ෂර) | අනුස්වාරය | අන්තඃස්ථාක්ෂර | | ඌෂ්මාක්ෂර | ඌෂ්මාක්ෂර |
| කණ්ඨජ | ක | ඛ | ග | ඝ | ඞ | ඟ | (අ)ං | | | හ | (අ)ඃ |
| තාලුජ | ච | ඡ | ජ | ඣ | ඤ | ඦ | | ය | | | ශ |
| මූර්ධජ | ට | ඨ | ඩ | ඪ | ණ | ඬ | | ර | ළ | | ෂ |
| දන්තජ | ත | ථ | ද | ධ | න | ඳ | | ල | | | ස |
| ඕෂ්ඨජ | ප | ඵ | බ | භ | ම | ඹ | | ව | | | ෆ |

## අවබෝධය

1. පහත දැක්වෙන එක් එක් ප්‍රශ්නය සඳහා වඩාත් නිවැරදි උත්තරය දී ඇති වරණ අතුරෙන් තෝරන්න.

i. අක්ෂර මාලාවක් යනු,

(අ) සිංහල භාෂාවේ සියලු ම ශබ්ද ලියා දක්වන සංකේත සමූහය යි.
(ආ) මුවින් නිකුත් වන භාෂාත්මක ශබ්ද සඳහා වන දෘෂ්ටිගෝචර සංකේත සමූහය යි.
(ඇ) අක්ෂර ලේඛනගත කිරීම සඳහා භාවිත වන ක්‍රමයකි.
(ඈ) සංකේත සමූහයකින් සැදුම් ලත් විශේෂ සටහනකි.

ii. 'අක්ෂර මාලාව' හැඳින්වීම සඳහා යෙදෙන නමක් නොවන්නේ,

(අ) හෝඩිය
(ආ) අකාරාදිය
(ඇ) වර්ණ මාලාව
(ඈ) ශබ්ද මාලාව

iii. අන්තඃස්ථාක්ෂරයක් නො යෙදුණ වචනයක් සහිත වරණය තෝරන්න,

(අ) රුවල, වෛරය, සතුට, වලව්ව
(ආ) වරාය, රාවය, වහර, හවරිය
(ඇ) වේලාව, වීරයා, විවරය, විරල
(ඈ) විරිත, වාරුව, වීර්යය, වරල

iv. මුලින් දැක්වෙන අක්ෂර වර්ගයට අයත් අකුරක් නො යෙදුණ වචනය සහිත වරණය තෝරන්න.

(අ) මහාප්‍රාණ - ඵලදායි, ධර්මිෂ්ඨ, සන්දර්භය, බලශක්තිය
(ආ) නාසික්‍ය - විඤ්ඤාණය, සම්භාව්‍ය, දණ්ඩනය, වර්ණනාව
(ඇ) අල්පප්‍රාණ - ග්‍රන්ථය, වස්තුව, දර්ශනය, අර්බුදය
(ඈ) සඤ්ඤක - ළඟපාත, දොඹකරය, සඳළුතලය, ගී හඬ

v. ඌෂ්මාක්ෂර එකක් පමණක් යෙදුණ වචනයක් සහිත වචන පේළිය තෝරන්න.

(අ) විශේෂ, සුපුෂ්පිත, සිනහව, සහේතුක
(ආ) හාස්‍යය, සංහාරය, ප්‍රහර්ෂය, සිහිනය
(ඇ) නෂ්ටාවශේෂ, සහෝදර, බහුශ්‍රැත, හේෂාරවය
(ඈ) සන්තුෂ්ටිය, ස්වභාෂාව, සහතිකය, ද්විභාෂා

## ලිඛිත අභ්‍යාස

**1. සිංහල අක්ෂර මාලාව ආශ්‍රයෙන් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.**

| ස්වර | හ්‍රස්ව | |
|---|---|---|
| | දීර්ඝ | |
| නාසික්‍ය අක්ෂර | | |
| සඤ්ඤක අක්ෂර | | |
| කණ්ඨජ අක්ෂර | | |
| තාලුජ අක්ෂර | | |
| මූර්ධජ අක්ෂර | | |
| දන්තජ අක්ෂර | | |
| ඕෂ්ඨජ අක්ෂර | | |
| අන්තඃස්ථාක්ෂර | | |
| ඌෂ්මාක්ෂර | | |
| ඝෝෂ අක්ෂර | | |
| අඝෝෂ අක්ෂර | | |

2. පහත සඳහන් මහාප්‍රාණ අකුරු යෙදෙන වචන 2 බැගින් ලියන්න.

බ .................... ..........................
ස .................... ...........................
ඡ .................... ..........................
ඣ ..................... ..........................
ඨ ..................... ..........................
ඪ ..................... ..........................
ථ ..................... ..........................
ධ ..................... ..........................
ඵ ..................... ..........................
භ ..................... ..........................

3. පහත සඳහන් කොටුවේ ඇති වචනවලින් සඤ්ඤක අකුරු යෙදී ඇති වචන පමණක් තෝරා ලියන්න.

| | | | |
|---|---|---|---|
| අගල | දඟරය | කන්ද | කඳ |
| කඹය | අඬනවා | අඩය | ඇද |
| ඇඳ | සඳ | අබ | ලඹය |
| ගඟ | දෑඟුල් | අංගාර | ගල |
| තරංග | සග | හොඬ | කද |

4. කෙටි පිළිතුරු සපයන්න.

i. අනුස්වාරය සහිත වචන දෙකක් ලියන්න.
ii. විසර්ගය සහිත වචන දෙකක් ලියන්න.
iii. 'ෆ' අක්ෂරය යෙදෙන වචන දෙකක් ලියන්න.
iv. සිංහල අක්ෂර මාලාවේ ඝෝෂාක්ෂර සතරක් ලියන්න.
v. ඌෂ්මාක්ෂර සතරක් ලියන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. පාඩමේ ඇතුළත් සිංහල අක්ෂර මාලාවට පෙර භාවිතයේ පැවති අක්ෂර මාලාවක් ඇතුළත් කර සටහනක් සකස් කරන්න. පාඩමේ ඇතුළත් අක්ෂර මාලාවට වඩා එම අක්ෂර මාලාවේ පවතින වෙනස්කම් සොයන්න.
2. පැරණි සෙල්ලිපියක් පිළිබඳ බිත්ති පුවත්පතට ලිපියක් සකස් කරන්න.

# 3 ප්‍රාදේශික ව්‍යවහාර

සිංහල භාෂාවේ කතා ව්‍යවහාරය ලංකාව පුරා භාවිත වන්නේ එක ම ආකාරයට නො වේ; ප්‍රදේශයෙන් ප්‍රදේශයට සුළු සුළු වෙනස්කම් සහිතව භාවිත වන බව පෙනෙන්නට ඇත. මෙසේ ප්‍රදේශයකට විශේෂ වූ භාෂා ව්‍යවහාර 'ප්‍රාදේශික ව්‍යවහාර' යන නමින් හැඳින්වේ. බින්තැන්න, මොනරාගල, දිගාමඬුල්ල, සබරගමුව, සත් කෝරළය, වන්නිය, නුවර කලාවිය, රුහුණ වැනි ප්‍රදේශවල කලකට පෙර ප්‍රාදේශික ව්‍යවහාර ලක්ෂණ බෙහෙවින් දැක ගත හැකි විය. අධ්‍යාපනය, ජනමාධ්‍යය ආදිය ප්‍රචලිත වීම නිසා සිංහල භාෂාවේ ඇති ප්‍රාදේශික විවිධතා දැන් ක්‍රමයෙන් මැකී යන්නට පටන් ගෙන ඇත. එහෙත් ප්‍රාදේශික ව්‍යවහාර ඇසුරු කර ගත්තා වූ සාහිත්‍ය නිර්මාණ අප අතර අදට ද දැක ගත හැකි ය.

සන්නිවේදනය පහසු කර ගැනීම සඳහා ප්‍රාදේශික ව්‍යවහාර හඳුනා ගැනීම අරමුණු කර ගත් මෙම පාඩම මහාචාර්ය ජේ.බී. දිසානායකගේ *සිංහල ජන වහර* කෘතියෙන් උපුටා ගන්නා ලද්දකි.

## I කොටස

මොනරාගල, හේන් ගොවිතැනින් සරුසාර වූ පෙදෙසකි. එහෙත් එහි ඉදි කෙරෙන හේන් වටා දක්නට ලැබෙන්නේ වැටවල් නො වේ. 'වැටං' ය. පොදු සිංහලයෙහි බහු අර්ථය දෙනු වස් යොදනු ලබන 'වල්' යන්න වෙනුවට මෙහි භාවිත වන්නේ 'ං' පමණි. මේ රටාව අනුව, මොනරාගල දී හමු වන්නේ දොරවල් නො ව 'දොරං' ය ගොඩවල් නො ව 'ගොඩං' ය. ඇළවල් නොව 'ඇලං' ය ළිඳවල් හෝ ළිං නො ව 'ළිඳං' ය.

තමාගේ ම දරුවන් හැඳින්වීමෙහි දී 'මා' හෝ 'මය්' යන්නක් යෙදීම ද මොනරාගලට හුරු ව්‍යවහාරයකි. තමාගේ ම පුතා 'මා පුතා'ය. තමාගේ ම දුව 'මා දූ' හෙවත් 'මය් දූ'ය. තම පුතාගේ බිරිඳට 'පුතා දූ' කියාත් තම දුවගේ පුරුෂයාට 'දූ පුතා' කියාත් ආදරයෙන් වහරනු ලැබේ.

'මය් දූ' යන්නෙහි 'මය්' යන්න 'මගේ' යන්න ම මේ පළාතේ භාවිත වන සැටි යි. 'මගෙ' යන වචනය 'මග' කියාත් මෙහි දී ඇසිය හැකි ය. පොදු සිංහලයෙහි සම්බන්ධ අර්ථය දැනවීම පිණිස යෙදෙන 'ගෙ' වෙනුවට 'ග' පමණක් යෙදීම මේ පළාතේ සුලභ සිද්ධියකි. මේ අනුව, තොගේ යනු 'තොග' වෙයි. මහත්තයගෙ යනු 'මහත්තයග' වෙයි. හාමිනේගෙ යනු 'හාමිනෙග' වෙයි.

කලින් සිදු වුණු යමක් ගැන කීමෙහි දී බැලුවා, කැඩුවා, වැපුරුවා වැනි වචනයක් යෙදීම පොදු සිංහලයෙහි රටාව යි. එහෙත් මෙහි භාවිත වන රටාව ඊට බෙහෙවින් වෙනස් ය. මෙහි

යෙදෙන්නේ බැලුවා යන්න නො ව 'බලච්චා' යන්න ය. කැඩුවා යන්න නො ව 'කඩච්චා' යන්න ය. වැපුරුවා යන්න නො ව 'වපුරච්චා' යන්න ය. මොනරාගල වැසියන් 'කුදහච්චා' කියන්නේ නිදා ගත්තාට ය. 'ගහමච්චා' යයි කියන්නේ විසි කළාට ය. 'පුන්නච්චා' යයි කියන්නේ නිදි කෙරුවාට ය.

ඉර පායන විට හෝ අව්ව පායන විට වෙනත් පළාත්වල කියනු ඇසෙන්නේ 'ඉර පෑව්වා' හෝ 'අව්ව පෑව්වා' වැනි වහරකි. එහෙත් එම වහර මෙහි යෙදෙන්නේ 'ඉර පැය්යා' හෝ 'අව්ව පැය්යා' යනුවෙනි. 'දැක්කා' යන වචනය වෙනුවට 'දුටා' යන්නක් ද මෙහි වහරනු ලැබේ. 'අම්මා දුටා පුත්තු' යන වැකියෙන් කියවෙන්නේ අම්මා පුතුන් දුටු බව යි. වෙලා යන්න සඳහා 'විලා' යයි යෙදීම ද මොනරාගල වහරේ ලක්ෂණයකි. 'රෑ විලා', 'මුවා විලා' යනු විසිනි.

කිසිවෙකුට විධානයක් කිරීමෙහි දී 'කරපං', 'බලපං', 'බීපං' යනු විසින් ව්‍යවහාර කිරීම සාමාන්‍ය ජන වහරේ රීතිය වෙයි. මෙහි එන 'පං' වෙනුවට 'ප' පමණක් යෙදීම මොනරාගල ජන වහර යි. 'කරප' 'බලප' 'බීප' යනුවෙනි. 'ගහමප' යයි කියන්නේ 'විසි කරපං' යන අරුතිනි. 'කුදහප' යයි කියන්නේ 'බුදියගනිං' යන අරුතිනි.

මෙවැනි විධානයක් තරමක් ආදරයෙන් යුතුව පළ කරන විට 'කොය්' යන්නක් එකතු කිරීම මෙහි සිරිත ය. 'වරෙං' යයි නො කියා 'වරෙංකොය්' කියාත් 'බලපං' යයි නො කියා 'බලපංකොය්' කියාත් 'දුවපං' යයි නො කියා 'දුවපංකොය්' කියාත් යෙදෙන්නාක් සේ ය.

මොනරාගල වැසියෙකු 'මං එද්දිං 'යාකොය්' යනුවෙන් කිව හොත් වෙනත් පළාතක වැසියෙකුට එය එක් වර ම තේරුම් ගැනීම තරමක් අපහසු වනු ඇත. මෙහි 'යාකොය්' යන වචනයෙන් කියවෙන්නේ 'පලයං' හෙවත් 'යන්ටකෝ' යන අරුත යි. 'එද්දිං' යනු යෙදෙන්නේ එන තුරු හෙවත් එන තෙක් යන තේරුමෙනි. මේ අනුව 'මං එද්දිං යාකොය්' යනු තමා එන තුරු යන ලෙස මොනරාගල වැසියා තව එකෙකුට කී අයුරු යි. මෙසේ ම යන තුරු යයි කීමට 'යද්දිං' යනුත් කපන තෙක් යයි කීමට 'කපද්දිං' යනුත් යෙදේ.

'වැස්ස වහින්ටත් වපුරච්චා' යනුත් මොනරාගල පෙදෙසට ම සීමා වුණු ජන වහරක් සේ පෙනෙයි. මෙහි 'වහින්ටත්' යනු වහිද්දිත් යන අරුත් දෙයි. යට කී වැකියෙන් කියවෙන්නේ වැස්ස වහිද්දිත් වැපිරූ බවකි. මේ අනුව 'කියන්ඩත්' යනු කියද්දිත් යන අරුත ද, 'බලන්ටත්' යනු බලද්දිත් යන අරුත ද දෙයි.

නැතුව යන්න 'නැතුං' සේ ද කැටුව යන්න 'කැටුං' සේ ද මොනරාගල පෙදෙසෙහි යෙදෙයි. 'කුදහන්නැතුං වරෙල්ලා' යයි කියන්නේ පමා නො වී හෙවත් නිදා ගන්නේ නැති ව ආ යුතු බව කීමට ය. 'මොක්කු කැටුං පනං උනේ?' යන ප්‍රශ්නයෙන් ඇසෙන්නේ කවුරුන් කැටුව ගියා ද යන වග යි. මේ ප්‍රශ්නයට පිළිතුරක් නො දන්නා කල 'කවුද්දං' යයි කියනු ඇසේ. එහි අරුත 'කවුද දන්නෙ' හෝ 'අනේ මන්දන්නෑ' වැන්නකි. 'නැත්තං' යන වචනය 'නැට්ටං' යනුවෙන් ද මෙහි දී අසන්නට ලැබේ.

ප්‍රශ්නයක් ඇසීමෙහි දී 'ද' යන වචනය යොදා 'ගියා ද' 'මොක ද?' වැනි වහර භාවිත කිරීම පොදු සිංහලයෙහි රීතිය වුවත් මොනරාගල රීතිය ඊට මඳක් වෙනස් වෙයි. එවැනි 'ද' යන්නක් යොදනු වෙනුවට කට හඬ උස් පහත් කිරීමෙන් ම එම වැකිය ප්‍රශ්නයක විලාසයෙන් ඇසීමට මොනරාගල වැසියෝ සමත්තු ය. 'අප්පච්චි හේනට ගියා ද?' යයි අසනු වෙනුවට 'අප්පච්චි හේනට ගියා?' යනුවෙන් උච්චාරණ ධ්වනිය උස් කොට කතා

කිරීම මෙහි බොහෝ විට සිදු වෙයි. 'කොහේ ද' යනු මෙහි දී 'කොහා?' වන්නාක් සේ ම 'මොනව ද?' යනු 'මොනා?' වෙයි.

පොදු සිංහලයෙහි යෙදෙන සමහර වචන මොනරාගල පළාතේ යෙදෙන්නේ වෙනස් වෙනස් අරුත් දනවමිනි. මොනරාගල වැසියන් 'ඉඟුරු' යයි කියන්නේ 'ඉරිඟු' සඳහා ය. එබැවින් එහි 'ඉරුං ගස්' පමණක් නො ව 'ඉඟුරු කරල්' ද හමු වෙයි. මෙහි 'අඹ' යනුවෙන් හැඳින්වෙන්නේ 'පැපොල්' හෙවත් 'ගස් ලබු' ය. 'පුහුල්' යන්නෙන් 'වට්ටක්කා' ද 'කොකිස්' යන්නෙන් 'කිරි අල' ද අදහස් කෙරේ.

වෙනත් පළාත්වල වැසියන් උදේ හවස යොදන සමහර වචන මෙහි වැසියන් සලකන්නේ අසභ්‍ය අර්ථයක් ද ජනිත කරවන වහර හැටියට ය. එබැවින් 'කුරුල්ලා' යන වචනය වෙනුවට මෙහි යෙදෙන්නේ 'සකලයා' යනු යි. හේන්වලට එන කුරුල්ලන් පැන්නීම මෙහි හැඳින්වෙන්නේ 'සකලයො අඹනවා' යනුවෙනි. පොඩි දරුවන් ලවා 'සකලයන්ට ඕගාන්ට' හෝ කීගාන්ට සැලැස්වීමෙන් උන් එළවීම සිදු කෙරේ. 'ලෙල්ල' යන වචනය ද මෙහි දී භාවිත කළ යුත්තේ පරිස්සමිනි. මෙහි වැසියන් 'පොල් ලෙල්ල' යයි නොකියා 'පොල් කටුව' හෝ 'පොල් පොත්ත' යයි කියන්නේ ලෙල්ල ගැන සඳහන් කිරීමට අකමැති හෙයිනි. 'ලෙලි ගහනවා' යන්න සඳහා 'ඔයනවා' යනු යෙදෙන්නේ ද මේ හේතුවෙනි.

## II කොටස

අප කාට කාටත් නෑදෑයෝ සිටිති. එහෙත් ඔවුන් හැඳින්වීම සඳහා ලංකාව පුරා ම යෙදෙන්නේ  එක ම පද නො වේ. එක් පළාතක 'තාත්තා' යනුවෙන් ඇසෙන පදය උඩරට පළාතට ගිය විට ඇසෙන්නේ 'අප්පච්චි' හෝ 'අපුච්චා' යනුවෙනි. අම්මාට 'අම්මණ්ඩි' කියා ගරු සරු ඇතිව කතා කරන සිංහලයෝ දකුණු පළාතේ සිටිති.

දෙමාපියන්ගේ දෙමාපියන් හැඳින්වීමට යෙදෙන පද බෙහෙවින් වෙනස් ය. මේ දෙපොළ හඳුන්වනු පිණිස කොළඹ පළාතේ අසන්නට ලැබෙන්නේ 'සීයා' හා 'ආච්චි' යන පද දෙක යි. එහෙත් කොළඹින් ඈතට ගිය කලට 'කිරි අත්තා' 'කිරි අප්පා' 'ආත්තා' 'අත්තප්පා' 'ලොකු අත්තා' වැනි පදවලින් සීයාත් 'කිරි අම්මා' 'අත්තම්මා' 'හීන් අත්තා' වැනි පදවලින් ආච්චිත් හැඳින්වෙති.

'මුත්තා' යන පදය වැඩිපුර යෙදෙන්නේ සීයාගේත් සීයා හැඳින්වීමට වුවත් දකුණු පළාතේ මෙය යෙදෙන්නේ සීයා සඳහා බව ද අසන්නට ලැබිණි.

පියාගේ සහෝදරයන් හැඳින්වීමට යෙදෙන නම් ද පළාතෙන් පළාතට වෙනස් වේ. පියාගේ වැඩිමහල් සහෝදරයා සඳහා 'ලොකු තාත්තා' 'ලොකු අප්පච්චි' 'බක්කප්පච්චි' 'මහප්පා' යන පද යෙදෙන අතර ඔහුගේ බාල සහෝදරයා හැඳින්වීමට 'බාප්පා' 'කුඩප්පා' 'කුඩප්පච්චි' යන පද යෙදේ. බාප්පාට 'බාප්පොච්චි' යන නම ද යෙදේ.

මවගේ සහෝදරියන් හැඳින්වීමට යෙදෙන නම් ද පළාතින් පළාතට වෙනස් ය. මවගේ වැඩිමහල් සහෝදරිය සඳහා 'ලොකු අම්මා' 'බක්කම්මා' 'මහම්මා' යන පද යෙදෙන අතර ඇගේ බාල සහෝදරිය හැඳින්වීමට 'පුංචි අම්මා' 'කුඩම්මා' යන පද යෙදේ. සමහර පළාතක 'කුඩම්මා' යැයි යෙදෙන්නේ පියාගේ දෙවෙනි විවාහය නිසා පවුලට එක් වන කාන්තාව හඳුන්වනු පිණිස ය.

විවාහයෙන් පසු 'මාමණ්ඩි' හා 'නැන්දම්මා' යනුවෙන් දෙදෙනෙක් පවුලට එකතු වෙති. මාමා සඳහා 'මාමණ්ඩි' යන්නත් සමහර පළාතක යෙදේ. එසේ ම මාමණ්ඩි හැඳින්වීමට 'අම්මණ්ඩි' යන පදය හතර කෝරළයෙහිත් ඇතැම් උඩරට පළාත්වලත් යෙදේ. ඌව පළාතේ 'අම්මණ්ඩි' යන පදයෙන් හැඳින්වෙන්නේ නැන්දා ය.

## III කොටස

නාම පද මෙන් ම ක්‍රියා පද ද පළාතෙන් පළාතට වෙනස් වෙයි. 'බීවා' යන පදය උඩරැටියන් අතර ව්‍යවහාර වන්නේ 'බුන්නා' යනුවෙනි. 'හිටියා' යන පදය උඩරැටියන් අතර ව්‍යවහාර වන්නේ 'හිට්ටා' යනුවෙනි. 'දැම්මා' යන පදය දකුණු පළාතේ සිංහලයන් අතර ව්‍යවහාර වන්නේ 'දැවා' යනුවෙනි. 'මං ඔහේට ලියුමක් දැවා' යැයි කියනු මාතර දී අසන්නට ලැබිය හැකි ය.

'බලනවා' 'හිතනවා' 'වපුරනවා' වැනි පදවලින් අතීත ක්‍රියා පද සදා ගන්නා රටාව ද පළාතින් පළාතට වෙනස් වේ. පොදු සිංහලයෙහි ඒ පදවලින් සැදෙන්නේ 'බැලුවා' 'හිතුවා' 'වැපිරුවා' යන ක්‍රියා පද යි. එහෙත් උඩරට පළාතක දී 'බලච්චා' 'හිතච්චා' 'වපුරච්චා' යන ක්‍රියා පද ද ඇසේ.

පොදු සිංහලයෙහි 'එන්න' 'වාඩි වෙන්න' 'බොන්න'යනුවෙන් කෙරෙන ආරාධනා උඩරට සිංහලයන් අතින් කෙරෙන්නේ 'එන්ට' 'වාඩි වෙන්ට' 'කන්ට' යනුවෙනි. 'කරපං' 'බලපං' 'කියපං' වැනි ක්‍රියා පද දකුණු පළාතෙහි දී 'කරහං' 'බලහං' 'කියහං' යනුවෙන් වෙනස් වෙයි. එසේ ම 'කරපල්ලා' 'බලපල්ලා' 'කියපල්ලා' වැනි ක්‍රියා පද 'කරහල්ලා' 'බලහල්ලා' 'කියහල්ලා' යනුවෙන් වෙනස් වෙයි.

## අවබෝධය

1. ප්‍රාදේශික ව්‍යවහාර යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද?
2. මොනරාගල ප්‍රදේශයේ යමකුට විධානයක් දෙන ජන වහර කෙසේ ද?
3. එහි විධානයක් ආදරයෙන් පැවසීමේ දී දැකිය හැකි විශේෂ ලක්ෂණය කුමක් ද?
4. මොනරාගල වැසියන් යමකුගෙන් ප්‍රශ්නයක් අසන අයුරු පොදු සිංහල රීතියට වඩා වෙනස් යැ යි පවසන්නේ කුමක් නිසා ද?
5. පහත සඳහන් පොදු සිංහල වචන සඳහා යෙදෙන ප්‍රාදේශික ව්‍යවහාර පාඩමෙන් උපුටා ලියන්න.

   දොරවල් ..............................
   බීවා ..............................
   ඉර පෑව්වා ..............................
   අඹ ..............................
   පුහුල් ..............................
   කුරුල්ලා ..............................

## ලිඛිත අභ්‍යාස

1. විවිධ පළාත්වල ඥාතීන් හැඳින්වීමට භාවිත කෙරෙන ප්‍රාදේශික ව්‍යවහාර වගු සටහනකින් දක්වන්න.

| ඥාතිත්වය | පළාත | ප්‍රාදේශික ව්‍යවහාරය |
|---|---|---|
| තාත්තා | උඩරට | අප්පච්චි/ අප්පුච්චා |

2. පාඩමෙහි සඳහන් ක්‍රියා පද ඇසුරෙන් වගුව සම්පූර්ණ කරන්න.

| පොදු වහර | විශේෂ වහර | භාවිත කරන ප්‍රදේශය |
|---|---|---|
| බැලුවා | බලච්චා | උඩරට |

## ප්‍රායෝගික අභ්‍යාස

1. ඔබ ප්‍රදේශයට ආවේණික එදිනෙදා කතාබහේ දී භාවිත යෙදුම් දහයක් සොයා ලියන්න.

# නාම ප්‍රකෘති හා ධාතු ප්‍රකෘති

නාම පදයක් යනු කිසියම් කෙනෙක්, දෙයක්, ස්ථානයක් , ස්වභාවයක් හඳුන්වන පද බවත් ක්‍රියා පදයක් යනු වීමක්, විඳීමක්, කිරීමක් හඟවන පද බවත් ඒවායේ විවිධ ප්‍රභේද ඇති බවත් ඔබ මේ වන විටත් උගෙන ඇත.

නාම පදයක හෝ ක්‍රියා පදයක මුල් ස්වරූපය ප්‍රකෘතිය හෙවත් මූලය ලෙස හැඳින්වෙයි. නාම පදයක මුල් රූපය නාම ප්‍රකෘතිය නමින් ද ක්‍රියා පදයක මුල් රූපය ධාතු ප්‍රකෘතිය නමින් ද හැඳින්වෙයි.

1. කුමර + ආ - කුමරා      කුමර + ඊ - කුමරී
2. බල + යි - බලයි      බල +ති - බලති

මෙහි පළමු පෙළේ 'කුමරා' සහ 'කුමරී' යන නාම පද දෙක ම නිර්මාණය වී ඇත්තේ 'කුමර' යන ප්‍රකෘතියට නාම ප්‍රත්‍යයක් එක් වීමෙනි. ඒ අනුව 'කුමර' යනු නාම ප්‍රකෘතියකි. දෙවන පෙළේ 'බලයි' සහ 'බලති' යන ක්‍රියා පද නිර්මාණය වී ඇත්තේ 'බල' යන ප්‍රකෘතියට ක්‍රියා ප්‍රත්‍යයක් එක් වීමෙනි. ඒ අනුව 'බල' යනු ධාතු ප්‍රකෘතියකි.

බොහෝ විට නාම ප්‍රකෘතියක් හෝ ධාතු ප්‍රකෘතියක් යෙදෙන්නේ ප්‍රත්‍යය ගන්වන ලද පදයක් ලෙසිනි. එහෙත් ප්‍රකෘතිය ස්වාධීනව පවතින අවස්ථා ද වෙයි.

කුමර (ගී), මිනිස් (ඇස)

ඇතැම් නාම ප්‍රකෘති විශේෂණ පද වශයෙන් යෙදෙන ආකාරය ඉහත දැක්වේ. සිංහල භාෂාවේ විශේෂත්වයක් වන්නේ නාම ප්‍රකෘතිය හෙවත් වර නො නැගුණු රූපය විශේෂණය වශයෙන් භාවිත වීම යි.

ගස්, පුටු

යන නිදර්ශන සැලකූ විට අප්‍රාණවාචී නාම පදවල බොහෝ විට බහු වචන රූපය වන්නේ ප්‍රකෘතිය ම බව පෙනෙයි.

ගය ගයා, බල බලා

මෙහි තද පැහැයෙන් දක්වා ඇති යෙදුම් ධාතු ප්‍රකෘති වේ. එනම් මෙබඳු මිශ්‍ර ක්‍රියාවල යෙදෙන පද දෙකෙන් පළමු වැන්න ප්‍රකෘතිය වශයෙන් ම පවතී.

මිශ්‍ර ක්‍රියා සාදා ගන්නා අනෙක් ක්‍රමය වන්නේ ධාතු ප්‍රකෘතියට 'මින්' ප්‍රත්‍යය එක් කිරීමයි. එහි ද ධාතු ප්‍රකෘතිය වෙන් කොට හඳුනා ගැනීම පහසු වේ.

ගයමින්, බලමින්

ප්‍රයෝජ්‍ය ක්‍රියාවේ දී ද ධාතු ප්‍රකෘතිය හඳුනා ගැනීම පහසු ය. ප්‍රයෝජ්‍ය ක්‍රියා ප්‍රත්‍යය වන 'ව' යන්නට පෙර ධාතු ප්‍රකෘතිය පැහැදිලිව දැකිය හැකි ය.

ගයවයි, බලවයි

මීට ඉහත දී ඔබ ක්‍රියා පදවල විවිධ ප්‍රභේද පිළිබඳව ඉගෙන ගෙන ඇත. පහත සටහනේ දැක්වෙන්නේ ක්‍රියා පද වර්ගීකරණයකි.

<table>
<tr><td>පූර්ව ක්‍රියා</td><td colspan="2">අවසාන ක්‍රියාවට පෙර සිදු කරන ක්‍රියා</td><td>කා, බී, හැඳ, බැස, බලා</td></tr>
<tr><td>මිශ්‍ර ක්‍රියා</td><td colspan="2">අවසාන ක්‍රියාවට සමගාමීව සිදු කරන ක්‍රියා</td><td>කකා, කමින්, බි බී බොමින්, හැඳ හැඳ, හඳිමින්, බැස බැස, බසිමින්, බල බලා, බලමින්</td></tr>
<tr><td>ප්‍රයෝජ්‍ය ක්‍රියා</td><td colspan="2">වෙනත් අයකු ලවා කරවන ක්‍රියා</td><td>කරවයි, බලවයි, ගයවයි, නටවයි, දුවවයි</td></tr>
<tr><td>විධි ක්‍රියා</td><td colspan="2">වෙනත් අයකුට කරන කිසියම් විධානයක්, ඉල්ලීමක් හැඟවෙන ක්‍රියා</td><td>කන්න, බොනු, හඳිවු, බසින්න, බලන්න</td></tr>
<tr><td>ආශීර්වාද ක්‍රියා</td><td colspan="2">කිසියම් ප්‍රාර්ථනාවක් හැඟවෙන ක්‍රියා</td><td>දිනේවා, ලැබේවා, සැනසේවා, වැනසේවා, බලාවා</td></tr>
<tr><td rowspan="2">අසම්භාව්‍ය ක්‍රියා</td><td>කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා</td><td>යම් කිසි ක්‍රියාවක් සිදු වන අවස්ථාවේ සිදු වන වෙනත් ක්‍රියා (කාලය පිළිබඳ හැඟවේ)</td><td>කද්දී, බොද්දී, යද්දී, බසිද්දී , බලද්දී</td></tr>
<tr><td>අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා</td><td>යම් කිසි ක්‍රියාවක් සිදු වීමට බලපාන අනෙක් ක්‍රියා (අවිනිශ්චිත බවක් හැඟවේ)</td><td>කැවොත්, බීවොත්, බැස්සොත්, බැලුවොත්, පිරුණොත්</td></tr>
</table>

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන නාම පදවල ප්‍රකෘති වෙන් කොට දක්වන්න.**

   i. පහන
   ii. දැරිය
   iii. අත්තෙන්
   iv. සිංහයා
   v. ග්‍රන්ථය
   vi. කන්ද
   vii. මහල්ලෝ
   viii. යතුර
   ix. ගිරවු
   x. යහපත

2. **පහත දැක්වෙන ධාතු ප්‍රකෘති ඇසුරෙන් ඉහත සටහනේ දැක්වෙන ක්‍රියා පද වර්ග ගොඩ නඟන්න.**

   i. අස ii. කප iii. ලිය iv. තබ v. රකි

3. **ඉහත අභ්‍යාසයේ දී ගොඩ නැගූ ක්‍රියා පද භාවිත කර වාක්‍ය නිර්මාණය කරන්න.**

# 4 ආරාමයේ නිර්මාණය

අපේ රටේ සංස්කෘතිය, සාරධර්ම හැඩගැස්වීමෙහි ලා බුදුදහම විසින් කරන ලද කාර්යභාරය සුවිශාල ය. මහින්දාගමනයත් සමග ලද දහමත්, භාෂාවත්, කලා ශිල්ප ආදියත් සිංහල ජන ජීවිතය පුබුදුවා ලී ය. වැව යි, දාගැබ යි යන තේමාව මත හැඩගැසුණු දේශීය සංස්කෘතියට පදනම වූයේ බෞද්ධ විහාරස්ථානය යි. මේ පාඩම බුදුදහම පැමිණීමෙන් පසු ආරාමය වැනි අංග නිර්මාණය වී විකාශනය වීම පිළිබඳව මුල් අවස්ථාව හා සම්බන්ධ වේ. මහාචාර්ය වල්පොළ රාහුල හිමියන්ගේ *ලක්දිව බුදුසමයේ ඉතිහාසය* කෘතියෙහි පරිච්ඡේදයක් මේ පාඩමට ඇතුළත් වේ.

බුදුදහම රජයේ හා වැසියන්ගේ ආගම බවට පත් වූ පසු භික්ෂූන්ට ජනාවාසයෙන් දුර බැහැර ගිරිමුදුන්වල හා වනාන්තරවල පිහිටි පාළු ගල්ගුහාවල හා පන්සල්වල වැඩ වසන්ට ඉඩ දෙන්ට නො හැකි විය. මක් නිසා ද යත්, එවිට සිවුපසය සපයමින් උන් වහන්සේලා නඩත්තු කළ වැසියාට භික්ෂූන්ගෙන් ඉටු විය යුතු අවවාද අනුශාසනාදි කටයුතු අතපසු වන බැවිනි. එහෙයින් ගිහි පැවිදි ආශ්‍රය පහසුවෙන් නොකඩවා පවත්වා ගත හැකි වන පරිදි, සශ්‍රීක නගර හා සරුසාර ගම් අසල ආරාම පහළ වන්නට විය.



ථූපාරාමය



රුවන්වැලිමහා සෑයේ ඇතුළු මළුව

ලංකාවෙහි පළමුවෙන් ම පහළ වුණු ආරාමය අනුරාධපුර මහමෙවුනා උයනෙහි දෙවනපෑතිස් රජු කරවූ තිස්සාරාමය යි. පසු කලෙක මහාවිහාරය බවට පෙරළුණේ මේ ආරාමය යි. මුල දී මෙහි වූයේ භික්ෂු ආවාසය සඳහා කරවන ලද කාලපාසාද පිරිවෙණ නම් මැටි ගෙයක් පමණ ය. පසු විටෙක, රජු හා ඇමතියන් විසින් භික්ෂූන්ගේ ප්‍රයෝජනය සඳහා මහමෙවුනා උයනෙහි තවත් ගෙවල් කිහිපයක් සාදවන ලදි. චෛත්‍යය ලංකාවේ ආරාමයක අංගයක් බවට පත් වුණේ ථූපාරාමය කරවීමෙන් පසු ය. බෝධිය ද එහි ම අංගයක් වූයේ බුද්ධගයාවෙන්

වැඩම කරවූ ශ්‍රී මහා බෝධි ශාඛාව මහමෙවුනා උයනෙහි රෝපණය කිරීමෙන් පසු ය.

සිද්ධීන් දෙක ම වූයේ දේවානම්පියතිස්ස සමයෙහි දී ය. මේ කාලයේ දී ම රුහුණු රටෙහි ද දිවයිනේ සෙසු පළාත්වල ද විශාල ආරාම පහළ වෙන්ට පටන් ගති. ක්‍රි. පූ. දෙවන ශත වර්ෂය වන විට, දුටුගැමුණු කාලයේ දී ප්‍රාසාද ගණනාවකින් සැදුණු අනුරාධපුර මහා විහාරය භික්ෂූන් රාශියකට වාසස්ථානය විය. අභයගිරිය හා ජේතවනය අනුරාධපුරයෙහි පිහිටි තවත් ප්‍රධාන ආරාම දෙකකි. මේ දෙකින් අභයගිරිය ක්‍රි. පූ. පළමු වන ශතවර්ෂයේ දී ද ජේතවනය ක්‍රි. ව. සිවු වන ශතවර්ෂයේ දී කරවන ලද්දේ විය.

සංඝාවාසයකට සාමාන්‍යයෙන් ව්‍යවහාර වුණේ 'ආරාම' නැත හොත් 'විහාර' යන මේ නම ය. ක්‍රි. ව. පස් වන ශතවර්ෂයෙහි පිළිගත් මතය පරිදි යටත් පිරිසෙයින් සතර රියනක පන්සලක් පවා, එහි චෛත්‍යයක් ඇතොත්, එහි බණ ඇසීම වෙතොත්, සිවු දිගින් පැමිණෙන මහණුන්ට, අවසරයක් නැතිව ද එහි පා සෝදා, යතුරෙන් දොර ඇර, සෙනසුන් පිළියෙල කොට, ලැගුම් ගෙන, සිතුමනාපයට පිට වී යන්ට ලැබෙතොත්, ඇත්තෙන් ම "සිවු දිගින් පැමිණෙන භික්ෂූන් සඳහා" කරවන ලද විහාරයකි.

විහාරයකට අවශ්‍ය ම අංග නම් චෛත්‍යයත් ලැගුම්ගෙය හා ධර්ම දේශනා කිරීමත් බව මේ වගන්තියෙන් පෙනේ. එනමුත් සම්පූර්ණ ආරාමයක දොරටුවෙහි දොරටු පැන් මඩිය නම් ගොඩනැගිල්ලක් තිබුණේ ය. මේ වනාහි පැන් කළ තබා තිබූ තැන යි. මෙසේ පැන් කළ තබා තිබුණේ සිද්ධස්ථානයට පිවිසෙන්නට පෙර වන්දනාකරුවන්ට අත් දෝවන කිරීමට, මල් වට්ටියට පැන් ඉසීමට හා බීමට බව සිතිය හැකි ය. ජේතවනාරාමයෙහි දොරටු පැන් මඩිය තරමක් විශාල දෙමහල් ගොඩනැගිල්ලක් විය. කිසි ම ආගන්තුකයකුට ගොඩනැගිල්ලෙහි උඩුමහලෙහි වත් යටිමහලෙහි වත් පැන් කළ සඳහා වෙන් වුණු තැන වත් නැවතී සිටීමට ඉඩ නො දිය යුතු යැ යි නියමයක් කර තිබුණේ ය. මේ මණ්ඩපය දුර බැහැරින් පැමිණි වන්දනා නඩවලට මුහුණ, කට හා පා සෝදා ගැනීමටත් පිරිසිදු ඇඳුම් ඇඳ ගැනීමටත් හැකි වන පරිදි තරමක් ඉඩකඩ ඇති තැනක් වූ බව පෙනේ.

අනුරාධපුරයේ ඇතැම් දාගැබ්වල මළුවට ඇතුළු වන දොරටුවෙහි පියගැටපෙළ අසල කොරහක හැඩයට වළගැසුණු ගල් කුට්ටි තිබුණේ ය. අනුරාධපුරය අසල පන්කුලිය ආරාමයෙහි මෙබඳු ගල් කොරහක කොටා තිබී හමු වුණු ලිපියක මේ බඳුනෙහි නම සඳහන් වන්නේ 'පාදෝණි' යනුවෙනි. මේ නමින් ම එය කුමක් සඳහා දැ යි වැටහේ. කල්‍යාණවතී බිසවගේ රුවන්වැලි සෑ ලිපියෙහි මේ ගල් කොරහ සඳහන් වන්නේ 'පාදෙණි' යන නමිනි. 'පාදෙණි' යයි කියත හැකි, තනි ගලෙන් කෙටූ මෙබඳු 'දෝණි' ථූපාරාම ආදි ඇතැම් දාගැබ් අසල දක්නට ලැබේ. මේවායින් පෙනෙන්නේ සිද්ධස්ථානයට ඇතුළු වන්නට පෙර වන්දනාකරුවන්ට පා සෝදා ගැනීමට දිය පිරුණු ගල්දෙණි තිබුණු බවයි.


ථූපාරාමයේ කැඩී ගොස් ඇති පාදෝණි


පන්කුලිය ගල් කොරහ

ආරාම භූමිය ඇතුළත ප්‍රධාන පූජ්‍ය වස්තුව වූයේ බුදුන් වහන්සේගේ ධාතු නිදන් කළ චෛත්‍යය හෙවත් දාගැබ යි. කුඩා චෛත්‍යයක් ගැන කෙසේ වුවත් යටත් පිරිසෙයින් රුවන්වැලි සෑය වැනි ප්‍රධාන දාගැබ් වටා මළුවක් තිබිණි. පිට මළුව, වාලුකාංගණ හෙවත් වැලි මළුව නම් විය. සුදු වැලි අතුළ මේ මළුව වටා පවුරක් විය. ඊට ඉහළින් ඇතුළු මළුව අද දවසේ පවා අපට අනුරාධපුරයෙහි දක්නට ලැබෙන පරිදි ගල් ලැලි අතුරා කරන ලද්දකි. මේ මළුව වටා කයියෝරුවක් හැටියට ඇත් පවුරක් (හත්ථිපාකාර), ඒ කියන්නේ ඇත් රූපවලින් යුත් පවුරක් විය. මහ දොරටු සතරෙහි තොරණ සතරක් තිබුණේ ය.

චෛත්‍යයෙහි බුබ්බුලාකාරය නැංවුණේ 'වේදිකා භූමි' හෙවත් 'පුප්ඵාධාන' යන නමින් හැඳින්වුණු, කෙමෙන් පිහිටි තුන්මාල් පේසාව උඩ ය. මෙය සෑයේ පතුල යි. මේ තුන්මාල පේසාවෙන් ඉහළ ම පේසාව මල් පිදීමට මල් අසුන් හැටියට පාවිච්චි කරන ලද්දේ ය. මැද පේසාව පවා බාගදා මේ සඳහා ම පාවිච්චි කරන්නට ඇත. ඉහළ ම පේසාව 'කුච්ඡ වේදිකා භූමිය'යි නම් විය. පහළ ම පේසාවෙහි සෑය වටේ ම නියමිත පරතරයකට අනුව කොටන ලද පාද පීඨිකා නම් අඩි සලකුණු දහසයක් විය. මේ සලකුණුවලින් දැක්වුණේ ඉහළ පේසාවෙහි මල් පූජා කිරීමෙන් පසු සෑය පැදකුණු කරන ගමන් වන්දනාකරුවන් පසඟ පිහිටුවා වැන්ද යුතු තැන් ය. මේ මාල් පේසාවට නගින්ට පඩි පෙළවල් තිබුණේ ය.

සෑය වටා සෑගෙයක් (චේතියඝර) විය. ගල් කණු මත නැංවුණු ගොඩනැඟිල්ල සෑයට ආවරණයක් හැටියට වහලකින් ද යුක්ත විය. ඇතැම් විට දොරවල් ද සවි කොට ඇතුළෙහි ලස්සන පලස් ද අතුරා තිබුණේ ය. මේ අතින් බලන විට සෑගෙය සෑය වටා තැනූ ගෙයක් වගේ ය. ගේ ඇතුළෙහි මල් පිදීමට මල් අසුන් විය.

සෑගෙයක් කරවන ලද්දේ ථූපාරාමය හා අම්බස්ථලය වැනි කුඩා දාගැබ්වලට පමණක් බව නටබුන්වලින් පෙනේ. රුවන්වැලි සෑය හෝ අභයගිරිය හෝ ජේතවනය වැනි විශාල දාගැබ්වලට සෑගෙයක් තිබුණු බව කොතැනක වත් සඳහන් වී නැත. එවැනි දාගැබ්වලට ගෙයක් කරවීම නො කළ හැකි දෙයක් බව කාටත් වැටහෙනු ඇත. සෑගෙය සෑයට ම පමණක් නො ව, වන්දනාකරුවන්ට ද අව්වට, වැස්සට ආවරණයක් විය. සෑගෙය සෑයට රැකවරණයක් වුව ද සරලකම ම ලක්ෂණ කොට ගත් ආනුභාව සම්පන්න ශෝභාවට නම් එයින්, විශේෂයෙන් සඳ එළියෙන් බැබළුණු රාත්‍රියක දී, වුණේ බාධාවකි. ඇතැම් විට සෑය සිත්තම්වලින් අලංකාර කරන ලද්දේ විය. දෙවන අග්බෝ රජු (ක්‍රි.ව. 601-611) විසින් ප්‍රකෘති කරවීමෙන් පසු ථූපාරාමයෙහි කරවන ලද සිත්තම් මීට නිදසුනකි. සද්ධාතිස්ස රජු (ක්‍රි.පූ. 77-59) විසින් අම්බස්ථල දාගැබ මනෝසිලා හෙවත් රත්හිරියල් සුණු ගා රන් පැහැයෙන් අලංකාර කරවන ලද්දේ ය.

චෛත්‍යය හැරුණු විට ඊළඟට ප්‍රධාන කොට සැලකුණේ බෝධිය යි. ඇතැම් බෝධීන් 'වඩ්ඪමාන බෝධි' ආදි විශේෂ නම්වලින් හැඳින්වීමෙන් ම, මේ පූජ්‍ය වෘක්ෂයට බෞද්ධයන් දැක්වූ ආදරය, ගෞරවය කොතරම් දැ යි ඔප්පු වේ. ආරාමයක දී, බෝධියට ලැබෙන්නේ බුදුන් වහන්සේගේ ශාරීරික ධාතුන්ට ලැබෙන ගෞරවස්ථානයට පමණක් දෙවැනි වන තැනකි. බෝ ගසක අත්තක් කැපීමට අවසරය ලැබුණේ එයින් සම්බුද්ධ ධාතූන් නිදන් කොට ඇති චෛත්‍යයකට හෝ ප්‍රතිමාවකට හෝ ආසනඝරයකට හෝ බාධාවක් වූ විට පමණි; නැත හොත් දිරන හෝ දුම්මලකාරි ආදිය වැස්සෙන හෝ අත්තක් කැපීම, මිනිස් කයට සැත්කමින් සුවයක් වන්නා සේ, ගස සුව සේ වැඩීමට පිළියමක් වන්නේ නම්

පමණි. අත්තක වසන කුරුල්ලන් සෑය මත වසුරු හෙළතොත් එවිට ද අත්තක් කැපීමට අවසරය තිබිණි. එහෙත් වෙන මොන ම කරුණක් නිසා වත් බෝ අත්තක් කැපීම තහනම් විය.

බෝ මළුවක සතර දිසාවෙහි තොරණ සතරක් ද බෝධිය වටා වේදියක් හෙවත් උස් ගල් මළුවක් ද විය. වන්දනාකරුවන් බෝධිය වඳින්ට දණ ගැසුවේ මේ ගල් මළුවෙහි ය. බෝධියට ඊට වඩා කිට්ටුවෙන් බෝධිඝරය හෙවත් බෝගෙයක් විය. මේ ගෙය සාදන ලද්දේ, සෑගෙය මෙන් උඩින් නොව, අතුවලට පහතින් ගස වටේ ය. ඇතැම් විට බෝගෙය තුළ බුදු පිළිමයක් ද විය. සෑගෙය මෙන් ම මේ ගෙය ද බෝධිය පැදකුණු කළ ශ්‍රද්ධාවන්තයන්ට ආරක්ෂාව දීමේ අදහසින් තැනුවා විය හැකි ය.

වැදගත්කමින් ඊළඟට සැලකෙන්නේ බුදු පිළිමය තැන්පත් කර තිබූ පටිමාඝර හෙවත් පිළිමගෙය යි. පිළිමගෙය ලංකාවේ ආරාමයක අංගයක් වූයේ කවර කලක දී ද යනු මෙහි දී විමසිය යුතු කරුණකි. මහා විහාරය සඳහා මිහිඳු මා හිමියන් සැපයූ සැලැස්මෙහි මහාථූපය හා මහාබෝධිය පිහිටුවීමට සුදුසු තැන් නියම කරන ලද්දේ මුත් පිළිමගෙයකට තැනක් නියම නො වී ය. ක්‍රි. පූ. තෙවන ශතවර්ෂයේ අසෝක කාලයේ දී බුදු පිළිම තිබුණු බවක් දැන ගන්ට නැති බව මෙහි දී සිහි කට යුතු ය. සාංචියෙහි සහ භාරුත්හි පැරණි කැටයම්වල බුදු පිළිමයක් දක්නට නැත. මෙහි දී බුදුන් වහන්සේ පෙනෙන්ට සිටිය යුතු ම යයි නිසැකයෙන් ම සැලකිය හැකි දර්ශනවල දී පවා, උන් වහන්සේ නිරූපණය වන්නේ සිරිපා සටහනක් හෝ චක්‍රයක් හෝ මල්මාලා පලන් සේසතකින් යට සෙවණ වුණු ආසනයක් වැනි සංකේතයකිනි. භාරුත්හි කැටයම්වල එක් දර්ශනයක දී අජාසත් රජු සිරිපා සටහන ඉදිරියේ දණ


මිහින්තලේ අම්බස්තල චෛත්‍යය


සීගිරියේ බෝධිඝරය


ලංකාතිලක පිළිමගෙය

ගසා සිටිනු දැක්වේ. එහෙත් එහි සඳහන් ලිපියෙන් "අජාතශත්‍රැ බුදුන්ට නමස්කාර කරයි" යනුවෙන් නිශ්චිත ලෙස ම කියැවේ. දඹදිව් වැසියන් බුදු පිළිම සෑදීමට හා වැඳීමට පටන් ගත්තේ අසෝක සමයෙන් මෑත කාලයක බව ඔප්පු වන නිදසුන් රැසක් ම ඇත.

## අවබෝධය

1. සශ්‍රීක නගර හා සරුසාර ගම් අසල ආරාම ඉදි වීමට තුඩු දුන් හේතුව කුමක් ද?
2. "සිද්ධීන් දෙක ම වූයේ දේවානම්පියතිස්ස සමයේ දී ය" මේ ප්‍රකාශයේ දැක්වෙන සිදුවීම් දෙක සඳහන් කරන්න.
3. සිවු දිගින් පැමිණෙන භික්ෂූන් සඳහා කරවන ලද විහාරයකට අත්‍යවශ්‍ය අංග තුන නම් කරන්න.
4. පැන් මඩිය, පාදෙණිය යන නම්වලින් හඳුන්වනු ලබන ආරාම අංග දෙකෙහි කාර්යභාරය දක්වන්න.
5. බෝ ගසක අත්තක් කැපීමට අවසර ලැබුණේ කවර අවස්ථාවන්හි ද?

## ලිඛිත අභ්‍යාස

**1. පහත දැක්වෙන වචන සඳහා යෙදෙන සිංහල වචන පාඩමෙන් උපුටා ලියන්න.**

i. වාලුකාංගණ v. පුප්ඵාධාන
ii. බෝධිඝර vi. චේතියඝර
iii. හත්ථිපාකාර vii. අජාතශත්‍රැ
iv. පටිමාඝර viii. ශ්වේත ඡත්‍රය

**2. මුලින් දී ඇති පදයට සමානාර්ථයක් නොදෙන වචනය තෝරන්න.**

i. මිදුල - මළුව, මාලකය, අංගණය, එළිමහන
ii. ගෘහය - මාළිගාව, ගෙය, ඝරය, නිවාසය
iii. ස්තූපය - චෛත්‍යය, ආරාමය, දාගැබ, සෑය
iv. ප්‍රාකාරය - පවුර, පරික්ෂේපය, කොටුව, තාප්පය
v. කන්ද - ගිර, උච්චය, පව්ව, පර්වතය

**3. පහත දැක්වෙන පද සඳහා විරුද්ධාර්ථවත් පදය බැගින් ලියන්න.**

i. විවේකී ii. සාමාන්‍යයෙන්
iii. ආගන්තුක iv. සශ්‍රීක
v. ආශ්‍රය vi. ඇතුළත
vii. පැළඳිග viii. ජනශූන්‍ය

# සාම්ප්‍රදායික යෙදුම්

භාෂාව සංස්කෘතික මෙවලමකි. සමාජයක වසන ජනයාගේ ජීවනෝපාය, සිරිත් විරිත්, සිතුම් පැතුම්, ඇදහිලි හා ආකල්ප මත භාෂාව ගොඩනැගේ. භාෂාවේ ඇතැම් වචන හා යෙදුම් කාලයක් තිස්සේ ව්‍යවහාර වීම නිසා වාච්‍යාර්ථය ඉක්මවන අමුතු අර්ථ ඒවාට ආරෝපණය වෙයි. ඒවා සාම්ප්‍රදායික යෙදුම් ලෙස සැලකේ. සිංහල භාෂාවේ ව්‍යවහාර වන යුගල පද, රූඪී හෙවත් ඉඟි වැකි හා ප්‍රස්තාව පිරුළු මෙබඳු ව්‍යවහාර ය.

## රූඪී හෙවත් ඉඟි වැකි

**පහත දැක්වෙන වාක්‍ය යුගල දෙස බලන්න.**

අවුරුදු උලෙලේ පැවති **කඹ ඇදීමේ** තරගයෙන් අපි ජයග්‍රහණය කළෙමු.
දෙපිරිස අතර වූ **කඹ ඇදීමේ** ප්‍රතිඵලයක් වශයෙන් මාර්ගයේ අලුත්වැඩියාව ඇණහිට ඇත.

මුල් වැකියෙහි 'කඹ ඇදීමේ' යන්න යෙදී ඇත්තේ 'කඹ ඇදීම' නම් ක්‍රීඩාව දැක්වීම සඳහා ය. එය වාච්‍යාර්ථය යි.

දෙවැනි වැකියෙන් එසේ නො වේ. එහි ඇත්තේ එකඟතාවක් නැතිකම යන ආරෝපිත අරුතකි.

මේ අනුව රූඪී හෙවත් ඉඟි වැකි මගින් පළ වනුයේ වාච්‍යාර්ථය මත ආරෝපණය වූ අමුතු අරුතකි. කතා කිරීමේ දී මෙන් ම ලිවීමේ දී අදහස් රසවත්ව හා සිත් ගන්නා සේ ඉදිරිපත් කිරීමට මේ යෙදුම් උදවු වේ. මේ එබඳු යෙදුම් කිහිපයකි.

| | |
|---|---|
| දෙහි කැපුවා | - බැණවැදුණා |
| අත්වැල් බැඳ ගෙන | - එකට එක් වී |
| කණකොකා හඬලා | - විනාශය ළං වෙලා |
| කුඩම්මාගේ සැලකිල්ල | - වෙනස්කම |
| හය හතර නොදන්නා | - දැනුම් තේරුම් නොමැති |
| කරබා ගෙන | - නිශ්ශබ්දව |
| කජු කන්නා සේ | - ඉතා පහසුවෙන් |
| හමස් පෙට්ටියට යෑම | - ක්‍රියාත්මක නොවී තිබීම |
| කැලෑ නීතිය | - බලවතා දුබලයා පෙළීම |
| හුඹස් බිය | - අස්ථාන බිය |
| මර ඇඳේ | - අන්තිම අවස්ථාවේ |
| අඟින් කිරි දෙවීම | - නිෂ්ඵල කාර්යයක් කිරීම |
| පටි කැඩුණා | - ගෞරවය කෙලෙසුණා |

අතු කඩා මොර කන්නා සේ
පරංගියා කෝට්ටේ ගියා සේ
දීකිරට බළල්ලුත් සාක්කි ලු

භාෂාවක සජීව බව, ඕජෝ ගුණය පළ කෙරෙන මෙවැනි සාම්ප්‍රදායික යෙදුම් 'ප්‍රස්තාව පිරුළු' නම් වෙයි. ප්‍රස්තාව පිරුළු යන්නෙහි 'ණයට ඉල්ලා ගත් දේ' යන අරුත් ගැබ් වෙයි. ඒ අනුව අතීතයේ විසූ අපේ පැරැන්නන්ගෙන් ණයට ගත් මේ භාෂාත්මක ව්‍යවහාර සමාජයේ විවිධ අවස්ථාවල දී භාවිතයට ගැනේ. කතාවේ දී හා ලේඛනයේ දී අදහසක් වඩාත් රසවත්ව අර්ථවත්ව පළ කිරීම සඳහා ප්‍රස්තාව පිරුළු උදවු වේ.

ප්‍රස්තාව පිරුළු බොහෝ විට ඓතිහාසික සිදුවීමක්, ජනකතාවක්, පුරාවෘත්තයක්, පුද්ගල චරිතයක් හෝ සමාජ සංසිද්ධියක්, සතුන්ගේ චර්යාවක් හෝ පරිසරය නිරීක්ෂණයෙන් දැක්වෙන දෙයක් ඇසුරෙන් උපන් කියමනකි. මේ එබඳු පිරුළු කිහිපයක් හා ඒවා යොදා ගත හැකි අවස්ථා ය.

| පිරුළ | අවස්ථාව |
|---|---|
| වඳින්න ගිය දේවාලේ හිස මත කඩා වැටුණා වගේ | පිහිටක් පතා ගිය තැනින් විපතක් සිදු වීම |
| උපන් ගෙයි සිරිත බලි ඇරියත් යන්නෙ නැති ලු | ජන්මයෙන් ආ දුර්ගුණ ඉවතලිය නො හැකි බව |
| දීකිරට බළල්ලුත් සාක්කි ලු | වාසි පැත්තට කවුරුත් හිතවත්ව කතා කිරීම |
| කැලේට පායපු හඳ වගේ | අගයක් නොමැති වීම |
| එපා වාහෙට හොදි බෙදන්නා වගේ | පිළිකුලෙන් හෝ නො සැලකිල්ලෙන් සැලකීම |
| උඩින් මිතුරු යටින් හතුරු | බොරුවට මිතුරුකම් පෙන්වමින් රහසින් හතුරුකම් කිරීම |
| අතු කඩා මොර කන්නා සේ | අය මාර්ග මුළුමනින් ම විනාශ කර දැමීම |
| ඌරෝ කවද ද කහ කෑවේ? | අධමයන්ට උතුම් දෙයක් පලක් නැතිකම |
| කළුවා මාරපන් ගියා වගේ | අරමුණකින් තොරව වැඩ කිරීම |
| පුංචි අම්මාත් ඇවිත් කැවුම් පුංචි කළා වගේ | විශාල බලාපොරොත්තුවක් ඇතිව සිටිය ද ප්‍රතිඵලය අල්ප වීම. |
| කලක දි වහලු කලක දි රස වෙනවා ලු | කලක් සතුරුව සිටි අය පවා පසුව මිතුරන් වන බව |
| අලි මදිවට හරක් | එක් කරදරයක් පිට තවත් කරදරයක් ඒම |

## යුගල පද

පද දෙකක් එක ළඟ යෙදී තනි අරුතක් ප්‍රකාශ කරන ඉඩ කඩ, අය වැය, කෙළි සෙල්ලම්, වැනි යෙදුම්, යුගල පද ලෙස හැඳින්වේ.

ඇතැම් යුගල පදවල පද යුගල අර්ථයෙන් සමාන වේ.

වාද භේද
ගරු නම්බු
හුරු පුරුදු

ඇතැම් යුගල පදවල පද යුගල අර්ථයෙන් සමාන නොවේ.

යන එන
කන කර
බාල මහලු

ඇතැම් යුගල පදවල එක් පදයක අර්ථය පැහැදිලි නැත. නමුත් එය අනෙක් පදයේ අර්ථය තීව්‍ර කිරීමට ඉවහල් වේ.

ඉඩම් කඩම්
අස් පස්
අග හිඟ

තවත් විවිධ නිර්ණායක පදනම් කරගෙන යුගල පද වර්ගීකරණය කළ හැකි ය. මේවා ලේඛනයක සාරවත් භාවය වර්ධනයට ඉවහල් වන සාම්ප්‍රදායික යෙදුම් විශේෂයකි.

### ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන රූඪිවලින් පළ වන අර්ථය ඉදිරියෙන් ලියන්න.**

i. ඇගේ ලේ වතුර වුණා - ........................................
ii. ඉබාගාතෙ යනවා - ........................................
iii. අබ මල් රේණුවක් වත් - ........................................
iv. අගේ ඉඳන් කන කනවා - ........................................
v. එක පතේ කෑ - ......................................
vi. ඉහ නිකට බලා - ......................................
vii. මුළු සේසත ම - ......................................
viii. දිවෙන් දිව ගා ගෙන - ......................................
ix. අං ඇවිල්ලා - ......................................
x. දඩමීමා කර ගත් - ......................................

2. **පහත දැක්වෙන ප්‍රස්තාව පිරුළුවලින් පළ වන අර්ථය ලියන්න.**

i. නරියාට කුකුල් කොටුව බාර දුන්නා වගේ
ii. කබලෙන් ළිපට වැටුණා වගේ
iii. උණහපුළුවට උගේ පැටියා මැණිකලු
iv. දියකාවගෙ පිටේ ලුණු හැංගුවා වගේ
v. ගහෙන් වැටුණු මිනිහට ගොනා ඇන්නා වගේ

3. **පහත දී ඇති ප්‍රස්තාව පිරුළු යොදා වාක්‍ය තනන්න.**

i. ආඬි හත් දෙනාගෙ කැඳ හැළිය වගේ
ii. හිසරදේට කොට්ටෙ මාරු කරන්නා සේ
iii. වැල යන අතට මැස්ස ගහන්නා සේ
iv. එළ හරකයි මී හරකයි එකට ඇඳුවා වගේ
v. බැඳගත්ත බෙරේ ගහන්න ඕනෑ

4. **පහත දැක්වෙන යුගල පද සම්පූර්ණ කරන්න.**

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | තැගි | .............................. | vi. | තුටු | .............................. |
| ii. | අවි | .............................. | vii. | අරුම | .............................. |
| iii. | උදවු | .............................. | viii. | ගනු | .............................. |
| iv. | ඉඳුම් | .............................. | ix. | ඉහින් | .............................. |
| v. | ලේසි | .............................. | x. | ගමේ | .............................. |

## ප්‍රායෝගික අභ්‍යාස

1. **රූඩී හෙවත් ඉගි වැකි, ප්‍රස්තාව පිරුළු, යුගල පද ඇතුළත් පොත් තුනක් පිළියෙල කරන්න.**

# 5 ආචාර්ය සී.ඩබ්ලිව්.ඩබ්ලිව්. කන්නන්ගර



මනුෂ්‍යයා සත්ත්ව ලෝකයේ සෙසු සාමාජිකයන්ගෙන් වෙන් කරන කරුණු අතුරෙන් වැදගත් කරුණක් වන්නේ තම අත්දැකීම්වලින් මෙන් ම අන්‍යයන්ගේ අත්දැකීම්වලින් ද ඵල ලැබීමේ හැකියාව යි. එක් පරපුරක් ලබන මේ අත්දැකීම් ධාරණය කොට මනාව සංවිධානය කිරීමෙන් අනතුරුව ඊළඟ පරම්පාරාවට භාර දෙනු ලැබේ. ඔවුන් සිය ලෝකය සකස් කර ගන්නේ එසේ උරුම වූ දැනුම මාර්ගයෙනි. සාම්ප්‍රදායික සමාජයන්හි නව දැනුම ලබා ගැනීම සඳහා විවිධ බාධක පැවතිණි. 19 වන සියවසේ පටන් මෙරට නූතන අධ්‍යාපන ආයතන බිහිවීම ඇරඹිණි. ඒවාහි ද යම් යම් සීමා පැවති අතර බාලාංශයේ පටන් විශ්වවිද්‍යාලය තෙක් නොමිලයේ ලබා දෙන අධ්‍යාපන ක්‍රමයක් මෙරට ස්ථාපනය කිරීමේ පුරෝගාමියා වූයේ ආචාර්ය සී. ඩබ්ලිව්. ඩබ්ලිව්. කන්නන්ගර මැතිතුමා ය. ලංකාවේ ප්‍රථම අධ්‍යාපන අමාත්‍යවරයා වූ එතුමා 'නිදහස් අධ්‍යාපනයේ පියා' ලෙස ගෞරවාදරයට ලක් විය.

ගරු සභාපතිතුමනි,

"ගඩොළින් තනා තිබූ රෝම පුරවරයක් තමාට හිමි වුව ද තමා ඒ රෝම පුරවරය කිරිගරුඬවලින් නිම කළ බව මහා ඔගස්ටස් අධිරාජ්‍යයා ස්වකීය විජයග්‍රහණය ගැන ආඩම්බරයෙන් යුතුව පැවසී ය. මිල අධිකව තිබූ අධ්‍යාපනයේ මිල අඩු කළ බවත් වසා තිබූ පොතක් පරිදි අපට දිස් වූ අධ්‍යාපනය විවෘත ලියවිල්ලක් බවට පත් කළ බවත් ධනවතුන්ගේ ප්‍රවේණි උරුමයක්ව පැවති අධ්‍යාපනය දුගී දුප්පතුන්ගේ සදාකාලික උරුමය බවට පැමිණවූ බවත් සාඩම්බරයෙන් පැවසීමට රාජ්‍ය මන්ත්‍රණ සභාවට හැකි වූ විට ඒ ආත්ම වර්ණනාව ඔගස්ටස් අධිරාජ්‍යයාගේ ආත්ම වර්ණනාවට වඩා කෙතරම් ශ්‍රේෂ්ඨ ද?"

රාජ්‍ය මන්ත්‍රණ සභාවේ දී මේ අදහස් පළ කෙළේ ජාතික අධ්‍යාපනයක උරුමය ලාංකේය දරුවන්ට අත් කර දුන් සී. ඩබ්ලිව්. ඩබ්ලිව්. කන්නන්ගර මැතිතුමා ය.

ක්‍රිස්ටෝපර් විලියම් විජේකෝන් කන්නන්ගර උපන්නේ 1884 ඔක්තෝබර් 13 වැනි දා අම්බලන්ගොඩ රන්දොඹේ ගමෙහි ය. ඔහුගේ පියා දොන් ඩැනියෙල් විජේකෝන්

කන්නන්ගර, කළුතර දිස්ත්‍රික්කයේ පස්දුන් කෝරළයට අයත් ලූල්බද්දාවෙහි වැසියෙකි. මව එමලි විජේසිංහ හික්කඩුවේ වැවල වීබඳු වලව්වේ උපත ලැබුවා ය. සහෝදර සහෝදරියන් පස් දෙනකුගෙන් යුත් පවුලේ දෙවැනියා වූ ක්‍රිස්ටෝපර් විලියම් විජේකෝන් දරුවා මූලික අධ්‍යාපනය ලැබුවේ අම්බලන්ගොඩ රන්දොඹේ වෙස්ලියන් උසස් පාසලෙනි.

තමාගේ දොළොස් හැවිරිදි වියෙහි දී පමණ පියාගේ රැකියාව අහිමි වීම නිසා පවුලේ ජීවිකාව ගෙන යෑමට මේ දරුවාට බලවත් අරගලයක් කිරීමට සිදු විය. ෆවුන්ඩේෂන් ශිෂ්‍යත්වය දිනා ගනිමින් ගාල්ලේ රිච්මන්ඩ් විදුහලට ඇතුළු වීමට වරම් ලැබීම ඔහුට 19 වන සියවස අවසාන භාගයේ පරිපූර්ණ හා විධිමත් අධ්‍යාපනයක් ලැබීමට මං පාදන සිදුවීමක් විය.

මෙතෙක් ධනවත් පවුල්වල අයට සීමා වී තිබූ උසස් අධ්‍යාපනය ලැබීමේ අවස්ථාව ක්‍රිස්ටෝපර් විලියම් දරුවාට හිමි වීම ඔහුගේ ජීවිතයේ මෙන් ම ලංකා ඉතිහාසයේ ද ඓතිහාසික සිදුවීමක් විය. දීප්තිමත් ශිෂ්‍යයකු බවට පත් වූ ඔහු රිච්මන්ඩ් විද්‍යාලයේ ත්‍යාග ප්‍රදානෝත්සවයේ දී වැඩි ම ත්‍යාග ගණනක් දිනා ගනිමින් සිය සහජ බුද්ධි මහිමය ප්‍රදර්ශනය කිරීමට සමත් විය.

කේම්බ්‍රිජ් සීනියර් විභාගයට පෙනී සිටි එතුමාට හොඳ ම ශිෂ්‍යයාට ලැබෙන ත්‍යාගය හිමි වූවා පමණක් නො ව, 1902 දී අංක ගණිතය විෂයයෙන් බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයෙන් ම ප්‍රථම ස්ථානය ද හිමි විය. කේම්බ්‍රිජ් ජ්‍යෙෂ්ඨ පාඨශාලා සහතික පත්‍ර (සීනියර්) විභාගය සමත් වූයේ දැවැන්තයන් අතර බුද්ධි සටනට නො බියව මුහුණ දෙමිනි. එතුමාගේ ශාස්ත්‍රධරත්වය විෂය විෂයාන්තර වශයෙන් කැපී පෙනුණේ බාහිර ක්‍රියාකාරකම්හි දක්වන ලද විශිෂ්ටත්වය මත යි. ශිෂ්‍ය අවධියේ දී ක්‍රීඩා, නාට්‍ය, කථික ආදි අංශවලින් දක්වන ලද කුසලතාව ඔහුගේ වැඩිහිටි ජීවිතය විදහා දක්වන්නක් විය.

කන්නන්ගර මහතා තම මවු පාසල වූ රිච්මන්ඩ් විද්‍යාලයෙහි ම ගණිතය පිළිබඳ ගුරුවරයකු ලෙස වෘත්තීය ජීවිතයට ප්‍රවිෂ්ට විය. මොරටුවේ වේල්ස් කුමර විද්‍යාලය, මෙතෝදිස්ත විද්‍යාලය, වෙස්ලි විද්‍යාලය වැනි ප්‍රසිද්ධ පාසල්වල සේවය කළ ක්‍රිස්ටෝපර් විලියම් විජේකෝන් තරුණයා, 1910 දී ශ්‍රේෂ්ඨාධිකරණයේ නීතිඥ සේවයට පිවිසියේ ය. නීතිඥයකු වශයෙන් එතුමා ආරම්භයේ පටන් ම සාර්ථක ලෙස කටයුතු කළ බව පිළිගැනේ.

ඔහු සිංහල, පාලි හා සංස්කෘත යන භාෂාත් බුදු දහමත් හැදෑරීමෙහි නිරත විය. මේ කාර්යාවලිය එතුමාගේ ජාති මාමකත්වය හා දේශප්‍රේමය පිළිබිඹු කරන අවස්ථා සේ සැලකේ.

මේ වන විට දිවයින පුරා පැතිරෙමින් පැවති ජාතික නිදහස් ව්‍යාපාරයේ ක්‍රියාකාරීන් වන ඇෆ්. ආර්. සේනානායක, සර් ඩී. බී. ජයතිලක, ආතර් වී. දියෙස් සහ පියදාස සිරිසේන ආදීන් සමඟ එක් වෙමින් අමද්‍යප ව්‍යාපාරයේ ක්‍රියාකාරී සාමාජිකයකු ලෙස එතුමා ජාතික නිදහස් ව්‍යාපාරයට සම්බන්ධ විය. බ්‍රිතාන්‍ය අධිරාජ්‍යය ඇතුළත වගකීම් සහිත ආණ්ඩු ක්‍රමයක් ලබා ගැනීමේ අරමුණින් 1919 දී පිහිටුවන ලද ලංකා ජාතික සංගමයට සම්බන්ධ වූ කන්නන්ගර මහතා ආරම්භයේ දී සංගමයේ ගාලු ශාඛාවෙහි නියෝජිතයා ලෙස එහි විධායක කාරක සභාවට තෝරා ගන්නා ලදි. 1923 මහා මැතිවරණයෙන් ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවේ ගාල්ල ආසනයෙහි මන්ත්‍රී ධුරය ලබා ගැනීමට හැකි වීම එතුමාගේ දේශපාලන ජීවිතයේ සන්ධිස්ථානයකි. නැවත 1924 දී ද ගාල්ල ආසනයේ මන්ත්‍රී ධුරය දිනා ගැනීමට හෙතෙම සමත් විය. එතැන් සිට 1931 දී රාජ්‍ය මන්ත්‍රණ සභාව විසුරුවා හැරීම තෙක් එතුමා ව්‍යවස්ථාදායක සභාවේ සාමාජිකයෙක් විය. 1930 දී එතුමා

ලංකා ජාතික සංගමයේ සභාපති පදවියට තෝරා ගැනුණු අතර 1947 තෙක් එම පදවියෙහි කටයුතු කළේ ය.

ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවේ යටත්විජිත පාලනය තියුණු විවේචනයකට ලක් කළ අය අතර එතුමා ප්‍රමුඛයෙකි. අදහස් අර්ථවත්ව හා තාර්කිකව ඉදිරිපත් කිරීම හේතු කොට ආණ්ඩුකාරයා පවා ඒවාට ගරු කළ බව සඳහන් වේ.

කන්නන්ගර මැතිතුමාගෙන් මෙරටට ඉටු වූ විශිෂ්ටතම සේවය නිදහස් අධ්‍යාපන ක්‍රමය බව අවිවාදාත්මක ය. එහි මූලික අරමුණ වූයේ රජයේ පරිපාලනයට යටත් පොදු අධ්‍යාපන ක්‍රමයක් පිහිටුවා ගැනීම ය. එමගින් අධ්‍යාපනයේ දොරටු සියලු දෙනාට විවෘත කර දිය හැකි විය. 1944 මැයි 30 දින රාජ්‍ය මන්ත්‍රණ සභාවට ඉදිරිපත් කළ අධ්‍යාපන සංශෝධන පනත 1945 ඔක්තෝබර් මස 01 දින යථාර්ථයක් බවට පත් විය. එදින එතුමා කළ කතාව එතුමාගේ සමාජ ජීවිතය තුළ කරන ලද ශ්‍රේෂ්ඨතම කතාව ලෙස පිළිගැනේ. එම කතාවට සවන් දී සිටි ඉන්දීය රජයේ නියෝජිතයා වූ ඇම්. ඇස්. අනී මහතා එතුමා දෑතින් අල්ලා ගෙන පැවසුවේ “ඔබ ඉන්දියාවේ සිටියේ නම් දෙවියකු සේ සලකා වන්දනා කරනු ඇත” යනුවෙනි. අපේ සිංහලයකු පිළිබඳ විදේශිකයකුගේ මුවින් ගිලිහුණු එම ප්‍රකාශයෙන් හෙළි වන්නේ කන්නන්ගර චරිතය කෙතරම් ශ්‍රේෂ්ඨ ද යන්න නො වේ ද?

පවත්නා ක්‍රමයේ ඇති අඩු ලුහුඬුකම්, අසමානතා හා අයුක්ති ඉවත් කරමින් සමාජ, ආර්ථික, ආගමික හා වාර්ගික ආදි කිසිදු භේදයකින් තොරව සෑම ළමයකුට ම සම අවස්ථා සැපයීම සඳහා උපයෝගි කර ගත හැකි අධ්‍යාපන ක්‍රමයක් පුළුල් දර්ශනයක් පාදක කොට සකස් කිරීමේ අවශ්‍යතාව මතු වී තිබුණි.

“යටත්විජිත පාලකයන් විසින් ඔවුන්ගේ පාසල් මගින් අපගේ ආගමට, සංස්කෘතියට හා සිරිත්විරිත්වලට අතිශයින් හානිකර වූ ද මේ රටට සම්පූර්ණයෙන් ම පරිබාහිර වූ ද අපගේ දේශීය බුද්ධියට හා දෘෂ්ටියට නො ගැළපෙන වැඩපිළිවෙළක් එම ජනතාව අතර බලහත්කාරයෙන් පටවනු ලැබ ඇත.”

එතුමාගේ මෙම ප්‍රකාශය එවකට පැවති අධ්‍යාපන ක්‍රමය මගින් දේශීයත්වය කෙරේ කරන ලද බලපෑම හා පීඩනය කෙතරම් ද යන්නට සාධක සපයයි. මෙහි දී එතුමාගේ දර්ශනය ජාතික අවශ්‍යතාව සහ දේශීය ප්‍රතිපත්ති සම්පාදනය කෙරේ කෙතරම් කැප වීමකට යොමු කර තිබුණා ද යන්න පැහැදිලි ය.

එතුමාගේ අධ්‍යාපන ප්‍රතිසංස්කරණ යෝජනා අතර,

- **සියලු ම දරුවන්ට හොඳ අධ්‍යාපනයක් නොමිලයේ දීම**
- **ග්‍රාමීය පාසල් රාශියක් බිහි කිරීම**
- **අධ්‍යාපනය සියලු ගාස්තුවලින් නිදහස් කිරීම**
- **ඉංග්‍රීසි පාසල්වල මවුබස භාවිතයට අනුබල දීම**
- **ශාස්ත්‍රීය හා වෘත්තීය විෂය ධාරාවලින් යුත් මධ්‍ය විද්‍යාල රැසක් පිහිටුවීම**
- **අධ්‍යාපන චින්තාවලිය තුළ ආහාර නිෂ්පාදනයට උපරිම අවධානයක් යෙදීම**

යන අංග විශේෂ වැදගත්කමක් උසුලයි. විවිධ බලවේගයන්ගෙන් නිදහස් අධ්‍යාපන ක්‍රමයට එල්ල වූ දැඩි විරුද්ධවාදීකම්වලට මුහුණ දීමට ආචාර්ය කන්නන්ගර මහතාට සිදු විය. නිදහස් අධ්‍යාපනය කඩාකප්පල් කිරීම සඳහා විවිධ පාර්ශ්ව ඉදිරිපත් වූයේ ය. එහෙත්

එතුමා නිර්භීතව සියල්ලට මුහුණ දුන්නේ ය. නිදහස් අධ්‍යාපනය වෙනුවෙන් ප්‍රබල වූත්, සංවේදී වූත් ව්‍යාපාරයක් රට පුරා ගෙන යෑමට එතුමාට සිදු විය.

1931 සිට 1947 දක්වා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ පූර්ණ කාලය තුළ ම අධ්‍යාපන ඇමතිවරයා ලෙස එතුමා සේවය කළේ ය. අධ්‍යාපන ඇමතිවරයා ලෙස අධ්‍යාපන ක්ෂේත්‍රය තුළ ඉතා වටිනා වෙනස්කම් රැසක් ඇති කිරීමට කටයුතු කෙළේ ය. ස්වභාෂා පාසලේ ඉංග්‍රීසි ඉගැන්වීම හා ඉංග්‍රීසි මාධ්‍ය පාසල්හි සිංහල හෝ දෙමළ ඉගැන්වීම අනිවාර්ය කිරීම ඉන් එක් පියවරකි. හොඳ පාසල් ගමට ගෙන ඒමේ අරමුණින් එක් ඡන්දදායක දිස්ත්‍රික්කයක එක බැගින් මධ්‍ය මහා විද්‍යාල පිහිටුවීම නිදහස් අධ්‍යාපන ක්‍රමයේ ප්‍රතිඵලයකි. එමගින් වඩාත් ප්‍රතිලාභ සැලසුණේ ග්‍රාමීය සිසුන්ට යි. මධ්‍ය විද්‍යාලවලට පිවිස ඉගෙනුම ලැබූ දරුවෝ විශ්වවිද්‍යාලය තෙක් නිදහස් අධ්‍යාපනය ලැබීමේ අයිතියේ උපරිම ඵල භුක්ති වින්දෝ ය. ග්‍රාමීය ප්‍රදේශයන්හි දක්ෂ දරුවන්ට සමාජයේ ඉහළ ස්තරවලට සම්ප්‍රාප්ත වීමේ හිණි පත වූයේ මධ්‍ය මහා විද්‍යාල යි. දුප්පත් ශිෂ්‍යයන් සඳහා විශ්වවිද්‍යාලය තෙක් අධ්‍යාපනය ලබා ගැනීමට ආධාර දෙන ශිෂ්‍යත්ව ක්‍රමයක් ද ආරම්භ කෙරිණි. මූලික අධ්‍යාපනයේ සිට විශ්වවිද්‍යාල අධ්‍යාපනය දක්වා ම නොමිලයේ ලැබීමත් සමග එතෙක් ධනය හා වරප්‍රසාද හිමි කොටස්වලට සීමා වී තිබූ උසස් අධ්‍යාපනයේ දොරටු පොදු ජනයාට ද විවෘත විය.

අධ්‍යාපන ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක කිරීමේ මුල් සාධකය ගුරුවරුන් බව පිළිගත් එතුමා යහපත්, කැප වූ දක්ෂ ගුරු පරපුරක් ඇති කිරීමේ ලා පුරෝගාමී විය. උපකෘත පාසල්වල ගුරුවරුන්ට සෘජුව ම වැටුප් ගෙවීම ආරම්භ කිරීම මෙන් ම විවිධ වූ අධ්‍යාපන පටිපාටිවලට අනුගතව ඉතා කාර්යක්ෂම ලෙස ගුරුවරුන් විශාල ප්‍රමාණයකින් පුහුණු කිරීම නිදහස් අධ්‍යාපන ක්‍රමයේ සාර්ථකත්වය තහවුරු කිරීමකි. මේ සඳහා නව මාදිලියේ ගුරු අධ්‍යාපන විද්‍යාල පිහිටු වන ලදි. ගුරුවරුන්ට පුහුණුවක් නො ව අධ්‍යාපනයක් ම ලබා දීම එහි පරමාර්ථය විය. පාසල් දරුවන් සඳහා දිවා ආහාරය සැපයීම ද ශිෂ්‍යයන්ගේ කායික හා මානසික වර්ධනයත් සෞඛ්‍ය තත්ත්වයත් නගා සිටුවීමට ගන්නා ලද ක්‍රියා මාර්ගයකි. පාසල් අධ්‍යාපනය මෙන් ම පිරිවෙන් අධ්‍යාපනය දියුණු කිරීම පිළිබඳ ගෞරවය ද එතුමාට හිමි විය යුතු ය.

පාසල් අධ්‍යාපනයට ගෘහ කර්මාන්ත හා ග්‍රාමීය වෘත්තීය අධ්‍යාපන ක්‍රම ඇතුළත් කිරීම රැකියා අංශයට පිළියමක් ලෙස බලපෑවේ ය. මෙය හුදු අත්කම් ඉගැන්වීමක් නො ව ශිෂ්‍යයාගේ නිර්මාණශීලි භාවය අවදි කිරීමක් ද විය. වෘත්තීය විෂයන්ට අමතරව ගුරුවරුන්ට සංගීතය, නාට්‍යය හා නැටුම් කලාව ඉගැන්වීම කෙරෙහි ද අවධානය යොමු කරන ලදි. ඒවා ද හුදු විනෝදාස්වාදය නොව අධ්‍යාපනික වටිනාකමක් ඇති විෂය බවට මෙමගින් පිළිගැනීමක් ඇති විය.

අවුරුදු හතළිහක් ක්‍රියාකාරී දේශපාලනයෙහි ද අවුරුදු විසි අටක් ව්‍යවස්ථාදායකයෙහි මන්ත්‍රීවරයකුව ද අවුරුදු විස්සකට වැඩි කලක් අමාත්‍යවරයකු ලෙස ද කන්නන්ගර මහතා කළ සේවය ලංකා ඉතිහාසයේ විශේෂ වැදගත්කමක් සහිත පරිච්ඡේදයකි. 1923 දී දේශපාලනයට පිවිසියේ සැලකිය යුතු ධනයක් ඇති පුද්ගලයකු ලෙස වුව ද දේශපාලනයෙන් සමු ගන්නා විට කන්නන්ගර මහතාට කිසිදු ආදායම් මාර්ගයක් නො තිබුණි. මෙය එතුමා අවංක දේශපාලනඥයකු බව කියා පාන සාධකයකි. එතුමාගේ ජීවිතයේ අවසන් කාලය ගත කළේ රජයෙන් ලැබුණ ආධාර මුදලකිනි. අවුරුදු 85ක් දිවි ගෙවූ එතුමා 1969 සැප්තැම්බර් 23 දින දිවංගත විය.

නිදහස් අධ්‍යාපන ක්‍රමය හඳුන්වා දීමෙන් පසුවත් දිවයිනේ අධ්‍යාපන ප්‍රතිසංස්කරණ ගණනාවක් සිදු විය. සියලු ම පාසල් රජයේ පාලනයට ගැනීම ඒ අතරින් ප්‍රධානතම වූවකි. අධ්‍යාපනය දියුණු කිරීමට පොත් පත් සහ අනිකුත් පහසුකම් සුලබ කිරීමත් රටේ සමාජ සංස්කෘතික පදනම මෙන් ම වෙනස් වන ලෝක අවශ්‍යතා ද අනුව විෂය නිර්දේශ සකස් කිරීම හා නව ඉගැන්වීම් ක්‍රම හඳුන්වා දීමත් මගින් එය ඉදිරියට ගමන් කරයි. මේ අධ්‍යාපන ප්‍රගතිය පසුබිමෙහි සිටින දැවැන්ත හෙවණැල්ල කන්නන්ගර මහතා ය. නිදහස් අධ්‍යාපනයේ ප්‍රතිඵල භුක්ති විඳින සෑම පුරවැසියෙක් ම එතුමාට ණයගැති වෙයි.

## අවබෝධය

1. සී.ඩබ්ලිව්.ඩබ්ලිව්. කන්නන්ගර මැතිතුමා ජනතාව අතර ජනප්‍රිය වූයේ කවර ගෞරවාන්විත නාමයකින් ද?
2. එතුම ලංකා ජනතාවට ලබා දුන් දායාදය ලෙස සැලකෙන්නේ කුමක් ද?
3. එතුමාගේ චරිතය ඇසුරෙන් ඔබට ගත හැකි ආදර්ශ දෙකක් නම් කරන්න.
4. එතුමා අධ්‍යාපන ක්ෂේත්‍රය තුළ ඇති කළ වෙනස්කම් තුනක් නම් කරන්න.
5. නිදහස් අධ්‍යාපන පනත ක්‍රියාත්මක වීමෙන් පසුව අධ්‍යාපන ප්‍රතිසංස්කරණවල දී සිදු වූ විශේෂ වෙනස්කම් මොනවා ද?

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පදවල අර්ථ ලියන්න.**

   i. ජාති හිතෛෂී -
   ii. පරිවර්තනය -
   iii. කෞශල්‍යය -
   iv. ශාස්ත්‍රධරත්වය -
   v. ස්වාධීනත්වය -

2. **පහත දී ඇති වචන සඳහා සමාන වචන පාඩමෙන් සොයා ලියන්න.**

   i. උත්සාහවන්ත -
   ii. උතුම් -
   iii. පිළිවෙත් -
   iv. චරිතයක් -
   v. ද්වාර -
   vi. පිළිවෙළ -
   vii. දිළිඳු -

1. **මෙම පාඩම නිශ්ශබ්දව කියවන්න.**
2. **'මිල කළ නො හැකි මුතු ඇටය' යන නමින් හැඳින්වෙන නිදහස් අධ්‍යාපන ක්‍රමය පිළිබඳව පාසලේ උදය රැස්වීමේ දී කථාවක් කරන්න.**
3. **'නිදහස් අධ්‍යාපනයේ වැදගත්කම' යන මැයෙන් රචනයක් ලියන්න.**
4. **ලංකාවේ තවත් මෙවැනි ශ්‍රේෂ්ඨ චරිත පිළිබඳ කරුණු එක්රැස් කරන්න.**

## ආශ්‍රිත ග්‍රන්ථ


- ⋆ අධ්‍යාපන ප්‍රතිසංස්කරණවල නොනිමි කර්තව්‍යය (2011)
  ජාතික අධ්‍යාපන ආයතනය
- ⋆ ලංකාවේ අධ්‍යාපනය - සියවස ප්‍රකාශනය, 2 කාණ්ඩය (1969)
- ⋆ ශ්‍රී ලංකාවේ අධ්‍යාපන ඉතිහාසය (1796 - 1965)
  කේ. එච්. එම්. සුමතිපාල (පළමු මුද්‍රණය 1993)

# 6 මං තනන්නෝ

19 වන ශත වර්ෂයේ මැද භාගයේ දී පමණ ආරම්භ වූ 'කෙටිකතාව' නමැති සාහිත්‍යාංගය අද වන විට පෙර'පර දෙදිග ම අතු ඉති ලා වැඩුණු ප්‍රබල කලා මාධ්‍යයක් බවට පත්ව තිබේ.



කෙටිකතාව නමැති සාහිත්‍යාංගයට අනන්‍ය වූ ලක්ෂණ කිහිපයක් හඳුනා ගැනීමටත්, කෙටිකතාවක් යනු කුමක් ද යන්න සරලව පැහැදිලි කර ගැනීමටත් ඔබට මඟ පෙන්වීම මේ පාඩමේ අරමුණ යි.

මෙහි පළ වන 'මං තනන්නෝ' කෙටිකතාව මහගම සේකර (1924-1976) විසින් රචිත ය. කවියකු, චිත්‍ර ශිල්පියකු, නවකතාකරුවකු හා සාහිත්‍ය විචාරකයකු වන මහගම සේකරගේ මේ කෙටිකතාව සරල සිද්ධියක් හා එක් ප්‍රධාන චරිතයක් අනාවරණය කරන නිර්මාණයක් සේ හැඳින්විය හැකි ය.

නගර සභාවේ කම්කරුවෝ ඇවිත් පාර සුද්ද කරති. පාර දෙපස කානු ගොඩ වී වල් පැළෑටි වැවී ඇත. එක් කම්කරුවෙක් ඒ වල් පැළෑටි ද පාරට නැමුණු ගස් අතු ද කපා දමයි. තවෙකෙක් එසේ කපා දමන අතු රිකිලි අසල නවත්වා ඇති කරත්තයට ගෙන ගොස් දමයි. තවත් දෙදෙනෙක් කානු හාරමින් ඒ පස් දමා පාර දෙපස ගොඩ කරති. එසේ පස් දමා ඇති කොටසේ පාර බොහෝ සෙයින් පළල් වී ඇත්තාක් මෙන් පෙනේ. ඔවුහු උස් හඬින් කතාබහ කරමින් කඩිසර ලෙස වැඩෙහි යෙදී සිටිති. කරත්තයේ බැඳ සිටින ගොනා පමණක් සෙමෙන් සෙමෙන් තලුමරමින් ඔහේ කරබා ගෙන සිටී.

මහේන්ද්‍ර ඉස්තෝප්පුවේ හාන්සි පුටුවෙහි වාඩි වී බොහෝ වේලාවක් ඔවුන් දෙස බලා සිටියේ ය. ඔහු පොතකුත් රැගෙන ඉස්තෝප්පුවට ආවේ එය කියවීමට සිතා ගෙන ය. හෙට පන්තියේ දී පැවැත්විය යුතු දේශනයට සූදානම් වීම සඳහා අද අවශ්‍යයෙන් ම මේ පොත කියවිය යුතු ය. පොත මඳක් කියවන විට පාරේ වැඩ කරන මිනිසුන් කෙරෙන් සිනා හඬක් ඇසුණෙන් ඔහු පොත වසා දමා එදෙස බැලී ය. සිනාවට හේතුව මහේන්ද්‍රට වටහා ගත නො හැකි විය. එය ඔවුන්ගෙන් කිසිවකු කළ විහිළුවක් වීමට පුළුවන.

"හරියට වතුර තිබහයි. යමු ද තේ එකක් බීලා එන්ඩ?" පාර කපන්නන්ගෙන් එකෙක් යෝජනා කළේ ය.

"මේ ටිකත් කපල ම යමු" එවිට අනෙකා කී ය.

ගිනි අව්වේ පිච්චි පිච්චී වැඩ කරන මේ මිනිසුන් කෙරෙහි භක්තියක් මහේන්ද්‍රට ඇති විය. මාසයකින් පමණ වැස්සක් නො වට හෙයින් පස හොඳට ම තද වෙලා ය. පසේ තදකම උදලු පහර පොළොවේ වදින හඬින් ම දැනේ. සුළු වැටුපක් ලබා ගැනීම සඳහා මේ මිනිසුන් කොතරම් වෙහෙස විය යුතු ද? ඔවුන්ට ලැබෙතැයි සිතිය හැකි වැටුප ගැන මහේන්ද්‍ර සිතා බැලුවේ ය. කිසි සේත් කය නො වෙහෙසන තමාට ඔවුන්ගේ මෙන් හත්අට ගුණයක වැටුපක් ලැබෙතැයි ඔහුට සිතුණේ ය.

මිනිසුන් වැඩ කරන තැනට යාමට ආසාවක් මහේන්ද්‍රට උපන්නේ ය. ඔහු පොත හකුළා හාන්සි පුටු අත මත තබා මිදුලට බැස්සේ ය.

"තාත්තේ මාත්..." සාලයේ යසෝමා අසල සිටි විමල්, මහේන්ද්‍ර මිදුලට බසිනු  දැක ඔහු දෙසට එන්නට විය.

"පුතත් එනව ද...? හා එන්ඩ එහෙනං" මහෙන්ද්‍ර මඳක් නැවතුණි.

"ඔයා කොහෙ ද යන්නෙ ඇ?" යසෝමා ඉස්තෝප්පුවට කර පොවා බලා ඇසුවා ය.

"කොහෙවත් නෑ... මෙතන පාරට."

"පුතත් එක්ක යනව නම් ඉන්ඩ, සපත්තු දෙක දානකල්..." යසෝමා කීවා ය.

"විමල්... එන්ඩ පුතේ සපත්තු දාන්ඩ."

මහේන්ද්‍ර විමල්ගේ අතින් අල්ලාගෙන ඔහුත් සමග මිනිසුන් වැඩ කරන තැනට ගියේ ය.

කම්කරුවන්ගේ පිටේත්, දැතේ රෝම්බු ගස්වලත් රැඳුණු දහදිය බින්දු හිරු රැස් වැටී දිලිහෙයි. ඔවුන්ගේ අත්වල හා ළමැද මස් පිඬු මනා සේ කැපී පෙනෙයි. මහේන්ද්‍ර තමාගේත් ඔවුන්ගේත් දැත් සසඳා බැලී ය. තම සුකුමාරකම ගැන ලැජ්ජාවක් මහේන්ද්‍රට ඇති විය.

"මේ මිනිස්සු තමයි මහ පොළොවෙ නියම පුත්තු..." මහේන්ද්‍ර තමාට ම කියා ගත්තේ ය. "අපි නෙමෙයි."

මහේන්ද්‍රගේ පැමිණීමෙන් පසු කම්කරුවෝ කතාව නවත්වා කරබා ගෙන වැඩ කිරීමට පටන් ගත්හ. ඔවුන් නිහඬව සිටීම මහේන්ද්‍රගේ සිතට කරදරයක් විය.

"පොළොව හරි තදයි වගේ" ඒ නිශ්ශබ්දතාව බිඳ දමා ඔවුන් සමග කතාවට වැටෙන අටියෙන් මහේන්ද්‍ර කී ය.

"තදයි කිව්වට තදයි නෙමෙයි සර්" එක් මිනිහෙක් මහේන්ද්‍ර දෙස බලා උදැල්ල පසෙක තබමින් කී ය.

"බොරලු පොළොවනෙ... වහින කාලෙට හොඳට ම බුරුල්. පායන කාලෙට හොඳට ම තදයි."

"සර්ලා ළඟදි නේ ද මේ ගෙදෙට්ට ආවේ?" ඔහු ඇසී ය.

"ගිය මාසෙ" මහේන්ද්‍ර උත්තර දුන්නේ ය. "අපි ඉස්සර හිටියෙ කුරුණෑගල."

"බබා... කොහොම ද බබා?" ඊ ළඟට ඔහුගේ අවධානය විමල් කෙරේ යොමු විය. "බබාට මලක් කඩලා දෙන්ඩ ද?" ඔහු අසල පිහිටි වද පඳුරකින් රත් පැහැති මලක් කඩා ගෙන විමල් දෙසට දිගු කළේ ය.

විමල් පියා දෙස බැලුවේ ය. "ගන්ඩ පුතා" මහේන්ද්‍ර කී ය. විමල් මල අතට ගත්තේ ය. පාරේ වැඩ කරන කම්කරුවන් සමග තමා ආධ්‍යාත්මික වශයෙන් එකතු වූවාක් මෙන් මහේන්ද්‍රට හැඟුණේ ය. කය වෙහෙසා වැඩ කරන මොවුහු ද රටට විශාල සේවයක් කරති. මොවුන් කපන පාර මහේන්ද්‍රට සංකේතයක් ද විය. එය සෞභාග්‍යය හා සහෝදරත්වය කරා යන මාවතේ සංකේතය යි. තමා සෙරෙප්පු කුට්ටමක් පය ලා සිටීම ගැන ලැජ්ජාවක් මහේන්ද්‍රට ඇති විය. මොවුහු තමා මෙන් මහ පොළොව අපවිත්‍ර දෙයක් කොට නො සලකති.

දහදිය වගුරුවා ගෙන දූලි, පස් ගත වකා ගෙන මොවුන් සමග එක් වී පොළොව කොටන්නට බලවත් ආසාවක් මහේන්ද්‍රට ඇති විය. එහෙත් ඔහුගේ සමාජ තත්ත්වය ඊට බාධාවක් විය. එසේ කළ හොත් අවට ගෙවල පදිංචිකරුවන් තමා පිස්සකු කොට සලකනු ඇතැ යි මහේන්ද්‍රට සිතුණේ ය. "අර මහත්තයා කොහෙ ද ලොකු රස්සාවක් කරන කෙනෙක් කිව්ව නේ ද? අර මිනිස්සුත් එක්ක එක්කහු වෙලා පාර හදන්නෙ. මොළේ හොඳ නැතුව ඇති" අවට ගෙවල අයට පමණක් නො ව, මේ කම්කරුවන්ට ද එය පුදුමයක් වනු ඇත. එබැවින් මහේන්ද්‍ර ඒ ආසාව යටපත් කර ගත්තේ ය.

අනුන්ගේ සමච්චලයට භාජන නො වී මේ වැඩට ද හවුල් විය හැකි ක්‍රමයක් ගැන මහේන්ද්‍ර සිතා බැලුවේ ය. ඔහු පිහියක් අතට ගෙන පාරට නැමී තිබුණු කුඩා අතු රිකිලි කපන්නට විය. ඔහු එය කළේ තමා විනෝදයට සෙල්ලමක් කරන විලාසයක් අවට සිටියවුන්ට හැඟෙන පරිදි ය. එහෙත් මහේන්ද්‍රට එය විනෝද ක්‍රීඩාවක් පමණක් නො ව, නියම වැඩක් නොහොත් නියම වැඩක සංකේතයක් ද විය. පාරට නැමුණු අතු කපා දැමීමෙන් තමා ද සුළු වශයෙන් හෝ මේ මිනිසුන්ගේ වැඩට හවුල් වෙතැයි මහේන්ද්‍රට සිතුණේ ය.

එක් අත්තක මඳු වැල් ගාලක් පැටලී තිබෙනු දුටු මහේන්ද්‍රට තවත් අදහසක් පහළ විය. ඔහු මදු වැල් ගොන්න කඩා අතට ගෙන අනිත් අතින් විමල් ද වඩා ගෙන කරත්තයේ බැඳ සිටි ගොනාට සමීප විය.

"මේ ගොනා අනිනව ද?" ඔහු කම්කරුවන්ගෙන් ඇසුවේ ය.

"නෑ."

මහේන්ද්‍ර දරුවා වඩා ගත් වන ම මදුවැල් ගොන්න ගොනාගේ මුවට ළං කළේ ය.

"අපි මේ තැත්තට කන්න දෙමු පුතේ... ඈ...?"

ගොනා ආසාවෙන් මදු වැල් කන්නට විය. පාරේ වැඩ කරන අයට තමා සංග්‍රහයක් කළාක් මෙන් මහේන්ද්‍රට හැඟුණේ ය.

ගොනා මදුවැල් කන හැටි විමල් උනන්දුවෙන් බලා සිටියේ ය. මහේන්ද්‍ර ගොනාගේ හිස අත ගාන්නට විය.

යසෝමා ඉස්තෝප්පුවට පැමිණ මහේන්ද්‍රට අඬ ගැසුවා ය. "මේ... මෙහෙ ඇවිත් යන්ඩකෝ..."

"තේ ලෑස්තියි" ඈ තමා වෙත පැමිණි මහේන්ද්‍රට පහත් හඬින් කීවා ය.

මහේන්ද්‍ර තලගුලිත් කෙසෙල් ගෙඩිත් කා තේ බීවේ ය. පාරේ වැඩ කරන කම්කරුවන් ඔහුට මතක් විය.

"අර මිනිස්සුන්ටත් වතුර තිබහ ඇති. තේ ටිකක් දුන්නොත් නරක ද?" මහේන්ද්‍ර යසෝමා දෙස බලා කීවේ ය.

"ඒ මිනිස්සු කඩේට ගිහිං බොන්නැතෑ" යසෝමා සිනාසෙමින් කීවා ය. "මේ අහල පහල ගෙවල්වල කවුරුවත් එහෙම දෙන සිරිතක් නෑ."

මහේන්ද්‍ර තේ බී ඉස්තෝප්පුවට ආවේ ය.

පාරේ වැඩ කළ කම්කරුවෝ උදලු, කැති ආදි උපකරණ ගෙනවුත් මහේන්ද්‍රගේ මිදුලේ පසෙක තැබූහ. "අපි කඩේට ගිහින් එන්නං සර්" ඔවුන්ගෙන් එකෙක් කීවේ ය.

"හොඳයි" මහේන්ද්‍ර ඔවුන් දෙස බලා සිනා මුසු මුහුණින් කී ය. කම්කරුවන් උස් හඬින් කතා කරමින් වංගුව හැරී නොපෙනී යන තුරු මහේන්ද්‍ර ඔවුන් දෙස බලා සිටියේ ය.

**(නව යුගය - 1972/11/12)**

කෙටිකතාව නවකතාවෙන් වෙනස් ය. එහෙත් මේ කතා වර්ග දෙක ම ප්‍රබන්ධ කරන ලද කතා ය.

කෙටිකතාවක් යනු එක් ප්‍රබල සිද්ධියක් වටා ගෙතෙන කතා ය. 'මං තනන්නෝ' කෙටිකතාව රචනා වී ඇත්තේ කම්කරුවන් පිරිසක් පාරක් සකස් කිරීම පිළිබඳ සිද්ධියකි. ඒ සිදුවීම විකාසනය කිරීමෙන් රසවත් කෙටිකතාවක් නිර්මාණය කර ගෙන තිබෙනු දැකිය හැකි ය. මෙම කෙටිකතාව එම කේන්ද්‍රීය සිද්ධිය වටා මනා වියමනක් සේ සියුම්ව ගෙතී ඇත.

කෙටිකතාවක චරිත කිහිපයක් තිබිය හැකි ය. එහෙත් ප්‍රධාන චරිත කිහිපයක් තිබිය නො හැකි ය. හොඳ කෙටිකතාවක ප්‍රධාන චරිත තිබිය හැකි වන්නේ එකක් පමණි. මං තනන්නෝ කෙටිකතාවේ ප්‍රධාන චරිතය මහේන්ද්‍ර යි. ඔහුගේ බිරිඳ, කුඩා පුතා, සහ කම්කරුවෝ අවශේෂ චරිත යි. නමුත් අනෙකුත් චරිත ප්‍රධාන නො වී ප්‍රධාන චරිතය බැබළවීමට එම චරිත උදව් වෙයි.

කෙටිකතාවක් යනු සත්‍ය කතාවක් නො වේ. එය කල්පිත හෙවත් සිතින් මවා ගෙන ගොඩ නගන ලද කථාවකි. එහෙත් එම කතාවට පාදක වන්නේ නිර්මාණකරුවා ලත් සැබෑ අත්දැකීමක් විය හැකි ය. අත්දැකීමක් එලෙස ම ලියූ කල එය නිර්මාණයක් වන්නේ නැත. රචකයා තම පරිකල්පනය මෙහෙයවා තමා ලත් අත්දැකීම ප්‍රතිනිර්මාණය කරයි.

කතන්දරයක් නම් මුල, මැද, අග මනා සේ ගැළපිය යුතු ය. ඔබ දන්නා ජන කතාවක් හෝ සුරංගනා කතාවක් සිහියට නගා ගන්න. "ඔන්න එකෝමත් එක කාලෙක..." ආදි වශයෙන් ඇරඹී සිද්ධි හා අවස්ථා සිදු වූ අනුපිළිවෙළින් කියා, කතාව හමාර කරනු දක්නට ලැබේ. එහෙත් කෙටිකතාවක තිබිය යුත්තේ මනා හේතුඵල සම්බන්ධතාවක් මත ගොඩ නැඟුණු කතා වින්‍යාසයකි. එය කතාවක් නො වේ. "වැද්දා බිසව හැර ගියේ ය. ඉන් පසු බිසව මළා ය" යනු කතාවකි. "වැද්දා බිසව හැර ගියේ ය. ඒ ශෝකය දරා ගත නො හැකි ව බිසව මළා ය" යනු කථා වින්‍යාසයකි. එහි බිසව මිය යෑමට හේතුව පාඨකයාට පැහැදිලි ය. කෙටිකතාවක් ද මෙපරිද්දෙන් මනාව සැකසුණු කතා වින්‍යාසයකින් යුක්ත විය යුතු ය. එවිට කෙටිකතාව කෙරෙහි පාඨක විශ්වාසය නො බිඳී පවතියි.

'මං තනන්නෝ' කෙටිකතාවේ එන මහේන්ද්‍ර ඉස්තෝප්පුවේ හාන්සි පුටුවට ආවේ පොතක් කියවීමට යි. එහෙත් පාරේ වැඩ කරන කම්කරුවන්ගේ සිනා හඬින් අවධානය බිඳීම නිසා ඔහු පොත වසා දමා එදෙස බලයි. මහේන්ද්‍රට ඔවුන්ගේ කතාබහ ඇසෙන්නේ එවිට ය. මේ ආදි වශයෙන් මං තනන්නෝ කෙටිකතාවේ සිද්ධි මනාව එකිනෙකා ගළපා ඇත්තේ පාඨක විශ්වාසය නො බිඳෙන පරිද්දෙනි.

කෙටිකතාවක් කියවීමෙන් පාඨකයාට ආස්වාදයක්, විනෝදයක් ලැබේ. එහෙත් හොඳ කෙටිකතාවකින් පාඨකයාට සතුටට අමතරව ගැඹුරු ප්‍රඥාවක් ලැබේ. එය ජීවිතය පිළිබඳ ලබන අවබෝධයකි. 'මං තනන්නෝ' කෙටිකතාවේ මතුපිටින් දිවෙන ආස්වාදයට යටින් මනුෂ්‍යත්වය පිළිබඳව මානව දයාව පිළිබඳව පන්ති පරතරය පිළිබඳව ගැඹුරු අරුත් සම්පාදනය වෙයි.

කතාව රසවත් ව කීමට සංකේත යොදා ගැනීමට කෙටිකතාකරුවාට පුළුවන. කෙටිකතාව සංක්ෂිප්ත මාධ්‍යයක් බැවින් සංක්ෂිප්තතාව රැකීම උදෙසා ද සංකේතවලින් මහඟු පිටිවහලක් ලැබේ. වචන දහස් ගණනකින් කිව යුතු දෙයක් එක් ප්‍රබල සංකේතයකින් කිව හැකි ය.

"කරත්තයේ බැඳ සිටින ගොනා පමණක් සෙමෙන් සෙමෙන් තලු මරමින් ඔහේ කරබා ගෙන සිටී" යනුවෙන් 'මං තනන්නෝ' කෙටිකතාවේ සඳහන් ප්‍රකාශයෙහි 'කරත්තයේ බැඳි ගොනා' සංකේතයකි. නිර්ධන පන්තික දුක් විඳින මිනිසා කරත්තයක බැඳි ගොනෙකු සේ ය. ඔහුට ගැලවීමක් නැත. කරබා ගෙන බර ඇදිය යුතු ය. මෙපරිද්දෙන් එම සංකේතය අවැසි තරම් දිග්ගස්සා වචන බොහෝ ගණනකින් අර්ථ ගැන්විය හැකි ය.

මෙබඳු ලක්ෂණ අන්තර්ගත කතාවක් සාර්ථක කෙටිකතාවක් ලෙස හැඳින්විය හැකි ය. සාර්ථක කෙටිකතාවක් නිර්මාණය කිරීම ආකස්මිකව කළ හැකි දෙයක් නො වේ. ඒ සඳහා නිරන්තරයෙන් පුහුණු වීම හෙවත් සතතාභ්‍යාසය අවශ්‍ය ය; විශිෂ්ට ගණයේ කෙටිකතාකරුවන්ගේ නිර්මාණ කියවා රස විඳිය යුතු ය; කෙටිකතාව සම්බන්ධයෙන් ලියැවුණු පොත පත, විචාර ග්‍රන්ථ පරිශීලනය කළ යුතු ය. මේ සියලු කාරණා එක්තැන් වූ කල අවසන උත්තම ගණයේ නිර්මාණයක හිමිකරුවකු වීමට ඔබට ද හැකි වනු ඇත.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| ප්‍රතිභාව | - | අපූර්ව වස්තුවක් නිර්මාණය කිරීමේ හැකියාව |
| ප්‍රබන්ධ කථා | - | අලුතින් නිර්මාණය කරන ලද කතාව |
| පරිකල්පනය | - | අනුමාන සිතිවිල්ල |
| ප්‍රතිනිර්මාණය | - | නැවත සකස් කොට දැක්වීම, යළි ගොඩ නැංවීම |
| හේතුඵල සම්බන්ධතාව | - | සිද්ධි එකිනෙක අතර පවතින විශ්වසනීය ගැළපීම |
| කථා වින්‍යාසය | - | කථාව ඉදිරිපත් කිරීමට අනුගමනය කරන ශෛලිය |
| ආකස්මිකව | - | හේතුවක් නැතිව |
| සතතාභ්‍යාසය | - | නිරන්තරයෙන් අභ්‍යාසයේ යෙදීම |
| පරිශීලනය | - | ඇසුරු කිරීම, හැදෑරීම |

## අවබෝධය

1. පොත බලමින් සිටි මහේන්ද්‍රගේ අවධානය පොතින් ගිලිහුණේ කුමන හේතුවක් නිසා ද?
2. තමාගේත් කම්කරුවන්ගේත් දෑත් සසඳා බැලූ මහේන්ද්‍ර ලැජ්ජාවට පත් වූයේ ඇයි?
3. කම්කරුවන් සමග එක්ව පොළොව කොටන්නට සිතුණු සිතිවිල්ල ක්‍රියාවට නැංවීමට නො හැකි ලෙස කථකයාට තිබූ බාධාව කුමක් ද?
4. පාඩමේ විස්තර වන සංකේතයට අමතරව මෙම කෙටිකතාවේ අන්තර්ගත තවත් ප්‍රබල සංකේතයක් ලියන්න.
5. කම්කරුවන් වැඩ කරන ස්ථානයට මහේන්ද්‍ර පැමිණි පසු ඔවුන් කරබා ගෙන වැඩෙහි යෙදෙන්නට ඇත්තේ කුමන කරුණක් නිසා විය හැකි ද?

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් අනුක්ත පදවල උක්ත රූප ලියා දක්වන්න.**

   i. සේකරයන් -
   ii. ශිල්පියකු -
   iii. ඔවුන් -
   iv. මිනිසුන් -

2. **පාඩමේ සඳහන් පහත පද කුමන පද වර්ගයකට අයත් දැයි ලියා දක්වන්න.**

   i. විසින් -
   ii. වැඩුණු -
   iii. සිටින -
   iv. හාරමින් -
   v. සුකුමාර -

3. **සාර්ථක කෙටිකතාවක තිබිය යුතු ලක්ෂණ හතරක් ලියන්න.**

4. **පහත සඳහන් වචන යොදා අර්ථවත් වාක්‍ය තනන්න.**

   පරිකල්පනය
   ආස්වාදය
   ප්‍රතිභාව
   සතතාභ්‍යාසය
   ප්‍රඥාව

## ප්‍රායෝගික අභ්‍යාස

1. **තමන් ලද කවර හෝ අත්දැකීමක් ඇසුරින් කෙටිකතාවක් නිර්මාණය කරන්න.**
2. **ඔබේත් ඔබේ පන්තියේ මිතුරු මිතුරියන්ගේ කෙටිකතා නිර්මාණ ඇතුළත් කෙටිකතා සංග්‍රහයක් සකස් කරන්න.**

# 7 බසින් රස මවන සාහිත්‍යය

භාෂාව මාධ්‍ය කොට ගනිමින් සම්පාදනය වන ලිඛිත මෙන් ම අලිඛිත ද සියලු දෑ සාහිත්‍යය යනුවෙන් හැඳින්විය හැකි ය. ඒ අනුව මුඛ පරම්පරාවෙන් පවත්වා ගෙන එන ජන කවි හා ජන කතා ආදියේ පටන් ආගමික, දාර්ශනික හා විද්‍යාත්මක ලේඛන ද සාහිත්‍ය ගණයෙහි ලා සැලකෙයි. එසේ වුවත් වර්තමානයේ සාහිත්‍යය ලෙස සැලකෙන්නේ කිසියම් වින්දනයක් ආස්වාදයක්, රසයක් ලැබිය හැකි නිර්මාණාත්මක කෘති වේ. චිරන්තන මෙන් ම නූතන ගද්‍ය හා පද්‍ය, නවකතා, කෙටි කතා, නාට්‍ය ආදි නිර්මාණාත්මක කෘති සියල්ල සඳහා පොදුවේ සාහිත්‍යය යන නාමය යොදනු ලැබේ. භාෂාව මාර්ගයෙන් අසන්නාගේ හෝ කියවන්නාගේ සිතෙහි රසයක් හා චමත්කාරයක් ඇති කරන නිර්මාණ, සාහිත්‍යය යනුවෙන් හැඳින්වෙන බව ඒ අනුව ඔබට පැහැදිලි වනු ඇත.

පහත දැක්වෙන්නේ පරාක්‍රම කොඩිතුවක්කු කවියාගේ අකීකරු පුත්‍රයකුගේ ලෝකය කාව්‍ය සංග්‍රහයෙන් උපුටා ගන්නා ලද නිර්මාණයකි.

**සූරිය මල**

සූරිය මල අහස් තලේ සිනා මවන
හිමිදිරියේ
අග නගරේ
මහ වීදියෙ
මං සන්දියෙ

කාර්- වෑන්- බස් පෙරහැර
ගල් ගැහුණා
එක පාරට!
　　මේ පැත්තෙන්
　　ඒ පැත්තට
------------කහ ඉර උඩ
　　මාරු වෙන්න
　　ඔබ.
පොත් මිටියක් තුරුළු කරන්
දෙනෝ දහක් සෙනඟ ගොඩේ
නො පෙනී යන ඔබේ දිහෑ
කාර්- වෑන් රිය පෙරහැර

ඇස් දල්වා
කට දල්වා
නිශ්ශබ්දව බලා සිටියෙ;
යකඩ කඳන් උස්සාලා
මේ නගරය ගොඩ නැඟුවේ
නුඹේ තාත්තා නිසා ය,

කඳුළු කඳක් බිම ඉසලා
මේ පොළොවේ ගිනි නිව්වේ
නුඹගේ අම්මා නිසා ය,

මතු දවසේ
ඒ පොළොවේ සූරිය මල
නුඹ නිසා ය!

අකීකරු පුත්‍රයකුගේ ලෝකය, පරාක්‍රම කොඩිතුවක්කු

මෙම නිර්මාණයට පාදක වී ඇත්තේ පාසල් යන දරුවෙකි. අද පාසල් යන දරුවා අනාගත සමාජයේ ආලෝකය, අපේක්ෂාව බව කවියා පෙන්වා දෙයි. කටුක ජීවන අත්දැකීම් බහුල පරිසරයක දුෂ්කරතා මධ්‍යයේ දෙමාපියෝ මේ දරුවාට අධ්‍යාපනය ලබා දෙති; එපමණක් නො ව අනාගතයේ ලොව ගොඩ නැගීමට ශ්‍රමය යොදවති.

කථන ව්‍යවහාරය හා ලේඛන ව්‍යවහාරය මිශ්‍ර භාෂා ව්‍යවහාරයක් මෙහි දී කවියා උපයෝගි කර ගෙන ඇත. 'සූරිය මල අහස් තලේ සිනා මවන' 'මේ පොළොවේ ගිනි නිව්වේ නුඹගේ අම්මා නිසා ය.' වැනි ලේඛන ව්‍යවහාරයේ යෙදුම් මෙන් ම 'ගල් ගැහුණා එකපාරට ඒ පැත්තෙන් මේ පැත්තට' වැනි කතා ව්‍යවහාරගත යෙදුම් ද මනාව සංයෝග කරමින් 'කාර්, වෑන්, බස්, ආදි සමාන්‍ය කාව්‍ය ව්‍යවහාරයේ දී භාවිත නො වන යෙදුම් ද සමග ගළපා ගැනීමට කවියා දක්වා ඇති දක්ෂතාව පැහැදිලි වේ.

මහගම සේකරගේ **සක්වාලිහිණි** නම් කෘතියෙන් උපුටා ගන්නා ලද පහත දැක්වෙන කාව්‍ය නිර්මාණය පැරණි කවි බස් වහර හා ජන කවි වහර ඇසුරෙන් සකස් වූ බස් වහරකින් අලංකෘත ය.

**කෙකටිය මල්**

ඉහළ වෙලේ ඉස්මත්තේ
දියහබරල මල් ගොල්ලේ
නීල වරල ළමැද හෙලාලා
බිමට නැමී ඔය කවුදෝ
පලා නෙළන්නේ
නීල නුවන් දෑල වරින්
වැස්ස වහින්නේ

පහළ වෙලේ පුරං වෙලා
වල් බිහි වී ගිය කුඹුරේ
මම තනියම කාන්සියෙන්
කුඹුර කොටනවා
ඈත ඉන්න උඹේ මූණ
හිතේ ඇඳෙනවා

නව වැස්සට වැව පිරිලා
කෙකටිය මල් උඩ ඇදිලා
ඒ අතටයි මේ අතටයි
නැමී වැනෙනවා
ඒ වතුරෙන් වෙල සරු වී
ගොයම් පැහෙනවා

නීල ගොයම කිරි වැදිලා
රන් අස්වනු නෙළන දාට
නගෝ අපට ඇඹුල අරං
වෙලට වරෙන්නේ

කෙකටිය මල් සුදු තවරා
උඹේ සිනා කිරි උතුරා
නගෝ අපට ඇඹුල අරං
වෙලට වරෙන්නේ

සක්වා ලිහිණි, මහගම සේකර

ප්‍රේමය හා බැඳුණු අත්දැකීමක් මෙම නිර්මාණයට පාදක වී තිබේ. ගැමි පරිසරයේ දක්නට ලැබෙන දෑ ඇසුරින් කවියා එම නිර්මාණය ගොඩ නගා ඇත. දිය හබරල මල්, කෙකටිය මල් වැනි ඒ පරිසරයෙන් ම උකහා ගත් දෑ නිර්මාණය අලංකාර කිරීමට හේතු වී ඇති බව පෙනේ. මෙම නිර්මාණයේ කථකයා වන තරුණයා, තරුණිය පිළිබඳ ඔහු සිතේ පහළ වන ප්‍රේමය ඇසුරින් සිය කටුක දිවියේ ළතැවුල් දරා ගනිමින් නව දිවියක් පිළිබඳ අපේක්ෂාවෙන් පසුවෙයි. 'නීල ගොයම කිරි වැදිලා...' යන කොටසින් ඒ අපේක්ෂාව මනාව පිළිබිඹු වෙයි.

ඉහත දැක්වුණු කාව්‍ය නිර්මාණ සැලකීමේ දී භාෂාවේ විවිධ ස්වරූප සුසංයෝජනය කර ගනිමින් කාව්‍යෝක්ති නිර්මාණය කර ගැනීමට කවීන් දරා ඇති උත්සාහය ප්‍රකට වේ. කවිය යනු භාෂාව උපයෝගි කර ගෙන රස මවන මාධ්‍යයකි. වෙනත් සමාන්‍ය ලේඛනයකට වඩා කවියක දී හෝ වෙනත් සාහිත්‍ය නිර්මාණයක දී භාෂාව භාවිත කරන ආකාරය වෙනස් ය. වාච්‍යාර්ථ ඉක්මවා ව්‍යංග්‍යාර්ථ ජනනය කෙරෙන ආකාරයට කවියා බස හසුරුවයි.

සාහිත්‍යය යනු භාෂාව අනුසාරයෙන් පුදුම සහගත දේ කරන්නකි. "සාහිත්‍යය යනු භාෂාත්මක වික්‍රමයකැ" යි මහාචාර්ය විමල් දිසානායක පවසයි. **(නිර්මාණය හා විචාරය)**. එතුමා එම කෘතියෙහි මෙසේ සඳහන් කරයිඃ

"ශූර අසරුවෙකු අසුන් මෙල්ල කරමින් විස්මයාවහ දක්ෂතාවන් විදහා දක්වන්නාක් මෙන් නිපුණ සාහිත්‍යකරුවා ද පාඨකයාගේ සිත විස්මයෙන් පුරවා දමමින් බස පාලනය කරයි." මෙයින් කියැවෙන්නේ තම අරමුණ ඉටු කර ගැනීම උදෙසා ලේඛකයා භාෂාව යොදා ගන්නා ආකාරයෙන් ඔහුගේ නිපුණතාව ප්‍රකට වන බව යි.

කවියාගේ වාක්කෝෂය භාවික ගුණයට මුල් තැන දෙන අතර, විද්‍යා ලේඛකයාගේ වාක් කෝෂය භාව හීන ය. කවියා ව්‍යංග්‍යාර්ථවලින් පරිපෝෂිත වාං මාලාවක් යොදා ගන්නා අතර, විද්‍යා ලේඛකයා නිශ්චිතාර්ථ දනවන වචන මාලාවක් භාවිත කරයි.

භාවික ගුණය යනු රසිකයාගේ භාවයන් ප්‍රබෝධවත් කොට, ඔහු මැනවින් අත්දැකීමට සහභාගි කරවා ගැනීමේ හැකියාව යි. නවකතාවකින් උපුටා ගත් පහත ඡේදය විමසා බලන්නඃ

"පසු දින රාත්‍රිය ද සඳ එළියෙන් ඉතා ම ප්‍රසන්න විය. සෑම තැන්හි පැතිර ඉතිර ගිය, සඳ කැලුම් නිසා සීතාවක සඳ ලොවින් ගෙනා සඳ කඩක් මෙන් රිදී පැහැයෙන් බබළන්නට විය. මෙසේ බබළන සඳ එළියෙන් පැහැපත් වූ වීදියක් ඔස්සේ තනියම ගමන් යන තරුණයෙක් අගමැති මැඳුර ගෝපුර මඟින් හැරෙන්නේ, පියගැටපෙළ දිගේ නැඟෙන්නට විය. මේ තරුණයා සේනාධීර ය. එසේ නැගුණු ඔහුට මන්දිරය වෙත එළඹෙන්නට පළමු, පියගැට පෙළ පසකින් අතුරු පාරක පිහිටි පුෂ්ප මණ්ඩපයක සිට සුනේත්‍රා කථා කළා ය. සුනේත්‍රාවගේ මිහිරි කටහඬ සවනත වන් කෙණෙහි, අමුතු පණකින් අවදි වූ සිත් සතන් ඇති සේනාධීර තැති ගත්තෙකු සේ නතර විය."

**සුනේත්‍රා**, ඩබ්ලියු.ඒ. සිල්වා

සුනේත්‍රාගේ හඬින් සේනාධීරගේ සිතෙහි ඇති වන ප්‍රහර්ෂය අවට පරිසරයේ විචිත්‍රත්වය වර්ණනා කිරීමෙන් කුළු ගන්වයි. මේ නිසා පාඨකයා ඉතා උනන්දුවෙන් යුතුව අත්දැකීමට සහභාගි වෙයි. එබඳු ම තවත් නිදසුනක් විමසා බලමුඃ

"දෙමව්පියන්ගේ අවවාදයෙන් ද අසංගයන්ගේ මැදහත්කමෙන් ද පරිපීඩිත සිත් ඇති නීලමණී කුමරි දිනක් සවස උයනේ සක්මන් කළා ය. පෙර කිසි කලෙක නුදුටු තරම් මහත් ගණනක් කුරුල්ලන්ගෙන් මෙදින උයන අලංකාරවත් විය. නොයෙක් වර්ගවල කුරුල්ලන් නොයෙක් ගස් සෙවණ කොට ගෙන කැදලි තනන්නට කරන යෝජනාදිය විවේකය කැමති ඇයට මහත් කන්දොස්කිරියාවකි. බැලූ - බැලූ අතින් හැම ගසක් ම ඇයට පෙනෙන්නේ ගීත භාණ්ඩයක් මෙනි. සියුරුසන තැනකින් ද 'කුකු' හඬ තැනකින් ද නික්ම ගෙන එකට රැව් පිළිරැව් දෙන කල ඇයට උයන් සක්මන එපා විය. මේ කලහ මැද්දේ තමන් ඉදිරිපිට බිම කා වැටුණු ඊයක් දැක ඈ තිගැස්සුණා ය. හී කොනේ බඳින ලද තල්පතක් වූ හෙයින් තමනට අනතුරු කරන මාරයකු මෙන් නො ව සන්දේශයක් ගෙනෙන දූතයකු මෙන් පැමිණි ඒ හීය දෙස විස්මයෝත්ඵුල්ල නයනයෙන් ගනිම් දෝ නො ගනිම් දෝ යන සිත් දෙගිඩියාවෙන් බලා සිට, අසල කිසිවකු නො දැක එය අතට ගත්තා ය. "උදවු පිණිස දකිනු කැමැත්තෙම් එදා මෙන් අද, ඒ වෙලාවට එතැන සිටිය මැනවි" යන්න එහි පෙනිණි.

තමන්ගෙන් ඒ ආරක්ෂාව ලත් චර පුරුෂයා දැන් මායාවක් නො වේ; මිරිඟුවක් නො වේ. ඔහු සත්‍යයකි. එහෙයින් මේ කුඩා තල්පතින් ඇයගේ මොළොක් සිත පෙර කිසි කලක කිසිවකිනුත් නො කෙරුණු තරමට කිති කැවුණේ ය. එයින් කිලිපොළා ගිය සර්වාංගය ඇත්තී පසෙකින් පිහිටි බංකුවක් උඩ හිඳ ගත්තා ය.

විජයබා කොල්ලය, ඩබ්ලියු.ඒ. සිල්වා

යට සඳහන් කොටසෙහි භාෂාව සම්භාව්‍ය සිංහල ගද්‍ය භාෂාව හා මිශ්‍ර වූවකි. එහෙත් නීලමණිය අයත් වන යුගය හා සමාජ තත්ත්වය අනුවත් 'විජයබා කොල්ලය' ඓතිහාසික නවකතාවක් වීමත් හේතු කොට ගෙන භාෂාවේ පවත්නා මෙම ගාම්භීර්යය උචිත බව සහෘදයා අවබෝධය කර ගනියි. චිරන්තන සාහිත්‍යික උක්තීන් භාවිතයට ගන්නා නූතන සාහිත්‍යකරුවා උත්සාහ කරන්නේ ධ්වනිපූර්ණ යෙදුම් මගින් චමත්කාරයක් දැනවීමට යි.

අවස්ථෝචිත පරිදි වියත් වහර හා කට වහර සම්මිශ්‍රණය කරමින් නිර්මාණකරණයේ යෙදීමට ද නිර්මාණකරුවා සමත් වන්නේ ය. මේ ඊට නිදසුනකිඃ

"උදේ වරුවේ නොකඩවා පැවති චිරි චිරි වැස්සකින් පසු සුව පහසු ගෙන දෙන සිසිල් සුළඟ හමන එක් සවසක ශ්‍රියාත් මයුරිත් තිසා වැව් බැම්මේ රන් මසු උයන අභියස සක්මන් කරමින් සිටියෝ ය. කෙළි කවට බස් දොඩමින් ගිය ශ්‍රියා මඳ වෙලාවක් නැවතී කන්ද පාමුල තණ නිල්ල දෙස බලාගත් වන ම ගල් ගැසී සිටියා ය.

"අර ඉන්නේ එයා නේද? අර දියට මොනවදෝ විසි කරනවා."

"ඒ වාගේ තමා පෙනෙන්නෙ. අපි ආපසු හැරෙමු." මයුරි නැවතුණා ය.

"ඇයි නවතින්නේ? අපි හොරෙන් ම පිටුපසින් යමු."

සඳා මෙලෙස පුර දෙරණේ, ඒ. වී. සුරවීර

මේ නිදර්ශන මගින් පෙනී යන්නේ යම් නිර්මාණයක භාෂාව භාවික ගුණයෙන් යුතු වීම අනිවාර්ය බවත්, සාහිත්‍යික භාෂාව ධ්වනිපූර්ණ විය යුතු බවත් ය. සාහිත්‍යකරුවාගේ වික්‍රමයන් ප්‍රකට වන්නේ බසෙහි හසළත්වය මත බැවින් තේමාවට, අදාළ යුගයට, චරිතවලට, එම චරිත අයත් සමාජ තත්ත්වයට, සමාජ පන්තියට, එම චරිතයේ අධ්‍යාපන මට්ටමට සරිලන, උචිත බස්වහරක් භාවිත කිරීමට සාහිත්‍යකරුවා සමත් විය යුතු ය. නිර්මාණකරුවාගේ අදහස් පාඨකයා වෙතට ගෙන යන වාහකය භාෂාව බැවින් භාෂාවෙහි මැනවින් හසළ වීම නිර්මාණයෙහි අගය වැඩි කිරීමට හේතු වෙයි.

සාහිත්‍යකරුවා සිය නිර්මාණයට පාදක කර ගන්නා අත්දැකීමෙහි විශ්වසනීයභාවය තහවුරු කිරීමට ඔහුගේ භාෂා භාවිතය ඉවහල් වේ.

තමාගේ සිත සසල කළ අත්දැකීමක් අන්‍යයන්ට ප්‍රකාශ කිරීම නිර්මාණකරුවකුගේ අභිලාෂය යි. ඔහු තම අත්දැකීම රසිකයාට ඉදිරිපත් කරන්නේ භාෂාව මාධ්‍යය කොට ගෙන යි. තමාගේ මනසට දැනුණු, ලේඛකයා තම සිත වඩාත් කම්පනයට පත් කළ අත්දැකීම පාඨකයා වෙත ගෙන යැමට භාවිත කරන මාධ්‍යය භාෂාව යි.

පොදුවේ සාහිත්‍ය නිර්මාණවල අන්තර්ගතය වන්නේ මානව ජීවිතය යි. මානව ජීවිතයේ විවිධ අවස්ථා, සිදුවීම්, චරිත පදනම් කරගෙන සාහිත්‍ය නිර්මාණ ගොඩ නැගෙයි. සාහිත්‍ය කෘතියේ අන්තර්ගතය නිර්මාණකරුවාගේ අත්දැකීම් මත පදනම් වෙයි. ඔහු අසා, දැක කියවා විඳ ඇති දේ ඇසුරෙන් පරිකල්පනය මගින් ගොඩ නැගූ යථාර්ථය නිර්මාණයේ අන්තර්ගතය වෙයි. නිර්මාණකරුවා එය ඉදිරිපත් කිරීම සඳහා විවිධ චරිත, උපමා, රූපක, ආදිය භාවිත කරයි. ඉහත දැක්වුණු පද්‍ය කාව්‍ය නිර්මාණ සහ ගද්‍ය නිර්මාණවලින් උපුටා ගත් පාඨවලින් අපට එය තහවුරු කර ගත හැකි ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| සුසංයෝජනය | - | මැනවින් සංයෝජනය වූ |
| කාව්‍යෝක්ති | - | කාව්‍යමය/කාව්‍යය සඳහා යොදා ගන්නා කියමන් |
| වාච්‍යාර්ථ | - | මතු පිට අර්ථය |
| විස්මයාවහ | - | පුදුම උපදවන |
| වාක්කෝෂය | - | වචන සමූහය, වචන සංග්‍රහය |
| පරිපෝෂිත | - | මනාව පෝෂණය වූ |
| ප්‍රහර්ෂය | - | අධික සන්තෝෂය |
| විස්මයෝත්ඵුල්ල නයනයෙන් | - | පුදුමයෙන් පිරී ගිය ඇසින් |
| සර්වාංගය | - | සියලු ශරීරය |
| ගාම්භීරත්වය | - | ගැඹුරු බව |
| චිරන්තන | - | පුරාණ කාලයට අයත්, පෞරාණික |
| උක්තීන් | - | කියමන් |
| ධ්වනිපූර්ණ | - | මතුපිට අර්ථය ඉක්මවා යන සැඟවුණු අර්ථයකින් පෝෂණය වූ |
| අවස්ථෝචිත | - | අවස්ථාවට සුදුසු, තැනටත් කාලයටත් ගැළපෙන |
| හසළත්වය | - | මැනවින් පුරුදු පුහුණු බව/නිපුණත්වය |
| පරිකල්පනය | - | සාහිත්‍ය කලා නිර්මාණය සඳහා අවශ්‍ය දෑ සිතින් මවා ගැනීම |

## අවබෝධය

1. කවියාගේ වාක්කෝෂයත් විද්‍යා ලේඛකයාගේ වාක්කෝෂයත් අතර ඇති වෙනස කුමක් ද?
2. සාහිත්‍ය නිර්මාණයක දී වචනවල භාවික ගුණය යනුවෙන් අදහස් වන්නේ කුමක් දැයි පැහැදිලි කරන්න.
3. සාහිත්‍යකරුවාගේ ප්‍රතිභාව ප්‍රකට කළ හැකි ප්‍රධාන මාධ්‍යය ලෙස මෙහි සඳහන් වන්නේ කුමක් ද?
4. "සාහිත්‍ය නිර්මාණයක දී වාච්‍යාර්ථය ඉක්මවා ව්‍යංග්‍යාර්ථය ජනනය කරන ආකාරයට කවියා බස හසුරුවයි." යන ප්‍රකාශයෙහි අර්ථය විමසන්න.

## ලිඛිත අභ්‍යාස

1. **පාඩමෙහි අන්තර්ගත කරුණු සැලකිල්ලට ගෙන පහත දැක්වෙන පද්‍ය පන්තියෙහි භාෂාවේ සුවිශේෂත්වය හඳුනා ගෙන විචාරය කරන්න.**

### පැණි කොමඩු

පැණි කොමඩු වැල
යන එන සෑම තැනක ම
තියා යනවාමයි ගෙඩියක්
හේන මත
තහවුරු කරන්නට තම අයිතිය

ඒ විතරක් ම නො ව
කැකිරි වැල් හා එක් ව
හිනා වෙනවා ඇද කර කර
බතල වැල්වලට
හිස් අතින් ඉන්නවට
කොළ විතරක් ම වන වන
කෝම හරි මේ ළඟ දි
අලි ගැහැව්වට පස්සෙ ඔය හේනට
කැකිරි වැල් දරුදඬු ව
කොමඩු ගෙඩි ආගිය අතක් නැත
බතල වැල් ටිකත් සී සී කඩ

පාළුවට ගිය හේනක් නම් තමයි දැන් එය
ඒත් තාමත් හේන ගාවින් යන අය
ඇහෙන බැව් කියනවා
බතල අල වගයක් හුස්මගන්නා හඬ
හෙමිහිට

මීළඟ මීවිත, රුවන් බන්දුජීව

## ප්‍රායෝගික අභ්‍යාස

1. ඔබ අභිමත තේමාවක් යටතේ කවියක් ගීතයක් හෝ කෙටිකතාවක් නිර්මාණය කරන්න.
2. පහත නම් සඳහන් නිර්මාණකරුවන්ගේ කාව්‍ය හා කෙටිකතා නිර්මාණ දෙක බැගින් සොයා ලිපි ගොනු දෙකක් සකසා පන්ති පුස්තකාලයේ තබන්න.

| කාව්‍ය නිර්මාණ | කෙටිකතා නිර්මාණ |
|---|---|
| ජී. බී. සේනානායක | ඩබ්ලිව්. ඒ. සිල්වා |
| සිරි ගුනසිංහ | මාර්ටින් වික්‍රමසිංහ |
| ගුණදාස අමරසේකර | ජී. බී. සේනානායක |
| මහගම සේකර | ගුණදාස අමරසේකර |
| මොනිකා රුවන්පතිරණ | කේ. ජයතිලක |
| දයාසේන ගුණසිංහ | එදිරිවීර සරච්චන්ද්‍ර |
| පරාක්‍රම කොඩිතුවක්කු | සයිමන් නවගත්තේගම |
| බර්ටි බී. කුඩාහෙට්ටි | පියසීලී විජේමාන්න |
| ධර්මසිරි රාජපක්ෂ | දයාසේන ගුණසිංහ |
| රත්න ශ්‍රී විජේසිංහ | රන්ජිත් ධර්මකීර්ති |
| නන්දන වීරසිංහ | ජයතිලක කම්මැල්ලවීර |

# 8 මේ අපේ උදාර වූ මාතෘ භූමියයි

**සෑම මනුෂ්‍යයකුට ම ස්වකීය ජන්ම භූමිය පිළිබඳව ඇත්තේ අභිමානයකි. දේශයේ ඉතිහාසය, ස්වභාව සෞන්දර්යය, සංස්කෘතික උරුමයන් හා නිදහස් නිවහල් පුරවැසියන්ගේ ක්‍රියාකාරකම් මත දේශාභිමානය ජනනය වේ. ලෝකයේ හැම ජන කොට්ඨාසයකට ම තම රටට ආදරය, පක්ෂපාතභාවය, දේශානුරාගය දනවන නිර්මාණ ඇත. දේශීය මෙන් ම විදේශීය ලේඛකයන් ශ්‍රී ලංකාව ගැන කරන ලද එබඳු නිර්මාණ ඇසුරෙන් මේ පාඩම සැකසී ඇත.**

දේශානුරාගය යනු තම මාතෘ භූමිය කෙරෙහි ඇති ඇල්ම යි; දේශප්‍රේමීත්වය යි; ආදරය යි. එම මාතෘ භූමියෙහි ශ්‍රේෂ්ඨත්වය පිළිබඳ හැඟීම අප සිත් සතන්හි සදා රැඳී පැවතිය යුතු ය. දෙපයින් නැගී සිටිමින් නිදහස්ව නිවහල්ව ජීවත් වීමට අවකාශ සැලසෙන්නේ ජාති, ආගම්, කුල භේදවලින් තොරව එක ම ජාතියක් එනම්, ශ්‍රී ලාංකික යන හැඟීමෙන් යුතුව කටයුතු කළොත් පමණි. මේ පුණ්‍ය භූමියෙන් මෙලොවට ජනිත වූ අප හැම දෙනාට ම ජීවත් වීමට ප්‍රාණවායුව ලබා දුන්නේ මේ උතුම් භූමියෙනි. මිනිසකුට තමා උපන් බිමට වඩා වටිනා වෙනත් බිමක් නැත. අභිමානයෙන් යුතුව ජීවත් වීමට අවශ්‍ය පරිසරය ඒ තුළ පැවතීම ඊට හේතුවකි. දේශානුරාගී හැඟීම් ඔස්සේ තම ජාත භූමිය පිළිබඳ ඇති වන ආඩම්බරය, අභිමානය දේශාභිමානය යි.

තම ජන්ම භූමියේ ස්වභාව සෞන්දර්යය, ඓතිහාසික උරුමය, ස්වාභාවික සම්පත්, සශ්‍රීකත්වය, සංස්කෘතික උරුමය, ජාතික නිදහස ගැන කියැවෙන දේශානුරාගය දැනවෙන නිර්මාණ කළ ලේඛකයෝ බොහෝ ය. එම නිර්මාණයන්ගේ මුඛ්‍යාර්ථය වූයේ රට වැසියා තුළ දේශාභිමානය ජනනය කිරීම යි.

මහගම සේකර යනු දේශානුරාගයෙන් ඔද වැඩි ස්වාධීන කවියෙකි. ඔහුගේ ප්‍රතිභාව ඉස්මතු කෙරෙන **“රත්නදීප ජන්ම භූමි...”** නම් කාව්‍ය නිර්මාණය සිංහලෙන් ලියවුණු දේශාභිමානී නිර්මාණ අතර ප්‍රමුඛ තැනක් හිමි කර ගත්තකි. මේ කාව්‍ය නිර්මාණය ඔබ ගීතයක් ලෙසින් ද රස විඳ ඇත.

"රත්න දීප ජන්මභූමි
ලංකදීප විජයභූමි
මේ අපේ උදාර වූ මාතෘ භූමියයි
ආදි සිංහලේ වීර මී මුතුන් ලෙයින්
සාර වූ උදාර වූ මාතෘ භූමියයි

මාණික්‍ය සේ පොළෝ ගැබේ නිධාන වී
ඇත්තෙ ඒ අභීත දූ පුතුන්
ජාතියේ නාමයෙන්
සංග්‍රාම භූමියේ
ජීවිතේ පුදා හැළූ ලේ කඳයි

සින්ධූපමාන වැව් තලා මතින් ඇදී
පද්ම රේණුයෙන් සුගන්ධ වී
රන් කරල් නමා හමා
සිත් ප්‍රබෝධයෙන් පුරා
එන්නෙ උන් හෙළූ ප්‍රාණ වායුවයි

ගංගා තරංග රාව දී රිදී වණින්
මල් පිපී කුළින් කුළේ හැපී
ගායනා කරන්නේ
ආකාශයේ නැගී
වීරයන්ගෙ ඒ යශෝ ගීතයයි.

මහගම සේකර

ලක් දෙරණ ආක්‍රමණිකයන්ගේ ග්‍රහණයෙන් මුදවා ගැනීමට තම ඩහදිය පමණක් නොව රුධිරය ද හෙළුවෝ බොහෝ වෙති. මැණික් බවට පත් වී මේ පොළෝ තලයෙන් ලැබෙන්නේ ඒ ඩහදිය හා රුධිරය යි. මහා සාගරය පරදන වැව් තලා මතින් ඇදී එන සුළඟ ඔවුන්ගේ ප්‍රාණ වායුව යි. දසත ගලා යන ගංගා තරඟ නඟමින් ගයන්නේ ඒ වීරයන්ගේ යශෝ ගීතය යි. මෙවන් උත්තරීතර හැඟීම් දනවන මේ නිර්මාණය ළමා, තරුණ, මහලු හැම කෙනකු තුළ ම තම දේශය පිළිබඳ අභිමානයක් ජනිත කිරීමෙහි සමත් වෙයි.

ඇතැම් විට තමා උපන් භූමිය පමණක් නො ව, හැදෙන වැඩෙන දේශය පිළිබඳව ද කෙනකු තුළ දේශානුරාගයක් ජනනය විය හැකි ය. ටිබෙට් ජාතික එස්. මහින්ද හිමි එවැනි කවියෙකි. ශ්‍රී ලාංකිකයා පරාධීනත්වයෙන් මුදවා ගැනීමේ පරමාභිලාෂයෙන්, ඔවුන් පෙලඹවීම සඳහා උන් වහන්සේ කළ නිර්මාණ බොහෝ ය. විදේශිකයකු වුව ද ස්වදේශිකයකුට ද වඩා සිරිලක් බිම පිළිබඳව ඇල්මක්, අභිමානයක් පැවති බව උන් වහන්සේ විසින් කරන ලද නිර්මාණවලින් පිළිබිඹු වේ. නිදහසේ මන්ත්‍රය, හා නිදහසේ දැහැන යන ග්‍රන්ථ ශ්‍රී ලාංකිකයා තුළ නිදහස් සටන සඳහා දේශාභිමානය හා ජාතිකාභිමානය ඇති කළ නිර්මාණ සේ පිළිගැනේ. ජාතික තොටිල්ල, අපේ ඉදිරි ගමන, අද ලක්මවගේ පුත්තු, විදේශිකයෙකුගෙන් ලක්මවට නමස්කාරයක්, ලංකාව ඉදිරියට, ශ්‍රී ලංකා උදය ගීත ආදී පද්‍ය නිර්මාණ ඒ අතර වේ. “පෙර රජ දවස ලංකාව” පද්‍ය රචනයෙහි සිරිලක ජනයා ගැන මහින්ද හිමියෝ මෙසේ සඳහන් කරති.

සිව් සඟරාවතින් දස රජ දමින් බැඳී
සව් ලෝ සතට කුලුණින් සව් ඉසුරු දිදී
දෙව් රජවරුන් වැනි මහ රජවරුන් රැඳී
දෙව් ලෝ සිරිය පෙර අප සිරි ලකෙහි ලදී

සුසිරිත මිසක දුසිරිත කිසි තැනෙක නැත
රිසි වන සියලු යසිසුරු රිසි ලෙස ම ඇත
නිසි කල වැසි ද සස් පල නැඟි නැඟී ගත
මෙසියල් සැපෙන් සිරි ලක ලෝ මුදුන් පත

සබවස කුලුණු මෙත් මුදිතා දහම් සැම
සැබවින් රකිති මහ දන දිවි ලෙසින් තම
මොබ තව කුමට සොයමි ද නව උවම් මම
මෙම ලක තමා එවකට එක දහම් බිම

ටිබෙට් ජාතික ඇස් මහින්ද හිමි

පෙර අප සිරිලක දෙව්ලොවක සිරිය ගත්තේ සතර සංග්‍රහ වස්තුවලින් හා දසරාජ ධර්මයෙන් රජකම් කළ, දෙව්වරුන් වැනි රජවරුන් නිසා ය. සශ්‍රීකත්වයෙන් අනූන, නිසි කලට වැසි ලැබෙන මේ ලක් බිම මුළු ලෝකයේ ම අග තැන් ගෙන සිටී. සත්‍යය, කරුණාව, මෛත්‍රිය මුදිතාව ආදි සදහම් රකින ජනතාව මෙරට ජීවත් විය. එනිසා ම මේ පින් බිම එක ම දහම් දිවයිනක් වූ බව මහින්ද හිමියෝ පවසති.

ශ්‍රී ලංකාව පිළිබඳ ඇසූ පමණින්, එහි තොරතුරු දැනගත් පමණින් දේශානුරාගයක් ජනනය වූ විදේශීය කතුවරුන් ද මේ භූමිය පිළිබඳ විවිධ අදහස් පළ කළ අවස්ථා ඇත.

නව වන සියවසේ භාරතයේ විසූ ප්‍රකට පඬිවරයකු වන ශ්‍රී රාජසේකරයන් ලියූ කෘතියෙහි අප රට ගැන මෙසේ සඳහන් වෙයි.

ජනශ් ච වාක්සුධා සුතීර්
මණි සුතීශ්ච රෝහණඃ
නාන්‍යත්‍ර සිංහලද්වීපාත්
මුක්තා සූතීශ්ච සාගරඃ

(අමා වැනි වදන් ඇති ජනයා ද මැණික් ලබා දෙන රෝහණ ජනපදය ද මුතු උපදින සාගරය ද යන මේ සියල්ල සිංහලද්වීපයේ හැරුණු විට අන් තැනෙක දැකිය නො හැකි ය).

බාලරාමායණය, ශ්‍රී රාජසේකර

ලෝකයේ කිසි දු තැනක දැකිය නො හැකි ජන කොට්ඨාසයක් මෙහි වාසය කරන බව කියන රාජසේකරයෝ රසවත් වචන කතා කරන, වටිනා මැණික් ඇති, මුතුවලින් යුතු සාගරයක් හිමි උතුම් රටක් ලෙස ශ්‍රී ලංකාව හඳුන්වා දෙති. මෙය කියවන ශ්‍රී ලාංකිකයා තුළ ජනනය වන්නේ මහාත්මාභිමානයකි.

විවිධ අවධිවල විවිධ ජාතීන් මෙහි පැමිණියේ අප රට පිළිබඳ වටිනාකම වටහාගත් බැවිනි. එලෙස මෙහි පැමිණි විදේශීය ලේඛකයන් මේ පුණ්‍ය භූමිය පිළිබඳ කළ නිර්මාණ අප සිත් හි දේශානුරාගය දැනවීමට සමත් වේ.

පර්සියානු ජාතික 'විලියම් නයිටෝන්' විසින් 1854 දී රචනා කළ *Forest Life in Ceylon* කෘතිය මනෝ ප්‍රනාන්දු විසින් **ලක්බිම වන සැරිය** නමින් සිංහල බසට පරිවර්තනය කෙරිණි. එහි ලංකාව පිළිබඳව මෙසේ සටහන් වෙයිඃ

"ලංකාව ආකර්ෂණීය සුන්දර දිවයිනකි. එක් සෞන්දර්යාත්මක ලේඛකයකු සටහන් කළ පරිදි 'සුළඟින් පිවිසෙන්නේ සුමිහිරි සුවඳකි'. මෙහි ඇත්තේ ඉතා ම දුර්ලභ වටිනා වෘක්ෂයන්ගෙන් යුත් වනාන්තරයකි. මෙම දිවයිනේ අනර්ඝතම මැණික වශයෙන් සලකන්නේ දියමන්තිය යි.

"වෙරළ දිගේ සැරසිල්ලක් මෙන් හරිත වර්ණ ශාකයෝ පෙනෙන්නට වූ හ. ඒවා පල බරින් පිරී ඇති කොකෝ ගස්★ය. දියරැළි ගල්පරවල වේගයෙන් හැපී සුදෝසුදු පෙණ විසිරෙයි. එහි පැහැය වෙරළ තීරයේ දිස් වන ශාක සමග සසඳන කල්හි පරස්පරව කදිමට දිස් වේ. වරායෙන් ඔබ්බට පෙනෙන වෛවර්ණ වස්ත්‍රයන්ගෙන් සැරසුණු ජනයා ඒකාකාරී ලෙස එහා මෙහා සැරිසරන අයුරු අපූරු ය. සැබැවින් ම එය නගරයක සිරියක් ගැනේ. මේ සියල්ලටමත් වඩා ඉහළට එසැවුණු කඳුවැටි ඇතින් ඇතට විහිදී ඇත්තේ අවධිමත් ලෙස ය. එකිනෙකට මුවා වෙමින් සැලකිය යුතු තරම් බෑවුම්ව නැගී සිටින කඳුහෙල් අතරින් ලාංකිකයන්ගේ ගෞරවයට ලක් වන සමනොළ ගිරි සිරස දිස් වේ."

**ලක්බිම වන සැරිය, මනෝ ප්‍රනාන්දු**

ලංකාවේ වනාන්තර, මුහුදුබඩ පරිසරය, වාතය හා ජනයා පිළිබඳව ඔහු තුළ පැවති ආකර්ෂණශීලී බව මෙම විවරණයෙන් මනාව පිළිබිඹු වේ. අප අගය නො කරන බොහෝ දේ ඔවුන්ගේ ඇගයීමට භාජනය වූ අයුරු කදිම ය.

කිර්ගීස් ජාතික චින්ගීස් අයිත්මාතෝව් ලියූ 'රාන්නයේ ෂුරව්ලි' කෙටි නවකතාව පසුව 'The Early Cranes' නමින් ඉංගිරිසි බසට පරිවර්තනය විය. එම කෘතිය ඩබ්ලියු. ඒ. අබේසිංහ විසින් සිංහල බසට පරිවර්තනය කෙරිණි. එම කෘතිය ආරම්භ වන්නේ ශ්‍රී ලංකාව පිළිබඳව කෙරෙන අතිශය රමණීය විවරණයකිනි.

★ පොල් ගස් විය හැකි ය.

"ශ්‍රී ලංකාව, ඉන්දීය වෙරළාසන්නයෙහි පිහිටා ඇති ඒ පරම රමණීය සුන්දර දිවයින 'ඉන්කමාල් අපායි' සිය පන්තියේ ළමයින්ට උගන්වමින් සිටියේ ශ්‍රී ලංකාව ගැන ය. ගෙදර දී ගොතන ලද දළ ලොම් සළුවක් පොරවාගෙන සිටිය ද ගුරුවරිය සීතලේ ගැහෙන්නට වූවා ය. මහාද්වීපය නමැති කිරි බුරුල්ලෙන් වැටෙන කිරි බිඳුවක් ලෙසින් ශ්‍රී ලංකාව සිතියම මත සිත්තම් ව ඇත. ළමයි සිය ගුරුවරියට සවන් දී ගත් වන ම සිටියහ. ශ්‍රී ලංකාවේ නොයෙක් අපූරු දේ ඇත. වඳුරන්, අලි ඇත්තු, කෙසෙල් මුළු ලොවෙහි ම ඇති හොඳ ම තේ එතනින් ගියා ම, නන්විධ පලතුරු ගස්වැල් එහි ඇති දේවල් නිමක් නැත්තේ ය. එහෙත් වැදගත් ම දෙය නම් ශ්‍රී ලංකාව උණුසුම් රටක් වීම ය. කෙතරම් උණුසුම් ද කිව හොත් මුළු වසර පුරා ම කිසිම දිනක සීතලේ ගැහෙන්නේ නැතිව ජීවත් විය හැක්කේ ය. හිම සපත්තු, හිම වැසුම්, උණුසුම් පාවහන්, හිම කබා මේ කිසිවක් අවශ්‍ය නැත. උණුසුම ලබනු සඳහා දර ද අවශ්‍ය වන්නේ නැත.

"මොනතරම් ප්‍රීතිමත් අපූරු ජීවිතයක් ද? ඕනෑම තැනක කැමති විදියට ඇවිදින්න සක්මන් කරන්න. හිරු රැසින් නැහැවෙන්න. උණුසුම වැඩි නම් හෙවණකට ගොස් දාහය නිවන්න. ශ්‍රී ලංකාවේ දවාලත් රැයත් එක සේ උණුසුම් ය. මුළු වසර පුරා ම ඇත්තේ ඒ අතිසුන්දර ගිම්හානය යි. ශ්‍රී ලංකාවේ නැත්තේ මොනවා ද? ඔබට සිතින් සිතා ගත හැකි හැම ආශ්චර්යයක් ම එහි ඇත්තේ ය. ඔබට එහි සතුටින් විනෝදයෙන් ජීවත් විය හැක්කේ ය."

**වේලාසන කොක්කු ඇවිත්, ඩබ්ලියු.ඒ. අබේසිංහ**

ගුරුවරියක වන ඉන්කමාල් අපායි දරුවනට ශ්‍රී ලංකාව ගැන පාඩමක් කියා දෙමින් ලොව ඇති හොඳ ම රටක් ලෙස එය හඳුන්වා දෙයි. ලොව ඕනෑ ම දේශයක අයකුට මේ භූමිය තුළ ජීවත් විය හැකි ය. ඒ මෙරට පවතින සමශීතෝෂ්ණ දේශගුණය නිසයි. පැය කිහිපයක් තුළ ඕනෑ ම දේශගුණික රටාවක් ලක්බිම තුළ දැකගත හැකි ය. එවන් උදාර භූමියකි අපේ මාතෘ භූමිය.

අහඹු ලෙස ලංකාවට පැමිණ වසර 20ක් පමණ ලංකාවේ ජීවත් ව නැව් නැගී ආපසු යන අතර මෙරට තොරතුරු ඇසුරෙන් 'ලංකාවේ ඉතිහාස කතාන්දරය' *Historical Relations of Ceylon* නමින් රොබට් නොක්ස් ලියූ කෘතිය ඩේවිඩ් කරුණාරත්න විසින් එදා හෙළ දිව නමින් සිංහලයට නගන ලදි. ඉංග්‍රීසි ජාතික නැවියකු වූ නොක්ස් ශ්‍රී ලංකාවේ සමාජීය, ආර්ථික, සංස්කෘතික, දේශපාලන තොරතුරු ඇසුරු කර ගෙන මෙම කෘතිය ලියා ඇත.

ශ්‍රී ලාංකිකයන්ගේ යහගුණ, ආගම, භාෂාව, රැකියා ආදිය ගැන නොක්ස් මෙසේ සඳහන් කරයි.

- ⋆ "සිංහලයා ඉතා විනීත ය. ආගන්තුක සත්කාරයෙහි තත්පර ය. ස්වදේශීන්හට මෙන් ම කරුණාවෙන් විදේශීන්හටත් සලකන්නේ ය."
- ⋆ "ඔවුන්ගේ බුද්ධාගම ඉතා සත්‍ය වූ නිර්මල වූ ප්‍රඥාවට ගෝචර වූ තර්කයට අනුකූල වූ ශ්‍රේෂ්ඨ ආගමකි. ඒ බව මම ද එසේ ම පිළිගනිමි."

- ‘සිංහලයන්ගේ භාෂාව වූකලි වාග් ශක්තියෙන් අනූන වූ, එය කතා කරන ජනතාව මෙන් ම ශ්‍රේෂ්ඨ වූ, සුලලිත සුඛනම්‍ය, සුමධුර භාෂාවකි. ඒ භාෂාව කතා කිරීමට ඉමිහිරි ය. රසවත් ඇමතුමෙන් හා ජනකාන්ත භාවයෙන් පරිපූර්ණ ය.’
- ‘ලෝකයේ මුල් ම රක්ෂාවත් ඉතා උතුම් ම රක්ෂාවත් ගොවිතැන ය. සිංහලයන්ගේ ප්‍රධාන රක්ෂාව ද මේ මුල් ම උතුම් ම රක්ෂාව යි. තමන්ගේ කෙත් වතුවල වැඩ කිරීම කොතරම් උසස් කෙනෙකුට නමුත් නින්දාවට කාරණයක් නො වේ.’

විදේශිකයන් මෙලෙස ශ්‍රී ලාංකික දේශය ඇගයීමට භාජනය කරන විට ශ්‍රී ලාංකිකයාගේ සිතෙහි ජනනය වන්නේ දේශානුරාගයකි; දේශාභිමානයකි. මෙවන් නිර්මාණ ඇසුරෙන් තම මාතෘ භූමිය පිළිබඳ අනුරාගයක්, අභිමානයක් ඇති කර ගැනීම පමණක් ප්‍රමාණවත් නො වේ. අප යා යුතු මග ද හඳුනාගත යුතු ය. **මඩවල එස්. රත්නායකගේ** මේ පද්‍ය නිර්මාණයෙන් ඒ පිළිබඳව කියැවේ:

වෙර වීරිය ඇතත් හිතේ
පියකරු බව ඇතත් වතේ
දහදිය නොම සැලෙන ගතේ
ඔබ පොළවට බරකි පුතේ

පෙර විරුවන් ඔබගෙ පුතේ
ඉදි කළ වැව් බලන් පුතේ
දෑතේ සවියෙනුයි පුතේ
ඒ මහ වැව් බැඳුණේ පුතේ

එවන් ලෙයින් උපන් පුතේ
සුරු විරුකම් ඔබට ඇතේ
දෑ උරුමය ඇතිව සිතේ
මවුබිම දෙස බලන් පුතේ

මඩවල එස්. රත්නායක

අභිමානයෙන් යුතුව මේ මවුබිම අනාගත දැයට රැක දීම අපගේ පරම යුතුකමකි.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| සින්ධූපමාන | - සාගරය හා සමාන |
| රිදී වණින් | - රිදී පාටින් |
| සිව් සඟරාවත | - සතර සංග්‍රහ වස්තු<br>(දානය, ප්‍රිය වචනය, අර්ථ චර්යාව, සමානාත්මතාව) |
| දස රජ දමින් | - දස රාජ ධර්මයෙන් (දානය, ශීලය, පරිත්‍යාගය, ඍජු බව, මෘදු බව, තපස, අක්‍රෝධය, අවිහිංසාව, ක්ෂාන්තිය, මෛත්‍රිය) |
| කුලුණින් | - කරුණාවෙන් |
| සව් ඉසුරු | - සියලු සම්පත් |
| සබවස | - සත්‍ය වචන |
| උවම් | - උපමා |
| හරිත වර්ණ | - කොළ පැහැය |
| අනූන | - අඩු නැති |
| සුලලිත | - ලාලිත්‍ය බවින් යුතු |
| ජනකාන්ත භාවය | - ජනයා ඇද ගන්නා බව |

## අවබෝධය

1. **පහත දී ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.**

   i. දේශානුරාගය හා දේශාභිමානය හඳුන්වන්න.
   ii. දේශාභිමානය ජනනය කිරීමට බලපාන සාධක මොනවා ද?
   iii. මහගම සේකරගේ නිර්මාණයේ ශ්‍රී ලංකාව හැඳින්වීමට යෙදූ පර්යාය පද ලියන්න.
   iv. මෙම භූමිය සාරවත් වූයේ කුමකින් ද?
   v. අතීත මුතුන් මිත්තන්ගේ ප්‍රාණවායුව ලෙස ඔහු දක්වන්නේ කුමක් ද?
   vi. ගලන ගංගාවන්ගෙන් නැගෙන හඬින් පැවසෙන්නේ කුමක් ද?
   vii. ශ්‍රී ලංකාව දෙව් ලොවක සිරිය ගත් බව කියැවෙන්නේ කුමන කරුණු නිසා ද?
   viii. ලංකාව ලොව අගතැන් ගැනීමට බලපෑ කරුණු මොනවා ද?
   ix. වෙනත් ස්ථානයක දැකිය නො හැකි දේ සිංහලද්වීපයෙහි ඇත. බාල රාමායණයට අනුව ඒ මොනවා ද?
   x. විදේශීය ලේඛකයන්ගේ නිර්මාණ කීපයකින් උපුටා ගත් කොටස් පාඩමේ අන්තර්ගත ය. ඒ ලේඛකයන් නම් කරන්න.

## ලිඛිත අභ්‍යාස

1. පහත සඳහන් ශීර්ෂ යටතේ පාඩමේ අන්තර්ගත කරුණු ගොනු කරන්න.
   i. ස්වභාව සෞන්දර්ය
   ii. දේශගුණික ලක්ෂණ
   iii. ජනයා සතු ගුණාංග

2. පහත දී ඇති වචන සඳහා ගැළපෙන වචන පාඩමෙන් උපුටා ලියන්න.
   i. නෙලුම් -
   ii. රුහිරු -
   iii. උතුම් අරමුණ -
   iv. මවුබිම -
   v. රුවන් -

3. විරුද්ධාර්ථ පද ලියන්න.
   i. සුසිරිත -
   ii. ස්වාධීන -
   iii. රිසි -
   iv. දුර්ලභ -
   v. උතුම් -

4. පහත සඳහන් පද යොදා අර්ථවත් වාක්‍යය බැගින් ලියන්න.
   i. වාග් ශක්තිය
   ii. පරිපූර්ණ
   iii. ආකර්ෂණීය
   iv. වෛවර්ණ
   v. රමණීය

## ප්‍රායෝගික අභ්‍යාස

1. "මේ අපේ උදාර වූ මාතෘ භූමියයි" යන මාතෘකාව යටතේ වචන 250ක පමණ රචනයක් ලියන්න.
2. දේශාභිමානි හැඟීම් දනවන පද්‍ය පන්තියක් නිර්මාණය කරන්න.
3. දේශාභිමානි හැඟීම් දනවන සාහිත්‍ය නිර්මාණ එකතු කර නිර්මාණ සංග්‍රහයක් සකස් කරන්න. (පන්තියේ සියලු සිසුන්ගේ දායකත්වය ලබා ගන්න)

# 9

# කර්තෘ කාරක වාක්‍ය සහ කර්ම කාරක වාක්‍ය

**අදහස් ප්‍රකාශනය සඳහා යොදා ගන්නා අරුත් සහිත භාෂාමය ඒකක 'පද' නමින් හැඳින්වේ. පද කීපයක් සම්පූර්ණ අදහසක් ප්‍රකාශ වන පරිදි පිළිගත් රටාවකට අනුව ගැළපීමෙන් 'වාක්‍ය' නිර්මාණය වෙයි. භාෂාවේ හමු වන පද වර්ග සතරකි. 'නාම පද', 'ක්‍රියා පද', 'උපසර්ග' හා 'නිපාත' යනුවෙනි. මේ අතුරෙන් වාක්‍යයක් තැනීමට ඉවහල් වන්නේ නාම පද, ක්‍රියා පද හා නිපාත යි. එක් අවසාන ක්‍රියාවකට සම්බන්ධ වූ පද රටාවක් වාක්‍යයක් වෙයි. සෑම වාක්‍යයක ම 'උක්තය' හා 'ආඛ්‍යාතය' යනුවෙන් කොටස් දෙකකි. මේ ප්‍රධාන කොටස් දෙක අතර අඛණ්ඩ අන්‍යෝන්‍ය ගැළපීමක් හෙවත් සම්බන්ධයක් පවතී. මේ සම්බන්ධය හෙවත් 'උක්ත-ආඛ්‍යාත පද සම්බන්ධය' නිවැරදි වාක්‍යයකට අදාළ පළමු වන නීතිය යි. නිවැරදි වාක්‍යයක් නිර්මාණය සඳහා උක්ත-ආඛ්‍යාත පද සම්බන්ධය සිදු කරන ආකාර දෙකක් මේ පාඩමෙන් ඔබට උගත හැකි ය.**

උක්ත-ආඛ්‍යාත පද සම්බන්ධය යනු වාක්‍යයක උක්තය හෙවත් ක්‍රියාව සිදු කරන්නා අඟවන නාම පදයත් ආඛ්‍යාතය හෙවත් එම නාම පදයෙන් දැක්වෙන කර්තෘ විසින් සිදු කරනු ලබන ක්‍රියාවත් අතර පැවතිය යුතු ව්‍යාකරණමය ගැළපීම යි. වාක්‍යයක් නිවැරදිව සංවිධානය වී ඇතැයි පිළිගැනෙන්නේ මේ ගැළපීම මත ය.

උක්ත-ආඛ්‍යාත පද සම්බන්ධය බිඳුණු විට වාක්‍යයෙන් පැවසීමට අපේක්ෂිත අර්ථය නිරවුල්ව හා පැහැදිලිව ප්‍රකාශ නො වේ. එමතු ද නොව භාෂාවේ සම්මත නීතිය හෙවත් ව්‍යාකරණය ද බිඳ වැටේ. භාෂාවක් ව්‍යවහාර කළ යුත්තේ ඒ භාෂාවේ සම්මත නීතිවලට හෙවත් ව්‍යාකරණයට අනුකූලව ය.

වාක්‍යයක උක්තය හා ආඛ්‍යාතය පුරුෂ වශයෙන් ද වචන වශයෙන් ද ආඛ්‍යාතය වෙනුවට කෘදන්ත ක්‍රියාවක් යෙදේ නම් ලිංග වශයෙන් ද එකිනෙක ගැළපිය යුතු ය.

උක්ත-ආඛ්‍යාත පද ගැළපීම අනුව වාක්‍යයක් සකස් වන ක්‍රම දෙකකි.

**වාක්‍යයක උක්ත කර්තෘ හා ආඛ්‍යාතය (නැත හොත් කෘදන්ත ක්‍රියාව) එකිනෙක පුරුෂ, වචන හා ලිංග වශයෙන් ගැළපීමෙන් නිර්මාණය කෙරෙන වාක්‍ය කර්තෘ කාරක වාක්‍ය නමින් හැඳින්වෙයි.**

1. ළමයා පොත කියවයි.
2. ළමයි පොත් කියවති.
3. මිනිසා ගස කපයි.
4. මිනිස්සු ගස කපති.
5. බළලා මීයන් මරයි.
6. බළල්ලු මීයන් මරති.
7. වෛද්‍යවරයා රෝගීන් සුවපත් කරයි.
8. වෛද්‍යවරු රෝගීන් සුවපත් කරති.

මෙහි 1, 3, 5, 7 යන අංක යටතේ දැක්වෙන වාක්‍යයන්හි ළමයා, මිනිසා, බළලා හා

වෛද්‍යවරයා යන නාම පද ඒ වාක්‍යයන්හි කර්තෘ පද යි. එනම් කියවයි, කපයි, මරයි, (සුවපත්) කරයි යන ක්‍රියා පදවලින් පැවසෙන ක්‍රියාව සිදු කරන්නා අඟවන පද යි. ඒ පද ප්‍රථම පුරුෂ ඒක වචන නාම පද බැවින් ඒ හා ගැළපෙන පරිදි උගනී, කපයි, මරයි, (සුවපත්) කරයි යන ක්‍රියා පද ප්‍රථම පුරුෂ ඒක වචනයෙන් යොදා ඇත. මේ සැම වාක්‍යයක ම කර්තෘ පදය ක්‍රියා පදයෙන් උක්ත වීම සිදු වෙයි.

2, 4, 6, 8 යන අංකවලින් දැක්වෙන වාක්‍යයන්හි උක්ත කර්තෘ බහු වචන අර්ථ ගනී. ඒ අනුව අදාළ වාක්‍යයන්හි ක්‍රියා පද බහු වචනයෙන් යොදා ඇති බව පැහැදිලි වනු ඇත.

මේ සැම වාක්‍යයක ම කර්තෘ පදයට අමතරව තවත් නාම පදයක් බැගින් වෙයි. ඒවා මේ වාක්‍යයන්හි කර්ම පදය වසයෙන් සිටී. කර්ම පදය අනුක්තව තැබිය යුතු ය.

ඉහතින් දක්වන ලද සියලු ම වාක්‍ය, උක්තයට හෙවත් ක්‍රියාව සිදු කරන්නා අඟවන නාම පදයට අනුකූලව ක්‍රියා පදය යොදා ඇති වාක්‍ය වේ.

මෙවැනි වාක්‍ය කර්තෘ කාරක වාක්‍ය යනුවෙන් හැඳින්වෙයි.

පුරුෂ භේදය, වචන භේදය හා කාල භේදය කෙරෙහි අවධානය යොමු කරමින් තවත් නිදර්ශන කිහිපයකින් මෙය විමසා බලමුඃ

| කාලය | පුරුෂය | ඒක වචන | බහු වචන |
|---|---|---|---|
| වර්තමාන | ප්‍රථම | මිනිසා ගෙයක් සාදයි. | මිනිස්සු ගෙයක් සාදති. |
| | මධ්‍යම | නුඹ ගෙයක් සාදහි. | නුඹලා ගෙයක් සාදහු. |
| | උත්තම | මම ගෙයක් සාදමි. | අපි ගෙයක් සාදමු. |
| අතීත | ප්‍රථම | මිනිසා ගෙයක් සෑදීය. | මිනිස්සු ගෙයක් සෑදූහ. |
| | මධ්‍යම | නුඹ ගෙයක් සෑදීහි. | නුඹලා ගෙයක් සෑදූහු. |
| | උත්තම | මම ගෙයක් සෑදීමි. | අපි ගෙයක් සෑදූමු. |
| අනාගත ★ | ප්‍රථම | මිනිසා ගෙයක් සාදයි. | මිනිස්සු ගෙයක් සාදති. |
| | මධ්‍යම | නුඹ ගෙයක් සාදහි. | නුඹලා ගෙයක් සාදහු. |
| | උත්තම | මම ගෙයක් සාදමි. | අපි ගෙයක් සාදමු. |

ඉහත වැකි දෙස බලන විට, කර්තෘ කාරක වාක්‍යවල පහත සඳහන් ලක්ෂණ හඳුනා ගත හැකි ය.

★ අනාගත කාලය සඳහා වර්තමාන කාල ක්‍රියා රූපය ම ශුද්ධ ආඛ්‍යාතය ලෙස යෙදේ.

★ කර්තෘ කාරක වාක්‍යය කර්තෘ උක්ත වන නිසා එම උක්ත කර්තෘට අනුව ආඛ්‍යාතය යෙදේ.

උදාහරණ:- **මවුපියෝ** දරුවන් යහමඟ **යවති.**

↓ මවුපියෝ - උක්තය ↓ යවති - ආඛ්‍යාතය

★ කර්තෘ කාරක වාක්‍යයක කර්මය අනුක්ත වේ.

උදාහරණ:- ගොවියෝ **ගවයන්** බඳිති.

↓ ගවයන් - කර්මය

★ උක්ත කර්තෘ අයත් වන පුරුෂයට අනුව ආඛ්‍යාතය ද තැබිය යුතු වේ.

උදාහරණ:- **මම** දේශකයාගේ අදහස් අවධානයට **ගත්තෙමි.**

↓ මම - උත්තම පුරුෂ ඒක වචන ක්‍රියා පදයට අදාළ කර්තෘ ↓ ගත්තෙමි - උත්තම පුරුෂ ඒක වචන

**අපි** දේශකයාගේ අදහස් අවධානයට **ගත්තෙමු.**

↓ අපි - උත්තම පුරුෂ බහු වචන ක්‍රියා පදයට අදාළ කර්තෘ ↓ ගත්තෙමු - උත්තම පුරුෂ බහු වචන

**පද ගැළපීම අනුව වාක්‍යයක් සකස් කර ගත හැකි දෙවන ක්‍රමයක් ද වෙයි. මෙහි දී වාක්‍යයේ අවසාන ක්‍රියාවෙන් කියවෙන්නේ, එනම් උක්ත වන්නේ වාක්‍යයේ කර්ම පදය යි. කර්තෘ පදය අනුක්ත වෙයි.**

1. ළමයා විසින් පොත කියවේ/කියවෙයි/ කියවනු ලැබේ/කියවනු ලබයි.
2. ළමයින් විසින් පොත් කියවේ/කියවෙයි/කියවනු ලැබේ/කියවනු ලබයි..
3. මිනිසා විසින් ගස කැපේ/කපනු ලැබේ/කපනු ලබයි.
4. මිනිසුන් විසින් ගස කැපේ/කපනු ලැබේ/කපනු ලබයි.
5. බළලා විසින් මීයෝ මැරෙති/මරනු ලැබෙති/මරනු ලබති.
6. බළලුන් විසින් මීයෝ මැරෙති/මරනු ලැබෙති/මරනු ලබති.
7. වෛද්‍යවරයා විසින් රෝගීහු සුවපත් කෙරෙති/සුවපත් කරනු ලැබෙති/ කරනු ලබති.
8. වෛද්‍යවරුන් විසින් රෝගීහු සුවපත් කෙරෙති/සුවපත් කරනු ලැබෙති/ කරනු ලබති.

මේ වාක්‍යවල දී සිදු වී ඇත්තේ කිමෙක් ද? කර්තෘ කාරක වාක්‍යයකට වඩා මෙහි දී වෙනස්කම් කිහිපයක් දැකිය හැකි ය.

මේ වාක්‍යවල දී කර්තෘ අනුක්ත කොට තිබේ. 'විසින්' යන නිපාතය අනුක්ත කර්තෘ රූපයට ඈඳා ඇත.

කර්තෘ කාරක වාක්‍යයේ අනුක්තව තබන ලද කර්මය මෙහි උක්ත කොට ඇත.

ක්‍රියා පදය උක්ත කර්මයට අනුරූපව යෙදේ. එය කර්ම කාරක ක්‍රියා රූපයක් හෝ කෘදන්ත පදයකට √ ලබ ධාතුව යොදා සකස් කර ගත්තක් හෝ විය හැකි ය.

පුරුෂ භේදය, වචන භේදය හා කාල භේදය කෙරෙහි අවධානය යොමු කරමින් තවත් නිදර්ශන කිහිපයකින් මෙය විමසා බලමු:

| කාලය | පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|---|
| වර්තමාන | ප්‍රථම | මව විසින් පුතා රකෙයි/ රකිනු ලැබේ. | මව විසින් පුත්තු රකෙති/ රකිනු ලැබෙති. |
| | මධ්‍යම | මා විසින් නුඹ රකෙහි/රකිනු ලැබෙහි. | මා විසින් නුඹලා රකෙහු/රකිනු ලැබෙහු. |
| | උත්තම | ඔහු විසින් මම රකෙමි/රකිනු ලැබෙමි. | ඔහු විසින් අපි රකෙමු/ රකිනු ලැබෙමු. |
| අතීත | ප්‍රථම | මව විසින් පුතා රැකිණි/රකිනු ලැබිණි/රකින ලදි. | මව විසින් පුත්තු රැකුණු/රකින ලදහ/රකිනු ලැබුණු. |
| | මධ්‍යම | මා විසින් නුඹ රැකිණිහි/රකිනු ලැබුණෙහි/රකින ලදහි. | මා විසින් නුඹලා රැකුණෙහු/රකිනු ලැබුණෙහු/රකින ලදහු. |
| | උත්තම | ඔහු විසින් මම රැකුණෙමි/ රකිනු ලැබුණෙමි/රකින ලදිමි. | ඔහු විසින් අපි රැකුණෙමු/රකිනු ලැබුණෙමු/ රකින ලදිමු. |
| අනාගත | ප්‍රථම | මව විසින් පුතා රකේ/ රකෙන්නේ/රකිනු ලැබෙන්නේ ය. | මව විසින් පුත්තු රකෙති/රකෙන්නෝ/ රකෙන්නාහු/රකිනු ලැබෙති/ රකිනු ලැබෙන්නෝ ය. |
| | මධ්‍යම | මා විසින් නුඹ රකෙහි/ රකෙන්නෙහි/ රකිනු ලැබෙන්නෙහි. | මා විසින් නුඹලා රකෙහු/ රකෙන්නහු/ රකිනු ලැබෙහු/ලැබෙන්නහු. |
| | උත්තම | ඔහු විසින් මම රකෙමි/ රකෙන්නෙමි/ රකිනු ලැබෙමි/ රකිනු ලැබෙන්නෙමි. | ඔහු විසින් අපි රකෙමු/ රකෙන්නෙමු/රකිනු ලැබෙමු /රකිනු ලැබෙන්නෙමු. |

**කර්ම කාරක වාක්‍යයක විශේෂ ලක්ෂණ කිහිපයකි.**

- කර්ම කාරක වාක්‍යයක කර්මය උක්ත වන නිසා එම උක්ත කර්මයට අනුව ආඛ්‍යාතය යෙදිය යුතු ය.

  උදාහරණ:- ගොවියන් විසින් **ගවයෝ බැඳෙති.**

  ගවයෝ → උක්ත කර්මය, බැඳෙති → ආඛ්‍යාතය

- කර්තෘ අනුක්ත වේ. අනුක්ත කර්තෘ රූපයට පරව "විසින්" නිපාතය යෙදේ.

  උදාහරණ:- **ගුරුවරුන් විසින්** සිසුහු යහමග යැවෙති/යවනු ලැබෙති/යවනු ලැබෙත්.

  ගුරුවරුන් → අනුක්ත කර්තෘ, විසින් → විසින් නිපාතය

- උක්ත වන කර්ම පදයට අදාළ ආඛ්‍යාතය පුරුෂය හා වචනය අනුව ගළපා තැබිය යුතු වේ.
- උක්ත වන කර්මයේ ලිංග භේදය ප්‍රකාශ විය යුතු තැනක දී කෘදන්ත ආඛ්‍යාත භාවිත වේ (මෙය බලපාන්නේ ප්‍රථම පුරුෂ ඒකවචන උක්ත කර්ම පද සඳහා පමණි).

  උදාහරණ:- විදුහල්පතිතුමා විසින් ප්‍රධාන ශිෂ්‍ය නායිකාව කාර්යාලයට කැඳවෙයි/ කැඳවනු ලැබෙන්නී ය.

- ශුද්ධ ආඛ්‍යාතයක් හෝ කෘදන්ත ක්‍රියාවක් හෝ කර්ම කාරක වාක්‍යයක ආඛ්‍යාතය වශයෙන් තැබිය හැකි ය.
- කර්ම කාරක වාක්‍යවල ශුද්ධ කර්ම කාරක ආඛ්‍යාත වෙනුවට "ලබ" ධාතුවෙන් සාදාගත් ක්‍රියා පද ද තැබිය හැකි ය.
- සකර්මක වාක්‍ය පමණක් කර්ම කාරක වාක්‍ය රටාවෙන් ලිවිය හැකි ය. අකර්මක වාක්‍ය කර්ම කාරක ස්වරූපයෙන් ලිවිය නො හැකි ය.

  උදාහරණ:- ගොවියා කුඹුර කොටයි. - සකර්මක වාක්‍ය
  ළමයා පොත් පාඩම් කරයි.

  ළමයා නිදයි.
  ළමයා බිය වේ. - අකර්මක වාක්‍ය

කර්තෘ කාරක හා කර්ම කාරක වාක්‍ය ලක්ෂණ සංසන්දනාත්මක සාරාංශයක් පහත සටහනෙහි දැක්වේ.

| කර්තෘ කාරක වාක්‍ය | කර්ම කාරක වාක්‍ය |
|---|---|
| කර්තෘ උක්ත වෙයි.<br>කර්මය අනුක්ත වෙයි.<br><br><br>උක්ත කර්තෘට අනුව ආඛ්‍යාතය පිහිටයි. | කර්මය උක්ත වෙයි.<br>කර්තෘ අනුක්ත වෙයි.<br>(අනුක්ත කර්තෘ හැඟවීමට 'විසින්' නිපාතය යෙදේ.)<br>උක්ත කර්මයට අනුව ආඛ්‍යාතය යෙදේ. |

කර්තෘ කාරක වාක්‍යයක් කර්ම කාරක වාක්‍යයක් බවට පත් කිරීමේ දී අනුගමනය කළ යුතු පියවර හා ඒ සඳහා උදාහරණ පහත දැක්වේ.

'ගොවියෝ ගවයන් බඳිත්' යන කර්තෘ කාරක වාක්‍යය කර්ම කාරකයට හැරවීම.

i. උක්ත කර්තෘ අනුක්ත කරන්නː- ගොවියෝ - ගොවියන්
ii. අනුක්ත කර්තෘට පසුව 'විසින්' නිපාතය එකතු කරන්නː- ගොවියන් විසින්
iii. අනුක්ත කර්මය උක්ත කරන්නː- ගවයන් - ගවයෝ
iv. උක්ත වූ කර්මයට ගැළපෙන පරිදි හා දී ඇති වාක්‍යයේ කාලයට (අතීත-අනතීත) ගැළපෙන ක්‍රියා පදයක් යොදන්නː- බැඳෙති/බඳිනු ලැබෙති

**මේ අනුව කර්ම කාරක වාක්‍යය**

'ගොවියන් විසින් ගවයෝ බැඳෙති/බඳිනු ලැබෙති' වශයෙන් වේ.

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන වාක්‍ය, කර්ම කාරකයට හරවා ලියන්න.**

   i. මම නිරතුරුව ම පොත පත මිල දී ගනිමි.
   ii. විනිසුරුතුමා සැකකරුවන් නිදහස් කෙළේ ය.
   iii. උද්‍යෝගයෙන් කටයුතු කළ ගොවීහු මේ කන්නයේ සරු අස්වැන්නක් ලැබූහ.
   iv. මාධවී මීටර සියය ධාවන තරගයෙන් ප්‍රථම ස්ථානය දිනා ගත්තී ය.
   v. ඔවුහු නිකරුණේ අප වෙහෙසූහ.

2. **පහත දැක්වෙන කර්ම කාරක වාක්‍ය, කර්තෘ කාරකයට හරවා ලියන්න.**

   i. සතුරන් විසින් අපි පීඩාවට පත් කරනු ලැබුණෙමු.
   ii. කම්කරුවා විසින් තම සේවා කටයුතු ස්වාමියාට පහදා දෙන ලදි.
   iii. අධ්‍යක්ෂතුමා විසින් විද්‍යාලයීය නව ගොඩනැගිල්ල විවෘත කෙරෙයි.
   iv. අප විසින් නුඹ දකිනු ලැබුණෙහි.
   v. ළමයින් විසින් චිත්‍ර අඳිනු ලැබේ.

3. **පහත දැක්වෙන ඡේද ලිඛිත ව්‍යවහාරයට නගන්න.**

i. වනාන්තර මිනිසුන්ට සම්පතක්. ඒවායින් අපට ලැබෙන ප්‍රයෝජන අතිමහත්. ඒ බව හඳුනාගත් දූරදර්ශී මිනිස්සු, වන සම්පත ආරක්ෂා කර ගන්න කටයුතු කරනවා. අදූරදර්ශී මිනිස්සු වන සම්පත විනාශ කරනවා.

ii. මුදල් ඇමතිතුමා අය-වැය කතාව ඉදිරිපත් කළා. පසුගිය අවුරුද්දේ ආර්ථික සංවර්ධනේ සිදු වෙච්චි ආකාරය බලපු එතුමා අලුත් ආර්ථික සංවර්ධන වැඩ පිළිවෙළක් හඳුන්නලා දුන්නා. මන්ත්‍රීවරුන් අලුත් යෝජනා ඉදිරිපත් කළා. විරුද්ධ පක්ෂ මන්ත්‍රීවරුන් ද සතුට පළ කළා. ටික දෙනෙක් ඔහුගේ යෝජනා විවේචනය කළා.

iii. සරසවියට නවක සිසුන් පැමිණේ. ජ්‍යෙෂ්ඨ සිසුන් නවකයින් ආදරයෙන් පිළිගනියි. සරසවි ඇදුරන් දේශන කටයුතු ආරම්භ කරයි. නවක සිසුන් සතුටින් ඉගෙන ගනියි.

## උක්ත අනුක්ත රූප

කර්තෘ කාරක හෝ කර්ම කාරක වාක්‍ය රටා නිවැරදිව අනුගමනය නො කර ලියවුණු වාක්‍ය වර්තමාන ව්‍යවහාරයෙහි සුලබ ය. කර්තෘ කාරක වාක්‍යයක කර්තෘ උක්ත වන අතර ප්‍රථමා විභක්ති ගනී. ක්‍රියාව/ආඛ්‍යාතය යෙදිය යුත්තේ උක්ත කර්තෘ අයත් වන පුරුෂ භේදය, සංඛ්‍යා භේදය හා ලිංග භේදය යන ලක්ෂණවලට අනුරූප වන පරිද්දෙනි. කර්තෘ කාරක වාක්‍යයක උක්ත කර්තෘ මෙන් ම කර්ම කාරක වාක්‍යයක උක්ත කර්මය ද අනුක්ත රූප ගන්වා ලියන ලද ව්‍යාකරණ විරෝධී වාක්‍ය බොහෝ විට දැක ගත හැකි වෙයි. ඊට හේතු වන්නේ නාම පදවල උක්ත අනුක්ත රූප භේදය පිළිබඳ නිරවද්‍ය අවබෝධය නො තිබීම යි.

නාම පදවල උක්ත රූපය හා අනුක්ත රූප අතර අර්ථ වසයෙන් වෙනස්කම් ඇති බව ඒවා වාක්‍යයන්හි යෙදෙන ආකාරය අනුව පැහැදිලි කර ගත හැකි ය. මේ අර්ථමය වෙනස්කම් ඇතැම් විට රූපමය වසයෙන් ද දැක ගත හැකි ය. එනම් නාම පදවල උක්ත රූපය හා අනුක්ත රූප වසයෙන් රූප භේදයක් ප්‍රකට වන අවස්ථා වෙයි. "මම" යන උක්ත රූපය සැලකූ කල ඊට අනුරූප අනුක්ත රූපය "මා" යන්න යි. සෙසු අනුක්ත විභක්ති රූප වන මට (මා+අට) මාගේ (මා+ගේ), මාගෙන් (මා+ගෙන්) යන රූප සෑදී ඇත්තේ මා යන අනුක්ත රූපය මුල් කොට ගෙන බව පැහැදිලි ය. ඒ අනුව උත්තම පුරුෂ ඒක වචන පදයෙහි මම හා මා යනුවෙන් මූලික රූප දෙකක් ඇති බව පෙන්වා දිය හැකි ය.

එහෙත් ඇතැම් නාම පදවල උක්ත හා අනුක්ත වසයෙන් රූප භේදයක් හැඳින ගත නො හැකි වෙයි. නිදසුන් වසයෙන් බල්ලා යන පදය සලකමු. එහි උක්ත රූපය මෙන් ම අනුක්ත රූපය ද බල්ලා යන්න ම ය.

ආධුනික ලේඛකයන් මෙන් ම ප්‍රකට යැයි සම්මත ලේඛකයන් ද සිය ලේඛනවල දී ක්‍රියා

කාරක පද සම්බන්ධය අවුල් කර ගැනීමට එක් හේතුවක් වන්නේ නාම පදවල උක්ත අනුක්ත රූප භේදය නිවැරදිව වටහා නො ගැනීම බව පෙනේ. පහත දැක්වෙන්නේ සිංහලයේ නාම පදවල උක්ත අනුක්ත රූප භේදය පැහැදිලි කෙරෙන සටහනකි.

| | උක්ත රූප | | අනුක්ත රූප | |
|---|---|---|---|---|
| | ඒක වචන | බහු වචන | ඒක වචන | බහු වචන |
| උත්තම පුරුෂ | මම | අපි | මා | අප |
| මධ්‍යම පුරුෂ | ඔබ<br>නුඹ<br>[තෝ]<br>*ඔයා* | ඔබ<br>නුඹ<br>[තෙපි] | ඔබ<br>නුඹ<br>[තා/තී] | ඔබ<br>[නුඹ/ තොප] |
| ප්‍රථම පුරුෂ පුරුෂ ලිංග | හේ<br>ඔහු<br>*ඌ* | ඔවුහු [ඔහු] | ඔහු<br>*ඌ* | ඔවුන්<br>*එයාලා*<br>*උන්* |
| ප්‍රථම පුරුෂ ස්ත්‍රී ලිංග | ඕ<br>ඈ | ඔවුහු<br>*එයාලා*<br>*ඒ ගොල්ල* | ඈ<br>ඇය | ඔවුන්<br>*එයාලා*<br>*ඒ ගොල්ල* |
| ප්‍රථම පුරුෂ නපුංසක ලිංග | එය<br>*ඒක* | ඒවා | එය | ඒවා |
| අනියමාර්ථ පුරුෂ ලිංග | (-එක්) ළමයෙක්<br>මිනිසෙක් | | (-එකු/-අකු)<br>ළමයෙකු<br>මිනිසෙකු<br>ළමයකු/මිනිසකු | |
| අනියමාර්ථ ස්ත්‍රී ලිංග | (-අක්)<br>ගැහැනියක් | | (-අක)<br>ගැහැනියක | |
| අනියමාර්ථ නපුංසක ලිංග | (-අක්) ගසක් | | (-අක්)<br>ගසක් | |

- [ ] වරහන් තුළ දැක්වෙන්නේ පැරණි ව්‍යවහාරය යි.
- භාෂණයෙහි පමණක් යෙදෙන රූප ඇළ අකුරින් දැක්වේ.

## 1. ආඛ්‍යාතය සම්පූර්ණ කිරීම සඳහා කර්තෘ පදයට අමතරව තවත් නාම පදයක් උක්ත කිරීම

වාක්‍යයක අවසාන ක්‍රියාවෙන් නාම පද දෙකක් උක්ත වන අවස්ථා සිංහල වාක්‍ය වින්‍යාසයෙහි ලා හමු වෙයි.

වීම් අර්ථවත් 'ව' ධාතුවෙන් සෑදුණු අවසාන ක්‍රියා පද සහිත වාක්‍යයක් සලකන්න.

'ඔවුහු ක්‍රීඩකයෝ වෙති'
'මාර්ටින් වික්‍රමසිංහ විශිෂ්ට ලේඛකයෙක් වෙයි.'
'අසෝක රජතුමා දැහැමි පාලකයෙක් විය.'

මේ වාක්‍ය තුනෙහි උක්ත කර්තෘ පිළිවෙළින් 'ඔවුහු', 'මාර්ටින් වික්‍රමසිංහ' හා 'අසෝක රජතුමා' යන පද යි.

ඒ සමඟ ම පිළිවෙළින් 'ක්‍රීඩකයෝ', 'ලේඛකයෙක්' හා 'පාලකයෙක්' යනුවෙන් තවත් නාම පද තුනක් උක්තාර්ථයෙන් එම වාක්‍ය තුනෙහි යෙදී තිබෙනු දැක ගත හැකි ය.

මේ නාම පද ඒ වාක්‍යයන්හි කර්මය නො වේ. කර්මය නම් අනුක්ත විය යුතු ය.

එසේ නම් මේ දෙවන උක්තයට වාක්‍යයෙහි හිමි වන ස්ථානය කුමක් ද?

'ඔවුහු වෙති' යනු අර්ථ විරහිත වාක්‍යයකි. 'ඔවුහු' එනම් මේ වාක්‍යයේ කර්තෘ 'වන්නේ' කුමක් ද යන්න එයින් ප්‍රකාශ නො වන බැවිනි. මෙය අර්ථ සහිත වාක්‍යයක් වීමට නම් ආඛ්‍යාතය සම්පූර්ණ කළ යුතු ය. අවසාන ක්‍රියාවට පෙර වෙනත් නාම පදයක් යෙදීමෙන් ආඛ්‍යාතය සම්පූර්ණ වේ. මෙසේ ආඛ්‍යාත පූරණය සඳහා යොදන නාම පදය උක්තය හා තුල්‍යාධිකරණ වෙයි. එනම් වචනයෙන්, ලිංගයෙන් හා විභක්තියෙන් උක්තය හා අනුරූප විය යුතු ය. එවිට එවැනි වාක්‍යයක උක්ත දෙකක් ඇති වේ.

මෙවැනි වාක්‍යයක ප්‍රධාන උක්තය වන්නේත් අප්‍රධාන උක්තය වන්නේත් එක ම තැනැත්තෙකි. ඒ දෙදෙන ම වාක්‍යයේ 'කර්තෘ' වෙති. අවසාන ක්‍රියාවෙන් කියවෙන්නේ ඒ දෙදෙනා ම පිළිබඳව වන බැවින් මෙවැනි වාක්‍යයක ආඛ්‍යාතයට උක්ත දෙකක් වෙයි. එසේ හෙයින් මෙවැනි වාක්‍ය 'ද්විත්ව උක්ත වාක්‍ය' හෙවත් 'ද්විත්ව කර්තෘ වාක්‍ය' නමින් ද ආඛ්‍යාතයේ අඩුව පුරවා සම්පූර්ණ කරන හෙයින් 'ආඛ්‍යාත පූරණ' නමින් ද හැඳින්වේ.

ඉහත දක්වන ලද වාක්‍ය තුනෙහි 'ක්‍රීඩකයෝ', 'ලේඛකයෙක්' හා 'පාලකයෙක්' යනුවෙන් තවත් නාම පද තුනක් උක්තාර්ථයෙන් යෙදී ඇත්තේ අවසාන ක්‍රියාවෙන් ප්‍රකාශ වන අර්ථය සම්පූර්ණ කිරීම සඳහා බව මේ අනුව පැහැදිලි වනු ඇත.

උදාහරණ:- අපි නීතිගරුක පුරවැසියෝ වෙමු.
ඕ/ඈ නිළියක් වූවා ය/වෙයි.
නුඹලා අනාගත නායකයෝ වෙහු.
ජෝර්ජ් කීට් විදග්ධ චිත්‍ර ශිල්පියෙක් වෙයි.

මෙවැනි වාක්‍යයන්හි දෙවන උක්තය අනුක්ත රූපයෙන් තැබීම ව්‍යාකරණ විරෝධී වෙයි.

ඔවුහු ක්‍රීඩකයන් වෙති. ✕
මාර්ටින් වික්‍රමසිංහ විශිෂ්ට ලේඛකයකු වෙයි. ✕
අසෝක රජතුමා දැහැමි පාලකයකු විය. ✕
අපි නීතිගරුක පුරවැසියන් වෙමු. ✕
ඕ/ඈ නිළියක වූවා ය/වෙයි. ✕
නුඹලා අනාගත නායකයන් වෙහු. ✕
ජෝර්ජ් කීට් විදග්ධ චිත්‍ර ශිල්පියකු වෙයි. ✕

★ ඇතැම් විට ‘ව’ ධාතුවෙන් සෑදුණු ආඛ්‍යාතය වෙනුවට වාක්‍ය අවසානය ඇඟවීම සඳහා ‘ය’ හෝ ‘යි’ නිපාත යොදනු ලැබේ. එවිට ද ආඛ්‍යාත පූරණය පෙර සේ ම උක්තය හා සමව සිටී.

උදාහරණ:- අපි නීතිගරුක පුරවැසියෝ ය/යි.
ඔහු ලේඛකයෙක් ය/ලේඛකයෙකි.
නුඹලා අනාගත නායකයෝ ය/යි.

★ ප්‍රශ්නවාචී ‘ද’ නිපාතය යෝගයෙහි ද මෙම රීතිය ම අනුගමනය කෙරේ.
උදාහරණ:- ඔහු ලේඛකයෙක් ද?
නුඹලා අනාගත නායකයෝ ද?
අශෝක රජතුමා දැහැමි පාලකයෙක් ද?

★ ඉහත වාක්‍යවලට ‘ලු’ නිපාතය යෙදීමෙන් ඇසූ බව දැක්වෙන අර්ථයක් (ශ්‍රැති සූචනාර්ථ) එක් වෙයි. එහි දී ද ඉහත රීතිය අනුගමනය කෙරේ.
උදාහරණ:- ඔහු ලේඛකයෙක් ලු.
නුඹලා අනාගත නායකයෝ ලු.
අශෝක රජතුමා දැහැමි පාලකයෙක් ලු.

★ ඇතැම් විට ඉහත වාක්‍ය ආඛ්‍යාතයක් රහිතව ද යෙදේ.
උදාහරණ:- ඔහු ලේඛකයෙක්.
නුඹලා අනාගත නායකයෝ.
අපි ශ්‍රී ලාංකික පුරවැසියෝ.

**2. උක්තය සම්පූර්ණ කිරීම සඳහා කර්තෘ පදයට අමතරව තවත් නාම පදයක් උක්ත කිරීම.**

උක්තය වසයෙන් යෙදෙන ප්‍රාණවාචී නාම පදයකට පසුව සංඛ්‍යාර්ථවත් හෝ සමූහාර්ථවත් පදයක් යෙදෙන කල සංඛ්‍යාව හඟවන පදය හා එක් වන පිරිස් වාචී දෙන/දෙනා යන පද බහු වචනය ගනී.

අපි සියල්ලෝ ම ශ්‍රී ලාංකිකයෝ වෙමු.
සිසුහු තිදෙනෙක් විශිෂ්ට සම්මාන හිමි කර ගත්හ.
කම්කරුවෝ පස් දෙනෙක් සතියකින් පාලම තනා නිම කළහ.
සොරු දෙදෙනෙක් අත්අඩංගුවට පත් වූහ.
ගොන්නු දෙදෙනෙක් ගැල ඇද්දෝ ය.
සැකකරුවෝ සියලු දෙනා නිදහස් කරනු ලැබූහ.

මෙවැනි වාක්‍යයන්හි ආඛ්‍යාතයෙන් කියවෙන කර්තෘ පද දෙක බැගින් වෙයි.
'අපි සියල්ලෝ'
'සිසුහු තිදෙනෙක්'
'කම්කරුවෝ පස් දෙනෙක්'
'සොරු දෙදෙනෙක්'
'ගොන්නු දෙදෙනෙක්'
'සැකකරුවෝ සියලු දෙනා' යනුවෙනි.

මේ කර්තෘ පද දෙක ම වාක්‍යයේ උක්තය සේ ක්‍රියා කරයි. පළමු පදය උක්තය ද දෙවැන්න උක්ත පූරණ පදය ද වසයෙනි. මේ පද දෙක ම උක්ත රූපයෙන් තැබිය යුතු වෙයි. මේ රීතිය උක්ත පූරණ යෝගය යනුවෙන් ද හැඳින්වේ.

**3. ප්‍රශ්න වාචී යෙදුමකින් අවසන් වන වාක්‍යයක යෙදෙන කර්තෘ වාචක නාම පදය අනුක්ත ස්වරූපය ගනී.**

ඇයි? කෙසේ ද? කවදා ද? මොනවා ද? වැනි ප්‍රශ්න වාචී යෙදුම් හා බැඳෙන නාම පද අනුක්ත රූපයෙන් සිටී.

උදාහරණ:- **මිනිසුන්** අවංක නොවන්නේ ඇයි?
දක්ෂ **ක්‍රීඩිකාවක** වන්නේ කෙසේ ද?
අප සාමය ළඟා කර ගන්නේ කවදා ද?
සංගමයේ **සාමාජිකයන්** බලාපොරොත්තු වන්නේ මොනවා ද?

**4. ඇත, නැත, හැකි, යුතු, මැනවි, යෙහෙකි, වටී යන පදයකින් අවසන් වන වාක්‍යයන්හි කර්තෘ වාචක නාම පදය අනුක්ත ස්වරූපය ගනී.**

උදාහරණ:- **ගුරුවරුන්** කල් ඇතිව පාසලට පැමිණෙනු ඇත.
**සිසුන්** පන්තියට පැමිණ නැත.
**අප** සමගිදම් රැකිය යුතු ය.
**පයින් යන්නන්** පාරේ දකුණු පසින් යා යුතු ය.
සියලු **මිනිසුන්** සත්‍යගරුක විය යුතු ය.
**මා** මහණදම් පිරිය යුතු ය.
**පයින් යන්නන්** පාරේ දකුණු පසින් යෑම මැනවි.
සියලු **මිනිසුන්** සත්‍යගරුක වීම මැනවි.
**අප** මේ ගැටලුව නිරාකරණය කර ගැනීම සඳහා අධිකරණය හමුවට යෑම මැනවි.
**අප** ගිලනුන්ට උවටැන් කරනු වටී.
**ඔවුන්** එය වටහා ගැනීම යෙහෙකි.

**5. ඇත, නැත, හැකි, යුතු යන රූප වරනැඟී වාක්‍යයක යෙදෙන කල ඊට සම්බන්ධ වන කර්තෘ උක්ත ස්වරූපය ගනී.**

උදාහරණ:- **මම** එය කියවා ඇත්තෙමි.
**අපි** සමගිදම් රැකිය යුත්තෙමු.
**පයින් යන්නෝ** පාරේ දකුණු පසින් යා යුත්තාහ.
සියලු **මිනිස්සු** සත්‍යගරුක විය යුත්තෝ ය.
**මම** මහණදම් පිරිය යුත්තෙමි.
**තෙපි** සත්‍යගරුක විය යුත්තහු.

**6. තෙමේ, තොමෝ, තුමූ පද භාවිතය**

තෙමේ, තොමෝ, තුමූ ප්‍රාණවාචී සර්ව නාම උක්ත රූප වේ.
'තෙමේ' යන්න පුරුෂ ලිංග ඒක වචන යි.
'තොමෝ' යන්න ස්ත්‍රී ලිංග ඒකවචන යි.

තෙමේ, තොමෝ යන දෙකෙහි බහු වචනය 'තුමූ' වේ. 'තෙමේ' යන්න 'තෙම' ලෙස ද භාවිත වේ.
මේ පද උක්තය වසයෙන් යෙදෙන කල වාක්‍ය ගැළපීම මෙසේ සිදු වේ.

උදාහරණ :-**ඒ තෙම/තෙමේ** ගමට **ගියේ** ය.
**ඕ තොමෝ** ගමට **ගියා** ය.
**ඔවුහු තුමූ** ගමට **ගියහ**.

තෙමේ/තොමෝ යන පද, පාලි හා සංස්කෘත භාෂාවලින් ගන්නා ලද අප්‍රාණවාචී අර්ථ ඇතත් පාලි හා සංස්කෘත භාෂාවන්හි ස්ත්‍රී වාචී හෝ පුරුෂ වාචී සේ සැලකෙන නාම හා සංයෝගව උක්ත වන අවස්ථා ද දැක ගත හැකි වේ. එහි දී ප්‍රාණවාචී අර්ථයක් පළ කළත් ක්‍රියා පදය ඒක වචනයෙන් ම තැබීම සම්මත රීතිය වේ.

උදාහරණ:- **සූර්ය තෙම/තෙමේ** චණ්ඩ රශ්මිය පතුරුවන්නට විය.
**සභා තොමෝ** සතුටින් විසිර ගියා ය.
**නදී තොමෝ** සෙමෙන් ගලා බසින්නී ය.

මේ පද සභාව, නදිය ඈ විසින් සිංහල රීතිය අනුව අප්‍රාණවාචී සේ වරනඟා යෙදීමේ දී ද ඇතැමුන් මේ පද ස්ත්‍රී ලිංග සේ සලකා 'සභාව තීරණය කළා ය', 'නදිය ගලා බස්නී ය' ආදි වශයෙන් ආඛ්‍යාතය ස්ත්‍රී වාචී ලෙස තබනු දක්නට ලැබේ. එහි දී අප්‍රාණවාචී පදයක් උක්තය වශයෙන් යෙදෙන කල අනුගමනය කරන සිංහල රීතිය අනුව වාක්‍ය නිර්මාණය මැනවි.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් වාක්‍ය සදොස් නම් ඊට හේතු දක්වා නිදොස් කර ලියන්න.**

   i. දෙස බස රැක ගැනීමට අපි නිබඳව තැත් කළ යුතු ය.
   ii. සියලු දේශපාලනඥයෝ ආත්මාර්ථකාමී පුද්ගලයන් නො වේ.
   iii. දරුවෝ දෙමාපියන්ට කීකරු වීම මැනවි.
   iv. ගුරුවරු මීට පක්ෂව දැක්වූ අදහස් කවරේ ද?
   v. ඕ තොමෝ ආදරයෙන් මවුපියන් රැක බලා ගත්තේ ය.
   vi. ඔවුන් නිදහස පතා සටන් කළ යුත්තෝ ය.

2. **නිවැරදි වාක්‍යයක් වීම සඳහා සුදුසු පදය වරහන් තුළින් තෝරා ලියන්න.**

   i. සියලු ජයග්‍රාහකයෝ පැරකුම් විද්‍යාලයේ (ශිෂ්‍යයන්/ශිෂ්‍යයෝ) වූහ.
   ii. නිවැරදි වියරණ රීති (අපි/අප) අනුගමනය කළ යුතු ය.
   iii. නො පසුබට උත්සාහයෙන් කටයුතු කළ ඕ තොමෝ මෙවර විභාගයෙන් සමත් (වූවා ය/විය).
   iv. සියලු (රියැදුරන්/රියැදුරෝ) මාර්ග නීති අනුගමනය කළ යුත්තෝ ය.
   v. පොදු ප්‍රශ්න විසඳීම සඳහා (නගරවාසීහු/නගරවාසීන්) ඉදිරිපත් වීම මැනවි.

# 10 පුවත්පත් විශේෂාංග ලිපි

**පුවත්පතක පළ වන විවිධ ලිපි අතරින් විශේෂාංග ලිපිවලට වැදගත් තැනක් හිමි වෙයි. එදිනෙදා සිදුවීම් සම්බන්ධ වාර්තා ද වෙනත් වාර්තා ද නිවේදන සහ දැන්වීම් ද කතුවැකිය, කාටූන් චිත්‍ර හා සම්මුඛ සාකච්ඡා ද විශේෂ ශාස්ත්‍රීය ලිපි ද හැරුණු විට පොදු පාඨකයාගේ උනන්දුව දල්වන අගයකින් යුතු පුවත්පත් ලිපි, විශේෂාංග ලිපි ගණයෙහි ලා සැලකෙයි. විශේෂාංග ලිපියක් නිර්මාණාත්මක ගුණයෙන් ද යුක්ත වීම අපේක්ෂා කෙරේ. මේ පාඩම එවැනි විශේෂාංග ලිපියක් නිර්මාණය කිරීමේ කුසලතාව වර්ධනය කිරීමේ අරමුණින් සම්පාදනය වූවකි.**

විශේෂාංග ලිපියක් ප්‍රවෘත්තියක් හෝ වාර්තාවක් මෙන් ම සමාජ වැදගත්කමකින් යුක්ත වෙනත් මූලාශ්‍රයයක් ද පදනම් කොට ගනිමින් සම්පාදනය කළ හැකි ය. එහි ප්‍රධාන ලක්ෂණය විය යුත්තේ පාඨකයා කියවීමට ප්‍රිය කරන මාතෘකාවක් නො ව පාඨකයාට වැදගත් වන මාතෘකාවක් අළලා සම්පාදනය විය යුතු වීම යි.

මහජන සුබසිද්ධිය සඳහා වන මාධ්‍ය ආචාරධර්ම ආරක්ෂා කරමින් මූලාශ්‍රයයට අදාළ සෑම පැතිකඩක් ම ආවරණය වන පරිදි සිදු කෙරෙන නිර්මාණාත්මක විග්‍රහයකින් යුක්ත වීම මෙන් ම අන්තර්ගතය සමබර වීම ද එහි ලා අත්‍යවශ්‍ය වේ. ඒ සියල්ල සමඟින් වැදගත් වන්නේ රචනයේ නිර්මාණාත්මක ගුණය යි. එනම් ඉදිරිපත් කරන කරුණු අපූර්වත්වයකින් යුතුව ගෙන හැර පෑමේ කුසලතාව යි.

විශේෂාංග ලිපියක් එහි අන්තර්ගත කරුණු සම්බන්ධ සෑම පාර්ශ්වයක් ම ආවරණය කරමින් සම්පාදනය කරන ලද්දක් විය යුතු ය. තොරතුරු, කරුණු හා දත්ත ආදිය පදනම් කර ගනිමින් පාඨකයාට නව දැනුම ලබා දෙන ආකාරයෙන් සම්පාදනය විය යුතු ය. ඒ සඳහා රචකයා අදාළ කරුණු ගවේෂණයෙහි නිරත විය යුතු ය.

විශේෂාංග ලිපියක් රචකයාගේ පෞද්ගලික අදහස් හා මතවාද ප්‍රකාශ නො කෙරෙන්නක් මෙන් ම ලේඛකයා සිය සිතැඟි අනුව සම්පාදනය කරන රචනයක් විය යුතු ය.

ප්‍රස්තුතය සම්බන්ධ සමාජ සංවාදයකට තුඩු දෙන්නක් වීම මෙන් ම පාඨකයාගේ දැනුම අවදි කිරීමක් ද එමඟින් සිදු විය යුතු ය. විශේෂාංග ලිපියක් යනු රසවත් කතාන්තරයක් නො වේ. මුල් ප්‍රවෘත්තිය දන්නා පාඨකයාට ඒ සම්බන්ධ ප්‍රකාශ, සංඛ්‍යා, දත්ත ආදිය මාර්ගයෙන් හා විවිධ කෝණ ඔස්සේ ගැඹුරු අවබෝධයක් එමඟින් ලබා ගත හැකි වීම අපේක්ෂා කෙරේ.

පහත දී ඇති ප්‍රවෘත්ති වාර්තාව කියවන්න.

## ඉංජිනේරුවන්ට අපහසු වැඩක් ගොවියකුගෙන් ඉටු වේ

මහවැලි අධිකාරිය විසින් ජලය සැපයිය නොහැකි යැ යි අත්හැර දමා තිබුණු අක්කර 100ක පමණ බිමක් එක්තරා ගොවි මහතකුගේ වෑයම නිසා සාරවත් කුඹුරු යායක් බවට පත් වී ඇති සැටි බරවාකුඹුකේ අබේසේකර ගමෙන් වාර්තා වේ.

මේ ඉඩම ගොවි ජනතාව අතර බෙදා දී අවුරුදු 20ක් පමණ ගත වුව ද, ඇළ පිහිටියේ ඉඩම්වලට පහළින් නිසා වතුර ලබා ගැනීමට අපහසු විය. ඒ ඉඩම්වලට ජලය සැපයීම කළ නොහැකි දෙයක් බව වාරිමාර්ග ඉංජිනේරුවෝ පැවසූහ. මේ නිසා කුඹුරු සඳහා රජය ලබා දුන් ඉඩම් හේන් යායක් බවට පත් විය.

මේ අතර ඩබ්ලියු. සියදෝරිස් නමැති 50 හැවිරිදි ගොවි මහතෙක් තමාගේ වුවමනාවෙන් තනිව ම කුඩා වැවකින් ඇළක් කපා මේ ඉඩම්වලට වතුර සැපයුවේ ය. හේන් යාය සාරවත් කුඹුරු යායක් බවට පත් විය.

පසුගිය කන්නයේ හම්බන්තොට දිස්ත්‍රික්කයේ වාර්තාගත වී අස්වැන්නක් මේ කුඹුරු යායෙන් ලැබී තිබේ.

පහතින් පළ වන්නේ එම ප්‍රවෘත්තිය පදනම් කොට ගත් නිර්මාණාත්මක විවරණයකි:

## බරවාකුඹුකේ සියදෝරිස් ව්‍යාපාරය

ගිනි කාෂ්ටක අව්ව!

දෑසට මහා ගිනියමක් දැනිණ.

ගිනි කබලක් මත දෙපා රඳවා සිටින ආකාරයක් ඔහුට දැනිණ. ඔහු ගමන ඉක්මන් කළේ ය. ඔහුගේ කරට නැඟ සැතපුම් ගණන් ගමන් කරන උදැල්ල ඔහුට අද බරකි. කෙණ්ඩා ද රිදේ. කුලී වැඩක් සොයා ගෙන යන මේ ගමන දිනපතා කළ නොහැකි ය. ඔහුගේ සිතට කේන්තියක් ද ශෝකයක් ද නැගිණ. හැඩි දැඩි සිරුරක් තිබුණ ද, සවි ශක්තිය නො අඩු වුව ද තාමත් ඔහු දුප්පත්කමට පරාද ය.

ඔහුගේ නම සියදෝරිස් ය. උපන් ගම හක්මන, වේපතඉර ය. ගමේ ඉඩම්වලින් හතරෙන් තුනක් ම උරුම වූයේ ගමේ පන්සලට සහ තවත් පවුල් දෙකකට ය. ඉතිරි හතරෙන් පංගුවේ හත් අට සීයක් පවුල් ජීවත් වූහ. සියදෝරිස්ගේ පියාට අයත් වූයේ අක්කර කාලකටත් වඩා අඩු ඉඩම් කැබැල්ලකි. පවුලේ අට දෙනෙකි. ඔවුන් අතර බෙදී යෑමට තරම් ඒ ඉඩම ලොකු නො වී ය.

සියදෝරිස් මාතර පැවති ඉඩම් කච්චේරියකට ගියේ ඒ නිසා ය. ඔහුට චන්ද්‍රිකා වැව යෝජනා ක්‍රමය යටතේ බරවාකුඹුක අබේසේකර ගමෙන් අක්කර තුනක කුඹුරු ද, අක්කර දෙකක ගොඩ ඉඩම් ද ලැබිණ.

සියදෝරිස් ඉඩම් ලැබුණු පුවත ගමට කීවේ ඉහවහා ගිය සතුටිනි.

"අක්කර කාලෙන් කාලක් වත් නැති මිනිහෙකුට අක්කර පහක්.!" මෙය ඉවසුම් නො දෙන සතුටකි. ඔහුගේ කිසි ම නෑදෑයකුට මේ තරම් විශාල ඉඩමක් නැත.

හට්ටි මුට්ටි, පැදුරු කොට්ට ආදි ලට්ට ලොට්ට ලොරියක පටවා ගෙන ඔහු අබේසේකර ගම පදිංචියට ආවේ ය.

අලුත් ඉඩම්වල වූයේ කටු අකුල් ය. ලඳු කැලෑ ය. ඒ ඉඩම්වල ඇවිදින විට ඔහුගේ පයට ගිනියමක් දැනුණේ නැත. මහ පොළොව මහත් සතුටින් පතුල් සිඹිනවා මෙන් දැනිණ.

"රත්තරන් පොළොව.!"

ඔහු පස් ටිකක් අතට ගෙන සිය බිරියට පෙන්වමින් කී ය.

එහෙත් පසුව ඔහු ඒ පොළොව හැඳින්වූයේ 'යකඩ පොළොව' කියා ය. කපා ඇති ඇළවල් ඒ පොළොවට වතුර නො දීම ඊට හේතුව විය.

සියදෝරිස් සමග අලුත් ඉඩම්වලට ආ පවුල් තිස් පහට ම වතුර ලැබෙන මඟක් නො වී ය. මේ නිසා ඔවුන්ට සිය ඉඩම්වල වගා කිරීම අපහසු විය.

සියදෝරිස් ඇතුළු පිරිස වතුර ඉල්ලා රජයේ කාර්යාලවලට යැවූ පෙත්සම්වලින් පලක් නො විණ. ඇළ ගියේ ඉඩම්වලට පහළිනි.
"කරන්න දෙයක් නැහැ. මුලින් ම වෙච්ච වැරැද්දක් මේක," නිලධාරීහු කීහ.

සියදෝරිස් සමග අනෙක් ගොවීහු වැසි කාලයට සිය ඉඩම්වල මුං ඇට වපුළහ; රට කජු සිටවූහ. එපමණි.

වතුර ලැබෙන ඉඩම්වල කුලීකාරයන් බවට සියදෝරිස්ලා පත් වූහ.

"අපි ඉතින් ගමේ ගත කරපු ජීවිතේ තමයි තාමත් ගෙවන්නෙ," බිරිය ඔහුට නිතර කීවා ය. ඇගේ කනපින්දම ඔහුට වධයක් විය.

"අපි මේව අතහැරල කොහේ හරි යමු," ඈ යෝජනා කළා ය. මඳ වේලාවක් නිහඬ ව සිටීමෙන් පසු,

"මේවා රත්තරන් ඉඩම්," යි සියදෝරිස් කීවේ ය.

"රත්තරන් හැංගිලා. ගල් බොරලු මතු වෙලා... අපට ඕවායින් වැඩක් නැහැ," ඈ පිළිතුරු දුන්නා ය.

"ඉඩම්වලට වතුර ආවොත් හැංගිච්ච රත්තරන් මතු වේවි," සියදෝරිස් කී ය.

ඔහුගේ පුත්තු තිදෙනා සහ දුව ගියේ අබේසේකර ගම පාසලට ය. අම්මාත්, තාත්තාත් කුලී වැඩට ගිය දිනවල දුවට ගෙදර නතර වීමට සිදු වේ. පුතුන් ඉගෙනීමට දක්ෂ වුව ද ඔවුන්ගේ පාසල් ගමන කඩින් කඩ කැඩිණ.

වතුර ඉල්ලා රජයේ ලොකු තැන්වලට ලියූ පෙත්සම් තැපෑලට දැමීමට ගිය වියදම්වල වටිනාකම සියදෝරිස් මාසයක් ම කුලී වැඩ කොට ලබා ගත් මුදලට සමාන විය.

"මං තවත් නම් පෙත්සම් ලියන්නේ නැහැ," යි ඔහු කී ය.

ඒ පුර පසළොස්වක පෝය දවසකි.

සියදෝරිස් අබේසේකරගම පාසල අසලින් වැටුණු පාර දිගේ ගොස් රොට වැවේ ඉවුරට නැඟුණේ ය.

ඔහුට ඔහුගේ ඉඩම පිහිටි ඉසව්ව එතැනට පෙනිණ. ඔහු ඒ දෙස බලමින් සුසුමක් හෙළුවේ ය. ඒ සමග ම ඔහුට පෙනුණේ රොට වැවේ පිටවාන ය.

හැමදා ම රොට වැවේ පිටවානෙන් විශාල වතුර ප්‍රමාණයක් පිටතට ගලා ගොස් මහ ඇළට වැටේ.

රොට වැව යටතේ ඇති කුඹුරුවල ගොවීන්ට දෙකන්න පුරා ම බත් කන්නට ලැබේ.

'ලොකු වතුර කඳක් පිට වී යනව. ඒත් අපේ ඉඩම්වලට වතුර බිංදුවක් නැහැ,' යි සිතූ ඔහු ඉවුර දිගේ පහළට බැස සිය ඉඩම් කට්ටි ඇති දිසාවට යළි දෑස යැවී ය.

'පෝය නිසා අද කුලී වැඩත් නැහැ.'

ඔහු උදැල්ල අතට ගත්තේ ය. උදැල්ල ඔහුගේ අතේ ම ය. එය ශරීරයේ ම කොටසක් මෙනි.

සිතේ කෙටූ විදුලියක් මෙන් ඔහුට ක්ෂණික අදහසක් පහළ විය. ඔහු වැව දෙසත්, සිය ඉඩම දෙසත් බැලී ය.

'හැතැප්ම බාගෙකට වැඩිය දුර නැහැ.'

උදැල්ලෙන් පොළොවේ 'මග' ලකුණු කරමින් ඔහු සිය ඉඩම දෙසට ගමන් කළේ ය; තැන තැන කැපුවේ ය; ලකුණු කළේ ය. ඉඩම්වලට ළං වන විට පැය දෙකක් පමණ ගෙවිණි. ඔහු ආපසු වැව දෙස බැලී ය.

"මට වරදින්න බැහැ. මට ඕන විදියට තමයි පොළොව පිහිටල තියෙන්නෙ. ආපු පාර හොඳයි," ඔහු සිය බිරියට කීවේ ය.

"මොකක්? ඔළුව නරක් වේගෙන එනව වගේ." ඇයට කියැවිණි.

"ඔළුව නරක් වේවි තව ටිකක් කලක් මෙහෙම හිටියොත්."

"ඔය විධියට වතුර ගන්න පුළුවන් නම් මෙච්චර කල් මෙහාට ආපු ඉංජිනේරු මහත්වරුන්ට ඇයි ඕක පෙනුණෙ නැත්තෙ?" සියදෝරිස් සිනා සුණේ ය.

"අපේ ඉඩම් මහ ඇළට උඩින් නිසා ලොක්කෝ ඕක අත ඇරල දැම්ම. වතුර ලැබෙන මගක් හදා දෙන්න උන්නැහේලට ඕන නැහැ. ඕනකම තියෙන්නෙ අපට. අපි ඒක කරන්න ඕන."

"ඉතිං දැන් මොකක් ද කරන්න යන්නෙ?"

"ඇළක් කපනවා."

"තනියම?"

"නැහැ. මෙහේ ඉන්න කාටත් කතා කරනවා."

"ඒවි ද?"

"ඒවි."

එදා රාත්‍රී සඳපානේ ඔහු සිය අසල්වැසියන් සමඟ මේ ගැන කතා කළේ ය.

"පලයන් සියදෝරිස් පිස්සු කතා නො කර. උඹ ම නේ පෙත්සම් ගහල වතුර ගන්න හැදුවෙ. දැන් උඹ ඇළක් කපන්න යනව," ඔවුහු කීහ.

"පෙත්සම් ගහල බැරි තැන තමයි මම මෙහෙම දෙයක් ගැන හිතුවෙ. මං ඇළ පාර ලකුණු කළා. උඹලත් මට එකතු වෙයල්ල."

"ඕකට ගත කරන්න අපට වෙලාවක් නැහැ. හෙට අපට වැටිය යායෙ වැඩ තියෙනව."

"කුලී වැඩවලින් නිදහස් වෙලා අපේ ම කුඹුරක වැඩ කරන්නයි මට ඕන."

"වතුර ලැබුණු කාලෙක අපිත් එහෙම කරනවා."

සියදෝරිස් පසු දා උදෑසන උදැල්ල ගෙන අර ලකුණු කළ මාර්ගයේ කොටසක් ගැඹුරට කැපුවේ ය. සවස් වන විට ඔහු යාර තුන්සීයක් පමණ දුරට අඟල් හයක් පමණ ගැඹුරට ඇළ කැපුවේ ය.

කුලී වැඩ කොට සවස ගෙදර එන මිනිසුන්ට තනියම ඇළ කපන සියදෝරිස් පෙනිණ.

"ගොන් බඳින කණුවක්!" යි කියමින් ඔවුහු සිනා සුණහ.

සියදෝරිස්ගේ බිරිය සර්ප විෂ වෛද්‍ය අබේසේකර මහතාගේ නිවෙසේ වැඩ කිරීමට ගියා ය. ඇයට හාල් සහ තුනපහ ටිකක් ඒ නිවෙසින් ලැබිණ.

පසු දා ද සියදෝරිස් ඇළ කැපීමට ගියේ ය. බිරියට වෙද නිවසේ වැඩ තුබුණු හෙයින් ඒ සතියේ ම ඔහුට ඇළ කැපීමට හැකි විය.

සතියකට පසු ඇළ බැලීමට ආ අසල්වැසියෙක්,

"ඔය ඇළ දිගේ වතුර ඒවි ය?" ඇසී ය.

සියදෝරිස් පිළිතුරු දුන්නේ නැත.

"අපේ ඉඩම්වලට නම් ඔය වතුර ගෙනියන්න බැහැ. අර හරියෙන් උසයි," තවත් අසල්වැසියෙක් කී ය.

සියදෝරිස් ඇළ මඟ ලකුණු කෙළේ උස් තැන් මඟහරිමිනි. දෙවන සතියේ ඒ ඉඩම්වලට අර කුඩා ඇළ සම්බන්ධ විය. රොට වැව සිය ඉඩම්වලට සම්බන්ධ වී ඇති සැටි එදා සවස කුලී වැඩට ගොස් පැමිණි අසල්වැසියනට පෙනිණ.

"හෙට උදේ වැව ළඟ ඉතිරි ටිකත් කපනවා. එතකොට ඇළට වතුර එනවා. උඹලා ඒක බලන්න වරෙල්ලා."

සියදෝරිස් කීවේ ආඩම්බරයෙනි.

ඔහු ගේ සිරුර අඩකින් පමණ කෙට්ටු වී ඇති සැටි ඔවුන්ට පෙනිණ.

පසු දා උදෑසන ඔවුහු වැව ළඟට පැමිණියහ. ඇළත්, වැවත් අතර පස ඉවත් කිරීමත් සමඟ ඇළට වැව් වතුර ආවේ ය. මඟ නතර වෙමින්, හෙමින් හෙමින් ඒ ඉඩම්වලට වතුර ගැලුවේ ය.

මිනිස්සු ප්‍රීතියෙන් කෑගැසූහ.

"සියදෝරිස් අයියා දිනුවා!" එක් කුලීකාරයෙක් කී ය.

"නැහැ. අපි ඔක්කොම දිනුවා," සියදෝරිස් අයියා කී ය.

මිනිස්සු කෑගැසූහ.

එදා පවුල් තිස් පහේ ම අය උදලු ගෙන ඇළ ගැඹුරට පළලට කැපීම ඇරැඹූහ.

තවත් දෙසතියකට පසු ඉඩම් වගා කිරීමට සෑහෙන තරමට වතුර ප්‍රමාණයක් ලබා ගත හැකි විය.

මේ ආරංචිය ඇසූ ජනපද නිලධාරී ගාමිණී ජී. පුංචිහේවා මහතා අබේසේකර ගමට පැමිණියේ ය.

රජයේ ඉඩම්වල අනවසරයෙන් ඇළක් කැපීම නිසා සියදෝරිස්ට හිර ගෙදරට යන්නට සිදු වනු ඇතියි සමහරු කීහ.

එහෙත් පුංචිහේවා මහතා සියදෝරිස්ගේ අත සිඹ ඔහුට සිය ප්‍රශංසාව පළ කළේ ය.

"රන් පවුම් දෙන්න වටින වැඩක් මේක!" ඔහු කීවේ ය.

ඊළඟ කන්නේ මුළු පළාතෙන් ම වැඩි අස්වැන්නක් ලැබුණේ ඒ ඉඩම්වලිනි.

මෙය 'සියදෝරිස් ව්‍යාපාරය' නමින් ප්‍රකට විය. අද පවුල් හැත්තෑවකට වැඩි ප්‍රමාණයක් මේ ඇළ නිසා ජීවත් වෙති.

සියදෝරිස් දැන් මහලු ය. ඔහුට උදැල්ල ඇල්ලිය නොහැකි ය. එහෙත් ඔහුට අග හිඟයක් නැත. ඔහුගේ කුඹුරෙන් ලැබෙන අස්වැන්නට අමතර ගමේ ගොවි තරුණයෝ ද ඔහුට වී සහල් සපයති.

"ලෝකයේ ඔබට ඇති මිහිරි ම හඬ කුමක් දැ?"යි ඇසූ විට ඔහු මෙසේ පිළිතුරු දෙයි:
"අර ඇළේ වතුර බසින හඬ."

**පුවත්පත් විශේෂාංග රචනය, දෙනගම සිරිවර්ධන**

**පුවත්පත්වල විවිධාකාර වූ විශේෂාංග ලිපි දක්නට ලැබේ.**

## පුද්ගල චරිත වටා ගෙතුණු විශේෂාංග ලිපි

උදාහරණ:- 'අප්‍රිකානු සිංහයා ලොවෙන් සමුගනී'

නෙල්සන් මැන්ඩෙලාගේ ළමා කාලය, තම ජාතීන්ගේ නිදහස පතා සටන් කිරීම, සිරගතව ගෙවූ ජීවිතය, හිරෙන් නිදහස්ව පැමිණ දකුණු අප්‍රිකාව නිදහස් දේශයක් කිරීම, ඔහුගේ චරිතයෙන් ගත හැකි ආදර්ශ ආදී තොරතුරු එහි අන්තර්ගත වේ.

## චාරිකා ඇසුරෙන් ලියැවෙන විශේෂාංග ලිපි

උදාහරණ:- 'නෙත් සිත් ඇද බැඳ ගන්නා පේරාදෙණිය රාජකීය උද්‍යානය'

පේරාදෙණිය උද්භිද උද්‍යානයේ ආරම්භය, පිහිටීම, එහි ඇති ශාක වර්ග, එහි වටිනාකම හා එහි සුන්දරත්වය.

## යම් නිර්මාණ ඇසුරෙන් ලියැවුණු විශේෂාංග ලිපි

උදාහරණ:- 'ළමා ලොවේ සදාකාලික මිතුරා - අඹ යහළුවෝ'

ටී.බී. ඉලංගරත්න මහතාගේ 'අඹ යහළුවෝ' ළමා නවකතාව හා එහි අන්තර්ගතයෙන් ළමා ලොවට දෙන පණිවිඩය.

## විද්‍යාත්මක තොරතුරු ඇසුරින් ලියැවෙන විශේෂාංග ලිපි

උදාහරණ:- 'ඩෙංගු මදුරු බිත්තර පාලනයට ඉස්ගෙඩියන්ගේ දායකත්වය'

ඩෙංගු මදුරු වසංගතය දුරු කිරීමේ අසීරුතාව හා ඒ සඳහා මදුරු බිත්තර පාලනයට ඉස්ගෙඩියන් යොදා ගැනීමෙන් කළ අධ්‍යයනයක් ඇසුරෙන් ලියැවුණු විශේෂාංග ලිපියක්.

## විචාර විශේෂාංග ලිපි

උදාහරණ :- 'හැම අත්දැකීමක් ම නිර්මාණ රචකයකුට වැදගත්'

නිර්මාණාත්මක කෘතියක් පිළිබඳව විචාරාත්මකව ලියැවෙන විශේෂාංග.

## දරුවන්ගේ කුතුහලය දනවන විශේෂාංග ලිපි

උදාහරණ:- 'කුහුඹු ලොවේ රස තොරතුරු'

කුහුඹුවන්, ඔවුන්ගේ චර්යාවන් හා ජීවන රටාව ආදි තොරතුරු අන්තර්ගත වන විශේෂාංගයක්.

මෙවැනි විවිධ විශේෂාංග ලිපි කොතෙකුත් පුවත්පත්වල දක්නට ලැබේ.

### විශේෂාංග ලිපි රචනයේ දී අවධානය යොමු කළ යුතු කරුණු.

- විශේෂාංග ලිපියක් ලිවීමේ දී හැමට එය එක සේ තේරුම් ගැනීමට හැකි වන පරිදි භාෂාව ඉතා සරලව යොදා ගත යුතු ය.
- ඕනෑ ම කටුක පුවතක් රසවත් ලෙස ඉදිරිපත් විය යුතු ය.
- ආරම්භය ආකර්ෂණශීලී විය යුතුවාක් මෙන් ම මුළු අරුත කැටි කර දක්වන අවසානයක් ද තිබිය යුතු ය.
- ලේඛනය වඩාත් හෘදයංගම ව ඉදිරිපත් කළ යුතු අතර සිද්ධියේ හැම පැත්තක් ම විවරණය වී තිබිය යුතු ය.
- අනවශ්‍ය වැල් වටාරම් ඇතුළත් නො කර සංක්ෂිප්ත ව අදාළ කරුණු පමණක් තෝරා ගෙන පාඨකයා ග්‍රහණය වන ලෙසත් කුතුහලය දනවන ලෙසත් ලිවිය යුතු ය.
- ප්‍රස්තාර, අධෝ ලිපි, සංඛ්‍යා ලේඛන ආදිය ඊට ඇතුළත් නො කළ යුතු අතර පෞද්ගලික චරිතයකට හෝ ආගමකට හෝ ජාතියකට හෝ අපහාසයක් සිදු නො වන ලෙස ලිවිය යුතු ය. සදාචාරාත්මක බව සුරැකිය යුතු ය.
- හැම විට ම සත්‍ය කරුණු පමණක් ම ඊට ඇතුළත් විය යුතු ය.
- අධිකරණයේ නඩු විභාගයක් පැවැත්වෙන කරුණක් පිළිබඳව ලිවීමේ දී ඊට යම් බලපෑමක් සිදු නො වන ලෙස ලිවිය යුතු ය.
- ශීර්ෂ පාඨය සිත් ගන්නාසුලු ලෙස යොදා ගත යුතු ය.

## ලිඛිත අභ්‍යාස

1. පහත දී ඇති ප්‍රවෘත්ති ඇසුරින් විශේෂාංග ලිපි සකසන්න.

i.

**තෙල් කාන්දුවෙන් සයුරට හානි**

පසුගියදා පානදුර අවට මුහුදේ නැංගුරම් ලා තිබූ නෞකාවක් මුහුදුබත් වීමත් සමග එහි තිබූ තෙල් විශාල ප්‍රමාණයක් අවට සාගරයට මුසු විය. හැම වසරකට ම මෙලෙස තෙල් ගැලුම් මිලියන 706ක් පමණ සාගරයට එකතු වේ.

ii.

**සාමාන්‍ය පෙළ උසස් ලෙස සමත් වන්නට**

**දෑත් අහිමි ශිෂ්‍යාවක් සමත් වෙයි.**

දෑත් අහිමි වුව ද, දකුණු පාදයෙන් අ.පො.ස. සාමාන්‍ය පෙළ විභාගයට පිළිතුරු ලියා විශිෂ්ට සම්මාන 6ක් සහිතව සමත් වන්නට විදුජය විද්‍යාලයේ ජයනි බණ්ඩාර ශිෂ්‍යාව සමත් වූවා ය.

උපතින් ම දෑත් අහිමි ඇය තම සියලු කටයුතු තමා විසින් ම කර ගැනීමට පුංචි අවධියේ සිට ම පුරුදුව සිටියා ය. ඇය අධ්‍යාපන කටයුතු මෙන් ම විෂය බාහිර කටයුතු ද මැනවින් ඉටු කළ බව ඇය උගත් පාසලේ විදුහල්පතිතුමා පවසයි.

2. වඩාත් ඔබ සිත් ගත් සිදුවීමක් ඇසුරු කරගෙන විශේෂාංග ලිපියක් සකසන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. මිහිර, විජය, විදුසර වැනි ළමා පුවත්පත් හා සති අන්ත පුවත්පත්වලින් විවිධ විශේෂාංග ලිපි එකතු කරන්න. ගොනුවක් සකසන්න. මෙය පන්තියේ ක්‍රියාකාරකමක් ලෙස ක්‍රියාත්මක කරන්න.

# 11

# පැරණි ජීවනෝපාය ක්‍රම හා බැඳුණු සිරිත් විරිත්

**සිරිත් විරිත් ඇදහිලි විශ්වාස යනු, රටක සංස්කෘතිය පිළිබිඹු කෙරෙන එක් පැතිකඩකි. මිනිසුන්ගේ ජීවනෝපාය මාර්ග මුල් කර ගනිමින් ද විවිධ සිරිත් විරිත්, ඇදහිලි ආදිය නිර්මාණය වී ඇත. ඒවා අධ්‍යයනය කිරීමෙන් එකී සංස්කෘතිය පිළිබඳව දැන ගැනීමටත් සහජීවනය සහ ජාතිකාභිමානය ගොඩනගා ගැනීමටත් හැකි වෙයි.**

## වී ගොවිතැන

දේශයක සභ්‍යත්වය කෙරෙහි බලපාන සාධක අතරින් එකක් නම් අර්ථ ක්‍රමය යි. ශ්‍රී ලංකාවේ සභ්‍යත්වය ගොඩ නැඟුණේ කෘෂිකර්මාන්තය ප්‍රධාන වශයෙන් වී ගොවිතැන මුල් කොට ගනිමිනි. ලංකාවේ කෘෂිකර්මාන්තය දීර්ඝ ඉතිහාසයකට හිමිකම් කියන්නකි. මනුෂ්‍යයාට යෝග්‍ය ජීවන ක්‍රමයක් ගැන, සඳහන් වන බෞද්ධ ඉගැන්වීම්වල 'සම්මා කම්මන්ත' යනුවෙන් දැක්වෙනුයේ මනුෂ්‍යයාට මෙන් ම සත්ත්ව ප්‍රජාවටත් හානිකර නොවූ ව ද චිරස්ථායී මෙන් ම ධාර්මික ද වූ වෘත්ති පිළිබඳව ය. ගොවිතැන ද බෞද්ධ ඉගැන්වීම අනුව සම්මා කම්මන්තයක් හෙවත් යහපත් ජීවනෝපායකි. වී ගොවිතැන දිවයිනේ ප්‍රධාන කෘෂිකාර්මික වගාව විය. ක්ෂේත්‍රයේ වගාව ඇරඹී දින සිට අස්වනු නෙළා ගන්නා තෙක් අනුගමනය කෙරෙන සෑම පියවරක් ම ඉමහත් වගකීමකින් සහ භක්තියකින් යුතුව ඉටු කිරීම සිංහල ගොවිතැනේ සැලකිය යුතු අංගයකි. වී ගොවිතැන හා බැඳුණු පුද පූජා සහ සිරිත් විරිත් රාශියකි.

ගොවිතැන සමග අත්‍යන්තයෙන් ම බැඳුණු අනෙක් මහාර්ඝ නිර්මාණය නම් වැව යි. මේ දිවයිනේ ස්වාධීන සභ්‍යත්වයක මුල් බිජුවට සිටුවන ලද්දේ දිවයිනේ ජනාවාස කිරීමට මුල් වූ සේ සැලකෙන විජය රජු විසින් නො ව පළමු වැව කරවූ පණ්ඩුකාභය රජු විසින් ය යනුවෙන් මාර්ටින් වික්‍රමසිංහ පවසා ඇත. දිවයිනේ ශිෂ්ටාචාරයේ අනන්‍යතා ලක්ෂණ වන්නේ වාපි සංස්කෘතියකින් පිටුබල ලැබුණක් වීම යි. වැවකින් ගොවිතැන සඳහා පළමු වරට ජලය නිකුත් කිරීම 'දියවර මංගල්‍යය' ලෙස හැඳින්විණි. දියවර මංගල්‍යය යනු වැකන්ද මත කිරි උතුරවා වැව් ජලයට වැඳ සුබ නැකතින් ගොවිබිම් වෙත ජලය නිකුත් කිරීම යි. ගොවි බිම සිංහලයෙහි 'කෙත' යනුවෙන් බහුල ව හැඳින්වෙයි. 'කුඹුර', 'වෙල', 'ලියද්ද', 'උඹර', 'කොඹර', 'ඉස්සර', 'වගා ඉස්සර', 'වගා පංගුව' යනුවෙන් ද විවිධ පළාත්වල දී කෙත හඳුන්වනු ලැබේ.

කෘෂිකාර්මික කටයුතු ප්‍රධාන වශයෙන් ම පවුලේ සාමාජිකයන්ගේ සහභාගිත්වයෙන් සිදු කෙරිණි. ප්‍රධාන පවුල් සතු වූ දාස නමින් හඳුන්වන ලද ගෘහ සේවක සේවිකාවෝ ද ඒ

සඳහා යොදා ගන්නා ලදහ. ආරාම සතු කෙත්වල කටයුතු සඳහා 'වෙහෙර් දසුන්' යනුවෙන් හඳුන්වන ලද විහාර සන්තක දාසයන් යොදවන ලද බව පෙනේ. ඇතැම් විට සාමාන්‍ය පවුලක ගොවිතැන් කටයුතු සඳහා වුව කුලී ශ්‍රමිකයන් ද යොදවා ගත් බවට සාධක හමු වෙයි. මෑතක් වන තුරුම ග්‍රාමීය ප්‍රදේශයන්හි කෘෂිකාර්මික කටයුතු ශ්‍රම හුවමාරුව මගින්, එනම්ඃ 'අත්තම් ක්‍රමය' මගින් කටයුතු සපුරා ගැනීම සිදු විය. එය සිංහලයාගේ අන්‍යෝන්‍ය සහයෝගිතාව පෙන්නුම් කරන්නකි. වී ගොවිතැන් සංස්කෘතිය ම ගොඩ නැගී ඇත්තේ, පරාර්ථකාමිත්වය පදනම් කර ගනිමිනි. මේ බව පෙන්නුම් කරන තවත් ශ්‍රම හුවමාරු අවස්ථාවක් ලෙස 'කයිය' යනුවෙන් හැඳින්වෙන අවස්ථාව සැලකිය හැකි ය. මෙය 'ගොයම් නෙළීම' හෙවත් ගොයම් කපන අවස්ථාවේ දී සිදු වේ. මේ සඳහා පිරිසට ආරාධනා කරන්නේ බුලත් අතක් රැගෙන හවස් යාමයේ ගමේ ගෙවල්වලට ගොඩවෙන ගොවියා විසින් 'හෙට මගේ කුඹුරෙ ගොයම් කැපෙනවා' යනුවෙන් පවසා බුලත් අත පිරිනැමීමෙනි. බුලත් කොළ ගත් අය කයියට සහභාගි වෙති. පැමිණෙන පිරිසට ආහාර, එනම් 'ඇඹුල' පිළියෙල කිරීම ගෙවිලිය සතු කාර්යයක් විය. 'කයිබත, මුත්තෙට්ටුව, වැදම' යනුවෙන් ද කයිය දා පිරිනමන ආහාරය හඳුන්වනු ලැබෙයි.

'කමත' නැත හොත් 'කලවිට' ගැමියන් අසීමිත භක්තියකින් සැලකූ ස්ථානයකි. ඔවුන් කමතේ දී භාවිත කළේ එදිනෙදා භාවිත කරන බස් වහර නො වේ. එහි දී උපකරණ සහ සතුන් වෙත පවා ගෞරවසම්පන්න බවක් ආරෝපණය කර ඇති බව දැකිය හැකි ය. උදැල්ල 'උදලු ගොයියා' ලෙස හැඳින්වෙන අතර මී හරක් 'අම්බරුවන්' ලෙස හැඳින්වෙති. කපා දැමූ කුඩා ගොයම් කැටි 'උප්පිඩි' ය. ගොයම් කැටි එකතු වූ විට 'ගොයම් මිටිය'කි. 'මාප් පිඩකි' ගොයම්, මිටි ගොඩ ගැසූ විට 'ගොයම් කොළයක්' ලෙස හැඳින්වෙයි.


ගොයම් නෙළීම

පළිබෝධකයන්ගෙන් වගාව ආරක්ෂා කර ගැනීම සඳහා පරිසර හිතකාමී හා සතුන්ට විනාශය ගෙන නො දෙන උපක්‍රම හා පිළිවෙත් අනුගමනය කරන ලදි. 'සොකඩ බැඳීම' මේ එක් ක්‍රමයකි. ගල් පිරවූ ටින් ආදිය එයට යොදා ගැනේ. මාතර සහ හම්බන්තොට වැනි පෙදෙස්වල 'ටකරං බැඳීම' ලෙස ද දිගාමඬුල්ලේ දී 'අතුවැල' ලෙස ද එය හැඳින්වේ. තැන් තැන්වල 'සේරංගාව' සවි කිරීම ද සතුන් පළවා හරින තවත් එක් ක්‍රමයකි. 'සේරංගාව' යනු හුළං පෙති ය. සමහරු උණපුරුක් ප්‍රයෝජනයට ගෙන වක්කඩ අසල 'දිය හොල්මන'


කමත

ඇටවීම කරති. කුරුල්ලන්ගෙන් මුළු කෙතට ම වන හානිය වළක්වා ගැනීමට, උන් සඳහා වෙන ම ලියද්දක් වෙන් කෙරිණි. 'කුරුලු පාළුව' ලෙස හැඳින්වෙන්නේ එය යි. කුඹුරට හානි කරන අලියා වැනි සතුන් එළවීම සඳහා ගොවියෝ රාත්‍රියේ පැලේ සිට කවි ගායනා කළහ. ඉන් සත්ත්ව ඝාතනයෙන් මිදෙන්නට ද ඔවුන්ට හැකි විය. අවට පරිසරයේ ඇති මඩු, කැප්පෙටියා වැනි ශාක අතු කුඹුරේ සිටුවා එමගින් කෘමි උවදුර පාලනය කර ගන්නා ලදි. මෙහි දී ප්‍රකට වන ප්‍රධාන ම කරුණ නම්, ගොවිතැන ධාර්මික ලෙස කර ගෙන යෑමට ඔවුන් වඩාත් උත්සුක වූ බව ය.



දිය හොල්මන

සියලු ම කෘෂිකාර්මික කටයුතු සුබ දින සහ නැකත් සැලකිල්ලට ගනිමින් බ්‍රහස්පතින්දා, සෙනසුරාදා, සඳුදා යන දින සුබ දවස් ලෙසත් අඟහරුවාදා, සිකුරාදා, ඉරිදා අසුබ දවස් ලෙසත් සලකන ලදි. අසුබ යැයි සැලකුණු දිනවල මෙන් ම එසේ සලකන ලද හෝරාවන්හි දීත් ගොවිතැන් කටයුතුවලින් වෙන් වී සිටීමට ගොවියා වග බලා ගත්තේ ය. සුබ වේලාව හෙවත් 'නැකත' ගැන ජන කවියක මෙසේ කියැවෙයි.

නැකත් බලා වපුරන දින නියම ය
සැපත් හොඳා සුබ පල ගෙන දීම ය
පිටත් කළා අටුවට වී ගැනුම ය
ගෙනත් නෙළා මැන වී දිය දැමුම ය

කෘෂිකාර්මික නො වන ජීවන වෘත්තීන්හි නිරත වූ ජන කොටස් ද සමාජයක වෙසෙති. නිදසුනක් වශයෙන් යකඩ හා වළං කර්මාන්තවල නිරත ශිල්පී කොටස් දැක්විය හැකි ය. මොවුන්ට කෘෂිකාර්මික භූමි නොතිබුණු අතර ඔවුන් නිරත වෘත්තියේ කාර්ය බහුලත්වය හේතුවෙන් ගොවිතැන සඳහා ගත කිරීමට කාලයක් ද නො වී ය. මේ ජන කොටස්වල නිෂ්පාදන ලබා ගන්නා ගොවියා ඒ වෙනුවෙන් මුදල් වෙනුවට කෘෂිකාර්මික නිෂ්පාදන කොටස් ඒ ඒ ශිල්පියාට ලබා දුන්නේ ය.

විහාරස්ථානයට අයත් කුඹුර පින් තකා නො මිලයේ වැඩ කර දීම ග්‍රාමීය ප්‍රාදේශවල පැවති සිරිතකි. එමෙන් ම ගමට සේවය ලබා දෙන වෙද මහතා, ගුරුතුමා වැනි අයගේ කුඹුරුවල කටයුතු මුළු ගම ම එකතු වී ඉටු කර දීමෙන් ඔවුන් සතු කෘතගුණ සැලකීමේ ගුණය හෙළි වෙයි.

වී අස්වැන්න ගෙට ගැනීමෙන් පසු මුලින් සිදු කෙරෙන 'අලුත් සහල් පූජාව' හෙවත් 'අලුත් සහල් මංගල්‍යය' ගොවියා කෙත ඇසුරෙන් ලැබූ ශික්ෂණය මනාව කියා පෑමකි. ශ්‍රී දළදා මාලිගාව, අනුරපුර ජය ශ්‍රී මහා බෝධිය, කතරගම කිරිවෙහෙර වැනි බෞද්ධයාගේ අතිපූජනීය ස්ථානවල තෙරුවන් උදෙසා පුද දීමෙන් හෙළි වන්නේ අගසස් කොටස බුදුරදුන්ටත් දෙවියන්ටත් පූජා කිරීමෙන් පුණ්‍ය චේතනා වර්ධනය කර ගැනීම හා කෘතවේදී බව යි. නුවර කලාවියේ ගොවියා පුල්ලෙයාර් (ගණ දෙවියන්) උදෙසා කිරි ඉතිරවීම ද

පවත්නා චාරිත්‍රයක් විය. අලුත් සහලෙන් විහාරයට දානය පිරිනැමීම, දෙමාපියන් ඇතුළු වැඩිහිටියන්ට අලුත් බතින් සංග්‍රහ කිරීම චාරිත්‍ර මෙන් ම එකිනෙකා අතර සහජීවනය ගොඩ නැගීමට ද හේතු වන්නකි.

## හේන් ගොවිතැන



ජලාශ්‍රිත භූමියෙහි සිදු කෙරුණු වී ගොවිතැන ළඟට සාම්ප්‍රදායික කෘෂිකර්මාන්තයෙහි වැදගත් වන්නේ 'හේන් ගොවිතැන යි'. මෙය උතුරු ඉන්දියානු ජනයා මේ දිවයිනට සංක්‍රමණය වීමට පෙර සිට ම මෙරට පැවති ගොවිතැන් ක්‍රමය සේ සැලකිය හැකි ය. වෙහෙරහේන, කොටහේන, තලාහේන, මාහේන, ගිනිගත්හේන ආදි ස්ථාන නාම ගණනාවක හමු වන 'හේන' යන පදයෙන් පෙන්නුම් කෙරෙනුයේ ඒ ප්‍රදේශවල සාම්ප්‍රදායික හේන් ගොවිතැන දීර්ඝ කාලයක් පවත්වා ගෙන ආ බව විය හැකි ය. හේන යන්න දෙමළ හුරුවට 'චේන' යනු වී ඇත. වැලිහේන යන්න 'වාලච්චේන' ලෙස දෙමළ වහරට එකතු විය.

කැලෑව කොටා, එළිපෙහෙළි කර ගිනි ලා වගාව සඳහා සකස් කළ බිම් ප්‍රදේශයක් 'හේන' යනුවෙන් හැඳින්වේ. ස්ථානය තෝරා ගැනීමේ දී භූ විෂමතාව, පස සංරක්ෂණය සහ පසෙහි සාරවත් බව පිළිබඳ අවධානය යොමු කර ඇත. ඝන ලෙස වැඩුණු පත්‍ර බහුල වෘක්ෂ සහිත තැනිතලා භූමියක් මෙන් ම වෘක්ෂ ආහාර බහුල සාරවත් පසක් තිබීම යන ලක්ෂණ මෙහි දී සැලකිල්ලට ගනු ලැබිණ. දිය මංකඩක් ආසන්නයේ තිබීම, දළ බෑවුමක් නො වීම, වන සතුන් ගමන් ගන්නා මංකඩවලින් ඈත්ව පිහිටීම සහ කණ්ඩායමට ප්‍රමාණවත් ද යන්න වැනි කරුණු කෙරෙහි වෙසෙසින් සොයා බැලිණි.



ගොවියා සුබ දිනයක තෝරා ගත් කැලයට පිවිස, සුදුසු නැකැත් වෙලාව අනුව කැත්ත සිරුරට හේත්තු කර ගනිමින්, කැත්තට ද පළමුව කැපීමට තෝරා ගත් පඳුරට ද තෙවරක් නමස්කාර කරයි. ඉන් පසු කැලේ බණ්ඩාර දෙවියන් සිහි කොට තුන් යලක් (තුන් වතාවක්) පඳුර වටා පැදකුණු කොට පළමු කැති පහර හෙළීම 'හේන් ඇල්ලීම' හෙවත් 'හේන් ගෙවඩීම' ලෙස හැඳින්වෙයි. 'වල් ඇල්ලීම' යනු ද මෙය ම ය. එහි අදහස කන්නයක වැඩ ආරම්භ කිරීම යි. මේ ආශ්‍රයෙන් නිර්මාණය වූ ජන කවියකි මේ,

ඇත්ත තමයි පවසන්නේ නියම කොට
සත්ත ඇති නැකැත් සුබ හෝරා එවිට
නිත්ත නිරන්තර දෙවියන් මුදුන් කොට
කැත්ත ගෙනැත් ගෙවඩින් මුල්පඳුර වට



පළමුවෙන් කැපීමට තෝරා ගත යුතු ගස් පිළිබඳව සම්මතයක් පැවති බව නුවර කලාවියේ මේ ජන කවියෙන් කියැවේ.

රුක් අත්තන පෙතන් පලු බෝ මී කහට
බක් මී දිවුල් කොළ බෝ දාඹු මී බට
හික් දඹ ලෝලු කොබ්බෑ කුරටි දෙමට
අත්වල අත අල්ලනු මරු මුවා කොට

කැලෑව කපා දැමීමෙන් අනතුරුව හේන් ගිනි ලෑම ද නැකතකට අනුව ම සිදු කෙරෙයි. කෝපයෙන් පුපුරමින් හේන ගිනි ලෑම සඳහා නිවසෙන් පිටත් වෙන්නට හැකි නම් ගිනි තැබීමේ කටයුත්ත වඩා හොඳින් සහ ඉක්මනින් සිදු වන බව ගොවියෝ විශ්වාස කරති. ගිනි තැබීමට පෙර තුන් වරුවක් 'හූ' යාදින්න කීම නුවර කලාවිය සහ තමන්කඩුව ප්‍රදේශයන්හි දැකිය හැකි ය. හේන් කැපූ පසු ගිනි තැබීමට පෙර සත් වරක් සතුන් පළවා හැරීමේ සිරිතක් පැවති බව දකුණු පළාතට අයත් හිනිදුම්පත්තුවෙන් දැන ගන්නට ලැබෙයි. ගිනි තබන්නට පෙර පවත්වනු ලබන 'ගිනි යාදින්න' මෙබඳු ය.

"උඩින් එන සතුන්, බිමින් එන සතුන්, කුරගානා සතුන්, කන්කුණ්ඩෝ, ගොම්බෙල්ලෝ, හකරැල්ලෝ, හින්නෝ, කුඹියෝ, මෙකී නොකී ප්‍රාණයට ඇතුළත් සියලු ම සත්වයෝ අද පටන් දෙමාසයක්/මාස එකහමාරක්/මාසයක්/සතියක්/ තුන් වරුවක්/ දෙවරුවක්/ පැය භාගයක් යන්නට පළමුවෙන් අහස මහා මේ පර්වතයේ උසට ගිනි ජාලාවක් එවන්නෙමි. ඒකට අසු නොවී අප අත වරද නො කියා, ඇළකින් දොළකින් එතෙර වී මහා නිල්වන් කැලයක් බලා පලෝ..."

හේන් ගොවිතැනේ දී අත්තම් ක්‍රමය කෙරෙහි ගොවීහු සැලකිල්ලක් දැක්වූහ. කෘෂිකාර්මික මෙවලම් හා තාක්ෂණික වශයෙන් වර්ධනය වූ යන්ත්‍ර සූත්‍ර නො පැවති ඒ යුගයේ අත්තම් ක්‍රමය නිසා ජනයා අතර අවබෝධය, සුහදතාව, සහජීවනය සහ සමගිය අනායාසයෙන් ගොඩ නැගිණි.

හේන ගිනි ලෑමෙන් පසු ලැබෙන ප්‍රථම වර්ෂාව 'අක්වැස්ස' ය. අක්වැස්සෙන් පසුව දෙවියන් බුදුන් සිහි කර ප්‍රාර්ථනා පිරුණු හදැතිව හේන් කොනක බීජ රෝපණය කිරීම සිදු වෙයි. එසේ රෝපණය කරන්නේ බඩ ඉරිගු, වට්ටක්කා, මෑ, ලබු, වැටකොළු ආදි බීජ ය. වැස්සෙන් සති දෙකක් පමණ ඉක්ම ගිය පසු කුරහන් වැපිරෙයි.

වගාවට වඩාත් ම තර්ජනයක් වන්නේ ගොවියන් 'මහ එකා' යනුවෙන් වහරන අලියා ය. ගොවීහු අලියා බිය ගැන්වීමට විවිධ උගුල් අටවති. අලින් හේනට පිවිසෙන මංකඩවල් හරහා වැලක් ඇද එහි කුඩා වැල් වළලු කිහිපයක් එල්ලා තැබෙයි. මේවාට අලි බිය වෙති. එසේ ම අලියාට ගරු කරමින් හෙවත් නම්බු දී කථා කළ විට ඌ අවනත වන බවට විශ්වාසයක් ද පවතී. යායට අලියා පැමිණි විට 'මහ එකා' යයි උස් හඬින් පවසන විට ඌ ආපසු යන්නේ මේ නිසා බව හේන් ගොවියන්ගේ විශ්වාසය යි.

## මැටි කර්මාන්තය



ආදි මිනිසා නිරත වුණු කර්මාන්ත අතර මැටි කර්මාන්තය හෙවත් කුඹල් කර්මාන්තයට හිමි වන්නේ ප්‍රධාන ස්ථානයකි. ගල් යුගයේ දඩයම් දිවියෙන් ගෘහස්ථ ගොවි ජීවිතයකට සංක්‍රමණය වීමත් සමග මැටි කර්මාන්තයට අවශ්‍ය පදනම නිර්මාණය විණි. මේ සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය ලබා ගැනීම ගංගා නිම්න ආශ්‍රිතව දිවි ගෙවූ එකී ජනයාට ඉතා පහසු විය. ඓතිහාසික තොරතුරු පුරාවිද්‍යාත්මක ව සොයා යෑමේ දී වළං කැබලි, මැටි පුවරු වෙතින් ලැබෙන පිටිබලය ඉමහති. රේඩියෝ කාබන් දින නිර්ණය අනුව දැනට ශ්‍රී ලංකාවේ හමු වූ පැරණිතම මැටි බඳුන් අවශේෂ ලැබී ඇත්තේ කෑගල්ල දිස්ත්‍රික්කයේ පිහිටා ඇති වරකාපොළ දොරවක කන්ද ගල් ලෙනෙනි. ඒවා ක්‍රි. පූ. 530ට අයත් යැයි නිර්ණය කර ඇත.

මැටි කර්මාන්තය සම්බන්ධ සිරිත් විරිත් පිළිබඳ හැදෑරීමක දී මහාවංසය, ථූපවංසය, පූජාවලිය ආදි ලිඛිත ග්‍රන්ථ හා ජනප්‍රවාද ද උපකාරී වෙයි. මැටි කාර්මිකයා 'කුම්භකාර' යනුවෙන් ද හඳුන්වනු ලැබිණ. 'කුම්භය' යනු කළගෙඩිය යි. 'කාර' යනු කරවන්නා ය.

එක් ජනප්‍රවාදයක එන පරිදි බඳුනක නිර්මාණයේ ඇරඹුම අලියෙකු මැටි පොළොවක තැබූ පාද සටහනකින් සිදු වී ඇත. මැටි පොළොවක තැබූ අලියෙකුගේ පා සටහනක් දුටු මිනිසෙකු එය සියුම් ලෙස පොළොවෙන් වෙන් කර ගත්තා ය යැයි එකී ප්‍රවාදයේ එයි.

අමු මැටි ගින්නේ පිලිස්සීමෙන් ඉතා තද බවට පත් වන නිසා වැඩි කලක් පාවිච්චි කළ හැකි විය. මේ බඳුන් සහ වෙනත් නිර්මාණ විවිධ අත්හදා බැලීම්වලට භාජන වන්නේ ඉන් පසුව ය. විවිධ හැඩ සහ ප්‍රමාණයන් උපයෝගි කර ගනිමින් මැටි බඳුන් නිර්මාණයෙහි ලා මානවයා විසින් කරන ලද අත්හදා බැලීම් විස්මය දනවනසුලු ය. මෙහි දී ඔහුගේ බුද්ධිය මෙන් ම කලා කුසලතාව හා චින්තන ශක්තිය ද ප්‍රබෝධවත් විය. ඉතා සියුම් නිර්මාණයක් වන 'මැටි කෝව' නම් උපකරණය රන් කර්මාන්තයේ දී රන් උණු කිරීම සඳහා යොදා ගැනීම එයට සාධකයකි.

ගඟෙන් මැටි හාරා ගැනීමට ගිය කුඹල් කාර්මිකයා ගඟට බැසීමට පෙර දිය දෝතක් ගෙන සිප ගත්තේ ය. මැටි හාරා ගොඩට ගෙනවිත් ගොඩ ගසා එය ආවරණය කර තැබුවේ මල් සහිත කොළ අතුවලිනි. එමගින් අනවශ්‍ය ලෙස මැටි වියළී යාම වැළකුණු අතර මල් පිදීමක් වැනි ගෞරවාන්විත හැඟීමක් ද ඒ හරහා ඇති විණි.

පාලුව, කාන්සිය, මහන්සිය මගහරවා ගැන්මට කුඹල්කරුවා ද ජන කවි ගායනා කළේ ය. මාතර කුඹල්ගම පෙදෙසින් හමු වූ ජන කවියකි මේ,

මැටි ගොඩ අනා සකපෝරුවෙ තියන්නේ
අතකින් කරකවා ගෙන ඉදි කරන්නේ
කැලයෙන් දර සොයාගෙන ගිනි පිඹින්නේ
කවුරුද මහතුනේ මගෙ දුක දකින්නේ

මැටි භාරන්න බැස ගත්තේ වළ තුළට
මැටි ගොඩ ගන්න කවුරුත් නැත උදව්වට
තනිව ම ගොඩ ගතිමි බර අරගෙන කරට
සුරිඳුනි කදිරපුර ලැබ දෙනු මැන පිහිට

මැටි කාර්මිකයාගේ විවාහයේ දී මැටියෙන් තැනූ වේදිකාවක් නිර්මාණය කෙරිණි. වර්තමානයේ භාවිත වන 'මගුල් පෝරුව' මෙනි. නිවසේ මැද අඩියක් පමණ උසට පෝරුව තනා වේළෙන්නට හැරේ. ඒ මත සුදු මල් ද ධාන්‍ය වර්ග ද අතුරා මනාල යුවළ ඒ මත නංවනු ලැබෙති. මැටියෙන් තැනූ ඇට මාලයක් මනාලයා මනාලියගේ කර පලඳවයි. මනාලියගේ දෙමාපියන් විසින් මනාලයාට දෙන දායාද අතර ප්‍රධාන වන්නේ 'සක පෝරුව යි'.

අලුතෙන් දරුවකු ඉපිද ටික දිනකින් ඉර පායාගෙන එත් ම තම ඇඟිල්ලට මැටි ස්වල්පයක් ගෙන දරුවාගේ නළලත තිලකයක් තැබීම ද දරුවා සකපෝරුවේ තබා හෙමින් වටයක් කරකවා දරුවාගේ කටේ මී පැණි ස්වල්පයක් ගෑම ද කුඹල් කර්මාන්තයේ යෙදෙන ජනයාගේ සිරිතකි.

මැටි කාර්මිකයා සොබාදහම සමග ඉතා සමීපව දිවි ගෙවී ය. ඔහුගේ කර්මාන්තයට අවශ්‍ය සියලු අමුද්‍රව්‍ය ලබා ගත්තේ මහ පොළොව ඇසුරෙනි. ඔහු කෘතවේදීව තමා ජීවත් කරවන භූමියට වන්දනා කළේ ය.

තමාට ඇති වන ලෙඩ දුක්, ව්‍යසන ආදියේ දී මොවුන් පිහිට පැතුවේ කැලෑ දෙවියන්ගෙනි. කැලෑ දෙවියන් පිදීම මුළු ගමේ ම අය එක් වී සිදු කළ කටයුත්තකි. එදිනට ප්‍රදීපාලෝක පූජාවක් පැවැත්වෙයි. ඒ ගම් නායකයාගේ නිවසේ දී ය. එමෙන් ම සෑම නිවසකින් ම නැවුම් වළඳක් ගෙනවිත් නායකයාගේ නිවසේ තැබීම ද චාරිත්‍රයකි. වනාන්තරයේ රූස්ස ගසක් යට සමතලා බිමක් තෝරා ගෙන ශුද්ධ පවිත්‍ර කරවා නියමිත දින උදේ පාන්දර සියලු දෙනා එම ස්ථානයට රැස් වී ඉර පායා ගෙන එත් ම නැගෙනහිර දෙස බලා ගිතෙල් පහන් දැල්වීම සිදු කෙරේ. සියලු පීඩාදි ව්‍යසනවලින් තමන් සුරකින ලෙස කැලෑ දෙවියන්ට ආයාචනා කරනු ලැබේ. අනතුරුව කුරුලු කොබෙයියන් උදෙසා ධාන්‍ය වර්ගවලින් යුතුව දානමය පුණ්‍යකර්මය පැවැත්වෙයි.

## අවබෝධය

1. මෙම පාඩමට තේමාව වී ඇත්තේ කුමක් ද?
2. සිංහලයාගේ පුරාණ ම ජීවනෝපායයන් ලෙස මෙම පාඩමේ දැක්වෙන වෘත්ති මොනවා ද?
3. ඒ ඒ වෘත්තීන්හි ඔබ හඳුනා ගත් පාරම්පරික ඇදහිලි විශ්වාස දෙක බැගින් ලියන්න.
4. එම යුගයේ මිනිසා තම පරිසරය හා බැඳුණු සාරධර්මවලට ගරු කළ බවට සාධක දක්වන්න.
5. මෙහි සඳහන් වෘත්තීන්හි දී ඔවුන් සතුන් කෙරෙහි දක්වන ලද දයාව ඉස්මතු වන්නේ කවර අවස්ථාවල දී ද?
6. නූතන තාක්ෂණික හා විද්‍යාත්මක ප්‍රවණතාවට හසුව සිංහල ජන ජීවිතයේ පාරම්පරික උරුමයන් යටපත් වන විට අප කළ යුතු ලෙස ඔබට හැඟෙන්නේ මොනවා ද?

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පාඩම අවසානයේ පහත සඳහන් මාතෘකා පිළිබඳ ක්ෂණික කතා වාරයක් පවත්වන්න.**
   - වී ගොවිතැන හා සම්බන්ධ සිරිත් විරිත්
   - සාම්ප්‍රදායික ජීවනෝපායයන්හි පරිසර හිතකාමී බව
   - පැරණි ජීවනෝපායන් බොහෝ විට ආගමික ඉගැන්වීම් අනුව සකස් වී ඇත.

2. **'සිංහල සංස්කෘතිය වඩාත් ඉස්මතු වී පෙනෙන්නේ අපේ පැරණි වෘත්තීන් මගිනි.' සහ 'එසේ නොවේ' යන මැයෙන් යෝජක හා ප්‍රතියෝජක ලෙස කණ්ඩායම් දෙකකට බෙදී විවාදයක් පවත්වන්න.**

3. **ගොවිතැන, මැටි කර්මාන්තය ආදි වෘත්තියක් සම්බන්ධ කර ගෙන ඔබේ සිත් ගත් අවස්ථාවක් දක්වමින් පාසලේ උදය රැස්වීමේ දී හෝ සාහිත්‍ය සමිතියේ දී භූමිකා රංගනයක යෙදෙන්න.**


**ආශ්‍රිත ග්‍රන්ථ**

| | | |
|---|---|---|
| ඔරුක්මාන්කුලමේ චන්දන හිමි | - | හේන (1990) |
| පියසේන කහඳගමගේ | - | හේනේ විත්ති (1999) |
| ජේ. බී. දිසානායක | - | මහවැලි වංශය (මහවැලි කෘෂිකාර්මික සංස්කෘතිය දෙවන කොටස 1985) |
| රෝහණ පී. ප්‍රනාන්දු | - | කුඹල් ප්‍රජාව සහ මැටි කර්මාන්තය 2010 |

# 12 කාව්‍ය නිර්මාණකරණය

**අත්දැකීම් ඇසුරු කරගෙන සිත තුළ උපන් හැඟීම් කවියකට නැඟීම කාව්‍ය නිර්මාණකරණය යි. ලොව නම රැන්දූ බොහෝ කවියන් තමන්ගේ කවිකම ඇරඹුවේ පාසලේ පන්ති කාමරයෙනි. මේ පාඩම සිසුන් තුළ කාව්‍ය නිර්මාණය කිරීමේ නිපුණතාව වර්ධනය කිරීමේ අරමුණින් සැකසුණකි.**

'ළමා වියේ දී අප දකින ලොව පරිණත වියේ දී අප දකින ලොවට වඩා බොහෝ වෙනස් ය. හිරු මහත් කිරණින් බබළන්නේ ද තණ පිටි අතිමහත් හරිත වර්ණ ඇඟලුම් ලා ගන්නේ ද නිල් අඹර නීලෝදකය සේ නිල් වන්නේ ද සෑම සියලු ජීවියකු ම ඉතා ආශ්චර්යජනක ජීවියකු ලෙස පෙනෙන්නේ ද අපගේ ළමා වියේ දී මිස අන් කවර කලක ද?'

රන් රෝස - ආරියවංශ රණවීර

සාහිත්‍ය නිර්මාණ අතරින් කවිය හෙවත් කාව්‍යයට විශේෂ ස්ථානයක් හිමි වේ. රමණීය අදහස් හා අරුත් දැනවෙන පරිදි කරන භාෂාමය නිර්මාණය කවිය යි. කවි නිර්මාණය කරන්නේ කවියා ය. කවියකු බිහි වීමට හේතු තුනක් බලපාන බව පෙරදිග විචාරකයෝ අදහස් කරති. එනම් ප්‍රතිභාව, ව්‍යුත්පත්තිය හා සතතාභ්‍යාසය යි. ප්‍රතිභාව යනු තමා විඳින අත්දැකීම් ඇසුරෙන් අපූර්ව සිතිවිලි පහළ කර ගැනීමේ හැකියාව යි. ව්‍යුත්පත්තිය යනු කාව්‍ය නිර්මාණකරණය මෙන් ම විවිධ ශාස්ත්‍ර හා විෂය සම්බන්ධ පරිණත අවබෝධය යි. සතතාභ්‍යාසය යනු නිර්මාණකරණයෙහි නිරන්තරව යෙදෙමින් ලබා ගන්නා ප්‍රාගුණ්‍යය යි.

පුරාණ භාරතයේ විසූ අභිනවගුප්ත නම් පඬිවරයා ප්‍රතිභාව විග්‍රහ කොට ඇත්තේ අපූර්ව වස්තු නිර්මාණය කිරීමේ දක්ෂතාව ලෙස ය. කවියාගේ ප්‍රතිභාව වූ කලි අත්දැකීම් යළි යළිත් සිහි කිරීමෙන් නැත හොත් පරිකල්පනයෙන් පෝෂණය ලබන්නකි. පරිකල්පනය මූලික ක්‍රියා තුනක ඵලයක් සේ විස්තර කෙරේ. එම ක්‍රියා නම් විවිධ සිදුවීම් සිතට කා වැදීම, එම සිදුවීම් ස්මෘතියෙහි ප්‍රතිනිර්මාණය වීම හා එම ස්මෘති සටහන් මගින් නව සංකල්ප බිහි වීම ය. මේ අනුව පසිඳුරන්ට ගොදුරු වන කුඩා මහත් හැම දෙයක් මෙන් ම මනසෙහි පහළ වන අදහස කවියා අතින් විචිත්‍රත්වයට හා අපූර්වත්වයට පත් වෙයි.

මේ අවට පරිසරයේ සුලබ සිදුවීම් දෙකක් කවීන් දෙදෙනකු අතින් විචිත්‍රත්වයට පත් වූ සැටි ය.

| | |
|---|---|
| ගස | වතුසුදු |
| වී | පිරිසුදු |
| පොහොය | නැතුදු |
| සිල් ගත් | බඳු |

කුමාරතුංග මුනිදාස

රැන රැන් ඉගිල්ලිලා
　　　　　　　කොයිබ ද　　යන්නේ
රංචු රංචු සමනලයිනි
　　　　　　　මේ කොයි　　යන්නේ
රැන් රැන් ඉගිල්ලිලා
　　　　　　　අප මේ　　යන්නේ
සමනල ගිර මුනි සිරිපා
　　　　　　　වඳින්ට　　යන්නේ

ඩබ්ලියු.ඒ. අබේසිංහ

ඇසු දුටු දෙයක් හෝ සිතෙහි පහළ වූ අදහසක් හෝ භාෂාව කරමින් පෙර නො ඇසූ නො කී ආකාරයෙන් පැවසීමට හැකියාව ලබන්නේ කවියා සතු පරිකල්පන ශක්තිය හේතුවෙනි. කාව්‍යයක වටිනාකම රඳා පවතින්නේ කාව්‍ය වස්තුව මත නො ව, කවියාගේ පරිකල්පනය මත බව ඉංග්‍රීසි කවියකු වන වර්ඩ්ස්වර්ත් පවසා ඇත්තේ එබැවිනි.

කාව්‍ය නිර්මාණයක විශිෂ්ටත්වය සඳහා හේතු වන දෙවන ලක්ෂණය වන්නේ කවියා සතු ව්‍යුත්පත්තිය යි. ව්‍යුත්පත්තිය යන්නෙන් අදහස් කෙරෙන්නේ ජීවන තක්සලාවෙන් ලබන පරිණත බුද්ධියත්, ග්‍රන්ථ පරිශීලනයෙන් ලබන බහුශ්‍රැතභාවය නැත හොත් බහු පඨිතතාවත් ය. ව්‍යුත්පත්තියෙන් හීන වූවකුගෙන් පාඨකයාගේ කල්පනා ශක්තිය පුබුදුවාලන අන්දමේ උසස් නිර්මාණයක් අපේක්ෂා කළ නො හැකි ය.

ඉහත ලක්ෂණ දෙකට අමතර ව කාව්‍ය නිර්මාණයෙහි දී තිබිය යුතු ඊළඟ ලක්ෂණය වනුයේ සතතාභ්‍යාසය යි. කවිත්වය නිරායාසයෙන් පහළ වන්නක් නෙවේ. නිරතුරුව පුරුදු පුහුණු කිරීමෙන් සකසා ගත යුත්තකි. සතතාභ්‍යාසය යන්නෙහි අරුත ද එය යි. සංගීතඥයා සිය තූර්ය භාණ්ඩ නිතර නිතර වාදනය කරමින් සිය කලාව ප්‍රගුණ කරන්නාක් මෙන් කවියා ද නැවත නැවත නිර්මාණකරණයේ යෙදිය යුතු ය.

"ඉතා අගනා නිර්මාණයන් ලොවට දුන් කවීන් සිය කවි ලිව්වේ කෙසේ ද? ඔවුන් ලොව ඉදිරියේ තැබුවේ තමා පළමු වරට ලියූ කටු සටහන් ද? ඔවුන් වචනයක් කපා ඒ වෙනුවට තව වචනයක් යෙදූ සැටි ද ඒත් නරක යැයි සිතුණොත් තවත් එකක් එතැනට යොදා බැලූ සැටි ද තම ප්‍රයත්නය අසාර්ථක යැයි සිතූ නොයෙක් විට මුළු කවිය ම හමස් පෙට්ටියට දැමූ සැටි ද සාහිත්‍ය ඉතිහාසයෙහි හෙළි වී තිබේ."

මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර

එක ම තේමාව යටතේ නිර්මිත කවි සිංහල සාහිත්‍යයෙහි දක්නට ලැබේ. 'වැස්ස' එබඳු විෂයයකි. මේ කවීන් කීප දෙනකු වැස්ස ගැන ලියූ කවි පන්තිවලින් උපුටා ගත් කවි කීපයකි.

(1) වලාකුළේ රන් පාටට විදුලි කොටනවා
ආකාසේ හඬ තළමින් අකුණු හඬනවා
බිංදු බිංදු මහ පොළොවට වතුර වැටෙනවා
හෝ ගාමින් අපේ ගමට වැස්සක් එනවා

ඩබ්ලියු. ඒ. අබේසිංහ

(2) වහිනවා වහිනවා වහිනවා වහිනවා
ගල් ගහන්නා වගේ වතුර කැට වැටෙනවා
කළු වලා කැලඹෙමින් මුදුන් වී නැඟෙනවා
අකුණු ගෙඩි ගිගුම් දී විදුලි ඉරි දුවනවා

පී.බී. අල්විස් පෙරේරා

(3) පොළොවට වැටෙන හැම වැහි බිඳුවක ම පහේ
ගැබ් වුණ සිසිල එයි ඊ තල පරිදි මෙහේ
ළා අතු රිකිලි, රුක්ගොමු, ලිය මඬුලු ඉහේ
දැඩි වේදනාවෙන් මිරිකී හඬනු ඇහේ

එච්. එම්. කුඩලිගම

(4) විචිරි චිරි විචිරි චිරි උදේ සිට ඇද හැළෙන
පොද නොකැඩී තෙත බරි ව හිරිකිතෙන් කිලිපොළන
පාර තොට ගහ කොළ ද වසා ගෙන හැම අතින
වහින වැහි වහින වැහි නොපායන මුළු දවස

ගුණදාස අමරසේකර

5) සඳ මඬල වසා ගෙන කළු වලාකුළු ඇදිණ
මුළු ලොව ම ගනඳුරින් පටලවා ගනු ලැබිණ

මම මගේ කුටිය තුළ ගන අඳුර මැද වැතිර
අතරමං වී හුනිමි සිහින සිතිවිලි අතර

සැඩ සුළං වැල් හමා
අකුණු විදුලිය කොටා
මහා වැහි වලාවක් හදිසියෙන් ඇද හැළිණ

මහගම සේකර

කවි ලියන්නට මූලික වන්නේ අත්දැකීම් ය. ඔබ අවට පරිසරයෙහි, ලෝකයෙහි සොබා දහම හා බැඳි අපූර්ව දේ සිදු වෙයි. ඔබ ඒවා සියුම් ව නිරීක්ෂණය කළ යුතු වෙයි; විඳිය යුතු වෙයි. මේ කවියකු එවන් අත්දැකීමක් ලද අයුරු යි.

'හොඳින් අහන් ඉන්න. එක රළ පේළියක් නැඟ ගෙන ඇවිත් බැහැල ගියාට පස්සෙ ඊ ළඟ රළ පේළිය නැගෙන්න පටන් ගන්න කල් කෙටි විරාමයක් තියෙනවා. ඒ විරාමය අපූරු නිශ්ශබ්දතාවක්. අපේ මිතුරෙක් අපූරු යෝජනාවක් කෙළේ ය. අපි සවන් දී සිටියෙමු. සැබැවින් ම වචන ඉතා ම අඩු කවියක මෙන් දුර්ලභ නිශ්ශබ්දතාවෙන් පිරි මුහුදේත් විරාමය මධුර විය.

අපි වෙරළේ හිඳ සිටියෙමු. සිහිල් වැල්ලෙන් සැදි දිගු පුලිනතලය ඇසින් දැකියැකි දුර ද ඉක්මවා පැතිර තිබිණ. අප හිඳ සිටියා ම නො වේ. වැල්ලෙන් ම තැනූ කොට්ට උඩ හිස තබාගෙන වැතිර සිටියෙමු. දෑත දෙපය මෙන් ම සිත ද නිදහස් විය. දූරකථන රැහැනින් හෝ අප බැඳ ලන්නට කවරකුට වත් නො හැකි වග දැන සිටීම අපට සතුටක් විය.

නිහඬතාවට ද ගොඩබිම නම් වූ කරබා ගෙන සිටින නිශ්චලතාවට ද එරෙහිව මුහුද කැරලි ගසන්නට අර අඳිමින් සිටියි. මුහුදේ අගක් මුලක් සොයන්නට නො වෙහෙසී මුහුද විඳින්නට අපට ඇරයුමක් ලැබී තිබිණ.

ලස්සන ම අහස හා මතක සිතිවිලි, රත්න ශ්‍රී විජේසිංහ

මහගම සේකර කවියා කාව්‍ය නිර්මාණ සඳහා සිය අත්දැකීම් ලබා ගන්නා ආකාරය දක්වන තැනකි මේ:

"සමහර දාට මම රෑට කාලා මිදුලට ගිහිල්ලා උඩ බලා ගෙන ඉන්නවා. නොයෙක් එළි පෙනෙන්න පුළුවනි. ආකාසේ වලාකුළු දිහා බලා ඉන්න කොට ආකාසේ තාරකා පිරිලා තියෙන රෑක නොයෙක් චමත්කාර හැඟීම් මතු වෙනවා. කුණාටුවක් වගේ වලාකුළු එහාට මෙහාට පා වෙන කොට සිතට නොයෙක් කැලඹිලි හැඟීම් ඇති වෙනවා. මේ හැඟීම් කැලඹිලි ආශ්‍රයෙන් අමුතු අදහස් වස්තු බීජ සිතේ පහළ වෙනවා."

නිර්මාණ පසුබිම, ඒ.වී. සුරවීර

තනිකම පාළුව හා කාන්සිය කවි නිර්මාණය වීමට පසුබිමක් සපයයි. තමන් ආදරය කරන අයගෙන් වෙන් වී සිටින කෙනකු තුළ හටගත් පාළුව ප්‍රකාශ කෙරෙන ජන කවියකි මේ:

ඉන්නේ දුම්බරයි මහ කළු ගලක් යට
කන්නේ කරවලයි රට හාලේ බතට
බොන්නේ බොර දියයි පූරුවෙ කළ පවට
යන්නේ කවදා ද මවුපියො දකින්නට

තමා උපන් රටෙන් බැහැරව ඈත රටක මහා නගරයක හුදෙකලා වූ පුද්ගලයකුගේ ප්‍රකාශයක් ලෙසින් එන 'හඳ සහ නිව්යෝර්ක් නුවර' කවි පෙළ එහි රචකයා වන මහගම සේකර තමා විසින් ම ලද අත්දැකීමක් අපූර්වාකාරයෙන් පළ කිරීමකි. මේ එම කවි පෙළෙන් ගත් කොටසකි.

"කළු ගැහී තරගයට ඉහළ ගිය
සිමෙන්ති බිත්ති මිසක
ඇසට නිලට
අහසක් ගහක් කොළක්
අවටක් නැත
නිව්යෝර්ක් නම් පුරවර
සියක් මහල් එක් ටැම් ගෙය මුදුනේ
දොර ජනෙල් වසා සිර කළ කාමරයක
ඇඳක් - පුටුවක් - මේසයක්
මම"

බෝඩිම, මහගම සේකර

චිත්‍රයක් - පින්තූරයක් වුව ද කාව්‍ය නිර්මාණය සඳහා අත්දැකීමක් වන බව ගුණදාස අමරසේකරගේ 'දින පොතේ ලියූ කවිය' නම් වූ කවි පෙළ මගින් ප්‍රකාශ වේ. සිය පුතු එවා ඇති ඔහු සතු අන්තිම වස්තුව වූ මුද්ද, ඔරලෝසුව, පෑන සහ ඇඳුම් පොදිය තුරුලු කර ගෙන වැලපෙන මවකගේ ඡායා රූපයක් කවියා ලන්ඩන් නුවර පුවත්පතක පළ වී තිබෙනු දකියි. පහත දැක්වෙන කවියට නිමිත්ත එය වෙයි.

උඹේ මුද්ද අත් ඔරලෝසුව පෑන
ඇයි රත්තරන් පුතුනේ එව්වේ මොට ද
මතක් වෙන්නව ද නැති නම් විකුණගෙන
හාල් තුනපහේ අරගෙන කන්නට ද

ආවර්ජනා, ගුණදාස අමරසේකර

සිතේ තැන්පත් වූ අත්දැකීමක් කවියක් ලෙස බිහි වීමට සැලකිය යුතු කාලයක් ගත විය හැකි ය. විමල් දිසානායකගේ 'මිය ගිය උවැසිය' නිර්මාණය සඳහා අත්දැකීම ලද හැටි කවියා විස්තර කරන්නේ මෙසේ ය:

"මේ කවි පෙළ ලිවීමේ දී මගේ අරමුණ වුණේ කිසියම් මහලු කාන්තාවක් මිය යෑමත්, ඒ මිය යාම නිසා මා තුළ ඇති වූ අදහසක්, හැඟීමක් ඉදිරිපත් කිරීමයි. මෙය රචනා කිරීමට යම් අත්දැකීමක් තියෙන්නට ඕනෑ. මා කුඩා කාලයේ දී මා හිතන්නෙ වයස අවුරුදු අට, නවය විතර කාලයේ දී ලැබූ අත්දැකීමක් පදනම් කර ගෙනයි මෙය ලියුවේ."

නිර්මාණ පසුබිම - ඒ. වී. සුරවීර

පිරුවානා පොත් වහන්සෙ
කනප්පුවේ පෙරළී ඇත
මිදුල පුරා වියළුණ කොළ
ඒ මේ අත විසිර තිබේ
මිදුලෙ පහන් පැලේ නිතර
සැලුණු දැල්ල නිවී ගොස් ය
ඉඳහිට ගේ පිළිකන්නේ
බල්ලකු උඩු බුරනු ඇසේ

විමල් දිසානායක

අම්මා අපට ඇති මහාර්ඝ වස්තුවකි. කුඩා දරුවා ද අම්මා ගැන කවි ලියයි. ඒ ඔහුට දැනෙන ගුණ දක්වමිනි. පහත සඳහන් කවියෙන් නිරූපණය වන්නේ අපේ ම අම්මා ය.

මැනලා වී දෙකක් නොලැබී මල්ලකට
දරුවොත් එක්ක මම වැටිලා ඉන්න කොට
අම්මා ඇවිල්ලා හීනෙන් දොරකඩට
ඇහුවා මගෙ පුතේ කිරි ඕනැ ද උඹට

නිවා තාරකා පියවා ගෙන දෑස
නිදා ඉන්න නගරේ කළුවර රැක
පිපී මලක් වී ගේ ළඟ සුදු රෝස
මෙසේ ඇයි නගනු අම්මේ මඳහාස?

කටපුරා පුතේ කියනා හඬ අන්න!
දරුවනේ උදේ වෙනකල් නාඬන්න
මට මගේ කඳුළු සීතල විඳගන්න
ඔබ එපා මවුනි ඇහැ පිසදාලන්න

නන්නාඳුනන මෙනුවර තනි වුණ අපට
ඉන්නේ කවුද රැකවරණෙට බැල්මකට
චන්දෝ බිලින්දෝ නාඬා නැළවෙන්න
යම්දෝ හෙට උදේ අපි ආපසු ගමට

වස්සානේ, රත්න ශ්‍රී විජේසිංහ

අත්දැකීමක් රසවත් නිර්මාණයක් බවට පත් කිරීමේ දී කවියන් විවිධ ශිල්පීය උපක්‍රම භාවිත කරන බව ද කාව්‍ය මගින් ඔබට වඩාත් පැහැදිලි වනු ඇත. ව්‍යංග්‍යාර්ථවත් වචන, කාව්‍ය ආකෘතිය, රිද්මය, සංකල්ප රූප, සංක්ෂිප්තතාව, වචන යෙදීම ආදි එම උපක්‍රම ඔබට සහජයෙන් ම ලැබෙන දෙයක් නො ව, කවි ලිවීමෙන් ම ප්‍රගුණ කරගත් දේ ය.

අම්මා, තාත්තා, පාසල, උදය, රාත්‍රිය, මුහුදු වෙරළ, ගම ආදි ඔබේ ජීවිතය හා පරිසරය සමග බැඳි විවිධ තේමා ඔස්සේ සිතෙහි උපදින හැඟීම් විරිතකට අනුව හෝ විරිතකින් තොරව හෝ කාව්‍යාත්මක ව ඉදිරිපත් කිරීමට ඔබට ද හැකියාව ඇත. එමගින් ඔබේ අත්දැකීම් සෙස්සන් සමග බෙදා හදා ගැනීමට මෙන් ම ඔබේ හැඟීම් පුබුදුවා ලීමට ද අවස්ථාව ලැබේ.

සිසු දරු දැරියන් වන ඔබ ඇතැම් විට විවිධ දුක් ගැහැටවලින් ද පාළුව, හුදෙකලාව ආදි සිත්හි උපන් හැඟීම්වලින් ද පීඩා විඳිනවා විය හැකි ය. එවන් අවස්ථාවල සිතෙහි ඇති වූ හැඟීම් හා අත්දැකීම් කවියක් බවට පත් කොට සමාජය සමග බෙදා හදා ගැනීමට ඔබට හැකියාව තිබේ. ලොව නම ගත් බොහෝ කවීන් ඒ තත්ත්වයට පත් වූයේ තම දුක් දොම්නස් තමා පමණක් නොවිඳ අන්‍යයන්ගේ ද අත්දැකීමක් බවට පෙරළා ඉදිරිපත් කිරීමෙනි.

## අවබෝධය

1. කාව්‍ය නිර්මාණකරුවා සතු විය යුතු මූලික ලක්ෂණ තුන කුමක් ද?
2. අභිනවගුප්ත 'ප්‍රතිභාව' හඳුන්වා ඇත්තේ කෙසේ ද?
3. කුමාරතුංග මුනිදාස කවියා වතුසුදු ගස සිල් ගත් සෙයින් දැක්වීමට හේතුව කුමක් ද?
4. වැස්ස ගැන ලියා ඇති කාව්‍ය නිර්මාණ රසවත් වීමට හේතු වී ඇති කාව්‍යෝපක්‍රම මොනවා ද?

## ප්‍රායෝගික අභ්‍යාස

1. **හිරු උදාව, කුරුලු ලොව, ගඟ ගලයි යන තේමා අතරින් එකක් ඔස්සේ කවි දෙකක් නිර්මාණය කරන්න.**
2. **ඈත සයුර දෙස බලා ඉන්නා ඔබ තුළ ඇති වන හැඟීම් කවියකට නගන්න.**
3. **ඊළඟ පිටුවේ දැක්වෙන සේයාරුව දෙස බැලීමේ දී ඔබ සිතට නැගෙන සිතිවිලි ඇසුරෙන් කවියක් නිර්මාණය කරන්න.**



## මතකයට

බසේ කිලිටිකම නැණ සිලිලෙන් දොවනා
රසේ සියල්ලන් හට නව පණ පොවනා
දෙසේ අමුතු මිහිරක් සතුටක් වවනා
කෙසේ කිය හැකි ද කිවිඳුගෙ අගය වනා

කමතේ කෙතේ හේනේ තනියට ඉන්නේ
තුසිතේ ඇතේ යන සොම්නස ගෙන දෙන්නේ
දෙනෙතේ සිතේ අමුතු මැ දේ අන්දන්නේ
විපතේ සෙතේ සම කවියා බව දන්නේ

දිනිඳාගේ රුවන් රස් කෙළි විහිදීම
තරිඳා කරන සොම් කැලුමන් පැතිරීම
බිලිඳා තුළැති කෙළි සිනහා ඉඟි පෑම
කවියා නිසා රසවත් වෙයි හැම දාම

ආර්. සරණසේකර

13

# ආචාර්ය ටී. බී. ජායා

**ආචාර්ය ටී. බී. ජායා මහතා ශ්‍රී ලාංකික මුස්ලිම් ජනතාව වෙනුවෙන් පෙනී සිටි බුද්ධිමත් නායකයෙකි. ඔහු මුස්ලිම් ජනතාවගේ අධ්‍යාපන අයිතීන් වෙනුවෙන් පෙනී සිටි අතර, ඉස්ලාම් ආගමිකයන්ගේ අවශ්‍යතා වෙනුවෙන් ද ස්වකීය ජීවිතය කැප කළ ශ්‍රේෂ්ඨ නායකයකු වශයෙන් ඉතිහාසගත වී ඇත. එතුමාගේ ජීවන චරිතය අළලා *පූජිත ජීවිත* නම් කෘතියට සිරිනිමල් ලක්දුසිංහ මහතා විසින් සම්පාදිත ලිපිය ආශ්‍රයෙන් මේ පාඩම සැකසිණි.**



තුවාන් බුහාර්නුද්දීන් ජායා, 1890 ජනවාරි මස පළමු වන දින මහනුවර දිස්ත්‍රික්කයේ ගලගෙදර නම් ගමෙහි පදිංචි ව සිටි මුස්ලිම් ජාතික පවුලක උපත ලැබුවේ ය. ඔහුගේ පියා කාසිම් ජායා නම් වූ අතර, මව නෝනා ජායා සෞජා නම් වූවා ය. දරුවන් හතර දෙනකුගෙන් යුත් පවුලක දෙවැනි දරුවා වූ ඔහුගේ ළමා විය ගෙවී ගියේ උඩරට ගැමි සුන්දරත්වයෙන් අනූන ගලගෙදර ගම් පියසෙහි හා කුරුණෑගල ප්‍රදේශයේ ය. ළමා වියේ දී ඔහුට ආලිම්වරයෙකු වෙතින් නිවසේ දී ම ආගමික අධ්‍යාපනයක් ලබා දීමට ඔහුගේ දෙමාපියෝ කටයුතු කළහ. කාසිම් ජායා සිය දරු පවුල ද රැගෙන අගනුවරට පැමිණෙන විට කුඩා තුවාන් ජායාගේ වයස අවුරුදු එකොළහකි. අගනුවරට පැමිණීමෙන් පසු ඔහුගේ ප්‍රාථමික අධ්‍යාපනය ඇරඹුණු අතර ද්විත්ව සහ ත්‍රිත්ව සාමර්ථ්‍යයන් ලබමින් දක්ෂතා පෙන්වූ ඔහු දහතුන් වන වියේ දී ගල්කිස්ස ශාන්ත තෝමස් විද්‍යාලයට ඇතුළු වූයේ ශිෂ්‍යත්වයක් ද දිනා ගනිමිනි. එහි දී ඔහු කේම්බ්‍රිජ් කනිෂ්ඨ විභාගය සමත් වූයේ කනිෂ්ඨ පන්තිවල ගණිතය සඳහා වූ ජේ. ඒ. ඩී. මැන්ඩිස් ත්‍යාගය ද දිනා ගනිමිනි. ඊට වසරකට පසු කේම්බ්‍රිජ් ජ්‍යෙෂ්ඨ විභාගය සමත් වූයේ ලතින් භාෂාව සඳහා වූ ආචාර්ය එමිල්ස් ත්‍යාගය ද හිමි කර ගනිමිනි. ඔහු 1908 දී ලන්ඩන් මැට්රිකියුලේෂන් විභාගයෙන් සමත් වීමට තරම් විශිෂ්ටයෙක් වූයේ ය.

පාසලෙන් අස් වූ පසු ජායා මහතා මහනුවර ධර්මරාජ විද්‍යාලයේ ගුරුවරයකු ලෙස පත්ව මාස හතක් පමණ එහි සේවය කිරීමෙන් අනතුරුව මොරටුවේ වේල්ස් කුමර විද්‍යාලයේ ගුරු මණ්ඩලයට ඇතුළත් වූයේ ය. මෙහි දී ඔහුගෙන් අධ්‍යාපනය ලත් අය අතර පසු කලෙක ශ්‍රී ලංකාවේ දේශපාලන භූමියෙහි වැදගත් තැනක් ගත් නායකයකු වූ පිලිප් ගුණවර්ධන හා රොබට් ගුණවර්ධන සොහොයුරෝ ද වූහ. ගුරුවරයකු වශයෙන් සේවය

කරන අතර තමාගේ අධ්‍යාපන කටයුතු ද නො නවත්වා ම කරගෙන ගිය ඔහු 1911 දී බාහිර අපේක්ෂකයකු ලෙස විභාගයට පෙනී සිටිමින් ලන්ඩන් විශ්වවිද්‍යාලයෙන් බී.ඒ. උපාධිය ලබා ගැනීමට තරම් උත්සාහවන්ත වූයේ ය. මෙම උපාධි පරීක්ෂණය සඳහා ඔහු පෙනී සිටි විෂයයන් වූයේ ග්‍රීක භාෂාව, ලතින් භාෂාව, ඉතිහාසය හා ආර්ථික විද්‍යාව යි. වේල්ස් කුමර විද්‍යාලයේ සේවයෙන් පසු ඔහු කොළඹ ආනන්ද විද්‍යාලයේ ආචාර්ය මණ්ඩලයට එක් විය. වේල්ස් කුමර විද්‍යාලයේ දී ඔහුගේ ශිෂ්‍යයන් වූ පිලිප් ගුණවර්ධන හා රොබට් ගුණවර්ධන මෙහි දී ද ඔහුගේ ශිෂ්‍යයන් අතර වූහ. ඒ හැරුණු කොට ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා ද මේ වකවානුවේ ආනන්ද විද්‍යාලයේ ශිෂ්‍යයෙකුව සිටියේ ය.

ගුරු වෘත්තිය වෙනුවෙන් ජායා මහතාගෙන් වූ සේවය ද ඉමහත් පැසසුමට ලක් වූවකි. ව්‍යවස්ථාදායක සභාව, රාජ්‍ය මන්ත්‍රණ සභාව හා නියෝජිත මන්ත්‍රී මණ්ඩලය වැනි ආයතනයන්හි දී ද ඒවායින් පිටත දී ද එතුමා ගුරුවරුන්ගේ අයිතීන් වෙනුවෙන් සටන් කෙළේ ය. සමස්ත ලංකා ගුරු සංගමයේ සභාපති වශයෙන් ඒකච්ඡන්දයෙන් පත් වූ එතුමා ශ්‍රී ලංකාවේ ප්‍රථම ගුරු සමුළුවේ දී එහි සභාපතිවරයා වශයෙන් ද තේරී පත් විය. ගුරු වෘත්තිය පිළිබඳ ඉතා සුළු දෙය ද ඔහුගේ සැලකිල්ලට යොමු විය.

මෙරට මුස්ලිම් ජනතාවගේ අධ්‍යාපන තත්ත්වය නංවා ලීමට ඔහු විසින් ඉටු කරන ලද සේවය මුස්ලිම් ජනතාවගේ ඉමහත් ගෞරවයට පාත්‍රව පවතී. ගුරු වෘත්තියට ඇතුළත් වූ අවධියේ සිට ම ඔහු මුස්ලිම් ජනයාගේ අධ්‍යාපන තත්ත්වය නංවාලීමේ අවශ්‍යතාව අවබෝධ කර ගත්තේ ය. ඒ අදහස් හුදෙක් තම සිත්හි තබා ගෙන සිටිනු වෙනුවට දේශන හා ලිපි ලේඛන මඟින් සෙසු මුස්ලිම් ජනතාව අතරට එම අදහස් ව්‍යාප්ත කිරීමට ඔහු කටයුතු කෙළේ ය. තමාගේ හා කාසිම් ඉස්මායිල් මහතාගේ සම සංස්කාරකත්වයෙන් පළ කරන ලද 'සිලෝන් මුස්ලිම් රිවීව්' නම් සඟරාව මේ සඳහා අවියක් කර ගැනීමට ජායා මහතා සමත් විය. 1914 දී එම සඟරාවට ඔහු ලියූ ලිපියක ද මෙම අදහස් පැහැදිලිව දක්වා තිබිණි. 'අධ්‍යාපනය හා ජාතික දියුණුව' මැයෙන් ලංකා මුස්ලිම් සංගමය ඉදිරියේ පැවැත්වූ දේශනයක ද මේ සම්බන්ධයෙන් විශේෂයෙන් සඳහන් වී ඇත. ඔහු එහි මෙසේ සඳහන් කළේ යː

> "අපි (මුස්ලිම් ජාතිකයෝ) කුමක් කර ඇත්තෙමු ද? ඔවුහු (සෙසු ජන කොටස්වල අය) සමාජයේ විවිධ අංශවල විශිෂ්ට ගණයේ පුද්ගලයන් බිහි කොට ඇත්තාහ. ඔවුහු දක්ෂ නීතිවේදීන්, මන්ත්‍රණ සභිකයන් හා වෙනත් අංශවල විශිෂ්ට පුද්ගලයන් ද බිහි කොට ඇත්තාහ. රජයේ උසස් නිලධාරීහු කිසිවකුත් අපට සිටිත් ද? උසස් වෘත්තීන්හි යෙදෙන විශිෂ්ට පුද්ගලයෝ කිසිවකුත් අපට සිටිත් ද? දක්ෂ නාගරික මන්ත්‍රීවරයෙකු හෝ ව්‍යවස්ථාදායක මන්ත්‍රීවරයෙකු බිහි කිරීමට අපට හැකි වී තිබේ ද? වෙනෙකක් තබා අපේ ම පාසල් හා විද්‍යාල අතළොස්සක් වත් අපට තිබේ ද? අපි අපේ දරුවන්ගෙන් බොහෝ දෙනකු මුස්ලිම් නො වන පාසල්වලට යවා ඇත්තෙමු ද? අඩපණ වූ ආකාරයෙන් ක්‍රියාත්මක වන ප්‍රාථමික පාඨශාලා දෙකක් හෝ තුනක් නම් අප සතු වන බව ඇත්තකි. එහෙත් අපට එක ම විද්‍යාලයක් වත් ඇතැ යි අවංකව ප්‍රකාශ කළ හැකි ද? පිළිතුර පැහැදිලි ලෙස ම නැතැයි කීම ය. සාර්ථක ව්‍යාපාරිකයන් හා ඉඩම් හිමි වැවිලිකරුවන් විශාල පිරිසකින් යුත් ජන කොට්ඨාසයකට මෙවැන්නක් පිළිගැනීමට සිදු වීම අවමානයට කරුණක් නො වන්නේ ද? තව දුරටත් මෙසේ සිටීම අපට තරම් නො වන්නේ ය. අපි වහා ම මෙය වෙනස් කළ යුතු වෙමු."

ටී. බී. ජායා මහතා මුස්ලිම් ජනයාගේ අධ්‍යාපනය විෂයයෙහි කරන ලද සේවය අමරණීයත්වයට පත් කරවන ජීවමාන ස්මාරකය මරදානේ සහිරා විද්‍යාලය යි. ඉතා දුර්වල තත්ත්වයක පැවති සහිරාව දිවයිනේ ප්‍රථම පෙළේ විද්‍යාලයක් බවට පත් කිරීමේ ගෞරවය ඔහුට හිමි වෙයි. ඔහු එහි විදුහල්පති හැටියට පත් වූයේ 1921 දී ය.

එවකට නීතිඥ විභාගය අවසන් කිරීමට සූදානම් වෙමින් සිටි ඔහු නීතිඥ වෘත්තිය ඔස්සේ ස්වකීය පෞද්ගලික යහපත පහසුවෙන් ළඟා කර ගත හැකිව තිබූ මාවත වෙනුවට සහිරා විද්‍යාලය නව ජීවනයට පත් කිරීමේ අවදානම් සහගත අභියෝගාත්මක කාර්යය එඩිතරව භාර ගත්තේ ය. ඔහු විදුහල්පති වන විට එම විද්‍යාලයේ ආචාර්ය මණ්ඩලය හය දෙනෙකි; සිසුහු පනස් නවයකි; ගෘහ භාණ්ඩ යැයි කිව හැකි කිසිවක් නො තිබුණු තරම් ය. ගොඩනැගිල්ල ප්‍රාථමික පාඨශාලාවකට වුව ද යන්තම් පිරිමැසෙන තරම් ය. එම ගොඩනැගිල්ලට යාර විස්සකට තිහකට පමණ ඈතින් වූයේ පාතාලයේ සොරුන්ගේ තිප්පොළ ලෙස මහජනයා විසින් සලකන ලද වන ළැහැබකි. එහෙත් මේ කිසිවකින් අධෛර්යයට පත් නො වූ ජායා මහතා අධිෂ්ඨාන පූර්වකව වැඩ ආරම්භ කෙළේ ය. ඔහුගේ කැපවීම අපතේ නො ගිය අතර ඉතා කෙටි කලකින් ම විද්‍යාලයේ මානව හා භෞතික සම්පත් සංවර්ධනය කර ගැනීමට ඔහුට හැකියාව ලැබිණි.

දෙවන ලෝක යුද්ධය අවධියේ දී අගනුවර විද්‍යාලවල කටයුතු සීමා විය. මහජනයාට ඉමහත් දුෂ්කරතාවන්ට මුහුණ දීමට සිදු වූ අතර, බොහෝ දෙනා පදිංචිය සඳහා ඈත පළාත්වලට ගියහ. සහිරා විද්‍යාලය තාවකාලිකව වසා දමන ලද අතර එහි ගොඩනැගිලි හමුදාවේ ප්‍රයෝජනයට ගැනිණි. මේ අවස්ථාවේ දුර දක්නා නුවණින් යුක්ත ව කටයුතු කළ ජායා මහතා  උදා වී ඇති අයහපත් තත්ත්වය මුස්ලිම් ශිෂ්‍යයන්ගේ අනාගත යහපතට හේතු වන්නක් බවට පත් කිරීමට උත්සුක විය. ඔහු එසේ කළේ කොළඹින් බැහැර ගිය මුස්ලිම් ශිෂ්‍යයන් සඳහා ඒ ඒ පළාත්වල පාඨශාලා විවෘත කිරීමෙනි. ඒ අනුව ගම්පොළ, අලුත්ගම, මාතලේ සහ පුත්තලම නගරවල සහිරා විද්‍යාලයේ ශාඛා බිහි විය. කොතෙක් දුෂ්කරතා පැමිණිය ද ඒ විද්‍යාල ඒ ඒ පළාත්වල මුස්ලිම් ශිෂ්‍යයන් සඳහා පවත්වාගෙන යනු ලබන අධ්‍යාපන ආයතන වශයෙන් වැඩෙන්නට විය. 1947 දී එම විද්‍යාලවලට ස්වාධීනව ක්‍රියා කිරීමේ බලය ද පවරන ලදි.

ටී. බී. ජායා මහතා මුස්ලිම් ජනතාවගේ සමාජීය හා දේශපාලනික කටයුතුවල මෙහෙයුම්කරුවකු හා මාර්ගෝපදේශකයකු ලෙස වැදගත් සේවයක් ඉටු කෙළේ ය. මෙම සියවසේ දෙවන හා තෙවන දශකවල දී මුස්ලිම් ජනතාව සමාජීය වශයෙන් අනෙකුත් ජන කොට්ඨාසයන්ට වඩා පසු පසින් සිටියහ. විශේෂයෙන් ඔවුනට ප්‍රමාණවත් බුද්ධිමත් නායකත්වයක් තිබුණේ නැත. 1924 දී ජායා මහතා ව්‍යවස්ථාදායක සභාවට පත් වූයේ මෙබඳු අවධියක දී ය. උගතකු හා අධ්‍යාපනඥයකු වූ ජායා මහතා කැපී පෙනෙන මුස්ලිම් ජන නායකයා බවට ඉක්මනින් පත් විය. මුස්ලිම් ජාතික රජයේ සේවකයන්ට ජුම්මා නිවාඩු ලබා දීමේ අවශ්‍යතාව පිළිබඳව කරුණු දක්වමින් 1925 ජනවාරි 19 වන දින මන්ත්‍රණ සභාවේ දී ඔහු කතාවක් ද කෙළේ ය. රාජ්‍ය මන්ත්‍රණ සභාවට නම් කරන ලද මන්ත්‍රීවරයකු ලෙස පත් වූ ඔහු 1936 සිට 1947 දක්වා විශාල සේවයක් කළේ ය.

1947 දී ඇති වූ මහා ගංවතුරකින් ගම්පොළ පහත් බිම් ප්‍රදේශවල ජීවත් වූ මුස්ලිම් පවුල් සිය ගණනකගේ ගෙවල් දොරවල් විනාශ වී අනාථ වූ අවස්ථාවේ ජායා මහතා හිස් වත්තක් රජයට අත්පත් කරගෙන ගෙවල් අහිමි වූ සියලු ම අයට නිවාස ඉදි කර දෙමින් මාරියාවත්ත

නිවාස යෝජනා ක්‍රමය ආරම්භ කෙළේ ය. එතුමා කම්කරු හා සමාජ සේවා ඇමති වශයෙන් රැකියා විරහිත අයට සහනයක් සැලසීමේ අරමුණින් 'විරක්ෂා සහන සේවය' නම් ව්‍යාපෘතිය ඇති කෙළේ ය. මෙය විරුද්ධ මත දරන දේශපාලකයන්ගේ පවා පැසසුමට ලක් විය.

පාකිස්ථානය සමඟ තානාපති සම්බන්ධතා ඇති වීමත් සමඟ එහි ප්‍රථම ලංකා මහා කොමසාරිස් වශයෙන් 1950 දී පත් කරනු ලැබීම ටී. බී. ජායා මහතාට කරන ලද ගෞරවයක් සේ සැලකිය හැකි ය. පාකිස්ථානයේ පංජාබ් විශ්වවිද්‍යාලය විසින් 1952 දී එතුමාට සාහිත්‍යසූරී ගෞරව උපාධිය පිරිනැමීමෙන් පැහැදිලි වන්නේ බුද්ධිමත් සම්භාවනීය රාජ්‍ය තාන්ත්‍රිකයකු ලෙස ඔහුට තිබූ පිළිගැනීම යි.

මක්කම ශුද්ධ නගර වන්දනාවට යන ශ්‍රී ලාංකික ඉස්ලාම් බැතිමතුන් උදෙසා ලැගුම් නිවාසයක් පිහිටුවීම සඳහා සෞදි අරාබියේ රජුගෙන් අවසර ගැනීමට එම රට බලා ගිය නියෝජිත පිරිසට නායකත්වය දීම එතුමාගෙන් සිදු වූ අවසාන පොදු කාර්යය විය. එම දූත ගමන සාර්ථක විය. මක්කම ශුද්ධ නගරය වන්දනා කොට මදීනා නගරයට යමින් සිටිය දී රෝගාතුරව රජයේ රෝහලකට ඇතුළත් කරනු ලැබූ එතුමා 1960 මැයි 31 වන දින මෙලොව හැර ගියේ ය.

## අවබෝධය

1. **පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**
   - i. ටී. බී. ජායා මහතාගේ ජනතා සේවය කැපී පෙනෙන්නේ කුමන ක්ෂේත්‍රයක් සම්බන්ධයෙන් ද?
   - ii. පසු කලෙක දේශපාලන ක්ෂේත්‍රයේ කැපී පෙනෙන සේවයක් කළ නායකයන්ට ඔහු ගුරුවරයෙක් වූයේ ය. එම නායකයන් නම් කරන්න.
   - iii. ලාංකේය අධ්‍යාපනයට ඔහුගෙන් සිදු වූ සේවය කවරාකාර ද?
   - iv. නීතිඥවරයකු වීමේ අවස්ථාව ඔහු විසින් අත් හරිනු ලැබුවේ කුමන පරමාර්ථයක් නිසා ද?
   - v. එතුමාට සාහිත්‍යසූරී උපාධිය පිරිනැමුණේ කුමන ආයතනයකින් ද?

## ලිඛිත අභ්‍යාස

1. **පාඩමේ එන පහත සඳහන් තද්ධිත පදවල ප්‍රකෘති හා ප්‍රත්‍යය වෙන් කරන්න. එක් එක් වචනය යොදා අර්ථවත් වාක්‍යය බැගින් ලියන්න.**

| | |
|---|---|
| i. දීප්තිමත් | v. පෞද්ගලික |
| ii. නාගරික | vii. දේශපාලනික |
| iii. දක්ෂතා | viii. ප්‍රාථමික |
| iv. බුද්ධිමත් | |

2. **පාඩමෙන් උපුටා ගන්නා ලද පහත සඳහන් පදවල උපසර්ග වෙන් කොට ලියන්න. ඒ එක් එක් වචනය යොදා අර්ථවත් වාක්‍යය බැගින් තනන්න.**

| | |
|---|---|
| i. විරක්ෂා | v. අවංක |
| ii. අයහපත් | vii. සංවර්ධනය |
| iii. ප්‍රයෝජන | viii. අවබෝධ |

3. **පහත සඳහන් අවස්ථාවන්ගෙන් එකක් තෝරා ගෙන රාජකාරි ලිපියක් හෝ ව්‍යාපාරික ලිපියක් හෝ ලියන්න.**

i. රන්පොකුණගම විද්‍යාලයේ කලා සංගමයේ ලේකම් ඔබ යැයි සිතා කලා උලෙළ සඳහා ශබ්ද විකාශන යන්ත්‍ර හා වේදිකා ආලෝක පහසුකම් ඉල්ලමින් ප්‍රදේශයේ එබඳු පහසුකම් සපයන ව්‍යාපාරික ආයතනයකට යවන ලිපිය ලියන්න.

ii. ළඟ එන අ.පො.ස. (සා.පෙළ) විභාගයට පෙනී සිටීම සඳහා විද්‍යාලයේ අනෙකුත් සිසුන්ට ප්‍රවේශ පත්‍ර ලැබී ඇතත් ඔබේ ප්‍රවේශ පත්‍රය මේ වන තෙක් ලැබී නැත. ඒ බව දැනුම් දෙමින් විභාග ප්‍රවේශ පත්‍රය හැකි ඉක්මනින් ලබා දීමට කටයුතු කරන මෙන් ඉල්ලමින් විභාග කොමසාරිස් ජනරාල්තුමාට ලිපියක් ලියන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පන්තිය කණ්ඩායම් හතරකට බෙදී ටී. බී. ජායා මහතාගේ ජීවන චරිතයට අදාළ කරුණු පහත සඳහන් මාතෘකා ඔස්සේ පෙළගස්වන්න.**

   i. අධ්‍යාපනය හා විශේෂ කුසලතා
   ii. වෘත්තීය ජීවිතය
   iii. ගුරුවරුන් උදෙසා කළ මෙහෙය
   iv. දේශපාලන ක්ෂේත්‍රයට දැක්වූ දායකත්වය

ප්‍රායෝගික ජීවිතයේ විවිධ අවස්ථාවන්හි දී රාජකාරි ලිපි හා ව්‍යාපාරික ලිපි ලිවීමට අපට සිදු වේ.

රාජකාරි ලිපි ලිවීම ප්‍රායෝගික ලේඛන අතර වැදගත් ලේඛන කටයුත්තකි. රජයේ අමාත්‍යාංශ, දෙපාර්තමේන්තු සහ වෙනත් රාජ්‍ය ආයතන සමග මෙන් ම පෞද්ගලික ආයතන සමග ද රාජකාරි කටයුතු කිරීමේ දී මෙවැනි ලිපි ලිවීමට සිදු වෙයි. රාජකාරි/ව්‍යාපාරික ලිපියක ඇතුළත් විය යුතු ප්‍රධාන අංග කිහිපයකි.

## රාජකාරි හා ව්‍යාපාරික ලිපි ලිවීමේ නවතම ආකෘතිය

| යවන්නාගේ ලිපිනය |
|---|

| දිනය |
|---|

| ලබන්නාගේ ලිපිනය |
|---|

| ආමන්ත්‍රණය |
|---|

| මාතෘකාව |
|---|

| (මාතෘකාවට අදාළ විස්තරය) |
|---|
| පළමු ඡේදය .................................................................................................... |
| .................................................................................................... |
| දෙවන ඡේදය .................................................................................................... |
| .................................................................................................... |
| තෙවන ඡේදය .................................................................................................... |
| .................................................................................................... |

| ස්තුතිය |
|---|

| යවන්නාගේ අත්සන |
|---|

| නම |
|---|

| තනතුර |
|---|

# 14 තොරොක්කෝව

**රියුනොසුකෙ අකුතගාවා - යනු ලෝක ප්‍රකට ජපන් කෙටිකතාකරුවෙකි. ටෝකියෝ අගනුවර කියෝබෂි දිස්ත්‍රික්කයේ උපන් ඔහුගේ පළමු වන කෙටිකතාව 'රෂෝමොන්' ය. ස්වකීය ප්‍රථම කෙටිකතාවෙන් ම ලෝ පතළ වූ ඔහු ලෝක කෙටිකතා ඉතිහාසයේ නොමැකෙන නමක් සලකුණු කළ ලේඛකයෙකි. ජයන්ත විමලසේනයන් විසින් පරිවර්තිත *හදවත පාළුයි* නම් කෙටිකතා එකතුවෙහි එන 'තොරොක්කෝව' අකුතගාවාගේ විශිෂ්ට නිර්මාණයකි.**



ඔදාවාරා සහ අතමි අතර කුඩා දුම්රිය මාර්ගයේ වැඩ පටන් ගන්නා විට රියෝහෙයිගේ වයස අවුරුදු අටකි. රියෝහෙයි හැම දිනෙක ම කම්කරුවන් වැඩ කරනු බැලීමට නගරාන්තයට ගියේ ය. තොරොක්කෝවලින් කුණු කසළ අදිනවාට වැඩි වැඩෙක් එහි නො වී ය. ඔහු එහි ගියේ ඒ කාර්යය නැරඹීමට ආශා කළ හෙයිනි.

තොරොක්කෝවේ පිටිපස කසළ ගොඩක් අසල කම්කරුවෝ දෙදෙනෙක් සිටගෙන සිටිති. තොරොක්කෝව කන්දක සිට පහළට එන බැවින් එය වේගයෙන් බසී. එහි බක්කිය, වේගය නිසා වෙවුලයි. කම්කරුවන්ගේ කබා කෙළවර පට පට ගා සුළඟට වැදෙයි. එහි තුනී ගරාදි ගැටීම් නිසා නැමී යයි. ඒ දෙස පරීක්ෂාවෙන් බලා සිටින රියෝහෙයිට තමාටත් කම්කරුවකු වන්නට ඇත්නම් යි සිතේ. විටෙක හෝ එක් වරක් වත් කම්කරුවන් සමග තොරොක්කෝවේ යන්නට ලැබේවා යි පතයි. තොරොක්කෝව නගරය අසලට පැමිණෙත් ම පොළොව තැනිතලා නිසා වේගය අඩු වී ඉබේ ම නවතී. එවිට කම්කරුවෝ කඩිසර ලෙස ඉන් ඉවතට පැන කසළ හලති; ඉන් පසු එය කන්ද ඉහළට තල්ලු කිරීමට පටන් ගනිති. තොරොක්කෝවේ නැග යෑමට නො හැකි වූවත් තල්ලු කිරීමට වත් ඉඩ ලැබේ යැයි රියෝහෙයි බලාපොරොත්තු වූයේ මෙවැනි අවස්ථාවක දී ය.

රියෝහෙයි පෙබරවාරි මාසයේ මුල් හරියේ එක් සන්ධ්‍යාවක නගරාන්තයෙහි තොරොක්කෝ නවතා තිබුණු තැනට ගියේ ය. ඔහු තමාට අවුරුද්දකින් බාල තම සහෝදරයා ද සහෝදරයාගේ වයසේ ම සිටි අසල්වැසි ළමයකු ද කැටුව ගියේ ය. බක්කිවල මඩ කැටි ගැසී තිබුණු තොරොක්කෝ කීපයක් පේළියට නවතා තිබෙනු දක්නට ලැබිණ. හේ වටපිට බැලී ය. කම්කරුවන්ගෙන් කිසිවෙක් එහි නො වී ය. ඔවුහු තිදෙනා දෙගිඩියාවෙන් අන්තිමට නවතා තිබුණු තොරොක්කෝව තල්ලු කිරීමට පටන් ගත්හ. තල්ලුවෙන් රෝද

කරකැවෙන්නට විය. රෝදවලින් නිකුත් වූ ශබ්දය මුලින් ර්යෝහෙයි තැති ගැන්වූ නමුත් ඒ ශබ්දය දෙවනු ව ඇසුණු විට ඔහුගේ බිය පහ ව ගියේ ය. අත්පොඩි හයේ බලයෙන් එය රේල් පීලි දිගේ ඉහළට හෙමින් තල්ලු වී ගියේ ය.

තොරොක්කෝව යාර විස්සක් පමණ තල්ලු වී ගිය පසු ඔවුන් කෙතරම් මහන්සි ගත්ත ද කන්ද නිසා ඉන් ඔබ්බට රථය සෙලවිය නො හැකි විය. ඇතැම් විටෙක රථය ආපසු තල්ලු වූයේ ඔවුන් තිදෙනා සමග ය. තම පරමාර්ථය ඉටු කර ගැනීම සඳහා පැමිණි දුර ප්‍රමාණය හොඳට ම සෑහේ යැයි සිතූ ර්යෝහෙයි "වරෙල්ලා, ගොඩවෙයල්ලා" යි බාල ළමයින් දෙදෙනාට සන් කළේ ය.

ඔවුහු තිදෙනා තොරොක්කෝවේ එල්ලී ගත්හ. එය හෙමින් හෙමින් ඇදෙන්නට වන. ක්‍රමයෙන් වේගය වැඩි විය. අන්තිමේ දී තොරොක්කෝව පීලි මත ඉගිළෙන්නට පටන් ගත්තේ ය. ඉදිරි පස දර්ශනය ර්යෝහෙයිගේ ඇස් ඉදිරියෙහි දිග හැරී ශීඝ්‍රයෙන් දෙපසට ඇදිණි. සන්ධ්‍යා මාරුතය ඔහුගේ දෙකම්මුල්හි ගැටී ගියේ ය. වෙවුලන තොරොක්කෝව ඔහුගේ දෙපා යට නැටී  ය. ර්යෝහෙයිගේ සතුට උතුරා යන තරම් විය.

මිනිත්තු කීපයක් ඇතුළත දී තොරොක්කෝවේ ගමන් වේගය ක්‍රමයෙන් අඩු වී නැවතුණේ ය.

"වරෙල්ලා, ආයෙත් තල්ලු කරමු."

ර්යෝහෙයි බාල ළමයි දෙදෙනා සමග නැවතත් තොරොක්කෝව තල්ලු කිරීමට සූදානම් විය. රෝද යන්තම් සෙලවුණා පමණි. ඔවුන් පිටු පසින් අඩි ශබ්දයක් ඇසිණි. ඉක්බිතිව මහත් හඬක් රැව් දුන්නේ ය.

"උඹලා ඔතන මොක ද? කවුද උඹලාට ඔය තොරොක්කෝ අල්ලන්න කිවුවේ?" වැඩට අඳින කබල් ජැකට්ටුවකුත් යල් පැනපු පිදුරු තොප්පියකුත් ඇඳගත් උස කම්කරුවෙක් ඔවුන් අසලින් සිට ගත්තේ ය. 'මේ අමුත්තා කවුදැ'යි හඳුනා ගන්නා විට ඔවුන් සිටියේ යාර විස්සකටත් වඩා ඈත ය. එවිට ඔවුහු දුවන්නට වූහ. ර්යෝහෙයි ආපසු ගෙදර දුවන විට වැඩපොළ අසල තොරොක්කෝ රාශියක් දක්නට ලැබුණ ද ඔහුට නැවතත් ඒවා පැදීමට නො සිතිණි. සුළඟට වෙවුලමින් තිබුණ පිදුරු තොප්පිය, ඔහු රවා බැලූ හැටි, ර්යෝහෙයිට නිතර ම සිහියට නැගුණේ ය. එහෙත් කාලයාගේ ඇවෑමෙන් ඒ හැඟීම ද අතුරුදහන්ව ගියේ ය.

දස දිනකට පමණ පසු එක් සැන්දෑවක ර්යෝහෙයි, වැඩ කරන පෙදෙසෙහි තමා සමීපයට එන තොරොක්කෝ නරඹමින් සිටියේ ය. එක් තොරොක්කෝවෙක ඉතා උස කසළ ගොඩක් විය. දෙවැනි තොරොක්කෝවේ සිල්බර කඳන් පටවා තිබුණේ ය. තරුණයෝ දෙදෙනෙක් මේ විශේෂ තොරොක්කෝව තල්ලු කරමින් සිටියහ. ඔවුන් දුටු සැණෙකින් ම 'ඔවුන් හා මිත්‍ර වීමට ලැබුණොත්' යි ර්යෝහෙයිට සිතිණි. 'ඔවුන් මට කෑගසන එකක් නැහැ' යි හේ සිතී ය; එසේ සිතා ඔවුන් දෙසට දිවුවේ ය.

"යාළුවා, මාත් තල්ලු කරන්න උදවු වෙන්න ද?"

"හොඳයි, හොඳයි, එනවා."

ර්යෝහෙයි බලාපොරොත්තු වූ පරිදි, ඔවුන්ගෙන් එකෙක් - ඉරි වැටුණ කමිසයක් ඇඳ සිටි මිනිසා - හිස නමා ගෙන තොරොක්කෝව තල්ලු කරන ගමන් විනීත ලෙස පිළිතුරු

දුන්නේ ය. ර්යෝහෙයි මිනිසුන් දෙදෙනා අතරට වී පුළුවන් තරම් ශක්තිය යොදා තොරොක්කෝව තල්ලු කිරීමට පටන් ගත්තේ ය.

"උඹට හුඟක් හයිය තියෙනවා නේ, ළමයෝ" කන අද්දර සිගරැට්ටුවක් රඳවා ගෙන සිටි අනෙක් මිනිසා ද ර්යෝහෙයිට ප්‍රශංසා කළේ ය.

වැඩි කාලයක් ගත නො වී ම පල්ලම ළඟා විය. 'තවත් තල්ලු කරන්න උවමනා නැහැ'යි කවර මොහොතක ඔවුන් කියාවි දෝ යි ර්යෝහෙයි නො සන්සුන්කමින් පසු විය. එහෙත් කම්කරුවෝ දෙදෙනා පෙරට වඩා තරමක් ශරීරය ඍජුව තබා ගෙන වචනයකුදු නො කියා දිගට ම තල්ලු කර ගෙන ගියහ. ර්යෝහෙයිට තම අදහස තව දුරටත් සඟවා ගෙන සිටිය නො හැකි විය. හේ බයෙන් බයෙන් "තව තල්ලු කරන්න දැ?" යි ඇසුවේ ය.

"හොඳයි, හොඳයි" ඔවුහු දෙදෙනා ම පිළිතුරු දුන්හ.

ඔවුන් ඉතා විනීත යැයි ර්යෝහෙයි සිතුවේ ය. යාර පන්සියයක් හයසියයක් පමණ ඉක්මවූ විට නැවතත් කන්ද ළඟා විය. මාර්ගය දෙපස ම ජමනාරං වතු දක්නට විය. ඉදී රන් වන් වූ ජමනාරං ගෙඩි මත හිරු රැස් වැටී තිබිණි.

ඔවුහු ජමනාරං වතු අතරින් කඳු මුදුනට තොරොක්කෝව තල්ලු කළහ. එතැන් සිට වූයේ තද බෑස්මකි. ඉරි කමිසය හැඳ සිටි මිනිසා "වරෙන්, වරෙන්, පැනපන්"යි හඬ නඟා කීයේ ය. ර්යෝහෙයි ඇසිල්ලකින් ම රථයට පැන්නේ ය. ඔවුන් සියලු දෙනා ම රථයට නැඟුණු පසු තොරොක්කෝව පීලි දිගේ වේගයෙන් පහළට බසින්නට විය. ජමනාරං සුවඳ ඔවුන්ට ආඝ්‍රාණය විය. ර්යෝහෙයිගේ කබාය පවනෙහි ලෙළ දුන්නේ ය.

'තල්ලු කරනවාට වඩා නැගිලා යන එක හරි ෂෝක්. ආපසු එන කොටත් කවුරු හරි තල්ලු කරනවා නම් හුඟක් තැන් නැගීලා යන්න පුළුවන්.' මෙවැනි නොයෙක් අදහස් ඔහුගේ සිත තුළට වැදුණේ ය.

තොරොක්කෝව දෙපස වූ උණ පඳුරු වෙත ළං වෙත් ම ක්‍රමයෙන් එහි වේගය අඩු වන්නට විය. තිදෙනා නැවතත් එය තල්ලු කිරීමට පටන් ගත්හ. උණ පඳුරු වන ළැහැබකට පරිවර්තනය විය. මඟ දිගට ම වැටී තිබුණ වියළි කොළවලින් පීලි සම්පූර්ණයෙන් ම වැසී තිබුණේ ය. ඔවුන් කඳු මුදුනට පැමිණි විට කඳු ගැට අතරින් මුහුද දිස් විය. බොහෝ දුර ගොස් ඇති බව ර්යෝහෙයිට වැටහුණේ එවේලෙහි ය.

තිදෙනා නැවත ද තොරොක්කෝවට නැඟ ගත්හ. එය මුහුදට වම් පසින් වන ළැහැබේ අතු පතර යටින් දිවෙන්නට විය. කෙසේ වුව ද ර්යෝහෙයිට පෙර දී මෙන් තොරොක්කෝ පැදීමේ විනෝදය මෙවර නො ලැබිණි. ඔහුට එය ආපසු හරවා ගැනීමට තරම් සිත් විය. එහෙත් එහි ගමන අවසන් වන තුරු ආපසු නො හැරෙන බව හේ විශ්වාස කළේ ය.

තොරොක්කෝව නැවතුණේ ය. ඔවුන් සිටියේ පිදුරු සෙවෙණි කළ තේ පැන් හලකට මුහුණ ලා ගෙන ය. එය අසල ම පස් කණ්ඩි කඩා වැටුණු කන්දක් විය. තේ පැන් හල තුළට පිවිසි කම්කරුවන් බිළිඳකු පිටෙහි එල්ලා ගත් ගැහැනියකගෙන් තේ ඉල්ලා ගෙන නිවාඩු පාඩුව එහි රස බලනු දක්නට ලැබිණි.

ර්යෝහෙයි නො සන්සුන් ගතියකින් තොරොක්කෝව වටා සක්මන් කළේ ය. තොරොක්කෝ වැසියේ මුදුනෙහි දෙපස ලී පුවරුවල තැවරුණු මඩ තට්ටු වේළී කැටි ගැසී තිබුණේ ය.

මිනිත්තු කීපයකට පසු කනේ සිගරැට්ටුවක් ගසා ගෙන සිටි මිනිසා තේ කඩයේ සිට අවුත් කඩදාසියක ඔතන ලද සූකිරි වගයක් ඔහුට දුන්නේ ය. ර්යෝහෙයි කිසිදු හැඟීමක් නැතිව ආචාරට ගියාට මෙන් 'ස්තුතියි' කීවේ ය. එහෙත් තමා කොතරම් දරදඬු වී දැයි පසුව ඔහුට වැටහුණේ ය. එහි වරද හරිගස්සන්නට මෙන් හේ සූකිරි ටිකක් කටට වීසි කර ගත්තේ ය. බූමිතෙල් ගඳක් ඔහුට දැනුණේ නිසැකයෙන් ම ඒ කඩදාසිය නිසා විය යුතු ය.

තිදෙනා ම තොරොක්කෝව යළිත් තල්ලු කරන්නට වූහ. ර්යෝහෙයිගේ අත් තොරොක්කෝව මත තිබුණු නමුත් සිත යොමු වී තිබුණේ වෙනත් දේවල් කෙරෙහි ය.

ඔවුහු අනෙක් පාර්ශ්වයෙහි කඳු පාමුලට ළඟා වූහ. එතැන ද මුලින් කී තේ පැන් හල වැනි කඩයක් තිබුණේ ය. කම්කරුවන් එය තුළට ගිය පසු ර්යෝහෙයි තොරොක්කෝවෙහි වාඩිගෙන 'ආපසු ගෙදර යන්නේ කෙසේ දැ'යි සිතන්නට විය. මිදි වැල් මත වැටුණු බසින හිරුගේ ආලෝකය ක්‍රමයෙන් අඩු වන්නට විය.

'දැන් හොඳට ම හවස් වෙලා' මේ අදහස පහළ වූ විට ඔහු නොඉවසිලිමත් විය. හේ තම කරදරවලින් සිත වෙන අතකට යොමු කිරීමට මහන්සි ගත්තේ ය. තොරොක්කෝවේ රෝදවලට පයින් ගැසුවේ ය. තමාට බැරි බව දැන දැන ම මුළු ශක්තිය ම යොදා එය තනියම තල්ලු කිරීමට සැරසුණේ ය.

කම්කරුවෝ ආපසු පැමිණ "ළමයෝ ඉක්මනට ගෙදර දුවපන්. අපි අද රෑ මෙහි නතර වෙනවා"යි කීහ. "උඹ තවත් ගෙදර යන්න පරක්කු වුණොත් අම්මලා තාත්තලා කලබල වෙනවා."

ර්යෝහෙයි මොහොතක් පුදුමයට පත්ව බලා සිටියේ ය. ඒ වන විට ඇඳිරි වැටී අවසාන ය. ගිය අවුරුද්දේ ඔහු ඉවාමුරා දක්වා පැමිණියේ ය. අද පැමිණි දුර ඊට වඩා සතර ගුණයකින් පමණ වැඩි ය. ඔහුට මේ දුර ප්‍රමාණය තනියම පයින් යෑමට සිදු වන්නේ ය. මේ හැම කරුණක් ම ඔහුගේ සිත විනිවිද ගියේ ය. ර්යෝහෙයිගේ ඇස්වල කඳුළු පිරුණේ ය. හැඬීමෙන් පලක් නැති බවත් මෙය ඊට අවස්ථාව නො වන බවත් ඔහුට කල්පනා වූයේ ය. ඔහු තරුණ කම්කරුවන් දෙදෙනාට යම්තම් ආචාර කොට රේල් පීලි දිගේ දුවන්නට පටන් ගත්තේ ය. විටෙක ඔහු රේල් පීලි මත දිවුවේ තෝන්තු වූවාක් මෙනි. සූකිරි මුල ඉරී විසිරෙන බව ඔහුට දැනුණේ ය. හේ ඉතිරි ටික ද ඉවතට වීසි කළේ ය. පාවහන් යුවළ ද ගැල වී වීසි වන්නට ඉඩ හැරියේ ය. මේස් පමණක් ඇතිව දුවන ඔහුගේ දෙපතුල්වල බොරලු ඇනී තරමක වේදනා ඇති වුව ද දෙපාවලට ඉතා සැහැල්ලු බවක් දැනුණේ ය. හේ කඳු මුදුනට දිවුවේ ය. වම් පසින් මුහුද දිස් විය. කඳුළු ධාරා දෙකම්මුල් දිගේ වැගිරෙත් ම හිස දෙපසට ගැස්සී ය. හේ නිර්භීත වීමට මහන්සි ගත්තේ ය. එහෙත් ඔහුගෙන් ඉබේ ම සුසුම් පිට විය.

ඔහු උණ වනය මැදින් වේගයෙන් දුවන විට බැස යන හිරුගේ රැස් දුර්වර්ණ වෙමින් තිබෙනු කඳු මතින් දර්ශනය වූයේ ය. ර්යෝහෙයිගේ සිත දැන් හොඳට ම අවුල් වී ගොස් ය. සමහර විට එසේ වූයේ ගමන් මාර්ගය වෙනස් වූ නිසා විය යුතු ය. දර්ශන පථයේ වෙනස් වීම ඔහුගේ සිත නොසන්සුන් බවට පත් කළේ ය. ඔහුගේ ඇඳුම් ඩහදියෙන් තෙත්ව තිබිණි. ඔහු ඇඳ සිටි කබාය ඒ අවස්ථාවෙහි මහත් කරදරයක් වූයෙන් ඒ ගලවා වේගයෙන් විසි කෙළේ ය. බලාපොරොත්තු සුන් වූ හේ දිගට ම දුවන්නට වන්නේ ය.

ජමනාරම් වත්තට ළං වන විට හොඳට ම ඇඳිරි වැටී තිබිණ. ඇතැම් විට ලිස්සමින් ඇතැම් විට ගල්මුල්වල හැපෙමින් දුවන අතර "මගේ පණ නොනැසී ඉතිරි වුණොත් ඇති" යි

ර්යෝහෙයි තමාට කියා ගත්තේ ය.

නගරාන්තයෙහි වැඩපොළ අඳුරේ ම ර්යෝහෙයිට දිස් වූයේ ය. එවිට ඔහුට කෑගැසීමට සිත් විය. එහෙත් හේ දිගට ම දිවුවේ ය.

නගරයට පිවිසි විට පහන් දැල්වෙමින් තිබිණි. වතුර අදින ගැහැනු ද ගොවිපොළේ සිට වැඩ නිම කොට තම නිවෙස්වලට යන මිනිස්සු ද ර්යෝහෙයි හති දම දමා දුවනු දුටහ. "මොක ද කාරණේ?"යි ඔවුහු ඇසූහ. ඔහු කිසිවක් නො කියා බඩුගබඩාව ද බාබර් සාප්පුව ද ආලෝකයෙන් බබළන තවත් නොයෙක් ගෙවල් ද පසු කළේ ය.

ගෙදර ඉස්සරහ දොර ළඟට පැමිණි විට ර්යෝහෙයිට හැඬීම වළක්වා ගත නො හැකි විය. ඔහු හඬනු ඇසූ මවත් පියාත් ඔහු වෙත දුව ආහ. මව ඔහු ළං කර ගෙන යම් කිසිවක් කීවා ය. එහෙත් ර්යෝහෙයි අතපය වීසි කරමින්, ඉකි බිඳිමින් දිගට ම හඬන්නට විය. ඔහු බෙරිහන් දෙනු අසා අහල පහළ ගැහැනු කීප දෙනෙක් කළුවරේ ම එතැනට රොක් වූහ. ඔහුගේ දෙමාපියන් මෙන් ඔවුහු ද හැඬීමට කාරණය කුමක් දැයි විමසූහ. ඔවුන් කුමක් ඇසුවත් ඔහු ඒ ගණනකට නො ගත්තේ ය. ඔහු දිගට ම ඇඬුවේ ය.

ඒ සා විශාල දුරකතරක සිට දුව එද්දී දැනුණු තනිකම කොතෙක් හැඬුව ද සිතින් බැහැර නො යන බව පසු ව ර්යෝහෙයිට වැටහුණේ ය.



## අවබෝධය

1. තොරොක්කෝවෙන් කසළ අදින කම්කරුවන් දුටු ර්යෝහෙයිගේ පැතුම වූයේ කුමක් ද?
2. ර්යෝහෙයි නො ඉවසිල්ලෙන් බලා සිටියේ කෙබඳු අරමුණක් ඉටු කර ගැනීමේ අභිලාෂයෙන් ද?
3. තොරොක්කෝව තල්ලු කරමින් සිටි තරුණයන් දෙදෙනා සමග මිත්‍ර විය යුතු යැ යි ර්යෝහෙයි සිතුවේ කුමක් නිසා ද?
4. තරුණයන් දෙදෙනා ඉතා විනීත යැයි ර්යෝහෙයි සිතුවේ කුමන හේතු නිසා විය හැකි ද?
5. ර්යෝහෙයි තරුණයන් සමග බොහෝ දුරක් පැමිණ ඇති බව හැඟවෙන කොටස කෙටිකතාවෙන් උපුටා ලියන්න.
6. ක්‍රමයෙන් ර්යෝහෙයිගේ සිතෙහි වූ සතුට පහව යන්නට බලපෑ හේතු ලෙස ඔබ දකින්නේ මොනවා ද?

## ලිඛිත අභ්‍යාස

1. **'මිදි වැල් මත වැටුණු බසින හිරුගේ ආලෝකය ක්‍රමයෙන් අඩු වන්නට විය' යන පරිසර වර්ණනාවෙන් ර්යෝහෙයිගේ සිත විනිවිද දැකිය හැකි ය. මේ පිළිබඳව ඔබේ අදහස ලියන්න.**
2. **මෙම නිර්මාණය ඔස්සේ කතුවරයා ළමා මනස විනිවිද දැකීමට සමත්ව තිබේ. ඉහත ප්‍රකාශය විමසන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **අකුතගාව ර්යුනොසුකෙ හා ජයන්ත විමලසේන දෙපළගේ සාහිත්‍ය සේවය පිළිබඳ තොරතුරු සංග්‍රහ කරන්න.**

පහත දැක්වෙන්නේ විසිවන සියවසේ ජර්මනියේ විසූ සුප්‍රසිද්ධ නාට්‍යකරුවකු වන බර්ටෝල්ට් බ්‍රෙෂ්ට් විසින් රචිත **ද කොකේසියන් චෝක් සර්කල්** නම් නාට්‍යයේ පරිවර්තනයක් ලෙස හෙන්රි ජයසේන විසින් නිෂ්පාදනය කරන ලද **හුණුවටයේ කතාව** නම් නාට්‍යයේ අවසාන අංකය යි. විසි වන සියවසේ ලෝක නාට්‍ය ක්ෂේත්‍රයේ ශ්‍රේෂ්ඨතමයා බ්‍රෙෂ්ට් බව බොහෝ විචාරකයන්ගේ පිළිගැනීම යි.

නාට්‍ය පිටපත් රචනය පිළිබඳ අවබෝධයක් ඔබට ලබා දීම මෙහි අරමුණ යි. ඒ සඳහා ප්‍රථමයෙන් මෙහි දැක්වෙන නාට්‍ය කොටස කියවා බලන්න.

## හුණු වටයේ කතාව

### 2 වන අංකය

**පොතේ ගුරු** : අසනු මැන දැන් අයුරු විසඳුව
විභාගය නඩු ළදරුවා ගැන
කවුද යන වග නියම මෑණියා
උපකාරයෙන් හුණු වළල්ලේ

(නූකා නුවර විනිශ්චය ශාලාව. පසුපසින් හේවායන් විසින් ළදරු මයිකල් වේදිකාව හරහා ගෙන යනු ලබයි. දරුවා නොපෙනී යන තුරු හෙලි අමෝරා ගත් හේවායෝ දොරටුව අසල ගෲෂා නවතා ගෙන සිටිති. පෙර මාලිගයේ අරක්කැමි ස්ත්‍රිය ද ගෲෂා සමග වෙයි. ඈතින් නොයෙක් ශබ්ද. අහස රත් පැහැ ගෙන ඇත)

**ගෲෂා** : (ගෙන යනු ලබන දරුවා දෙස ඇසි පිය නො හෙළා බලා සිට) දැන් හිට ම නිර්භීත යි මගේ දරු පැටියා. දැන් පුළුවන් තනියම අතපය සෝද ගන්ඩත්!

**අරක්කැමි ස්ත්‍රිය** : උඹ වාසනාවන්ති! මෙයා නියම නඩුකාරයෙක් නෙමෙයි. කෙහෙල්මලක්වත් නොදන්න බේබද්දෙක්, අසඩක් කියලා. මහා පල් හොරු හිටන් මෙයාගෙන් බේරිලා ගිහින් තියෙනව. සල්ලිකාරයො උණත් අත පුරා පගා නොදෙන හින්ද ද කොහෙද සාක්කි පටලවා ගෙන දුප්පත් ඈයො බොහෝ ම ලෙහෙසියෙන් බේරල යවාපු වෙලාවල් තියෙනව.

**ගෲෂා** : අද නම් මට හැම පිහිටක් ම ඕනෑ වේවි.

**අරක්කැමි ස්ත්‍රිය** : මට තේරෙන්නෙ නෑ උඹ මොනවට මේ ගැන මේ හැටි වද වෙනව ද කියල, උඹෙ දරුවෙකුත් නෙමෙයි කොට! ඊටත් හපන් මේ වගෙ කාලෙක!

**ගෲෂා** : මමයි හැදුවෙ! ඒ හින්ද මගෙයි දරුවා!

| | | |
|---|---|---|
| **අරක්කැමි ස්ත්‍රිය** | : | උඹ කල්පනා කළේ නැද්ද ඩිංගක් මේ ගෑනි ආපහු ආවොත් මොනව වේවි ද කියල? |
| **ගෲෂා** | : | මුලින් මම හිතුවෙ ආපහු ආවොත් දරුව ආපහු දෙනවා කියල. ඊට පස්සෙ මං හිතුව ආපහු එන එකක් නෑ කියල. |
| **අරක්කැමි ස්ත්‍රිය** | : | උඹ මහා මෝඩ කෙල්ලෙක්. ඒත් කමක් නෑ. උඹෙ හිත හොඳ හින්ද මම ඕනෑ එහෙකට දිවුරන්නම්. (සයිමන් සෂාවා ඈත එනු දැක) ඒත් උඹ සයිමන්ට කළේ බරපතළ වැරැද්දක්. මම කතා කළා එයා එක්ක. එයාට තේරෙන්නෙ නෑ මේ පටලැවිල්ල. |
| **ගෲෂා** | : | (ඔහු එනු දැක) එයාට තේරෙන්නෙ නැත්නම් මට දැන් වෙලා නෑ ඕව කියා දිදී ඉන්න. |
| **අරක්කැමි ස්ත්‍රිය** | : | දරුව උඹේ නෙමෙයි කියල එයාට තේරෙනවා. ඒත් උඹ කසාද බැඳ ගෙන ඉන්න නිසා මැරෙන තුරු ආයෙ එයාට උඹව ලබා ගන්න බෑ කියන එක තේරෙන්නෙ නෑ එයාට! |

**(ගෲෂා, සයිමන් එනු දැක ඔහු හා සිනාසෙයි.)**

| | | |
|---|---|---|
| **සයිමන්** | : | (අසලට විත් බකුසු ලෙස) මම මේ ඇත්තිට කියන් ආවෙ දරුව මගේ ය කියල මම දිවුරන්න සූදානම් බවයි. |
| **ගෲෂා** | : | පිං අයිති වෙයි සයිමන්! |
| **සයිමන්** | : | ඒ එක්ක ම මම කියන්න ආවෙ, ඒ නිසා මම කිසි දෙයක් බලාපොරොත්තු නොවන බව. |
| **අරක්කැමි ස්ත්‍රිය** | : | මොනව බලාපොරොත්තු වෙන්න ද? දන්නෙ නැද්ද එයා කසාද බැඳල බව? |
| **සයිමන්** | : | අපි දන්නව. ඔය හැටි මතක් කර දෙන්න ඕනෑ නෑ ඒ ගැන! |

**(භේවායෙක් පැමිණෙයි)**

| | | |
|---|---|---|
| **භේවායා** | : | කෝ? කොහෙ ද නඩුකාරයා? කවුරුත් එහෙම දැක්ක ද නඩුකාරයාව? |
| **භේවායෙක්** | : | (ඇතුළතින් විත්) නඩුකාරය නෑ. පුටු කබලකුයි හිස් වයින් ජෝග්ගුවකුයි ඇර වෙන මොකවත් නෑ ගේ හරියෙවත්! |

**(නටාලියා සහ පිරිස පැමිණෙති.)**

| | | |
|---|---|---|
| **නටාලියා** | : | එක හොඳකට තියෙන්නෙ, සාමාන්‍ය යක්කු නෑ මෙතන. මට ඉවසන්න බෑ උන්ගෙ දාඩිය ගඳ. ඒක නැහැයට දැනිච්ච හැටියෙ මට හිසේ ඈම්ම අල්ලනව! |
| **1 වන නීතිඥයා** | : | කියන කරන දේ ගැන කරුණාකර ටිකක් ප්‍රවේසම් වෙන්න ඕනෑ, අපට වෙන නඩුකාරයෙක් ලැබෙන තුරු. |

| | | |
|---|---|---|
| නටාලියා | : | මම මොකුත් කිව්වෙ නෑ ඉලෝ සුබොලාඩ්සේ! මම හරි ආදරෙයි මිනිස්සුන්ට! අහිංසක දුප්පත් මිනිස්සුන්ට! ඒ ගොල්ලන්ගෙ දාඩිය ගඳ තමයි මට රුස්සන්නෙ නැත්තෙ! |
| 2 වන නීතිඥයා | : | වැඩි සෙනගක් ඉන්න එකක් නෑ. අහල පහළ තව ම කැරලි කෝලාහල නිසා මිනිස්සු තව ම ගෙවල් ඇතුළෙ. |
| නටාලියා | : | (ගෘෂා වෙත) අර ඉන්නෙ ඒකි ද? |
| 1 වන නීතිඥයා | : | පිං සිද්ද වෙයි මැතිනිය, ආදිපාදතුමා අලුත් නඩුකාරයෙක් පත් කරන තුරු අපි ටිකක් කට ප්‍රවේසම් කර ගෙන ඉන්න ඕනෑ. මේ නඩුකාරයට එහෙම ඇහුණොත් ඔහොම දේවල් කියනව, අපට හොඳට හිටින්නෙ නෑ ඒක. අපි හැම දෙයක් ම යොදා තියෙන්නෙ අලුත් නඩුකාරයෙක් පත් කරන්න. |

(තවත් හේවායෝ පැමිණෙති.)

| | | |
|---|---|---|
| අරක්කැමි ස්ත්‍රිය | : | නඩුකාරයා අසඩක් නොවෙයි නම් අර ගෑනි මෙලහකටත් උඹේ කෙස්ස ගලවල අර ගෙන! |

**(හේවායන් බාල්කයක් මත තොණ්ඩුවක් ගැට ගසනු පෙනේ. යදම්වලින් බඳිනු ලැබූ අසඩක් හා ෂවුවා ගෙන එනු ලබති. ගොවියෝ තිදෙන පසුපසින් එති.)**

| | | |
|---|---|---|
| හේවායෙක් | : | ගලවපල්ල මුගෙ ලෝගුව මූ එල්ලන්න ඉස්සර! (ඔහු අසඩක්ට අතින් අනී. ගොවියෝ හා හේවායෝ අසඩක්ගේ ලෝගුව ඉවත් කරති. ඔහුගේ කිලිටි යට ඇඳුම් පෙනේ. තව එකෙක් ඔහුට පයින් ගසයි.) |
| තවත් හේවායෙක් | : | (අසඩක් තල්ලු කරමින්) ඕන් අල්ලපල්ල නඩුකාර පීප්පයක්! |

**("අල්ලපියව්" "දීපියව්" ආදිය කියමින් ඔවුහු අසඩක් එහාටත් මෙහාටත් තල්ලු කරති. අසඩක් වෙහෙසින් බිම වැටේ. එවිට ඔහු උස්සා තොණ්ඩුව අසලට ගෙන යනු ලැබේ.)**

| | | |
|---|---|---|
| නටාලියා | : | (අත්පොළසන් දෙමින් මේ සියල්ල දෙස බලා සිට) හොඳ වැඩේ! මට පේන්න බැරුව හිටියෙ ඔය මූසලයව! |
| අසඩක් | : | (මුහුණෙන් ලේ පෙරමින්) මට මොකුත් පේන්නෙ නෑ! මට දීපල්ල රෙදි කෑල්ලක්! |
| හේවායෙක් | : | මොනව ද තමුසෙට බලන්න ඕනෑ? |
| අසඩක් | : | තොපිව, බල්ලනේ, තොපිව! (ඔහු අතින් ලේ පිස දමා ගනී) බල්ලනේ, තොපිට සුබ උදෑසනක් වේවා! බලාපල්ලා තොපි ළඟ තව බූට් සපත්තුවක් එහෙම තියෙනව ද කියල මට පයින් එකක් අනින්න! |

**(කෝප්රල් කෙනෙකුත් සමග දූවිලි තැවරුණ අසරුවෙක් එයි. ඔහු හම් බෑගයකින් ලියවිල්ලක් එළියට ගනී. එය ගෙන අවට බලා)**

| | | |
|---|---|---|
| අසරුවා | : | නවත්තපල්ලා! මහ ආදිපාදතුමාගෙන් සන්දේශයක් අරගෙනයි මේ ඇවිත් ඉන්නෙ අලුත් ම පත් කිරීම් ගැන! |
| **කෝප්රල්** | : | (ගුගුරමින්) නිශ්ශබ්ද වෙනු! |
| අසරුවා | : | නූකා නුවර නඩුකාර පදවිය සම්බන්ධ ව මහා ආදිපාදතුමා මේ විධියට පත්වීමක් කර තියෙනවා: "මේ රටට ඉතා ම දයාබර වූ ජීවිතයක් ගැලවීම හේතු කොට ගෙන එක්තරා පුද්ගලයෙක්, නූකා නුවර අසඩක් නමැති පුද්ගලයාව අපි විනිශ්චයකාර පදවියට පත් කරනව." කෝ ඒ පුද්ගලයා? |
| **ෂවුවා** | : | (අසඩක් දක්වමින්) අර ඉන්නෙ උන්නැහේ තමයි! |
| **කෝප්රල්** | : | (ගුගුරමින්) තොපිට ඔල්මාද හැදිල ද? මොකක් ද මේ කරන්නෙ? |
| **හේවායෙක්** | : | සමා වන්න! අසඩක්තුමා විනිශ්චයකාර පදවියේ තමයි හිටියෙ! නමුත් මෙන්න මේ ඉඩම් හිමියන්ගෙ පැමිණිල්ලක් නිසා මහා ආදිපාදතුමාට විරුද්ධ කෙනෙක් හැටියට හිතාගෙන මෙහෙම කරන්න සිද්ධ වුණේ. |
| **කෝප්රල්** | : | (ගොවීන් පෙන්වා) ඇදන් පලයල්ල මුංව හිර ගෙට. (ඔවුහු ගෙන යනු ලබති. යන අතර ඔවුහු නැමි නැමී ආචාර කරති) බලා ගනිල්ල මීට පස්සෙ එහෙම අසඩක් විනිශ්චයකාරතුමාට හිරිහැරයක් කර තිබුණොත්! |

**(කෝප්රල් සහ අසරුවා පිට වෙති.)**

| | | |
|---|---|---|
| **අරක්කැමි ස්ත්‍රිය** | : | (ෂවුවාට) අරය අප්පුඩි ගැහැව්වා. නඩුකාරය දැක්ක නම් එහෙම, බලාගන්න පුළුවන් සෙල්ලම! |
| **1 වන නීතිඥයා** | : | මේක හරි ම විපත්තියක්! |

**(අසඩක් සිහි මූර්ඡා වී සිටී. ඔහුට යළිත් නඩුකාර ලෝගුව පලඳවනු ලැබේ. ඔහු වැනි වැනී හේවායන් වෙත යයි.)**

| | | |
|---|---|---|
| **හේවායෙක්** | : | ඔබතුමාට අවශ්‍ය දෙයක් එහෙම තියෙනව ද? |
| අසඩක් | : | තියෙනව! ඉඳල හිටල තොපි එකෙකුගෙ හොම්බට පයින් පාරක් දෙන්න! (ෂවුවා දක්වා) මම මොහුව නිදහස් කරනවා. (ෂවුවාගේ යදම් මුදනු ලැබේ) ගිහින් ගෙනෙව් මට රතු වයින් ජෝගුවක්, හොඳ සැර ජාතියෙන්. (ෂවුවා පිට වෙයි. හේවායන්ට) පලයව් යන්න මෙතනින්! මට නඩුවක් විසඳන්න තියෙනවා. (ෂවුවා වයින් රැගෙන එයි. අසඩක් එය එක හුස්මට බොයි) මගෙ පපුව කකියනව! (ෂවුවා නීති පොත ආසනය මත තබයි. අසඩක් එහි වාඩි වෙයි. (වට පිට බලා රවමින්, අත දිගු කර) මම ගන්නවා! |

**(කලබල ව කසුකුසුවක් පැවැත්වූ පැමිණිලිකාරයෝ සැනසිලි සුසුම් හෙළමින් සිනහ පහළ**

කරති. ඔවුහු රහස් කියනු පෙනේ.)

| | | |
|---|---|---|
| **අරක්කැමි ස්ත්‍රිය** | : | අපොයි දෙයියනේ! |
| **සයිමන්** | : | පිනි දියෙන් ළිඳක් පුරවන්න බැහැ කියනව! |
| **නීතිඥයෙක්** | : | (අසඩක් අසලට එමින් - නැඟී සිටින අසඩක් සන්තෝෂයෙන් අත පා ඔහුගෙන් මුදල් ලබයි.) මහ විකාර නඩුවක් මහා අධිකරණතුමනි! විත්තිකාරිය දරුවෙක් හොරකම් කර ගෙන ගිහින් දැන් ආපහු දෙන්න බෑ කියනව. |
| **අසඩක්** | : | (ග්‍රෑෂා වෙත අත දිගු කරමින්) හ්ම්! හොඳ කඩවසම් තැනැත්තියක්. (ඔහු සන්තෝෂයෙන් මුදල් අතගා සාක්කුවට දමා ගනිමින් වාඩි වෙයි.) මම නඩුව ආරම්භ කරනව. හැම කෙනෙකුගෙන් ම සත්‍යය බලාපොරොත්තු වෙනව! (ග්‍රෑෂාට) විශේෂයෙන් ම මේ තැනැත්තියගෙන්! |
| **1 වන නීතිඥයා** | : | මහා අධිකරණතුමනි, පැරණි කියමනක් තියෙනව රුධිරය ජලයට වඩා ඇඩිය කියල. මේ මහගු කියමන... |
| **අසඩක්** | : | ඊට කලින් මහාධිකරණය දැන ගැනීමට සතුටුයි මුන්නැහෙගෙ ගාස්තුව කීයද කියල. |

(1 වන නීතිඥයා **පුදුම වී බලා සිටී. අසඩක් ඇඟිලි අතුල්ලා යළිත් ඉඟියෙන් අසයි.)**

| | | |
|---|---|---|
| **1 වන නීතිඥයා** | : | මේ ප්‍රශ්නය ටිකක් අසාමාන්‍ය ප්‍රශ්නයක් මහාධිකරණතුමනි, ඒත් දැන ගන්න අවශ්‍ය ම නම්, මගේ ගාස්තුව රිදී පන්සීයයි. |



| | | |
|---|---|---|
| අසඩක් | : | දැන ගැනීමට අත්‍යවශ්‍ය ම කාරණයක්! හ්ම්, දැන් කියමු අර රුධිරය ගැන කතාව. |
| 1 වන නීතිඥයා | : | (නැමී ආචාර කරමින්) එහෙමයි, මහාධිකරණතුමනි, මහාධිකරණතුමනි, සෑම බැම්මකට ම වැඩිය තද බැම්මක් තමයි රුධිර බැම්ම. මවකුත් දරුවකුත් අතර ඇති රුධිර බැම්ම! ඊට වඩා උත්තරීතර බැම්මක් මුළු ලෝක ධාතුවේ ම නැති බව මහාධිකරණතුමා පිළිගන්නවා ඇති. මහාධිකරණතුමනි, මවකගේ ඇකයෙන් දරුවෙක් උදුරා ගන්න පුළුවනි ද? දරා සිටිය හැකි ක්‍රියාවක් ද එය? ප්‍රේමයේ වේදනාවෙන් පිළිසිඳ ගත් දරුවා මවක් විසින් සිය ගර්භයේ උසුලා සිටිනු ලබනව. ඇගේ ලෙයින් දරුවා පෝෂණය කරනු ලබනවා. වේදනාවෙන් දරුවා බිහි කරනු ලබනවා. මහාධිකරණතුමනි, වනයේ සැරිසරන කෲරතර ව්‍යාඝ්‍ර ධේනුව පවා සිය දරුවා නැති වූ විට ශෝක ගින්න දරා ගනු බැරි ව කැලෑව දෙවනත් කරනවලු! මුළු ස්වභාව ධර්මයා ම.... |
| අසඩක් | : | (කතාව නවතමින් ගෲෂාට) මොනව ද මේ වැල්වටාරම් ගැන යුෂ්මතියට කියන්න තියෙන්නෙ? |
| ගෲෂා | : | දරුව මගේ! |
| අසඩක් | : | හ්ම්, එච්චර ද කියන්න තියෙන්නෙ? යුෂ්මතියට ඒක ඔප්පු කරන් පුළුවන් වේවි කියල මං බලාපොරොත්තු වෙනවා. එතකොට යුෂ්මතිය හිතන්නෙ ඔය වචන දෙක අහල මේ දරුවගෙ අයිතිය යුෂ්මතියට මම පවරා දේ ය කියල, ඒ? |
| ගෲෂා | : | මම මට පුළුවන් හැටියට දරුවව හදා ගත්තා. මං බඩගින්නෙ තිබ්බෙ නෑ දරුවව. පුළුවන් දෙයක් කන්න බොන්න දුන්න. හැම තිස්සෙ ම වගේ කොහේ හරි වහලක් යට ඉන්න සැලැස්සුව. මම උණ බටවලින් සෙල්ලම් බඩු හදා දුන්න දරුවට. මගේ අතේ තිබුණු තුට්ටු දෙක වියදම් කරල කිරි ටික අරන් දුන්න. අහල පහළ ළමයින් එක්ක සණ්ඩු සරුවල් නොකර හොඳින් ඉන්න ඉගැන්නුව. පොඩි කාලෙ ඉඳල ම වැඩ පළ කරන හැටි කියා දුන්නා. ඒත් තව ම ඇබිත්තන් පැටියා! |
| 1 වන නීතිඥයා | : | මහාධිකරණතුමනි, ඔබතුමාට පේනව ඇති මේ තැනැත්තිය මේ දරුවා සම්බන්ධ ව කිසි ම ලේ නෑකමකට හිමිකම් නොකියන බව. |
| අසඩක් | : | ඔව් ඔව්, මට පේනව. |

**1 වන නීතිඥයා** : එහෙමයි මහාධිකරණතුමනි, මහාධිකරණතුමනි, මම තමුන්නාන්සේගෙන් බැගෑපත් ව ඉල්ලා සිටිනවා මේ දරුවාගෙ මවට - මේ සියුමැලි කාන්තාවට වචනයක් කතා කරන්න ඉඩ දෙන්න කියා. ස්වාමියාත් නැති ව, දරුවාත් අහිමි ව, ශෝකයෙන් පීඩිත වූ අවාසනාවන්ත ස්ත්‍රියක් මේ නටාලියා අබෂ්විල්ලි මැතිනිය!

**නටාලියා** : (සෙමින්) මට අත් වී ඇති දරුණු ඉරණමින් මිදීමට මේ දරුවා නැවත ලබා දෙන ලෙස ඔබතුමාගෙන් යටහත් ව ඉල්ලා සිටිනව, නඩුකාරතුමනි, මවක් වශයෙන් මම වින්ද වේදනා, හිරිහැර! නිදි නැතිව ගත කළ...

**2 වන නීතිඥයා** : (කඩා පනිමින්) මේ ස්ත්‍රියට සලකන හැටි ඉතා ම නින්දිත යි. මිය ගිය ඇගේ ස්වාමිපුරුෂයගෙ මාලිගාවටත් ඇතුළු වෙන්න ඉඩක් නෑ මේ ස්ත්‍රියට! වතුපිටිවල ආදායම් ඇහිරිලා! කිසි ම හිතක් පපුවක් නැතිව ඇට කියනව ඔටුන්න හිමි කුමාරය නැතිව ඒ කිසි දෙයක් ඇට දෙන්න බෑ කියල. කිසි ම දෙයක් කර ගන්න බෑ මේ මනුස්සයට කොලු පැටිය නැති හින්ද! නීතිඥයන්ට වත් ගෙවා ගන්න විදියක් නෑ!

**(මේ වචනවලින් කලබල වූ 1 වන නීතිඥයා ඔහු වැළකීමට අතින් සංඥා කරන විට)**

මගේ මිත්‍ර ඉලෝ සුබොලාඩ්සේ, මොක ද අපි මේ කාරණාව එළි කළා ම ඇති වැරැද්ද? අබෂ්විල්ලි වතුපිටිවලට අයිතියක් නැද්ද ඔය කොලු පැටියට වගේ ම මේ මනුස්සයට?

**1 වන නීතිඥයා** : කරුණාකර ඉඳගන්න සන්දෝ ඔබොලාඩ්සේ! මේ ගැන සඳහන් නො කරන්න අපි එකඟ වුණා. (අසඩක්ට) මහාධිකරණතුමනි, අබෂ්විල්ලි වතුපිටි සම්බන්ධ ව ප්‍රශ්නයකුත් තියෙනවා තමයි මේ නඩුවෙ තීන්දුව උඩ. ඒත් ඊට වඩා පෙරමුණේ තියෙන්නෙ අර මම කලින් කිව්ව වගේ මේ මවක් පිළිබඳව ඇති මානුෂික බේදවාචකය යි. දැන් ඕංගකට ඉස්සර වෙලා මේ තැනැත්තිය හද කම්පා වන විදියට ඔබතුමාට පෙන්වා දීපු පරිදි මේ මයිකල් අබෂ්විල්ලි නමැති දරුවා මෙම වතුපිටි ධන සම්භාරයට උරුමකාරයා වුණත් නොවුණත් ඒක නෙමෙයි මහාධිකරණතුමනි ප්‍රශ්නය. මේ මවකගෙ හදවත ඇතුළත බුර බුරා නගින දුක් ගින්දරයි!

අසඩක් : කරුණාකර පොඩ්ඩකට නවතින්න. වතුපිටි පිළිබඳව බේදවාචකය ගැන කථා කරන කොට මහාධිකරණතුමාගෙ පපුව පත්තු වෙනව, පිරිසිදු මනුෂ්‍ය හැඟීම් පිළිබඳ සංකේතයක්!

2 වන නීතිඥයා : එහෙමයි මහාධිකරණතුමනි, දරුවා රැගෙන ගිය මේ ස්ත්‍රිය දරුවාගෙ මව නො වන බව ඔප්පු කිරීමට අපි සූදානම්. මහාධිකරණය ඉදිරියේ අපි ඒ කරුණු දැන් ඉදිරිපත් කරනවා. අධිකරණතුමනි, කිසියම් අවාසනාවන්ත සිදුවීම් වැලක් නිසා මයිකල් අබෂ්විල්ලි කියන මේ දරුවා මාලිගා බිමේ දමා යන්න සිද්ද වුණා ඔහුගෙ මවට - මේ මහඟු කාන්තාවට - කැරැල්ලට බයේ ඈ පැන යන අවස්ථාවේ දී! ගෲෂා නමැති අර ඉන්න මෙහෙකාර ස්ත්‍රිය එදා ඒ පාස්කු ඉරිදා දවසෙ මේ දරුවා අසල ගැවසුණ බව...

අරක්කැමි ස්ත්‍රිය : ස්වාමිදූ කල්පනා කළේ ගෙනියන ඇඳුම් ගැන විතරයි.

2 වන නීතිඥයා : (එය නො තකා) ඊට අවුරුද්දකට පමණ පසු මේ ගෲෂා කියන ස්ත්‍රිය කඳු ප්‍රාන්තයට පිවිසුණා මේ දරුවත් සමග. එහි දී ඈ ආවාහයක් කර ගත්ත.

අසඩක් : කොහොම ද යුෂ්මතී කඳු ප්‍රාන්තයට ගියේ?

ගෲෂා : මං ගියේ පයින්. දරුව මගේ!

සයිමන් : දරුවගෙ පියා මමයි විනිශ්චයකාරතුමනි,

අරක්කැමි ස්ත්‍රිය : දරුවා බලා ගත්තෙ මමයි හාමුදුරුවනේ රිදී පහකට!

2 වන නීතිඥයා : මේ මිනිසා මේ තැනැත්තිය සමග විවාහ ගිවිස ගත් තැනැත්තෙක්. එම නිසා ඔහුගෙ සාක්ෂි වැදගත් නෑ මහාධිකරණතුමනි!

අසඩක් : කඳු ප්‍රාන්තයේ දී ආවාහ කර ගත්තෙ උඹව ද?

සයිමන් : නෑ විනිශ්චයකාරතුමනි, ඈ ආවාහ කර ගත්තෙ දුප්පත් ගොවියෙක්!

අසඩක් : (ගෲෂාට) ඇයි යුෂ්මතිය එහෙම කළේ? මේ මිනිහා හොඳ මදි ද?

ගෲෂා : මං කසාද බැන්දෙ මේ දරුවා නිසා. දරුවට නො තෙමී ඉන්න ගෙදරක් උවමනා නිසා. (සයිමන් දක්වා) මෙයා යුද්දෙට ගිහින් හිටියෙ.

අසඩක් : දැන් ඔහුට යුෂ්මතිය වුවමනා කරනව, ඒ?

සයිමන් : මම සාක්ෂි වශයෙන් කියන්න සතුටුයි.....

ගෲෂා : (කෝපයෙන්) මම දැන් නිදහස් ගැනියෙක් නෙමෙයි හාමුදුරුවනේ!

| | | |
|---|---|---|
| **අසඩක්** | : | එතකොට මේ දරුව? දඩාවතේ ගිහින් ලබා ගත්ත දරුවෙක් නේද? (ගෲෂා නිශ්ශබ්ද ය) මම එක ප්‍රශ්නයක් අහනව යුෂ්මතියගෙන්. කොයි විධියෙ දරුවෙක් ද මේ දරුවා? කාලකණ්ණියෙකුගෙ කාලකණ්ණි පැටියෙක් ද? එහෙම නැත්නම් වැදගත් පවුලක එකෙකුගෙ පැටියෙක් ද? |
| **ගෲෂා** | : | (කෝපයෙන්) දරුවා සාමාන්‍ය පැටියෙක්. |
| **අසඩක්** | : | මං අහන්නෙ නම්බුකාර පෙනුමක් එහෙම තිබුණ ද මුල ඉඳල? |
| **ගෲෂා** | : | මම දන්නෙ නෑ මූණ මැද නහයක් තිබුණා! |
| **අසඩක්** | : | හ්ම්, ඒක බොහොම වැදගත් උත්තරයක්. හ්ම්, මම වැඩිදුර යන්නෙ නෑ. (විත්තියට) උඹලගෙ බොරු තව කොතෙකුත් අහන්නෙ නෑ මම! (ගෲෂාට) විශේෂයෙන් ම උඹේ බොරුවලට කන් දෙන්නෙ නෑ මම! උඹල ඔක්කොම හොරු! මම දන්නව උඹලගෙ සෙප්පඩ විජ්ජා! |
| **ගෲෂා** | : | (කෝපයෙන් හිටි හැටියේ) අපිත් දන්නව ඔහේගෙ සෙප්පඩ විජ්ජා. අපි දැක්ක අර පැත්තෙන් හම්බ වුණ පොඩිය! |
| **අසඩක්** | : | නිශ්ශබ්ද වෙනු! උඹෙන් මොකුත් ගත්තෙ නැනෙ මම! |
| **ගෲෂා** | : | (අරක්කැමි ස්ත්‍රිය ඈ වැළැක්වීමට උත්සාහ කරන අතර) මට දෙන්න දෙයක් නෑ. |
| **අසඩක්** | : | හරි! හරියට හරි! හිඟන්නන්ගෙන් කිසි දෙයක් නෑ මට. ඒත් නීතිය ඕනෑ උඹල හැමෝට ම. උඹල මස් රාත්තලක් ගන්න යන කොට සල්ලි ගෙනියනවා. මා ළඟට එනව යුක්තිය ලබා ගන්න අත් දෙක වන වනා, මළවුන්ගෙ දානෙට එනව වගෙ! |
| **සයිමන්** | : | (උස්හඬින්) අශ්වයට ලාඩම් ගහන කොට කකුලෙ ඉන්න මැස්ස අණ්ඩ ඉස්සුවලු! |
| **අසඩක්** | : | (අභියෝගය සන්තෝෂයෙන් පිළිගනිමින්) මූදු පල්ලෙ තියෙන මුතු ඇටේට වැඩි වටිනවලු ගොම ගොඩේ තියෙන දොඹ ඇටේ! |
| **සයිමන්** | : | "හොඳ අපූරු දවසක් - යමු බිළී බාන්න" කිව්වලු බිම් පණුව! |
| **අසඩක්** | : | "මගේ ස්වාමියා මම යි" කිව්ව ලු මෙහෙකාරයා. කියල තමන්ගෙ ම බෙල්ල කපා ගත්ත ලු! |
| **සයිමන්** | : | "උඹල මගේ දරුවො" කිව්වලු සාර්තුමා. මිනිසුන්ට කියල, උන්ගෙ හිස ගසා දැම්ම ලු! |
| **අසඩක්** | : | මෝඩයගෙ නරක ම සතුර තමාම ලු! |

| | | |
|---|---|---|
| **සයිමන්** | : | වාතයට නහයක් නැති ලු! |
| **අසඩක්** | : | උසාවියේ අසභ්‍ය වචන පාවිච්චි කළාට රිදී දහයක් දඩ ගහනව. නීතිය මොකක් ද තේරේවි එතකොට! |
| **ගෲෂා** | : | මිනී මරන නීතියක් මේක! අපට මෙහෙම සලකන්නෙ අපි දුප්පත් හින්ද, අපි ළඟ දාඩිය ගඳ ගහන නිසා, අර අබ්බගාත් උන්නැහෙල ඉන්න අයට වගේ අපට සළු පිළි නැති නිසා! |
| **අසඩක්** | : | ඔව්. ඒ කතාව හරි! |
| **ගෲෂා** | : | දරුව අර උන්දැට දෙන්න ඔහේට ඕනෑ කරල තියෙනවා. ඒත් උනදැ දන්නෙ නෑ දරුව තෙමා ගත්තම රෙද්ද මාරු කරන්න වත්. එච්චරට සුකොමලයි උන්දල! |
| **අසඩක්** | : | ඒකෙත් කිසියම් සත්‍යයක් තියෙනව. ඒ වුණත් රිදී විස්සක් දඩ ගහනව අසභ්‍ය දේ මතක් කළාට උසාවියේ! |
| **ගෲෂා** | : | විස්ස තිහ උණත් මට කමක් නෑ. මම කියල දෙන්නම් ඔහේගෙ නීතිය ගැන. ඔහේ දන්න ඉටි ගෙඩියක් නෑ නීතිය ගැන. ඔහේ නිකම් බෙරි වෙච්ච ලූණු බිකක්! (වක්කඩ කැඩුවාක් සේ) මොකද්ද ඔහේට තියෙන යුතුකම අපට මේ විධියට නින්දා කරන්න? හරියට ඔහේ නඩුකාරකම වින්නඹු අම්මගෙන් අරගෙන ආව වගේ! ඔහේ නඩුකාරයෙක් වුණේ පරණ පිනක් පල දීල! ඔහේ පගාකාරයෙක්! කුණු ගොඩවල් අවුස්සන කැරපොත්තෙක්! |

**(අසඩක්ගේ මුහුණ ප්‍රීතියෙන් පිම්බී තිබෙනු පෙනේ. ඔහු නැගී සිට යෂ්ටිය ගෙන මේසයට ගසයි. එහෙත් එසේ කරනුයේ ගෲෂාගේ කථාවේ වේගයට අනුතාලය තබන්නාක් මෙනි.)**

| | | |
|---|---|---|
| | | මගේ උගුර කකියනව, නැත්නම් මට පුළුවන් තවත් දේවල් කියන්න ඔහේ ගැන. ඔහේට පුළුවන් මගේ දරුව අරගෙන උන්දලට භාර දෙන්න මම දුප්පත් අහිංසක ගෑනියෙක් නිසා. ඒත් ඔහේ නඩුකාරයෙක් නෙමෙයි, තක්කඩියෙක්! මගෝඩියෙක්! හුළං බෝලයක්! වාත පීප්පයක්! (ඇය වෙහෙසින් හති ලනු පෙනේ) |
| **අසඩක්** | : | (වාඩි වෙමින්) හ්ම්, ඒ කථාවට රිදී තිහක් දඩයි. මෙතන තැබෑරුමක් කියල හිතුව ද ඔය විදියට කථා කරන්න? ඒ කොහොම වුණත් යුෂ්මතියගෙ නඩුව මම ටිකකට කල් දමනව. කෝ අර දික්කසාදයක් ඕනැය කියපු ජෝඩුව? (ෂවුවාට) ගෙනෙමු ඒ දෙන්නව. මේ නඩුව විනාඩි පහළොවකට කල් දමනව මම. |
| **1 වන නීතිඥයා** | : | (නටාලියාට) දැන් බය වෙන්න දෙයක් නෑ. නඩුව අපේ අතේ. ආයෙ වෙන සාක්කියක් ඕනැ නෑ! |

**අරක්කැමි ස්ත්‍රිය** : (ගෲෂාට) මෝඩ කෙල්ල! ඕන්න උඹ වැඩේ වල් කර ගත්ත! දැන් ඉතින් දරුව ලැබෙන්නෙ නෑ උඹට.

**නටාලියා** : ෂල්වා, කෝ මගෙ ඕඩිකොලොං කුප්පිය?

**(ඉතා මහලු යුවළක් එති.)**

**අසඩක්** : මම ගන්නව! (මහලු අයට එය නොතේරේ.) මට ආරංචියි මුන්දැලට දික්කසාදයක් ඕනැය කියල. කොච්චර කල් ද මුන්දැල බැඳල දැන්?

**මහලු ස්ත්‍රිය** : අවුරුදු හතළිහයි හාමුදුරුවනේ.

**අසඩක්** : මොක ද දික්කසාද වෙන්න හේතුව?

**මහලු මිනිහා** : මට මේකිව රුස්සන්නෙ නෑ හාමුදුරුවනේ!

**මහලු ස්ත්‍රිය** : මටත් එහෙමයි හාමුදුරුවනේ!

**අසඩක්** : කවද ඉඳල ද?

**මහලු ස්ත්‍රිය** : මුල ඉඳල ම හාමුදුරුවනේ!

**අසඩක්** : හොඳයි, මම ඒ ගැන කල්පනා කරල තීන්දුව දෙනව තව ටිකකින් මේ අනික් නඩුව ඉවර වුණා ම.

**(ෂවුවා ඔවුන් ආපසු ගෙන යයි.)**

හ්ම් මට දරුව බලන්න ඕනැ. (ගෲෂා අසලට කැඳවා, කාරුණික ව මෙන් ඇය වෙත නැමී) උඹ බොහොම අපූරු කථාවක් කළා. ඒත් මේ දරුව උඹේ නෙමෙයි බව මට පේනවා. ඉතින් උඹේ උණා ය කියල යෝදියෙ උඹ කැමති නැද්ද දරුව පෝසත් වෙනවට? උඹ මේ දරුව උඹේ නෙමෙයි කියල කියාපු හැටියෙ දරුවට මාලිගාවක් හම්බ වෙනවා. අස්වගාලෙ අස්පයො ලැබෙනව! දොරකඩ හිඟන්නො ලැබෙනව! යුද්දෙට හේවායො ලැබෙනව! මිදුලෙ පෙත්සම්කාරයො ලැබෙනව! මොක ද කියන්නෙ? උඹ කැමති නැද්ද දරුව පෝසත් වෙනවට?

**(ගෲෂා නිශ්ශබ්දය.)**

**පොතේ ගුරු** : කෝප වූ දැරිය කටින් පිට නොකර සිතින් සිතූ දේ මෙසේ යඃ

ඇති මුත් මිණි මුතු අබරණ
දිනූ මුත් සම්පත් අපමණ
වුව හොත් රජ නපුරු වෙතේ
රුදු වග වලසුන් විලසේ

උඹ මිනිහෙක් වෙයන් පුතේ
කුස ගිනි වෙයි එක ම සතුරු
අඳුරට බිය වෙයන් පුතේ
හිරු එළියට බිය නොම වී!

| | | |
|---|---|---|
| අසඩක් | : | ස්ත්‍රිය, උඹේ අදහස් මට වැටහෙනව! |
| ගෘෂා | : | (හිටිහැටියේ ම උස් හඬින්) මම දෙන්නෙ නෑ මගේ දරු පැටියව! මමයි ඌ හැදුවෙ! ඌ මාව අඳුනනවා! |

(ෂවුවා දරුවා රැගෙන එයි.)

| | | |
|---|---|---|
| නටාලියා | : | දරුව ඇඳගෙන ඉන්නෙ කඩමාලු! |
| ගෘෂා | : | ඒක ඇත්ත නෙමෙයි. මට වෙලාවක් තිබුණෙ නෑ අලුත් ජංගිය අන්දන්න! |
| නටාලියා | : | ඌරු මඩුවක ද කොහෙ ද මේකි ඉඳල තියෙන්නෙ! |
| ගෘෂා | : | (නිම් හිම් නැති කෝපයෙන්) මම ඊරියෙක් නෙමෙයි. මෙතන ඉන්නව එහෙම අයත්! කොහේ ද ඔහේ දරුව දාල ගියේ පැනල යන කොට? |
| නටාලියා | : | හිටපිය මං තොට පෙන්නන්න වනචර පෙරේති! (ඇය ගෘෂා වෙත කඩා පැනීමට තැත් කරයි. නීතිඥවරු ඇය නතර කර අල්ලා ගෙන සිටිති) මේකි පට්ට හෙරක්. මේකිට කස පාර දෙන්න ඕන මෙතන ම! |
| 2 වන නීතිඥයා | : | (ඇගේ මුව අතකින් වසමින්) සුකොමල නටාලියා මැතිනිය ඔබ පොරොන්දු වුණා... මහාධිකරණතුමනි, පැමිණිලිකාරියගෙ හිත පපුව උණු වෙලා! |
| අසඩක් | : | විත්තියෙනුත් පැමිණිල්ලෙනුත් ඉදිරිපත් කළ කාරණාවලට මෙම අධිකරණය බොහොම ප්‍රවේසමෙන් කන්දුන්නා. ඒත් තීරණයකට එළඹෙන්න බැරි වුණා. අධිකරණයේ විනිශ්චයකරු වශයෙන් මෙම දරුවාට මවක් තෝරා දීම අපේ යුතුකමක්. ඒ නිසා අපි ඒ ගැන පරීක්ෂණයක් පවත්වනවා. ෂවුවා, හුණු කැල්ලක් අරගෙන විනිශ්චය ශාලාව මැද වටයක් අඳින්න ඕනෑ. (ඔහු එසේ කරයි) දැන් දරුවව හුණු වටය මැද්දෙන් තියමු. (ෂවුවා එසේ කරයි. වටය මැද සිට මයිකල් ගෘෂා හා සිනා සෙයි.) දැන් මේ දෙන්න ම වටය ළඟ හිට ගනිමු. (ස්ත්‍රීහු දෙදෙන එසේ කරති.) දරුවා හුණුවටයෙන් එළියට ඇද ගන්න පුළුවන් තැනැත්තිය නියම මව හැටියට අපි විනිශ්චය කරනව. |
| 2 වන නීතිඥයා | : | (ඉක්මනින්) මහාධිකරණතුමනි, මම මේ පරීක්ෂණයට විරුද්ධත්වය ප්‍රකාශ කරනව. ඔටුන්න හිමි කුමාරය වශයෙන් අබෂ්විල්ලි වතු පිටි, මාලිගා, ධන ධාන්‍ය ආදි සියල්ලක් ම මේ දරුවා සමග බැඳී තියෙනව. එම ධන සම්භාරය මෙවැනි අවිනිශ්චිත පොරයක් මත විසඳීම අයුක්ති සහගත බව මම අවධාරණයෙන් කියා සිටිනව. ඒ ඇරුණු කොට, අත පයේ වැඩපළ කර පුරුදු විත්තිකාරියට |

තරම් සවි ශක්තියක් මේ සියුමැලි පැමිණිලිකාරියට ඇතැයි කියා හිතන්න අමාරුයි!

| | | |
|---|---|---|
| **අසඩක්** | : | එහෙම සෝමාරිකමක් පේන්නෙ නෑ මට! හ්ම්, අදිමු. (නටාලියා තම පැත්තට දරුවා ඇද ගනී. දරුවා අතහරින ගෲෂා බියපත් ව බලා සිටියි) මොක ද වෙලා තියෙන්නෙ? මම දැක්කෙ නෑ අදිනව! |
| **ගෲෂා** | : | මට හරියට අල්ල ගන්න බැරි වුණා. |
| **1 වන නීතිඥයා** | : | (නටාලියාට අතට අත දෙමින්) මොක ද මම කිව්වෙ? ලේවල බැම්ම! |
| **ගෲෂා** | : | (අසඩක් වෙත දුවමින්) නඩුකාර හාමුදුරුවනේ, තමුන්නාන්සෙ ගැන මම කියාපු හැම දෙයක් ම වැරදි යි! මම තමුන්නාන්සෙගෙන් සමාව ඉල්ලනව! හරියට කතා කරන්න ඉගෙන ගන්න තුරු වත් දරුවා මට ලබා දෙන්න හාමුදුරුවනේ! දරුව තව ම වචන දෙක තුනයි දන්නෙ! |
| **අසඩක්** | : | ඇවිටිලිවලින් උසාවියට බලපාන්න උත්සාහ නොකරන ලෙස මම යුෂ්මතියට අවවාද කරනව. ඔය හැටි උගන්වන්න වචන දෙක තුනකට වඩා යුෂ්මතිය වත් දන්නව ඇතැයි කියා මම හිතන්නෙ නෑ. හොඳයි. මම තව එක සැරයක් මෙම පරීක්ෂණය පවත්වනව, හරියට දැන ගන්න.<br>(ස්ත්‍රීහු දෙදෙන දෙපසින් සිට ගනිති.) හ්ම් අදිමු! |



(යළිත් ගෲෂා දරුවා අතහරියි)

ගෲෂා : (අසරණව) මමයි හැදුවෙ! දරුව දෙකට ඉරන්න ද මට කියන්නෙ? මට බෑ එහෙම කරන්න!

අසඩක් : (නැගී සිටිමින්) මේ ආකාරයට දරුවගෙ සත්‍ය මව කවුද කියල උසාවිය විනිශ්චය කරනවා. (ගෲෂාට) යුෂ්මතියගෙ දරුව අරගෙන උසාවියෙන් පිට වෙන්න පුළුවන්. මේ නගරයෙ වැඩි කල් නොයිඳ පිට වෙලා යන එක හොඳයි කියල මම අවවාද කරනව. (නටාලියාට) වංචා කළාට දඩ ගහන්න ඉස්සර මෙතනින් පිට වෙනවා හොඳයි. යුෂ්මතියගෙ වතු පිටි නගර සභාවට අයිති වෙනවා. ළමා ළපටින්ට සෙල්ලම් කරන්න පිට්ටනියක් වශයෙන් යොදවනව යුෂ්මතියගෙ වතු පිටි. ෂවුවා, මම තීරණය කළා ඒකට මගේ නම යොදන්න - "අසඩක් උද්‍යානය" කියල!

(නටාලියා සිහි නැති ව වැටෙයි. ඇගේ පිරිස විසින් ඈ වත්තම් කර ගෙන යනු ලබයි. අන්දමන්ද වූ ගෲෂා හුන් තැන ම සිටිනු පෙනේ. ෂවුවා දරුවා ඇය අසලට ගෙන යයි.)

දැන් ඉතින් මම නඩුකාර ලෝගුව ගලවා දමනවා. මේක බොහොම සැර වැඩියි මං වගේ මිනිහෙකුට. වීරයෙක් වෙන්න උපන් මිනිහෙක් නෙමෙයි මම!



(මහලු ජෝඩුව එති)

ඔන්න මට මතක නැති වුණා. ෂවුවා, කෝ අර කසාද පොත ගෙනෙන් මේ ගොල්ලන්ගෙ කසාදෙ කටු ගාන්න. (පුටුව මත පොත තබා එහි යමක් කටු ගා දමා යළි ෂවුවා අතට දී යන්නට හැරෙයි)

**ෂවුවා** : (එය බලා) ඒත් මේක වැරදියි. වැරදි ජෝඩුවනෙ දික්කසාද කර තියෙන්නෙ. නාකි ජෝඩුව නෙමෙයි මේ දික්කසාද කර තියෙන්නෙ, ගෲෂා!

**අසඩක්** : හැබෑට! ෂඃ මට වැරදිලා! හ්ම් දැන් නම් ඉතින් කරන්න දෙයක් නෑ. කළ දේ වෙනස් කරන මිනිහෙක් නෙවෙයි මම! එහෙම කළොත් මේ රටේ නීතිය පවත්වන්නෙ කොහොම ද? (මහලු යුවළට) කමක් නෑ සීයේ, ඒ වෙනුවට යමු මමත් එක්ක! ගිහින් ජෝඩුව ම ගහමු පොඩි අඩියක් මමත් එක්ක! (ගෲෂාට හා සයිමන්ට) හ්ම්, රිදී හතළිහයි කසාද කාසි!

සයිමන් : (පසුම්බිය අදිමින්) ඒ ගානට බොහොම ලාබයි නඩුකාර හාමුදුරුවනේ! දෙයියන්ගෙ පිහිටයි! පනින රිළවුන්ට ඉඟි මං බඳිනවලු සමහරු!

අසඩක් : දෙන දෙයියො ටොකු ඇන ඇන දෙනවලු! (මුදල් සාක්කුවේ දමා ගනී.) සල්ලි අත ගැවෙන කොටත් ආයෙ ම ලෝගුව දමා ගන්න හිතෙනව. (මහලු ජෝඩුව හා ෂවුවා සමග පිට වෙයි.)

ගෲෂා : (අරක්කැමි ස්ත්‍රිය සන්තෝෂයෙන් බලා සිටින අතර මයිකල්ට මදැයි, එහෙනම් අපි නුවරින් යන්න ඕන අද රෑම, ඒ මයිකල්?

සයිමන් : කසාද කාසිත් ගෙවපු නිසා ඉලන්දාරි ගැනු ළමයගෙන් යමක් අහන්න තියෙනව මට...

ගෲෂා : සයිමන්! සයිමන්! ඉලන්දාරි ගැනු ළමය කැමතියි ඕනෑ කෙහෙල්මලකට! (මයිකල් සමග නටමින්)

අප්ප උඹේ හොර දෙටුවා
අම්ම හරිම කුනකටුවා
ඒ හින්දා පුතේ උඹට
මුළු ලෝකෙ ම දණ නමාවි

කන්ද උඩින් අපි යන්නේ
කරෙන් උඹව ගෙනියන්නේ
අතින් අතට ගනිමින්නේ
කරපින්නා ගෙන යන්නේ!

**(ඔවුහු සන්තෝෂයෙන් නටමින් පිට වෙති.)**

පොතේ ගුරු : විදා අත් තල දෙන නො දෙන දේ රැගෙන
හෝ නොම රැගෙන පොදුවේ
නිදානයකින් රැගෙන දෙන මෙන්
යුක්ති ධර්මය සැමට බෙදුවේ
එදා පිට වූ විනිසුරු ඒ යළිත් නැත
කිසි දිනක දුටුවේ
මෙදා වන තුරු ඔහුගෙ අණ ගුණ
දනන් තුඩ තුඩ තව ද කියවේ

බෙදූ එම නීතිය
දිගු නොවූ කෙටි යුගය ඒ රට
ස්වර්ණමය යුගයක් ම වූ බව
දනන් තුඩ තුඩ තවත් පැවසෙයි

හුණු වටය පිළිබඳ
ඇසූ මෙපුවත සබේ වියතුනි
පැවසූ ලෙස දන පුරාණේ
තබා ගනු මැන සිතෙහි මෙවදන

දෙයක් වේ නම් යම්
සුදුස්සාට ම අයිති විය යුතු
ම කියන ලෙස මෙලෙද
ලැබිය යුතු අය ම ය ලැබිය යුතු
මවු ගුණය ඇති අය
දරුවන් දිනිය යුතු වෙය
රියැදුරු මනා වූ
ලැබිය යුතු වූ සේ ම අස් රිය
මුදු ගුණය ඇති අය
දරුවන් දිනිය යුතු වෙය
ගොවි දන මනා වූ
දිනිය යුතු වූ සේම ගම් බිම්.

## නාට්‍ය කලාව සජීව කලාවකි.

වේදිකා නාට්‍ය කලාව සජීව කලාවක් වීමට හේතු වන කරුණු කිහිපයකි.

- රංගගත කරන මොහොතේ ම නැරඹිය හැකි වීම
- ප්‍රේක්ෂක ප්‍රතිචාර ඒ මොහොතේ ම ලද හැකි වීම
- රංගගත කරන මොහොතේ යම් වරදක් සිදු වුව හොත් සංස්කරණය කළ නො හැකි වීම

## නාට්‍ය කලාව කලා මාධ්‍යයන් කිහිපයක එකතුවකි.

කාව්‍යය, ගීතය, චිත්‍රය, සංගීතය, නර්තනය ආදි සියල්ල එක්තැන් වන කලා මාධ්‍යයකි.

## නාට්‍ය කලාව සාමූහික කලා මාධ්‍යයකි.

නාට්‍යයක් බිහි කිරීම තනි පුද්ගලයකුගේ පරිශ්‍රමයක ප්‍රතිඵලයක් නො වේ. කිහිප දෙනකුගේ සහාය ඒ සඳහා අවශ්‍ය වේ. නාට්‍ය රචකයා, නාට්‍ය අධ්‍යක්ෂවරයා, නළු නිළියන්, පසුතල නිර්මාණ ශිල්පීන්, අංග රචනා ශිල්පීන්, රංගාලෝක නිර්මාණ ශිල්පීන්, රංග වස්ත්‍රාභරණ නිර්මාණය කරන්නන්, සංගීත නිර්මාණ ශිල්පීන්, ප්‍රේක්ෂකයන් හා විචාරකයන් ආදිය ඒ සඳහා නිදර්ශන සේ දැක්විය හැකි ය.
'නාට්‍යය යනු කුමක් ද? යන්නට අර්ථ දක්වන භරතමුනි පඬිවරයා මෙසේ පවසයිඃ

'මිනිස් ජීවිතයේ දී මුහුණ පාන්නට සිදු වන යම් සැප හෝ දුක් සහිත අවස්ථාවක් වේ ද එය ආංගික ආදි අභිනය සතරින් දැක්වූ විට නාට්‍යය යි.,

- නාට්‍ය ශාස්ත්‍රය

අභින සතර හෙවත් චතුර්විධ අභිනය යනු කුමක් ද යන්න පිළිබඳවත් නාට්‍ය ශාස්ත්‍රය නම් ග්‍රන්ථයේ සඳහන් වෙයි.

| | | |
|---|---|---|
| 1. ආංගික අභිනය | - | අංග චලන මාර්ගයෙන් අදහස් ප්‍රකාශ කිරීම. |
| 2. වාචික අභිනය | - | වචන මාර්ගයෙන් අදහස් ප්‍රකාශ කිරීම. මෙහි දී ගීත, කවි, ගද්‍යමය සංවාද ආදි කුමන හෝ මාර්ගයක් තෝරා ගත හැකි ය. |
| 3. සාත්වික අභිනය | - | මුහුණේ ඉරියවු මගින් අදහස් ප්‍රකාශනය. කෝපය, ශෝකය, විස්මය, බිය, ආදරය, කෲරත්වය ආදි ඕනෑ ම භාවයක් මුහුණේ ඉරියවුවලින් ප්‍රකාශයට පත් කළ හැකි ය. |

4. ආහාර්ය අභිනය - ඇඳුම් පැලඳුම්, සංගීතය, වේදිකා පසුතල නිර්මාණය, රංගාලෝකනය, වේශ නිරූපණය ආදි සියලු දෑ මගින් අදහස් ප්‍රකාශනය.

මේ අනුව බලන කල නාට්‍යයක් සම්පූර්ණ වන්නේ කිසියම් රචකයකු විසින් නිර්මාණය කරන ලද නාට්‍ය පිටපත හෙවත් පෙළ, නළු නිළි පිරිසක් විසින් ඊට අවශ්‍ය සංගීතඥයන්, වේශ නිරූපණ ශිල්පීන්, ආලෝකකරණ ශිල්පීන්, රංගභූමි අලංකාරිකයන් ආදි පිරිස්වල සහයෝගය ඇතිව ප්‍රේක්ෂක පිරිසක් ඉදිරියේ රඟ පා ප්‍රදර්ශනය කරනු ලැබූ කල්හි ය.

නාට්‍ය පිටපතක් රචනා කිරීම අභියෝගාත්මක කාර්යයකි. නාට්‍යයක පිටපත එහි හදවත බඳු වේ. නාට්‍යයක් ජීවය ලබන්නේ පිටපත හේතුවෙනි. ලිඛිත පිටපතක් නැති නාට්‍ය ද තිබේ. වීදි නාට්‍ය ඊට නිදසුනකි. එහෙත් එම නාට්‍යවල නිෂ්පාදනය තුළ නො ලියූ පිටපතක් ඇත.

නාට්‍ය පිටපතක අන්තර්ගත විය යුතු ලක්ෂණ පහත පරිදි වේ.

## 1. තේමාවක් තෝරා ගැනීම

නාට්‍ය පිටපතකට තේමාවක් අවශ්‍ය වේ. යුද්ධය, විරැකියාව, පවත්නා අධ්‍යාපන ක්‍රමය, සතුන්ට කරුණාව දැක්වීම, වැඩිහිටියන්ට ගරු කිරීම ආදි ඕනෑ ම තේමාවක් නාට්‍ය පෙළක් රචනා කිරීම සඳහා තෝරා ගත හැකි ය.

'හුණුවටයේ කතාව' නම් නාට්‍යයේ තේමාව 'දෙයක් වේ නම් යම් සුදුස්සාට ම අයිති විය යුතු ය' යන්න යි.

## 2. කතා වස්තුව තෝරා ගැනීම

තෝරා ගනු ලැබූ තේමාව ඉදිරිපත් කිරීමට සුදුසු කථා වස්තුවක් තෝරා ගැනීම ඊ ළඟ වැදගත් කාර්යය යි. රචකයාට කතා වස්තුවක් නිර්මාණය කර ගැනීමේ දී තමාගේ අත්දැකීම් ඉවහල් කර ගත හැකි ය. එහි දී කථා වස්තුව ගොඩනගා ගැනීමට උපයෝගි කර ගත හැකි ක්‍රම කිහිපයක් වෙයි.

තමාගේ අත්දැකීමක් ඇසුරෙන් - **දුන්න දුනුගමුවේ** - සුගතපාල ද සිල්වා

නිර්මාණය කර ගත් කතා වස්තුවක් - **ගුරු තරුව, තලමල පිපිලා** - ජයලත් මනෝරත්න

ජනකතාවක් පාදක කර ගැනීම - **එලොව ගිහින් මෙලොව ආවා** - එදිරිවීර සරච්චන්ද්‍ර, **නරි බෑනා** - දයානන්ද ගුණවර්ධන

ළමා කතාවක් පාදක කර ගැනීම - **පුංචි අපට දැන් තේරෙයි**
**තොප්පි වෙළෙන්දා** - සෝමලතා සුබසිංහ

ජාතක කතාවක් පදනම් කර ගැනීම - **මනමේ** - (චුල්ලධනුද්ධර ජාතකය),

**වෙස්සන්තර ජාතකය,**
**පබාවතී,** (කුස ජාතකය) එදිරිවීර සරච්චන්ද්‍ර

ඉතිහාස කතාවක් පාදක කර ගැනීම - **සිංහබාහු** - එදිරිවීර සරච්චන්ද්‍ර
**සුබ සහ යස** - සයිමන් නවගත්තේගම
**දෝන කතිරිනා** - කේ. බී. හේරත්

ඔබට උද්ධෘතය ලෙස සපයා ඇති හුණුවටයේ කතාව නාට්‍යයට පාදක වී ඇත්තේ අවුරුදු හයසියයකටත් වඩා පැරණි චීන ජන කතාවක් බව කියනු ලැබේ.

## 3. නාට්‍යමය අවස්ථා තෝරා ගැනීම

යම් කතා පුවතක් හෝ සිදුවීමක් ඇසුරෙන් නාට්‍ය පෙළක් නිර්මාණය කිරීමේ දී එම කතා පුවතේ හෝ සිදුවීමෙහි ඇති සෑම අවස්ථාවක් ම හෝ සිද්ධියක් ම යොදා ගැනීම සුදුසු නො වේ. නාට්‍යයට උචිත අවස්ථා පමණක් තෝරා ගත යුතු ය.

නාට්‍යෝචිත අවස්ථාවක් යනු ප්‍රේක්ෂකයාගේ සිතේ කුතුහලය හා ආතතිය උපරිමයෙන් කුළුගැන්විය හැකි අවස්ථා ය.

ඔබට දී ඇති නාට්‍ය උද්ධෘතයේ දී 'දරුවා කාට අයිති වේ ද?' යන කුතුහලය ප්‍රේක්ෂකයාගේ සිතේ ඇති වෙයි. අවසාන මොහොත දක්වා ම ප්‍රේක්ෂකයා සිතන්නේ දරුවා ඔහුගේ සැබෑ මවට හිමි වේ ය යන්න යි. එහෙත් ප්‍රේක්ෂකයා මනාප වන්නේ දරුවා ශෘෂාට හිමි වනු දැකීමට යි. මේ හේතු කොට ගෙන නඩුව අසන අවස්ථාවේ දී ප්‍රේක්ෂක මනස ආතතියෙන් පෙළෙයි.

එමෙන් ම කතා පුවතේ සිදුවීමෙහි ඇතුළත් ඇතැම් අවස්ථා ඉවත් කිරීමටත් එහි නොමැති දේ අලුතින් එකතු කිරීමටත් එහි ඇතැම් සිදුවීම් වෙනස් කිරීමටත් නාට්‍ය පෙළ රචකයාට නිදහස තිබේ.

එදිරිවීර සරච්චන්ද්‍රගේ **මනමේ නාට්‍යය** ඊට කදිම නිදසුනකි.

චුල්ල ධනුද්ධර ජාතකයේ සඳහන් වන ඇතැම් කොටස් නාට්‍ය පෙළ රචනයේ දී ඉවත් කර ඇත.

**උදාහරණ:-** කෑමට යමක් ඉල්ලා ගෙන එන ලෙස මනමේ කුමරු සොරු කණ්ඩායම වෙතට කුමරිය පිටත් කර හැරීම.

**ඇතැම් සිද්ධි අලුතින් එක් කොට තිබේ.**

**උදාහරණ:-** අවසානයේ වැද්දා විසින් හැර දැමුණු කුමරිය ළය පැළී මිය ගිය බව දැක්වීම. ජාතක කථාවේ දැක්වෙන්නේ සිවල් වෙසින් පැමිණි ශක්‍රයා ඇට මින් මතුවට පතිවත රැකගෙන ජීවත් වන ලෙසට උපදෙස් දුන් බව යි.

**මුල් කතා ප්‍රවෘත්තියේ එන ඇතැම් සිද්ධි නාට්‍යයේ දී වෙනස් කර ගත හැකි ය.**

**උදාහරණ:-** ජාතක කතාවේ දැක්වෙන්නේ මනමේ කුමරිය කුමරාට කඩුවේ කොපුව දී කඩුව වැද්දා අතට දුන් බව යි. එහෙත් සරච්චන්ද්‍ර මහතා එය වෙනස් කොට කුමරිය ඇසූ පැනයකින් වැද්දාගේ ග්‍රහණය ලිහිල් වූ අතර, ඒ අවස්ථාවෙන් ප්‍රයෝජන ගත් වැද්දා වහා කුමරියගේ අතින් කඩුව ගෙන කුමරා මරා දැමූ බව යි.



**4. නාට්‍ය පෙළක් රචනා කිරීමේ දී ගැටුම් අවස්ථා නිර්මාණය කළ යුතු ය. නාට්‍යයක ගැටුම කිහිපාකාරයකට ක්‍රියාත්මක වේ.**

මිනිසා සහ මිනිසා අතර ගැටුම
මිනිසා සහ පරිසරය අතර ගැටුම
මිනිසා සහ ඔහුගේ මනස අතර ගැටුම
මිනිසා සහ අදෘශ්‍යමාන බලවේග අතර ගැටුම

ඉහත උද්ධෘතයෙහි ගෘෂා නමැති සේවිකාවත් නටාලියා බිසවත් අතර දරුවා සම්බන්ධයෙන් ඇති වන ගැටුම මිනිසා සහ මිනිසා අතර ගැටුමකට නිදසුනකි.

මනමේ නාට්‍යයේ මනමේ කුමරුත් කුමරියත් රුදුරු වනාන්තරයක් මැදින් බරණැස් නුවර බලා ගමන් අරඹති. වනාන්තරය තරණය කිරීමේ අභියෝගය ඔවුන් දෙදෙනා හමුවේ ඇත. එය මිනිසා සහ පරිසරය අතර ගැටුමට නිදසුනකි.

හුණුවටයක් ඇඳ දරුවා ඒ මැද තබා දෙපසට අදින ලෙස අසඩක් ගෘෂාට සහ නටාලියාට අණ කරයි. එහෙත් ගෘෂා දරුවා අදින්නේ කෙලෙස දැයි සිතයි. ඔහුට ඉන් ඇති වන වේදනාව ගැන සිතයි. එම අවස්ථාවේ ගෘෂා මානසිකව යම් ගැටුමකට මැදිව සිටියි. එය මිනිසා සහ ඔහුගේ මනස අතර සිදු වන ගැටුම පැහැදිලි කර ගැනීමට සුදුසු අවස්ථාවකි.

කාලිදාස විසින් රචිත අභිඥාන ශාකුන්තලයේ දුර්වාසස් ඍෂිවරයාගේ ශාපය නිසා දුෂ්‍යන්ත රජුට සකුන්තලා පිළිබඳ අමතක වෙයි. ශාපයෙන් මිදී යළි එක් වීමේ අභියෝගය ඔවුන් හමුවේ ඇත. එහි ඇත්තේ මිනිසා සහ අදෘශ්‍යමාන බලවේගයක් අතර වන ගැටුමකි.

මෙබඳු ගැටුම් අවස්ථා එකක් හෝ කිහිපයක් නාට්‍ය පෙළක අන්තර්ගත විය යුතු ය. නැත හොත් ප්‍රේක්ෂක අවධානය නාට්‍යයෙන් ගිලිහී යෑමට එය හේතුවක් වෙයි.

**5. නාට්‍ය පෙළෙහි ආරම්භයක්, වර්ධනයක්, උච්ච අවස්ථාවක් තිබිය යුතු ය.**

**6. නාට්‍ය පෙළ රචනයේ දී කිසියම් ශෛලියකට අනුව රචනා කළ යුතු වෙයි.**

නාට්‍යයක ප්‍රකාශන විලාසය හෙවත් නාට්‍යය ඉදිරිපත් කරන ආකාරය ශෛලිය නම් වෙයි. නාට්‍ය ශෛලි ප්‍රධාන වශයෙන් ප්‍රවර්ග දෙකකි.

1. ලෝක ධර්මී (ස්වාභාවික ශෛලිය)
2. නාට්‍ය ධර්මී (ශෛලිගත සම්ප්‍රදාය)

මේ එක් එක් ශෛලියට අනන්‍ය ලක්ෂණ පහත පරිදි දැක්විය හැකි ය.

| | ස්වාභාවික නාට්‍ය | ශෛලිගත නාට්‍ය |
|---|---|---|
| ශෛලිය | සාමාන්‍ය ජීවිතයට සමීප ශෛලියකින් ඉදිරිපත් කෙරෙයි. | සාමාන්‍ය ජීවිතයෙන් දූරස්ථ ශෛලියකින් ඉදිරිපත් කෙරෙයි. |
| දෙබස් | කතා බහ කරන ආකාරය සාමාන්‍ය ජීවිතයේ කතා බහ කරන ආකාරයට සමාන ය. | සම්පූර්ණයෙන් ම ගායනයෙන් හෝ කාව්‍යමය ශෛලියකින් දෙබස් ඉදිරිපත් වෙයි. |
| වේදිකාව මත හැසිරීම | ගමන බිමන, වේදිකාව මත හැසිරීම සාමාන්‍ය ආකාරයට සිදු වෙයි. | නර්තනය හෝ මුද්‍රා සහිත රිද්මානුකූල ගමන් තාල භාවිත කෙරෙයි. |
| ඇඳුම් පැලඳුම් හා වේශ නිරූපණය | ඇඳුම් පැලඳුම්, වේශ නිරූපණය ආදිය සාමාන්‍ය ජීවිතයේ දී භාවිත කෙරෙන ආකාරයට සකස් කර ගැනෙයි. | චරිත සඳහා විශේෂයෙන් නිර්මාණය කළ ඇඳුම් පැලඳුම් භාවිත වන අතර සැබෑ ජීවිතයේ සිදු කෙරෙන ආකාරයට වඩා කැපී පෙනෙන ලෙස වේශ නිරූපණය සිදු කෙරෙයි. |
| සංගීතය පසුතල නිර්මාණ | සංගීතය අනිවාර්ය නො වේ. පසුතල නිර්මාණ භාවිත කෙරෙයි. | සංගීතය අනිවාර්ය වෙයි. පසුතල නිර්මාණ යොදා නො ගැනෙයි. |
| වස්තු විෂය/ තේමාව | සමකාලීන සමාජ ප්‍රශ්න විෂය කර ගැනේ. | බොහෝ විට ජාතක කතා, ජන කතා, සුරංගනා කතා ආදිය විෂය කර ගැනේ. (එහෙත් සමකාලීන සමාජ ප්‍රශ්න ද තේමා විය හැකි ය.) |
| නිදර්ශන | කැලණි පාලම - ආර් ආර්. සමරකෝන්<br>බෝඩිංකාරයෝ, තට්ටු ගෙවල් - සුගතපාල ද සිල්වා | මනමේ, සිංහබාහු, - එදිරිවීර සරච්චන්ද්‍ර<br>කුවේණි - හෙන්රි ජයසේන |

**7. සංවාද යෙදීමේ දී වචන උච්චාරණය කිරීමේ රටාව, විරාම සහිතව, විරාම ලකුණු මගින් ද පෙළ රචනය තුළ සඳහන් විය යුතු ය.**

උදාහරණ:- සයිමන් :- ‘උඹලා මගේ දරුවෝ’ කිච්චලු සාර්තුමා. මිනිසුන්ට කියලා, උන්ගේ හිස ගසා දැම්මලු.



## 8. සංවාදවලට අමතරව රංග විධාන නාට්‍ය පෙළක සඳහන් කළ යුතු ය.

රංග විධාන යනු නාට්‍ය පෙළක වරහන් තුළ ඇති කොටස් ය. මේවා ප්‍රේක්ෂකයාට හැර නාට්‍යයට දායක වන නළුනිළියන්, අධ්‍යක්ෂවරයා, සංගීතඥයා, ආලෝක ශිල්පියා ආදි සියලු ම දෙනාට අත්‍යවශ්‍ය වේ.

ඉහත කරුණු සලකා බලමින් රංගනය සඳහා ම උචිත - එනම්ඃ රංගපරම - නාට්‍ය පිටපතක් රචනා කිරීමට ඔබට ද පුළුවන.

### ප්‍රායෝගික අභ්‍යාස

1. **යම් සිද්ධියක් පිළිබඳ කතාවක් කීම අරඹන්න.**

   **එක් සිසුවකු වාක්‍ය දෙක බැගින් වන සේ නාට්‍යමය අවස්ථා අන්තර්ගත කරමින් පන්තියේ සිසුන් සෑම දෙනා ම එක්ව රසවත් කතාවක් නිර්මාණය කරන්න. (ක්ෂණිකව සිතට එන දේ ඇසුරෙන් වාක්‍ය දෙක නිර්මාණය කර ගන්න).**

   **පසුව පන්තිය කණ්ඩායම් හතරකට බෙදී එම කතාව ම පාදක කර ගෙන නාට්‍ය පෙළ හතරක් රචනා කරන්න. (විනාඩි 15ක් සඳහා)**

2. **ගුරුවරයාගේ ආධාරයෙන් හොඳ ම පිටපත තෝරා ගෙන, එය රංගනයක් බවට පත් කරන්න.**

3. **පන්තිය කණ්ඩායම් පහකට බෙදී පහත සඳහන් ප්‍රසිද්ධ නාට්‍ය නිර්මාණ සඳහා පාදක වූ කතා පුවත් සොයා පන්තියට ඉදිරිපත් කරන්න.**

   i. මනමේ - මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර
   ii. නරිබෑනා - දයානන්ද ගුණවර්ධන
   iii. රත්තරං - මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර
   iv. එලොව ගිහින් මෙලොව ආවා - මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර
   v. සිංහබාහු - මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර

4. **පහත සඳහන් අවස්ථා අතුරෙන් එකක් තෝරා ගෙන විනාඩි 15-25ත් අතර කාලයක් තුළ රංගගත කළ හැකි වන පරිදි කෙටි නාට්‍ය පිටපතක් රචනා කරන්න.**

   i. ජන කතාවක්
   ii. ජාතක කතාවක්
   iii. පුවත් පතක පළ වූ විශේෂාංගයක්
   v. තමා ලත් අත්දැකීමක්

# 15 ළඳේ නිසරු නො කරන් අප සියලා

*වෙසතුරු දා කව* හෙවත් *වෙස්සන්තර ජාතක* කාව්‍යය *පන්සිය පනස් ජාතක පොතෙහි* මෙන් ම *බුත්සරණෙහි* එන වෙස්සන්තර ජාතකය කවියට නඟමින් ලියවුණකි. මෙය මහනුවර රාජධානි සමයේ රචනා වූ සේ පිළිගැනේ. විදග්ධ හෙවත් සම්භාව්‍ය සාහිත්‍ය ධාරාවෙන් බැහැර කෘතියක් සේ සැලකෙන වෙස්සන්තර ජාතක කාව්‍යය, චූල සම්ප්‍රදායේ සාහිත්‍ය ගණයෙහි ලා සැලකේ. මෙහි කතුවරයාගේ නාමය කිසි තැනක නො දැක්වෙයි. එහෙත් ඔහු සිංහල භාෂා ව්‍යවහාරයෙහි පරිචයක් මෙන් ම විශිෂ්ට ප්‍රතිභානයක් ද සහිත නිර්මාණකරුවකු සේ සැලකිය හැකි ය. 'ජූජක' නම් මහලු බමුණකු සිඟා ගොස් ලද කහවණු සියය හිතවත්, දුප්පත් බමුණු ගෙදරක පරෙස්සමට තබන්නේ නැවත ගන්නා අටියෙනි. බමුණාට එම මුදල් වියදම් වෙයි. ඒ නිසා හිලව්වට තම දුව ජූජකට දීමට ඔහුට සිදු වෙයි. ජූජක බමුණා ද ළා බාල තරුණිය විවාහ කර ගනී. අමිත්තතාපා නම් වූ ඇ වියපත් බමුණාට කළ යුතු මෙහෙවර කරමින් යහපත් දිවියක් ගෙවයි. මෙය සැළ වූ ඒ බමුණු ගම තරුණ බමුණෝ, තරුණ බැමිණියක ජරපත් දුර්වල වූ වියපත් බමුණකුට මෙලෙස මෙහෙවර කරද්දී තම තමන්ගේ බැමිණියන් තමන්ට මෙහෙවර නො කරති'යි ඔවුන්ට ගැහැට කරති. එයින් මිදීමට සිතන ඒ ගමෙහි බැමිණියෝ පැන් තොටේ දී ජූජක බමුණාගේ නුගුණ කියමින් දෙදෙනා වෙන් කිරීමට දරන උත්සාහයත් ඒ ඇසූ බැමිණිය ජූජක බමුණා කෙරෙහි දක්වන ප්‍රතිචාරත් පාඩමේ ඇතුළත් කවි මගින් පළ කෙරේ.

ලීල් නැතිව නිසරුව තෙපලන්නේ
මහල්ල නුඹගේ හිමි ද අසන්නේ
වාල් තමාවත් ඇද්ද ඉතින්නේ
වාල් විඳින දුක මෙනුඹ විඳින්නේ

පැසී ඉසත් නිකටත් සොඬු ඇකිලේ
ගැසී කුදත් යන ගමනත් බකලේ
නිසී වේ ද වෙත ඉඳිනට මෙකලේ
ගැසී ද බොල තිගෙ දැසට පටලේ

කුදේ ගැසී නැගිටින කල වෙවුලා
තදේ කැසිත් කැස කැස පට අකලා
සොඳේ විඳින සැප විඳුමට මෙකලා
ළඳේ නිසරු නො කරන් අප සියලා

බඩ වක පිට වක සන් වැරටිල්ලා
දෙපටට කුදු ගැසි වකට කුදුල්ලා
ඉසකේ පුපුරටි දත් කඩ තොල්ලා
තිගෙ සැමි බමුණා කුණු කෙළ තොල්ලා

පෙර කල් ජාතියෙ පැතුවා වැන්නේ
පර මල් පිදුවාදෝ පල දුන්නේ
නර මුල් ඇඟ ඇට කිඹුලකු වැන්නේ
හැම කල් මළ දා දෝ සැප වන්නේ

ගැසී වකට කුදු ඉසකේ සුදු රළු
පැසී නිකට දත් බොල්ලෑ කෙළ තොලු
වැසී තිබෙන ඇස් බිය කරලන සුලු
නැසී කුමට ඉඳ උගෙ ගෙයි එක් කොලු

එක මග යන කල ඔබිනට ඇද්දෝ
ආනන කල උගෙ කට ගඳ නැද්දෝ
තී සැටි බමුණන් මේ රට නැද්දෝ
ගැට කෝනමකුට ඉඳ පල ඇද්දෝ

එබසට ලජ්ජාවෙන් ලද බැමිණී
අබ සැට ලාසක් පුපුරන ලෙසිනී
විළි වැද ඉවසා රොස් කොට එඩිනී
කළ ගෙඩි බිඳ ගොස් තම ගෙට වැදුණී

වෙවුලයි පුපුරයි දත් කයි රොස් කොට
සූරයි කම්මුල් දෙක ඇද තර කොට
තැවුලයි ගිය ගිය තැන රට වට මට
අවුලයි වෙන්නේ මෙතනින් යන්නට

මූණ රවා ගෙන ගොස් ගෙට වැදිලා
පූන නූල ඇද දමමින් බිඳලා
යානේ උන් බමුණා බිම පෙරළා
බාන ලෙසට අල්ලා ගෙන රවුළා

කන්සෙට පාරක් දෙමැයි කියන්නී
මන් බොල තට දර දිය ද අදින්නී
කන්නට පැන්නා මෙන් වැලහින්නී
කන් කටුවට කරදර තෙපලන්නී

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| ලීල් නැතිව | - | මොළොක් බවෙන් තොර ව, බුරුලක් නො දක්වා |
| වාල් | - | වහලා, දාසයා |
| සොඬු | - | කම්මුල |
| කැසපට | - | ඇඳිවතෙහි පහළ කොන |
| බඩ වක | - | බඩෙහි වකය |
| පිට වක | - | පිටෙහි වකය |
| වැරටිල්ලා | - | වියළි ගොම කැබලි |
| පුපුරැටි | - | පුපුරු වැනි වූ |
| දත් කඩතොල්ලා | - | දත් කඩතොලු |
| කුණුකෙළතොල්ලා | - | කට දෙකොනින් කුණුකෙළ වැහෙන |
| නරමුල් | - | පැසුණු කෙස් |
| ආනන කල | - | ඇනුම් අරින විට |
| කෝනමකුට | - | කොන්ද නැමුණු මිනිහකුට, කුදකුට |
| රොස් කොට | - | කෝප වී |
| පූන නූල | - | බ්‍රාහ්මණයන් උපනයනයේ දී පලඳින නූලක්. මෙය වම් උරහිසෙහි සිට සිරුරේ හරස් අතට දකුණු ඉඟටිය දක්වා වැටෙන සේ දමන්නකි. |
| කන්සෙට පාරක් | - | කම්මුලට පහරක්, කනට පහරක් |
| කන්කටුවට | - | කර්ණ කඨෝර ලෙස, අමිහිරි ලෙස |

## අවබෝධය

1. ‘ලීල් නැතිව’ යන කවියේ ‘නුඹ’ යනුවෙන් හඳුන්වා ඇත්තේ කවරෙක් ද?
2. පහත දැක්වෙන කවි පදවල අදහස ඔබේ වචනයෙන් ලියන්න.
   i. අවුලයි වෙන්නේ මෙතනින් යන්නට
   ii. ගැසී ද බොල තිගෙ දෑසට පටලේ
   iii. ළඳේ නිසරු නොකරන් අප සියලා
   iv. හැම කල් මළ දා දෝ සැප වන්නේ
   v. කන්කටුවට කරදර තෙපලන්නේ

3. ‘පරමල් පිදුවා දෝ පල දුන්නේ’ මේ ප්‍රකාශයට හේතුව කුමක් ද?
4. බැමිණියන්ගේ බසින් ලජ්ජාවට පත් අමිත්තතාපා පිළිබඳ විස්තර කිරීමේ දී කවියා භාවිත කර ඇති උපමාව කුමක් ද?
5. බැමිණියන්ගේ බසින් ලජ්ජාවට පත් අමිත්තතාපාගේ හැසිරීම කෙබඳු වී ද?

## ලිඛිත අභ්‍යාස

1. පහත දැක්වෙන වචන සඳහා සමානාර්ථ පදය බැගින් පාඩමෙන් උපුටා ලියන්න.

| | | | |
|---|---|---|---|
| i. | දෙනෙතට | vi. | මේ කාලයෙහි |
| ii. | භවයේ | vii. | විළියෙන් |
| iii. | ප්‍රාර්ථනා කළා | viii. | කොපුල් |
| vi. | ප්‍රයෝජන | ix. | සයනයෙහි |
| v. | ගර්වයෙන් | x. | තදින් |

2. පහත දී ඇති උපමාවන්හි ඇතුළත් උපමානය හා උපමේය වෙන් කර දක්වන්න.

   i. නරමුල් ඇඟ ඇට කිඹුලකු වැන්නේ
   ii. කන්නට පැන්නා මෙන් වැලහින්නී

3. එළිසමය රැකීමට පහත දැක්වෙන යෙදුම් කවි පෙළෙහි දක්වා ඇති ආකාරය සඳහන් කරන්න.

| | | | |
|---|---|---|---|
| i. | ඉතින් | v. | කුදු |
| ii. | බකල් | vi. | ලෙසින් |
| iii. | සියලු | vii. | රවුළ |
| iv. | වැරටි | viii. | වැනිය |

## ප්‍රායෝගික අභ්‍යාස

1. කවි පෙළේ ඇතුළත් අවස්ථාවක් භූමිකා රංගනයක් ලෙස ඉදිරිපත් කරන්න.

# 16 එතෙපුල් අමා හැල්ලෙන්

සිංහල භාෂාව අතිශයින් විචිත්‍රවත් ය. එක ම සංසිද්ධිය ප්‍රතිභා සම්පන්න ලේඛකයන් කිහිප දෙනකු අත පත් වූ කල්හි, අපූර්ව විවිධත්වයක් පළ වන ආකාරයේ රචනා බිහි වන්නේ එහෙයිනි. බුදුරදුන් විසින් නාලාගිරි ඇතු දමනය කරන ලද අවස්ථාව විවිධ ලේඛන ශෛලි උපයෝගි කර ගනිමින් විවිධ කතුවරුන් විසින් වර්ණනාවට ලක් කරනු ලැබ ඇති අන්දම මෙයට හොඳ ම නිදසුනකි. නාලාගිරි දමන පුවතෙහි ආනන්ද තෙරුන් වහන්සේ සෙනෙහසින් යුතුව, බුදුන් වහන්සේ රැක ගන්නට ඉදිරියට පැමිණි තැන් සිට, ඇතා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී පාදය මුල වැටී දමනය වන අවස්ථාව දක්වා කොටස *අමාවතුර*, *බුත්සරණ* හා *පූජාවලිය* යන කෘතීන්හි කතුවරුන් ඉදිරිපත් කළ අයුරු මේ පාඩමෙහි අන්තර්ගත ය. එය කියවා ලේඛන ශෛලියෙහි හා ප්‍රකාශන විලාසයෙහි විවිධතා හඳුනා ගන්න.



## අමාවතුර

"එකල්හි අනඳ මහතෙරහු බුදුන් කෙරෙ බලවත් සෙනෙහයෙන් අධිවාසනා නො කටැහී, 'මෙ ඇත් පළමු මා මරාව'යි බුදුන් සඳහා දිවි පියා බුදුන් පෙරට සිටියො. එසඳ බුද්හු, "අනඳ පහ වැ යා. මා පෙරට නො සිට"යි වදාළො. "වහන්සෙ, මෙ ඇත් චණ්ඩ යැ, පරුෂ යැ, මිනීමරු යැ, යුගත් ගිනි වැන්නැ, පළමු මා මරා පසු තොප වහන්සෙ කරා යෙව"යි කීහු. බුදුන් තුන් යළක් කියතුදු, එසෙ මැ සිටියහැ. පහ නො වූහු. එකල්හි බුද්හු ඉදුහ බලයෙන් ඔවුන් පිළිබහා සඟුන් අතුරෙහි සිටුවූහ. එකෙණෙහි එක් මාගමක් නලගිරිහි දැකැ මරණභයභීත වැ පලා යන්නී උකුළින් ගත් දරුවකු ඇතු හා බුදුන් හා අතුරෙහි දමා පියා පලා ගියා. ඇත් ඇය ලුහුබැඳැ පියා නැවතී දරුවා කරා ගියෙ. දරු මහ හඬින් හඬයි. බුදුහු නලගිරිහි උදෙසා මෙත් පතුරුවා ඉතා මියුරු බඹගොස් විහිදැ, "භවත් නාලාගිරිය, තා සොළොස් කළක් රා පොවා මත් කරන්නාහු, අනෙකක්හු ගන්නට කළාහු නො වෙති, මා ගන්නට කළහැ. අකාරණයෙ කකුල් කළකුරුවා නො ඇවිදැ මොබ එ"යි වදාළහැ.

හෙ බුදුන්ගෙ බස් අසා, ඇස් විවර කොටැ බුදුන්ගෙ රූසිරි බලා, පිළිලද සංවෙග ඇති වූයෙ, බුදුන් තෙදින් සිඳී ගිය සුරා මද ඇත්තෙ, අත බහා කන්පත් සලමින් ගොස්, බුදුන් පාවිට බැසැ හොති."



# බුත්සරණ

“ඉක්බිති, ජාතිජාතියෙහි මාගෙ ස්වාමිදරුවාණනට දිවි දී ආ මාගේ කුල දේවතා වූ අනඳ මහ තෙරුන්වහන්සේ බුදුන් කෙරෙහි ගත් බලවත් ස්නේහයෙන්, තමන් කකුළු කල්හි සර්පයා අතැ මළ බෝධිසත්වයනට දිවි දුන් සනායෙන්, හංස ජාතියෙහි සුමුඛ නම් හංස සේනාධිපති වැ මලෙහි බැඳුණු ස්වාමීනට ඉදිරි වැ සිටැ තමන්ගෙ දිවි පිදු සනායෙන්, ගලින් හුණු ස්වාමිදරුවාණනට ගොයි වැ පිට දුන් සනායෙන්, ගිරා වැ ආ ස්වාමීනට දහසක් කිරිය හැල් කෙතින් පිදු සනායෙන්, ‘මෙ ඇත් පළමු කොටැ මා මරාව’යි කියා තමන් දිවි පුදා අභිමුඛයෙහි සිටියහ. සර්වඥයන් වහන්සෙ තුන් විටෙක්හි ‘අනඳය, ඇල වැ යා’යි වදාළ සේක. එසේ වදාරතුදු ස්නෙහයෙන් ඇල නො වැ සිටි හිමියාණන් මහ පොළොව තෙමෙ මැ කුඹල් සකක් සෙ පෙරළා පස්සෙහි ලාපී යැ.

ඇතැ ධූලීන් වැසීගිය ඇත් රජ යැ, මැතැ සවණක් ඝන බුදු රසින් සැදී ගිය බුදුරජාණෝ යැ; ඇතැ කෝපයෙන් රත් වැ ගිය යවට වැනි ඇස් ඇති ඇත් රජ යැ, මැත කරුණායෙන් තෙත් වැ ගිය නිල් මහනෙල් පෙති පරයන ඇස් ඇති බුදුරජාණෝ යැ; ඇතැ එබු එබූ පයින් මහ පොළොව පළාපියන්නා සෙ දිවන ඇත් රජ යැ, මැතැ එබු එබූ පයින් මිහි කත සනහ සනහා වඩනා බුදුරජාණෝ යැ; ඇතැ බැලු බැලූවන් ‘අනේ! අනේ!’යි කියවන ඇත් රජ යැ, මැතැ බැලු බැලූවන් ‘සාධු! සාධු!’ යි කියවන බුදුරජාණෝ යැ. එවේලෙහි එ ඇතු ළං වත් වත් සැදැහැත්තො ළෙහි අත් ගසන්නට වන්හ, මුහුණැ අත් දෙන්නට වන්හ, බලා සිටියැ නො හෙම්හ’යි මුහුණින් හෙන්නට වන්හ.

එකෙණෙහි පුතකු වඩාගත් ගැහැනියක් ඇතු කෙරෙහි කළ භයින් වඩාගත් පුතු ස්වාමිදරුවන් හා ඇතු හා දෙ මැදට දමාපියා පලා ගියා. එ ඇත් තෙමෙ කුමාරයා කරා නික්මිණ. කුමාර තෙමෙ ඇතු කෙරෙහි කළ භයින් මහ හඬින් හඬන්නට වන. එකෙණෙහි බුදුන් වහන්සෙ ‘අද මෙ ඇත් තෙමෙ මා සිටි මෙ වීථියෙහි කිහිඹියකට ද අන්තරායක් කෙළෙ වී නම්, මාගේ බුද්ධානුභාවයට නුසුදුසු යැ’යි සිතා වදාරා අනන්තාපරිමාණ සක්වළ සත්ත්වයන් කෙරෙහි කරන්නා වූ මෛත්‍රිය මහ බිජුවකට මහමෙර පෙරළන්නා සෙ එක ඇත්හු කෙරෙහි පතුරුවා, ඇසූ ඇසූ සත්ත්වයන් මී බී මත් වූවන් සෙ තමන් දිශාවට නමාගන්නා වූ මධුර ස්වර විහිදුවා ‘තා මෙ වීථියට හළුයෙ අප නිසා මුත් තෙල කුමාරයා නිසා නො වන්නෙ වෙ ද, මෙ සෙ එ’යි වදාළ සේකැ.

එම්හිරි කට හඬ කනැ හෙත් මැ බැලු ඇතු ඇසැ එමනහර බුදු රූ නමැති අමා පිරීගියෙ, ‘දැන් දැන් ගියෙ යැ’යි සියලු නුවර වැසියන් කියමින් සිටියැ දී කන හුණු මිහිරි හඬින්, ඇසැ හුණු බුදු රුවින් කෙශර සිංහයක්හු දුටු ඇත් පොව්වකු සෙ අනෙකක් සිතියැ නොහී, කන හොවාගෙනැ බුදු රුවට දල්වා ලූ ඇස පියාලියැ නොහී, එ රූ අමා ඇසින් උකා බොමින්, සිටැ-පියැ නොහී, නැමෙමින් හැකිළෙමින් ශ්‍රී පාදය ඇලයට ගොසින් සිටියෙ. සිටි-පියැ නොහී, යුගාන්ත වාතයෙන් නැමී යන අඳුන් කුළක් සෙ බුදුන් පාමුල්හි වැඳැ වැතිරැ-ගියෙ.



# පූජාවලිය

එකෙණෙහි අනඳ මහ තෙරුන් වහන්සේ දීර්ඝකාලයෙහි තමන් වහන්සේ බුදුන් කෙරෙහි අවිනෂ්ට ව කළා වූ මහ පෙම් වතුරු රඳවා ගත නොහී දැස් පිරුණු කඳුළෙන් "මේ ඇත් මා පළමුව මරා මුත් මාගේ බුදුන් නො මරව" යි කිය කියා ඇතුටත් බුදුන්ටත් මධ්‍යයෙහි ගොසින් සිටගත් සේක. බුදුහු "ආනන්දය! ඈල ව යා, ඈල ව යා, ඇතෙක් මට කුමක් කෙරේ ද, තා බොළඳ ඇයි ද, මා බල නුදුටු විරී දැ"යි වදාරන සේක. බුදුන් එසේ වදාරතුත් අනඳ මහ තෙරුන් වහන්සේ ඈල නො වන සේක් ම ය. එකෙණෙහි බුදුන්ගේ ආනුභාවයෙන් පොළොව කුඹල් සකක් සේ පෙරළී උන් වහන්සේ පසු කොට බුදුන් වහන්සේ පළමු කෙළේ ය. නැවත අනඳ මහ තෙරුන් වහන්සේ බුදුන් පළමු වූ සේ දැක ඇතු ළං වන සේ දැක, ඉදිරියට දිව බුදුන් පසුකොට පියා ඇතු ඉදිරියෙහි සිටගත් සේක. එවිට ද පොළොව පෙරළී උන් වහන්සේ ම පසු කෙළේ ය. මෙසේ ම තුන් වාරයෙක්හි ම බුදුන් පසු කොට ඇතු පෙරට වූ සේක. තුන් වාරයෙහි ම පොළොව ම සිසැරී උන්වහන්සේ පසු කොට බුදුන් වහන්සේ පළමු කෙළේ ය.

එකෙණෙහි ප්‍රිය පුතකු වඩාගෙන "ඇත් කෙළි බලමි" යි වීථියට බට ස්ත්‍රියක් ඇතු දිවත් දිවත් ඇතු කෙරේ කළ භයින් වෙවුලා මරණ සංඥාවෙන් පුත්‍ර සංඥාව සිහි කොට ගත නොහී, බුද්ධ පූජාවට මල් දමක් දැමුවා සේ පුතු බුදුන් හා ඇතු මැදට දමා තොමෝ කෝවේයකට වැද ගියා ය. එකෙණෙහි කුමරු අනික් ශරණක් නො දැක බුදුන් දිසාව බල බලා මහ හඬින් හඬන්නට පටන් ගත. ඇත් ගිනි කඳක් සේ කිපි කිපී බුදුන් කරා දිවනුවේ කුමරහු දැක ඔහු කරා දිවී ය. එකෙණෙහි ස්වාමිදරුවෝ මිණිරුවනකට තුඩ දිගු කරන නා රජකු සේ කුමරහු කරා අත දිගු කරන ඇත් රජු දැක "මා පැමිණියා වූ මේ වීථියෙහි මේ මද නැඟි ඇත් කිහිඹියක ගහටා මරාපී නමුත් මාගේ කවර නම් බුද්ධානුභාවයෙක් දැ"යි සිතා වදාරා තමන් වහන්සේගේ කරුණා නමැති අකුස්සෙන් පැහැර ඇතු රඳවාලා "නාලාගිරිය! තා මේ වීථියට හළුයේ තෙල කුමාරයා නිසා නොවෙයි, අප නිසා ය. ඌ කරා නො ගොස් අප කරා වර"යි වදාළ සේක.

එකෙණෙහි මාගේ ස්වාමිදරුවන්ගේ මධුර නාද නමැති හස්තිකාන්ත වීණා නාදය ඔහු කන වැටී යාම හා සමග ම ඔහුගේ රා මද සිඳී ගිය. එතෙපුල් නමැති අමාහැල්ලෙන් කෝ ගිනිකඳ නිවී ගිය. එ කෙණෙහි කුමරහු හැර බුදුන් දිශාවට කර නමා බුදුන් බලනුයේ දෙතිස් අසූ ලකුණෙන් හා සිසාරා සිටි බැම මඬුල්ලෙකින් හා ආකාශයෙහි පිපී වැනී ගිය තරු කැලයක් සේ පිරිවරා සිටිනා රහත් පෙළකින් හා පුන් සඳු සේ දිලියෙන ස්වාමිදරුවන්ගේ ශ්‍රී විභූති දැක, සඳරස් දුටු කුමුදු කැලයක් සේ සියලඟ සන්තෝෂයෙන් පිනවමින් බුදුන් කරා දිව එකෙණෙහි ම හිරි ඔතප් ලද නියාවට කාරණ පෑවා සේ වාලධිය අමුඩු හස්සෙහි ගන්වා ගෙන වක ගස ගසා සොඬ හකුළ හකුළා ශ්‍රී පාදය සොඬින් පිරිමැද මැද බුදුන් පාමුල්හි වැද හොත්තේ ය.

බුදුදහම පිළිබඳ හසළ දැනුමක් ඇති පඬිවරයකු වූ ගුරුළුගෝමි පොලොන්නරු යුගයේ දී රචනා කළ **අමාවතුර** කෘතියෙහි 'නාග දමනය' නම් දා හතර වන පරිච්ඡේදයෙන් උපුටා ගත් කොටසක් මෙහි අන්තර්ගත ය. එම කෘතිය රචනා කළේ නව අරහාදි බුදුගුණවලින් එකක් වන 'පුරිසදම්ම සාරථී' බුදුගුණය මුල් කර ගෙන ය." කිව යුතු දෙය වාග් බාහුල්‍යයෙන්

තොරව කෙටියෙන්, සරලව පැහැදිලිව කීම ගුරුළුගෝමීන්ගේ ශෛලිය වූ අතර එය බුද්ධිමතුන් ද අගය කළ ශෛලියකි.

පොලොන්නරු යුගයේ ම විද්‍යාචක්‍රවර්ති රචනා කළ බුත්සරණෙහි දහසය වන පරිච්ඡේදයේ 'නාලාගිරි දමනයෙන්' උපුටා ගත් කොටසක් ද මෙම පාඩමේ අන්තර්ගත ය. බුත්සරණ නව අරහාදි බුදුගුණ සියල්ලක් ම අන්තර්ගත කෘතියකි.

බුත්සරණ බුදුන් වහන්සේගේ ගුණ සමුදාය මෙන් ම අතිමානුෂික බලයන් ද විස්තර කරමින් උන් වහන්සේ කෙරෙහි භක්තියෙන් යුතු ගායන ස්වරූපී පාඨවලින් යුක්ත ගද්‍ය ග්‍රන්ථයකි. යමක් එකවර වටහාගත නො හැකි සාමාන්‍ය ජනයාට මේ රචනා විලාසය ඉතා ප්‍රයෝජනවත් විය. විද්‍යාචක්‍රවර්තීන් පොදු ජනයාට සමීපව බුත්සරණ රචනා කළ බව පැවසේ. ඔහු අලුත් මඟක් ඔස්සේ යමින් සිංහල භාෂාව පෝෂණය කළ ලේඛකයෙකි.

පූජාවලියෙන් මෙම පාඩමට උපුටා ගෙන ඇත්තේ 'සමමෙත් ආදි පූජා කතා' නම් විසිනව වැනි පරිච්ඡේදයෙන් කොටසකි. දඹදෙණි යුගයේ දී මයූරපාද පරිවේණාධිපති බුද්ධපුත්‍ර හිමියන් විසින් රචිත මේ කෘතිය අරහං බුදුගුණය මුල් කරගෙන ලියැවුණකි. එම කෘතිය සිංහල බෞද්ධයන් අතර ප්‍රචලිත වූ, පොදු ජනයාගේ ආදරය හා ගෞරවය හිමි කර ගත් සිංහල බණ පොතකි. කතුවරයා විසින් මෙය ලියන ලද්දේ පොදු ජනයාට බුද්ධ චරිතය හොඳින් වටහා ගත හැකි වන පරිදි නිවැරදි හා සරල බසකින් නිසා එය රසවත් කෘතියක් වීමට හේතු විය. එය රාජ රාජ මහාමාත්‍යාදීන්ගේ උතුම් වූ පුදපූජාවන්ට ලක් වූ කෘතියක් ද විය.

## අරුත් පැහැදිලි කිරීම.

| | |
|---|---|
| අකුස්සෙන් | - හෙණ්ඩුවෙන් |
| අඳුන් කුළක් | - අංජන පර්වතයක් (කළු පැහැති පර්වතයක්) |
| අධිවාසනා | - ඉවසීමේ ගුණය |
| අනන්තාපරිමාණ | - සීමාවක් හෝ ප්‍රමාණයක් නොමැති |
| අමා | - අමෘතය (ඉහළ ම රසය) |
| අමා හැල්ලෙන් | - අමෘතය නමැති දිය දහරින් |
| අවිනෂ්ට | - විනාශ නොවූ |
| ඇත් පොව්වකු | - ඇත් පැටවකු |
| ඇළව යා | - ඉවතට වන්න |
| ඉදුහ බලයෙන් | - ඍද්ධි බලයෙන් |
| එකෙණෙහි | - ඒ මොහොතෙහි |
| එබු එබූ පයින් | - තබන තබන පියවරින් |
| කකුල් කළකුරුවා නො ඇවිද | - පාද පීඩාවකට වෙහෙසකට පත් කරවා ගෙන ඇවිදින්නේ නැතිව |
| කිහිඹියකට | - කුහුඹු දෙනකට/කුහුඹුවකුට |
| කුඹල් සකක් සේ පෙරළා | - වළං සාදන්නකුගේ සක පෝරුවක් මෙන් කරකවා |
| කෝ ගිනි කඳ | - කෝපය නමැති ගිනි ජාලාව |

| | |
|---|---|
| කෝ වේයකට | - කුඩා වීදියකට |
| තෙදින් | - තේජසින් |
| තුන් යළක් | - තුන් වරක් |
| දහසක් කිරිය හැල් කෙතින් | - (කිරියක් යනු අමුණු සතරකි) අමුණු හාර දහසක කුඹුරක් |
| දිවි දුන් සනායෙන් | - ජීවිතය දුන් සෙනෙහසින් |
| දිවි පියා | - ජීවිතය පුදමින්; ජීවිතය අතහැර |
| පහවැ යා | - ඉවතට යන්න |
| පාපිට | - පය අසල |
| පිළිබහා | - වළක්වා |
| පිළිලද සංවේග | - අවබෝධයෙන් යුක්ත ව (ප්‍රතිලබ්ධ සංවේග) |
| පුත්‍ර සංඥාව | - දරුවකු පිළිබඳ හැඟීම |
| මරණ සංඥාව | - මරණය පිළිබඳ හැඟීම |
| මාගමක් | - ස්ත්‍රියක් |
| මාගේ කුල දේවතා වූ | - අපගේ කුල දෙවියා වූ |
| මිණි රුවනකට | - මාණික්‍ය රත්නයකට |
| මියුරු බඹ ගොස් | - මිහිරි බ්‍රහ්ම ඝෝෂාව |
| මිහිකත | - පොළොව/මහී කාන්තාව |
| මුහුණ අත් දෙන්නට | - මුහුණ දෑතින් වසා ගන්නට |
| යුගත් ගිනි | - කල්පාන්ත ගින්න |
| යුගාන්ත වාතයෙන් | - යුගය කෙළවර හමන සුළඟින් |
| රත් යවට වැනි | - රත් වූ යකඩ බෝලයක් වැනි |
| රුසිරි | - ශරීර ශෝභාව |
| ළෙහි | - පපුවෙහි |
| වාලධිය අමුඩ හස්සෙහි ගන්වා ගෙන | - වල්ගය දෙකළවා අතරේ සඟවා ගෙන |
| සවනක් | - වර්ණ හයක් (නීල, පීත, ලෝහිත, ඕදාත, මාංජිෂ්ඨ, ප්‍රභාස්වර) |
| සියලඟ | - සකල ශරීරය/මුළු ඇඟ ම |
| සොළොස් කළක් | - කළ ගෙඩි දහසයක් |
| හළුයේ | - මුදා හැරියේ |
| හස්තිකාන්ත වීණා නාදය | - ඇතුන් වසඟ කරන වීණා නාදය |
| හිරි ඔතප් | - පවට ඇති ලජ්ජා භය |
| හෙන්නට වන්හ | - ඉවතට ගන්නට විය |

## අවබෝධය

1. **පහත දී ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

   i. බුදුරජාණන් වහන්සේ කෙරෙහි සෙනෙහසින් ආනන්ද හිමියන් කළ ක්‍රියාව කුමක් ද?

   ii. නාලාගිරි ඇතා දැක බිය පත් ස්ත්‍රිය හැසුරුණේ කෙසේ ද?

   iii. නාලාගිරි ඇතා බුදුරජාණන් වහන්සේට සමීප වත් ම ශ්‍රද්ධාවන්තයන්ගේ ප්‍රතිචාරය කුමක් වී ද?

   iv. බුදුරජාණන් වහන්සේ ඇතා කෙරෙහි දැක්වූ මෛත්‍රිය බුත්සරණ කතුවරයා උපමා කළේ කුමකට ද?

   v. බුදුරජාණන් වහන්සේගේ කට හඬ ඇසුණු විට ඇතා හැසිරුණු ආකාරය විස්තර කර ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන යෙදුම්වල අර්ථ ලිහිල් බසින් ලියන්න.**

   i. බුදුන් තුන් යළක් කියතුදු එලෙස ම සිටියහ.

   ii. "අකාරණයේ කකුල් කළකුරුවා නො ඇවිද මොබ එ."

   iii. තමා දිවි පුදා අභිමුඛයෙහි සිටියහ.

   iv. බලා සිටිය නොහෙම්හයි මුහුණ හෙන්නට වන්හ.

   v. පොළොව කුඹල් සකක් සේ පෙරළී උන් වහන්සේ පසු කොට බුදුන් වහන්සේ පළමු කළෝ ය.

   vi. එතෙපුල් නමැති අමා හැල්ලෙන් කෝ ගිනි කඳ නිවී ගිය.

2. **පහත දැක්වෙන උද්ධෘතයන්හි අවස්ථා සම්බන්ධය දක්වන්න.**

   i. "පළමුව මා මරා පසු තොප වහන්සේ කරා යව"

   ii. "අකාරණයෙ කකුල් කළකුරුවා නො ඇවිද මොබ එ"

   iii. "අද මේ ඇත් තෙම මා සිටි මේ වීථියෙහි කිහිඹියකට ද අන්තරායක් කළේ වී නම් මාගේ බුද්ධානුභාවයට නුසුදුසු ය"

   iv. "තා මේ වීථියට හළුයෙ අප නිසා මුත් තෙල කුමාරයා නිසා නොවන්නෙ වෙද"

   v. "තා බොළඳ ඇයි ද මා බල නුදුටු විරී දැ"

   iv. "උඟ කරා නො ගොස් අප කරා වර"

3. **එක ම අරුත දීම සඳහා කතුවරුන් තිදෙනා විවිධ වචන භාවිත කර ඇත. පහත දී ඇති වචනවලට කතුවරුන් එසේ යොදා ඇති වෙනත් වචන සොයා ලියන්න.**

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | ගැහැනියක් | - | iv. | අමෘතය | - |
| ii. | ඇතෙකි | - | v. | මෙත් | - |
| iii. | මිහිරි හඬ | - | vi. | පාමුල්හි | - |

1. **මෙම පාඩම ඔබ වඩාත් අභිමත ශෛලියකින් කියවන්න.**
2. **එක් එක් කතුවරයා එක ම අවස්ථාව විවිධ අයුරින් වර්ණනා කර ඇති ආකාරය පිළිබඳව ගුරුතුමා/ගුරුතුමිය සමග සාකච්ඡාවක යෙදෙන්න.**

# උපමා

පැරණි සම්භාව්‍ය කෘති රචනයේ දී ද ලේඛකයන් උපමා භාවිතයට ගත් බව මෙම පාඩම කියවන විට පැහැදිලි වේ. උපමාවක් යනු යම් වස්තුවක් වඩා හොඳින් පැහැදිලි කිරීම සඳහා හෝ තේරුම් කිරීම සඳහා තවත් වස්තුවකට සමාන කර දැක්වීම යි. උපමාවක් දැක්වීමේ දී අවශ්‍යයෙන් ම මෙන්, සේ, වැනි, වගේ, බඳු, ලෙස, එව් ආදි උපමා වාචක නිපාත පදයක් සමග යෙදේ. යමක් අලංකාරවත්ව පැවසීම සඳහා උපමාව යොදා ගැනේ.

උපමාවක් අංග දෙකකින් යුක්ත ය, එනම්ඃ උපමානය හා උපමේය යි. උපමානය යනු කිසියම් දෙයක් තවත් යමක් හා සමාන කොට දක්වන යෙදුම යි. උපමේය යනු සමාන කිරීමට ලක් වන යෙදුම යි. උපමා වාචක පදය මගින් උපමාන, උපමේය දෙක සමාන කොට දැක්වෙයි. එසේ සමාන කිරීමේ දී සැලකිල්ලට ගන්නේ උපමාන, උපමේය දෙකෙහි යම් පොදු හෙවත් සාධාරණ ලක්ෂණයකි.

'ඇගේ මුහුණ සඳ වැනි ය'

මෙහි 'සඳ' යනු උපමානය යි. 'මුහුණ' යනු උපමේය යි. ඒ දෙක එක්ව උපමාව සෑදේ.

★ **'නාලාගිරි දමනය' කථාවේ හමු වන උපමා පහත වගුවෙහි දක්වා උපමානය හා උපමේය ද වෙන් කර දක්වන්න.**

| උපමාව | උපමානය | උපමේය |
|---|---|---|
| රත් වැ ගිය යවට වැනි ඇස් | රත් වැ ගිය යවට | ඇස් |
| | | |
| | | |
| | | |
| | | |
| | | |
| | | |
| | | |
| | | |
| | | |

## රූපක

නිර්මාණාත්මක ලේඛනයේ දී හමු වන තවත් අලංකාර විශේෂයකි **රූපක**. මෙය ද උපමාව මෙන් ම යමක් අලංකාරවත්ව පැවසීමේ උපක්‍රමයකි. රූපකය ද වස්තු දෙකක් සමාන කොට දක්වයි. එහි දී සිදු වනුයේ සමානාර්ථවාචී නිපාත භාවිත නො කොට එක් වස්තුවක් සතු ලක්ෂණය අනෙක් වස්තුවට ආරෝපණය කිරීමයි.

"ඇගේ මුහුණ සඳකි"

මෙහි මුහුණ හා සඳ දෙකක් ලෙස නො දැක්වේ. එක් වස්තුවක් සේ ම දැක්වේ. එහෙත් මුහුණ පිළිබඳ වර්ණනයට ඉන් මහත් පිටිවහලක් ලැබේ.

★ **පහත දැක්වෙන පාඨයෙන් විවරණය කර ඇත්තේ කුමක් දැයි විමසන්න.**

1. තමන් වහන්සේ බුදුන් කෙරෙහි අවිනිෂ්ටව කළා වූ <u>මහ පෙම් වතුරු</u> රඳවා ගත නොහී ...
2. එතෙපුල් නමැති අමාහැල්ලෙන් <u>කෝ ගිනිකඳ</u> නිවී ගිය

**පෙළ පොත ඇසුරෙන් රූපක පහක් සොයා ලියන්න.**

★ පාඩමේ අන්තර්ගත උද්ධෘත හොඳින් කියවා එම ගද්‍ය කොටස්වල ලේඛන ශෛලීන්හි දැකිය හැකි විවිධතා කවරේ දැයි දක්වන්න.

| | |
|---|---|
| අමාවතුර | |
| බුත්සරණ | |
| පූජාවලිය | |

## අක්ෂර වින්‍යාසය

භාෂාවක ලේඛන ව්‍යවහාරයේ දී නිවැරදි අක්ෂර භාවිතය 'අක්ෂර වින්‍යාසය' යි. එහි දී අල්පප්‍රාණ, මහාප්‍රාණ, දන්තජ, මූර්ධජ, තාලුජ, නාසික්‍ය හා අර්ධානුනාසික (සඤ්ඤක) ආදි ප්‍රභේද සලකමින් නිවැරදි හා සම්මත රීති අනුගමනය කළ යුතු වේ. නිවැරදි අක්ෂර වින්‍යාසය අනුගමනය නො කිරීමෙන් අර්ථයට බාධා සිදු විය හැකි ය. එමෙන් ම නිවැරදි අක්ෂර වින්‍යාසයෙන් තොර වීමෙන් වචනවල අනන්‍යතාව බිඳ වැටේ.

ණ, න අක්ෂර වින්‍යාසය හා සම්බන්ධ රීති කිහිපයක් පහත දැක්වේ.

**වර්තමාන සිංහල ව්‍යවහාරයේ වචනයක මුල 'ණ' යෙදෙන්නේ 'ණය' යන වචනයෙහි පමණි.**

**ගෞරවාර්ථ තද්ධිත ප්‍රත්‍යයන්හි යෙදෙනුයේ මූර්ධජ 'ණ' කාරය යි.**

අණි ප්‍රත්‍යය - මැණි, දියණි, නැගණි
අණු ප්‍රත්‍යය - පුතණු, මලණු, බෑනණු
ආණ ප්‍රත්‍යය - පියාණ, සිටාණ, මැතිඳාණ

**අතීත ක්‍රියා පදවල හා කෘදන්ත රූපවල යෙදෙනුයේ මූර්ධජ 'ණ' කාරය යි.**

ඉණි/ ඉණ - බැලිණි, බැලිණ - වැටිණි, වැටිණ
උණු/ උණ - බැලුණු, බැලුණ - වැටුණු, වැටුණ

**ඍ, ර්, ෂ යන මූර්ධජ අකුරුවලට පරව යෙදෙන්නේ මූර්ධජ 'ණ' කාරය යි.**

අර්ණව, උෂ්ණ, ඍණ, තෘණ, වර්ණ, තෘෂ්ණා, මරණ, නාග දරණ

**'ර' කාරයේ වෙනස් රූප වන රකාරාංශයට හා රේඵයට පසුව යෙදෙන්නේ මූර්ධජ 'ණ' කාරය යි.**

චිත්‍රණ, මිශ්‍රණ, තර්කණ, දර්පණ, ප්‍රාණ, ශ්‍රේණි

**ර් අකුරට හා එහි වෙනස් ආකාර වන රේඵයට හා රකාරාංශයට මෙන් ම ඍ, යන අක්ෂරවලට ද පරව ස්වරයක් හෝ ක්, ඛ්, ග්, ඝ්, ප්, ඵ්, භ්, ම්, ය්, ව්, හ් යන අකුරක් හෝ කිහිපයක් හෝ යෙදී ඇතත් ඊ ළඟට යෙදෙන 'ණ' මූර්ධජ වේ.**

අරමුණ, ප්‍රවීණ, රමණීය, ප්‍රවණතා, සංක්‍රමණ, ග්‍රහණය

**සංස්කෘත තත්සම නාම පදවල ට, ඨ, ඩ, ඪ, ණ යන මූර්ධජ අක්ෂරයකට පෙර හල්ව යෙදෙනුයේ 'ණ' කාරයයි.**

චණ්ඩ, ඝණ්ටාර, දණ්ඩන

**එහෙත් සිංහලයේ වර්තමාන කෘදන්ත රූපවල දී 'ර' කාරයෙන් පසුව යෙදෙන 'න' කාරය මූර්ධජ නො වේ.**

කරන, දරන, මරන, කිරනවා, මරනවා

**විභක්ති ප්‍රත්‍යය ගැන්වීමේ දී ද්විත්ව වන ව්‍යඤ්ජනාක්ෂරයක් සහිත වචනවල යෙදෙන්නේ දන්තජ 'න' කාරය යි.**

ඉනි - ඉන්න
දුනු - දුන්න
ගිනි - ගින්න
ගොනු - ගොන්න

**සන්ධි හා සමාස පදවල දී ‘ර’ පරව ‘න’ යෙදේ.**

ධාරානිපාත, අමරනාත්, පරනිර්මිත, සුරනර, බණ්ඩාරනායක, පිරිනමනවා

**ආලපන විභක්ති ප්‍රත්‍යයන්හි දන්තජ ‘න’ යෙදේ.**

උතුමනි, මිනිසුනි, ළමයිනි, දරුවනි

**සිංහලයේ ස්ත්‍රී ලිංග තද්ධිත ප්‍රත්‍යයන්හි යෙදෙන්නේ ‘න’ කාරය යි.**

ඇතිනි, කෙකිනි, මැතිනි, යකිනි, සැපිනි

**දන්තජ ව්‍යඤ්ජනාක්ෂරයට පෙර හල්ව යෙදෙනුයේ ‘න’ කාරය යි.**

අන්න, චන්දන, ආසන්න, දන්ත

**සංස්කෘත වචනවල තාලුජ ‘ශ’ කාරයට පරව යෙදෙන්නේ ‘න’ කාරය යි.**

ප්‍රශ්න, දර්ශන, ප්‍රකාශන, විමර්ශන

## ලිඛිත අභ්‍යාස

1. **හිස් තැනට ගැළපෙන ලෙස න, ණ යොදා වචන සම්පූර්ණ කරන්න.**

   i. මැතිවර__ සමය
   ii. විකාශ__ අයිතිය
   iii. බලවත් ක__ගාටුව
   iv. ජ්‍යෝෂ්ඨ දිය__යෝ
   v. ගණිත ප්‍රශ්__පත්‍රය
   vi. දර්ශ__ පථය
   vii. සැරිසර__ කුරුල්ලෝ
   viii. ආනන්ද හිමිපා__න්
   ix. රක්ෂ__ සංස්ථාව
   x. ප්‍රභාසංස්ලේෂ__ය

2. **එක් එක් පදයේ යෙදෙන න, ණ අකුරු අනුව අර්ථය වෙනස් වේ. එම අරුත ඉස්මතු වන සේ වාක්‍ය නිර්මාණය කරන්න**

   i. දරන/දරණ
   ii. තණ/තන
   iii. කරන/කරණ
   iv. සරන/සරණ
   v. නුවන/නුවණ
   viii. දන/දණ

## ප්‍රායෝගික අභ්‍යාස

**පෙළ පොත ඇසුරු කරගෙන න, ණ යෙදෙන වචන (අර්ථය ද සහිතව) එකතුවක් සකසන්න.**

මූර්ධජ 'ළ' හා දන්තජ 'ල' අකුරු යෙදීම අනුව ද වචනවල අරුත වෙනස් වේ. ල, ළ අක්ෂර වින්‍යාසය හා සම්බන්ධ රීති කිහිපයක් පහත දැක්වේ.

**නො මේරූ යන අරුත දීමට 'ළ' යෙදේ.**

ළදරු, ළපටි, ළහිරු, ළපලු

**අභ්‍යන්තර යන අරුත දීමට 'ළ' යෙදේ.**

ඇතුළත, තුළ, ඇතුළු වීම

**'ල' කාර දෙකක් එක තැන යෙදෙන විට පළමු 'ළ' මූර්ධජ වේ.**

පළල, වළලු, බළලා, කළාල

**අග අකුර හල් නොවන ප්‍රකෘතිවල අග යෙදෙන 'ළ' මූර්ධජ වේ.**

| | | | | | |
|---|---|---|---|---|---|
| පැළ | - | පැළය | මාළු | - | මාළුවා |
| සළු | - | සළුව | හළ | - | හළු |
| නළු | - | නළුවා | මළු | - | මළුව |

**අතීත කාල ක්‍රියා රූපවල 'ර' කාරය 'ළ' බවට පත් වේ.**

| | | | | | |
|---|---|---|---|---|---|
| කර | - | කළ | මතුර | - | මතුළ |
| මර | - | මළ | වදාර | - | වදාළ |
| විචාර | - | විචාළ | වපුර | - | වපුළ |

**සමූහාර්ථවාචී පදවල යෙදෙන 'ළ' ඇතැම් විට මූර්ධජ වේ.**

සිසුපෙළ, අලිරැළ, සෙබළමුළු

**කුඩා යන අර්ථය දෙන 'සුළු' යන්නෙහි 'ළ' මූර්ධජ වේ.**

සුළු කරන්න, සුළු පියා

**පිළි යන උපසර්ගයේ 'ළ' මූර්ධජ වේ.**

පිළිසකර, පිළිපදින, පිළිසඳර

**අග අකුර හල්ව යෙදෙන තැන්වල 'ල' දන්තජ වේ.**

කුඹල්, සිල්, වැල්, පොල්, පැල්, මල්

**අප්‍රාණවාචී බහුවචන 'වල්' ප්‍රත්‍යයෙහි 'ල' දන්තජ වේ.**

පාරවල්, ගෙවල්, රටවල, ගංගාවල

**තුල්‍යාර්ථයේ (සමාන බව හඟවන) යෙදෙන 'ල' දන්තජ වේ.**

තුලනය, තුලිත, සමතුලනය, තුලාව

**ඒකවචන නාම පදවල අග 'ල' ද්විත්වය යෙදෙන තැන්වල 'ල' දන්තජ වේ.**

| | | | |
|---|---|---|---|
| සියලු | - සියල්ල | දලු | - දල්ල |
| මහලු | - මහල්ලා | බලු | - බල්ලා |
| කුරුලු | - කුරුල්ලා | මුලු | - මුල්ල |

**ස්වභාවය යන අර්ථය දෙන 'සුලු' යන්නෙහි ' ල' දන්තජ වේ.**

බිඳෙනසුලු ය, ගිනි ඇවිළෙනසුලු ය.

## ලිඛිත අභ්‍යාස

1. හිස්තැනට ගැළපෙන සේ ල/ළ අකුරු සුදුසු ලෙස යොදා වචන සම්පූර්ණ කරන්න.

| | | | |
|---|---|---|---|
| i. | __හිරු මඬල | vi. | කැ __ ණිය |
| ii. | පි __ සඳර | vii. | නගරව__ |
| iii. | සිය __ තොරතුරු | viii. | න __ ගන |
| iv. | කෙ __ බිම | ix. | වපු __ කෙත |
| v. | ව __ කුළ | x. | න ___ල්තලය |

2. යෙදී ඇති ල/ළ අනුව පහත පදවල අර්ථ වෙනස් වේ. එම අර්ථ ලියා දක්වන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | පතල | - .................................. | v. | වල | - .................................. |
| | පතළ | - .................................. | | වළ | - .................................. |
| ii. | අලු | - .................................. | vi. | බල | - .................................. |
| | අළු | - .................................. | | බළ | - .................................. |
| iii. | සුලු | - .................................. | vii. | මල | - .................................. |
| | සුළු | - .................................. | | මළ | - .................................. |
| iv. | මලු | - .................................. | viii. | කල | - .................................. |
| | මළු | - .................................. | | කළ | - .................................. |

නූතන භාවිතය තුළ තාලුජ 'ශ', මූර්ධජ 'ෂ' දන්තජ 'ස' යනුවෙන් අක්ෂර තුනක් දක්නට ලැබේ. ලේඛනයේ දී ඒවා නිවැරදිව යෙදීම අත්‍යවශ්‍ය වේ.
ශ, ෂ, ස අක්ෂර වින්‍යාසය හා සම්බන්ධ රීති කිහිපයක් පහත දැක්වේ.

**'ච' හෝ 'ශ' යන අකුරට පෙර ඇති දන්තජ 'ස' වෙනුවට තාලුජ 'ශ' ආදේශ වේ.**

ආස් + චර්ය - ආශ්චර්ය නිස් + ශබ්ද - නිශ්ශබ්ද

**ශ, ෂ, ස අකුරු තුනෙන් දෙකක් එක ළඟ යෙදෙන විට තාලුජ 'ශ' මුලින් යෙදේ.**

| | |
|---|---|
| ශාසනය | විශේෂ |
| ශිෂ්ට | ප්‍රශස්ති |
| ශිෂ්‍ය | ශාස්ත්‍රීය |

**දන්තජ 'න' කාරයට පෙර යෙදෙන 'ශ' තාලුජ වේ.**

| | |
|---|---|
| ප්‍රශ්න | ප්‍රදර්ශන |
| සන්දර්ශන | විමර්ශන |
| විකාශන | ප්‍රකාශන |

**පහත සඳහන් වචනවල 'ශ' යෙදේ.**

ශාස්තෘ, ශල්‍ය, ඊශ්වර, ශිල්ප, ආශ්වාස, ක්ලේශ, ශාන්ති, ඓශ්වර්ය, ශිල්ප

**ට, ඨ, ඩ, ඪ, ණ යන මූර්ධජ අක්ෂරයට පෙර යෙදෙන 'ෂ' මූර්ධජ වේ.**

| | | | |
|---|---|---|---|
| දෘෂ්ටි | දූෂණ | යෂ්ටි | භාෂණ |
| ජ්‍යෝෂ්ඨ | පර්යේෂණ | ඝර්ෂණය | තෘෂ්ණා |
| කනිෂ්ඨ | න්‍යෂ්ටි | ආකර්ෂණ | විෂ්ණු |

**'ක්' අක්ෂරය සමග එකට බැදෙන්නේ 'ෂ' කාරයයි.**

| | |
|---|---|
| රක්ෂණ - රක්‍ෂණ | අධ්‍යක්ෂ - අධ්‍යක්‍ෂ |
| පක්ෂ - පක්‍ෂ | පක්ෂි - පක්‍ෂි |
| දක්ෂ - දක්‍ෂ | නිරක්ෂය - නිරක්‍ෂය |

**ප/ඵ අක්ෂරයට පෙර බොහෝ විට 'ෂ' යෙදේ.**

| | | |
|---|---|---|
| වාෂ්ප | පුෂ්ප | නිෂ්ඵල |
| නිෂ්පාදන | දුෂ්පෝෂණ | නිෂ්ප්‍රභ |

**දන්තජ අකුරකට (ත, ථ, ද, ධ, න) පෙර යෙදෙන 'ස' දන්තජ වේ.**

| | | |
|---|---|---|
| ශාස්ත්‍රය | ප්‍රස්තාවනා | ලස්සන |
| ප්‍රස්තාර | සමස්ත | සාධනය |
| පුස්තකාලය | සදහම් | කස්තුරි |

**තත්සම 'ශ' සහිත පද සිංහලයට බිඳෙන විට (තද්භව වන විට) එම 'ශ' දන්තජ 'ස' බවට පත් වේ.**

| | |
|---|---|
| ශිෂ්‍ය - සිසු | ශාසන - සසුන |
| ශ්‍රවණ - සවන් | ශාස්ත්‍ර - සතර |

**ච/ජ සහිත තත්සම ශබ්ද සිංහලයට බිඳෙන විට ඒවා ද 'ස' බවට පත් වේ.**

| | | | |
|---|---|---|---|
| චරිත | - සිරිත | ඡවි | - සම |
| චන්දන | - සඳුන් | ජන්ත | - සත් |
| චිත්ත | - සිත | ඡේදනය | - සිදීම |

## ලිඛිත අභ්‍යාස

1. **පහත දී ඇති පදවලට ගැළපෙන පරිදි ශ - ෂ - ස අකුරු සුදුසු ලෙස යොදා වචන සම්පූර්ණ කරන්න.**

| | | | |
|---|---|---|---|
| i. | අ__ ටාංග ශීලය | vi. | අව __ ය ප්‍රමාණය |
| ii. | දක්__ ශි __ යයා | vii. | ප්‍ර__ න පත්‍රය |
| iii. | බල තෘ__ ණාව | viii. | ශු __ ක ප්‍රදේශය |
| iv. | අභිනි __ක්‍රමණය | ix. | __ ල්‍ය වෛද්‍ය |
| v. | ප්‍ර__තාර පොත | x. | නිග් __ බිද ප්‍රදේශය |

2. **පහත දී ඇති වචන වැරදි නම් නිවැරදි කර ලියන්න.**

| | | | |
|---|---|---|---|
| i. | දේසන ශාලාව | vi. | අරාබි ශිස්ටාචාරය |
| ii. | සමීක්ශන කණ්ඩායම | vii. | සම්භාසණය |
| iii. | ජ්‍යොතිස් සාස්ත්‍රය | viii. | කොට්ඨාෂය |
| iv. | ඊෂ්වර විංශතිය | ix. | කෞසල්‍යය |
| v. | නිස්පාදන ආයතනය | x. | අධ්‍යක්ශණය |

3. **පහත සපයා ඇති පාඨවල අක්ෂර වින්‍යාස වැරදි නිවැරදි කර ලියන්න.**

   i. කුලීණ පන්ති හා පූජක කුළත් සමාජ විපර්යාශ අපේක්ශා නොකලහ. තම ඓශ්වර්යය හා සක්තිය පෙන්වීමටත් එම තත්ත්වය රැක ගැණීමටත් පූජකයන්ට දෘඩ සම්ප්‍රධායන්ගේ පිහිට සෙවීමට සිදු විය.

   ii. නූතන ලාංකික සමාජ විඥ්ඥාණය ප්‍රකාෂ කිරීමට ඇති විෂිෂ්ඨතම මාර්ගය සාම්ප්‍රධායික සංස්කෘතියට අනුව හැඩ ගැසුනු නිශ්පාදන අනුගමණය කිරීම ද එසේ නැතහොත් බටහිර ශිෂ්ඨාචාරයේ ආභාෂයෙන් සකස් වුනු නිර්මාණ අණුකරනය කිරීම ද යනු වර්ථමාණ සාහිත්‍යකරුවාට මුහුන දීමට ඇති එක් අර්භුධයකි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **ඔබේ වෙනත් විෂයයක සටහන් පොතක් ගෙන එහි ඇති අක්ෂර වින්‍යාස වැරදි සොයා නිවැරදි කරන්න.**

2. **පුවත්පත්වල හා සඟරාවල ඇති වැරදි සහිත යෙදුම් සොයා ඒවා නිවැරදි කර ලියන්න.**

# විරාම ලකුණු

අපි කතා බහ කරන විට අංග චලනය, හඬ උස් පහත් කිරීම, මුහුණේ ඉරියව් ආදියෙන් අදහස් ප්‍රකාශ කරමු. එමෙන්ම පද පිළිවෙළ වෙනස් කිරීම, වාක්‍ය රටා වෙනස් කිරීම තුළින් ද අදාළ අදහස් ප්‍රකාශ කරමු. ඒ අනුව අසන්නා එය මැනවින් තේරුම් ගනී. එහෙත් ලේඛනයේ දී මේ සඳහා අපට උපකාර වන්නේ විරාම ලක්ෂණ ය. ඒවා භාවිත කළ යුතු අයුරු හඳුනා ගනිමු.

## තිත් පෙළ ...

- උපුටා දැක්වීමක දී මුල හෝ මැද කොටසක් අත් හළ බව දැක්වීමට යෙදේ.

  "එකෙණෙහි පුතකු වඩා ගත් ගැහැනියක් ... පලා ගියා"
- ප්‍රකාශයක හිස් තැන දැක්වීමේ දී ද යෙදේ.

  මහවැලි ගඟ ... කන්දෙන් ඇරඹේ.

## වරහන ()

- යම් ප්‍රකාශයක් වඩාත් පැහැදිලි කිරීමෙහි දී යෙදේ.

  පොළොන්නරු අවධියේ සම්භාව්‍ය ගද්‍ය කෘති දෙකක් (අමාවතුර, බුත්සරණ) ලියැවිණි.

  මහා පරාක්‍රමබාහු රජතුමා (ක්‍රි.ව. 1153 - 1186) පොළොන්නරුවේ රාජ්‍යය විචාළේ ය.

## විස්තර කිරීමේ ලකුණ:-

- යම් අදහසක් තව දුරටත් විස්තර කිරීමේ දී යෙදේ.

  වයස:- අවුරුදු 15 යි. මාස 2 යි. දින 10 යි.

## තරු ලකුණ *

- පහතින් දක්වා ඇති බව දැක්වීමට යෙදේ.

  එතෙපුල් නමැති අමා හැල්ලෙන් කෝ ගිනි කඳ නිවී ගිය*

  *පූජාවලිය

## කාක පාදය ^

- අත් හැරුණු අකුරු, පද, වාක්‍යය ආදිය නැවත එක් කිරීමෙහි යෙදේ.

කුමක්
ශ්‍රද්ධාවන්තයෝ කුමකින් ^ වේ දෝ හෝ යි සැක සිතන්නට පටන් ගත්හ.

1. **පහත දැක්වෙන පාඨවලට සුදුසු විරාම ලක්ෂණ යොදා නැවත ලියන්න.**

   i. වහන්සෙ මේ ඇත් චණ්ඩයැ පරුෂ යැ මිනීමරු යැ යුගත් ගිනි වැන්නැ පළමු මා මරා පසු තොප වහන්සෙ කරා යෙව

   ii. ඈත බැලූ බැලුවන් අනේ අනේ කියවන ඇත් රජ යැ මෑත බැලූ බැලුවන් සාධු සාධු කියවන බුදු රජාණෝ යැ

   iii. නාලාගිරිය තා මේ වීදියට හළුයේ තෙල කුමාරයා නිසා නොවෙයි අප නිසා ය ඌ කරා නොගොස් අප කරා වරැයි වදාළ සේක.

2. **සුදුසු පරිදි විරාම ලකුණු යොදා නැවත ලියන්න. පෙර ශ්‍රේණිවල දී ඉගෙන ගත් විරාම ලකුණු ද යොදා ගන්න.**

   i. පෙ ව 10 00 ට රැස්වීම පැවැත්වේ
   ii. දරුවන් කඩිසර විය යුත්තේ ඇයි
   iii. ක්‍රි ව 1815 1948 දක්වා ලංකාව බ්‍රිතාන්‍ය පාලනය යටතේ පැවතිණි
   iv. ඔබට දීර්ඝායු වේවා
   v. ස්වාමීන් වහන්ස මහත්මයාණෙනි මහත්මියනි ඊට ඔබවහන්සේගේ ඔබතුමාගේ ඔබතුමියගේ සහාය ලබා දෙන්න
   vi. පෙර අපර දෙදිග ම ඔහුගේ නාමය පතළ විය
   vii. ඇදුරුතුමනි මම හෙට සවස තුනට එමි
   viii. ගිනි පිදීම අග්නි පූජාව පෙර සිට පැවත එන පූජා විධියකි
   ix. ඔන්න මලේ ඔය නාමල නෙලා වරෙන් යනු පාරු කවියක එන්නකි
   x. මෙ ඇත් පළමු මා මරා ව
   අමාවතුර

# 17 මහාචාර්ය සේනක බිබිලේ

මහාචාර්ය සේනක බිබිලේ විවිධ දුෂ්කරතා මධ්‍යයේ අධ්‍යාපනය ලැබ, එයින් විපුල ඵල නෙළා ගත් විද්වතෙකි. එතුමා වෛද්‍යවරයකු, විශ්වවිද්‍යාල කථිකාචාර්යවරයකු, පීඨාධිපතිවරයකු සහ රාජ්‍ය ඖෂධ නීතිගත සංස්ථාවේ සමාරම්භක සභාපතිවරයා ද ලෙස අප්‍රතිහත ධෛර්යයෙන් කටයුතු කළ ආකාරය අපේ දූ දරුවන්ට මහඟු ආදර්ශයකි. ජනතාවාදී වෛද්‍ය සේවාවක් හා ජාතික ඖෂධ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කිරීමෙන් සෞඛ්‍ය සම්පන්න සමාජයක් ගොඩ නැඟීමට කටයුතු කළ එතුමා ජාත්‍යන්තර පිළිගැනීමට ලක් වූ මානව හිතවාදියෙකි. සරල දිවි පෙවෙතක් ගත කළ එතුමාගෙන් අපට ගත හැකි ආදර්ශ බොහෝ ය.



මෙහි දැක්වෙනුයේ 'පූජිත ජීවිත' පස් වන වෙළුමට දෙනගම සිරිවර්ධන විසින් සම්පාදිත ලිපිය ඇසුරෙන් සකස් කළ පාඩමකි.

"මිනිස් වර්ගයා කෙරේ ඔහු අසීමිත ආදරයක් දැක්වූයේ ය. මිනිසාගේ බිඳ වැටුණු වීර්යය නඟා සිටුවීමට කටයුතු කළේ ය. වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම සත්‍යවාදියකු, මානව හිතවාදියකු වූ ඔහු වැන්නකු යළි අපි කවදා දකිමු ද?"

1978 ඔක්තෝබර් 08 වැනිදා කොළඹ ජාවත්ත සුසාන භූමියේ දී මහාචාර්ය කාලෝ ෆොන්සේකාගේ මුවින් මේ වදන් ගිලිහුණේ විදේශයක දී මරණයට පත් වූ සැබෑ මානව ප්‍රේමියකු වූ මහාචාර්ය සේනක බිබිලේගේ භස්මාවශේෂ තැන්පත් කළ අවස්ථාවේ දී ය.

"විවිධ බලවේග නිසා සාමාන්‍ය මිනිසා මිරිකෙනවා. ඔවුන් ඒවායින් මුදා නොගෙන, ඖෂධවලින් පමණක් සුවපත් කිරීමට සිතීම මහා මුළාවක්. ඉතින් සහෝදරය, අපට ජනතාව වෙනුවෙන් ඒ බලවේග සමග ගැටෙන්නට සිදු වෙනවා" දෙසීමෙන් පමණක් නො සෑහී ඒ වදන්හි අරුත් සැබෑ ජීවිතයේ දී ක්‍රියාත්මක කිරීමට අවංක වෑයමක යෙදුණු සේනක විලියම් බිබිලේ, උපත ලැබුවේ 1920 පෙබරවාරි 13 දින අහංගම කතළුවේ සිය මවගේ ගමේ දී ය. ඔහුගේ මව සිල්වියා ජයවර්ධනයි. පියා බිබිල වලව්වේ චාල්ස් විලියම් බිබිලේ ය.

"රදලකමෙන් මට වැඩක් නැහැ. ගොවීන් විතර මට ඔය රදලයන් වටින්නෙ නැහැ. මගේ සේනක පුතාට කිරි දෙන්න එයාගේ අම්මගේ තනේ කිරි නැති වුණා ම ගමේ ම දුප්පත් ගෑනු ඇවිත් කිරි දුන්නා. ඔය දුප්පත් ගොවීන්ගෙ ගැහැනු සියයකගෙන් විතර මගේ පුතා කිරි බොන්න ඇති. මගේ ගෑනිගේ කිරිවල යි ඒ ගැහැනුන්ගේ කිරිවල යි කිසි වෙනසක්

නැහැ. පුතා අගේට හැදුණා" යැයි සිය පියා කියූ කතාව සේනක බිබිලේගේ ජීවිතය පිළිබඳ දැක්ම හැඩ ගැස්වීමෙහි හේතු විය.

"මුළු දහවල පොළොව මත්තේ හැපෙමින් අනන්ත දුක් පීඩාවලට ගොදුරු වෙමින් සපයා ගත් ලෙයින් පෙරා ගත් කිරි ගමේ ගොවි කාන්තාවන් මට පෙව්වා. මගේ සිරුර ඔවුන්ට අයිති යි. මුළු ජීවිතය ම ඔවුන්ට ණයගැති යි" යනුවෙන් තරුණ සේනක බිබිලේ මේ පුවත අනාවරණය කෙළේ ය.

සේනක බිබිලේ ඉගෙනුම ලැබූයේ මහනුවර ත්‍රිත්ව විද්‍යාලයේ ය. එහි දී ඔහු පන්ති කාමරයේ දී මෙන් ම ක්‍රීඩා පිටියේ දීත් මෙන් ම නාට්‍ය හා සංගීත සන්දර්ශනවල දීත් ද ඉහළ ම දස්කම් පෑවේ ය.

සේනක ඉගෙනුම ලබමින් සිටින කාලයේ දී ඔහුගේ පියා මිය ගියේ ය. පියාගේ අභාවය බිබිලේ වලව්වට පාත් වුණු හෙණයක් බඳු විය.

සිය ඉගෙනුම හමාර කොට නංගීට සහ මල්ලීට ඉගැන්වීමට සේනක තීරණය කළේ ය.

"අපගේ ඉගෙනීම සඳහා වියදම් දැරීමට අම්මාට තනිව ම අපහසු ය. තාත්තා අප ජීවත් කළේ කොහොම ද කියලා හිතන්නත් බැහැ. ඔහු මිනිස්සු තළා පෙළා මුදල් රැස් කළ අයෙක් නොවෙයි. ඔහු ගොවීන්ට සිය ඉඩම් දී සුළු ආදායමක් ලැබුවා. දැන් අම්මාට ඒවා කරන්න බැහැ. මා ලැබූ අධ්‍යාපනයේ තරමට මට දැන් කෘෂිකර්ම නිලධාරියෙක් වෙන්න පුළුවනි. ලැබෙන පඩියෙන් නංගීට සහ මල්ලීට උගන්වන්න පුළුවනි" ඔහු සිය පන්ති භාර ගුරුතුමාට කීවේ ය.

ගුරුතුමා රහසිගතව එය විදුහල්පතිතුමාට කීවේ ය. මේ පුවත පැතිරිණ. සේනකගේ ඉගෙනීමේ කටයුතු සඳහා සියලු වියදම් දැරීමට මහනුවර වැසියෙක් ඉදිරිපත් විය. ඔහු කවුරුදැ යි දැන ගැනීමට සේනකට ලැබුණේ බොහෝ කලකට පසුව ය.

ඉහළ ම ලකුණු ලැබූ සේනක සිසුවා වෛද්‍ය විද්‍යාලයට ඇතුළු විය. වෛද්‍ය විද්‍යාලයට යාම සඳහා ඔහු නවාතැන් ගත්තේ බොරැල්ලේ හෝටලයක කුඩා කාමරයක ය. ජීවිතය ඉතා කටුක විය.

වෛද්‍ය විද්‍යාලයේ දී ඔහු ශිෂ්‍යත්ව කීපයක් දිනා ගත්තේ ය. ඒ නිසා ඔහුට මුදල් යැවීමට අම්මා වෙහෙස විය යුතු වූයේ නැත. අඩුවෙන් ආහාර ගෙන, අවශ්‍ය වියදම් පමණක් දරා ඉතිරි කර ගත් මුදලෙන් ඔහු ගත්තේ පොත් ය. වෛද්‍ය විද්‍යාවට අදාළ පොත් මෙන් ම අනෙක් විෂයයන් ගැන ලියැවුණ පොත් ද ඔහුගේ රාක්කයේ තිබිණි.

වෛද්‍ය විද්‍යාලයේ නිවාඩු කාලවල දී ඔහු ගමට ගියේ බේත් පෙට්ටියක් ද රැගෙන ය.

"පුංචි මහත්තයා ගමට එන්නේ කවදා දැ?"යි ගැමියෝ සේනකගේ මවගෙන් අසා දැන ගනිති. ඔහු පැමිණි දාට පසුදා බිබිලේ වලව්වේ මිනිස්සු පිරෙති. ගසක් යට බංකුවක් තබා ගන්නා සේනක ඔහු ඉදිරියට එන පිරිමි ද ගැහැනු ද ළමයින් ද පරීක්ෂා කිරීමට පටන් ගනී.

"ඇස්වහක් කටවහක් වදින්න එපා. දොස්තර මහත්තය දෙන බේත්වලින් ලෙඩේ නිට්ටාවට ම සනීප වෙනවා."

ප්‍රතිකාර ලැබ සුව වූ ගැහැනියක් සේනකගේ මවට කියයි. සේනකට ගමේ දී නිවාඩුවක් ලැබුණේ නැත. ගමේ ලෙඩ රෝගවලට මූලික හේතුව අන් කිසිවක් නො ව, මන්දපෝෂණය

බව ඔහු දුටුවේ ය. නූගත්කම තවත් හේතුවකි. මුළු ජීවිත කාලය ම වැඩට යොදවන මේ ගැමි ජනතාවට වැඩෙහි ප්‍රතිඵල වශයෙන් ලැබෙන්නේ ලෙඩ රෝග සහ අසරණ මහලු වයස පමණි.

වෛද්‍ය විද්‍යාලයේ අවසාන පරීක්ෂණයේ ප්‍රතිඵල ලැබෙන තුරු සේනක බිබිලේ පස්සර, මඩොල්සිම සහ ලුණුගල රෝහල්වල සේවය කෙළේ ය.

ප්‍රතිඵල ලැබිණි. ඔහුට පළමු පෙළ සාමර්ථ්‍යයක් හිමි විය. වෛද්‍ය අංශයට පිදෙන රන් පදක්කම සහ ශල්‍ය වෛද්‍ය විද්‍යාවට පිදෙන රන් පදක්කම ද දිනුයේ ඔහු ය.

කොළඹ මහ රෝහලේ නේවාසික වෛද්‍යවරයකු ලෙස සේවය කළ සේනකට පසුව බිංගිරියේ ප්‍රාදේශීය සෞඛ්‍ය සේවා අධිකාරී තනතුර ලැබිණි. ඒ තනතුරේ සේවය කරන අතර ඔහුට හෙට්ටිපොළ සහ බිංගිරිය ග්‍රාමීය රෝහල්වල සේවය කිරීමට ද සිදු විය. රජයෙන් වැටුපක් ලැබීම ඔහුට සතුටක් වූයේ මවට එයින් ලැබුණු සහනය නිසා ය. ඔහු අම්මාට ලියූ ලිපියක මෙසේ සඳහන් කළේ යඃ

“මල්ලිලා සහ නංගිලා ගැන සිතමින් සිතට කරදර ඇති කර ගන්න ඕනැ නැහැ, අම්මේ, දැන් අම්මාට සතුටින් කාලය ගෙවන්න පුළුවනි. මට දැන් මාසික ආදායමක් ලැබෙනවා. මල්ලිලා සහ නංගිලාගේ සියලු වගකීම් මා බාර ගන්නවා.”

බිංගිරියෙන් ඔහුට යළි වෛද්‍ය විද්‍යාලයට යන්නට සිදු විය. එහි කථිකාචාර්ය තනතුරක් ලැබුණු හෙයිනි. විදේශිකයකු වූ මහාචාර්ය හැරී කලම්බයින් ඔහුට එහි දී ඇසුරු කිරීමට ලැබිණි. සේනකගේ මතවාද සමග මහාචාර්යවරයා නිතර එකඟ විය.

‘ලාංකිකයන්ගේ ශාරීරික සෞඛ්‍යය සහ ඔවුන්ගේ ආහාර පුරුදු’ පිළිබඳ ක්ෂේත්‍ර සමීක්ෂණයක් කිරීමට මහාචාර්ය කලම්බයින්ගේ ඉල්ලීම පරිදි සේනකට සිදු විය.

සේනක දිවයින පුරා සංචාරය කරමින් සමීක්ෂණයෙහි යෙදී වාර්තාවක් ඉදිරිපත් කෙළේ ය.

ඒ වර්ෂයේ ම සේනක උසස් අධ්‍යාපනය සඳහා එංගලන්තයේ එඩින්බරෝ විශ්වවිද්‍යාලයට ඇතුළු විය.

එහි දී ඔහු මහාචාර්ය වාන්හෙඩ් මහත්මිය සමග එක්ව කළ පර්යේෂණයක් නිසා වෛද්‍ය ක්ෂේත්‍රයේ කීර්තිමත් පුද්ගලයකු බවට පත් විය. ස්ටෙරොයිඩ් ගණයට අයත් විශේෂ හෝමෝන කාණ්ඩයක් පිළිබඳව කළ ඒ පර්යේෂණය අගය කරමින් බ්‍රිතාන්‍ය විද්‍යා සඟරා සහ පුවත් පත්වල ලිපි පළ විය. වෛද්‍ය සේනක බිබිලේ ඒ පර්යේෂණයෙහි නිරත වූයේ ආචාර්ය උපාධිය සඳහා අධ්‍යයනයක් වශයෙනි. ඔහුගේ පර්යේෂණ නිබන්ධය සඳහා එඩින්බරෝ විශ්වවිද්‍යාලය විසින් ආචාර්ය හෙවත් පීඑච්.ඩී. උපාධිය පිරිනමන ලදි.

යළි කොළඹ වෛද්‍ය විද්‍යාලයට පැමිණි ඔහු ශිෂ්‍යයන් පෙලඹවූයේ නිර්මාණාත්මක අධ්‍යාපනයක් සඳහා ය. “ගිරවුන් නොවෙමු, ස්වාධීනව සිතමු!”

අලුත් අලුත් දැ නො තනන ජාතිය ලොව නො නගින බව කුමාරතුංග මුනිදාසයන් කීවේ පැදි බසිනි. සේනක එය ම ගැදි බසින් කීවේ ය.

“අපේ මුතුන් මිත්තන් සෙවූ දෙයින් අපි අද ප්‍රයෝජන ලබමු. අපගෙන් පසු බිහි වන පරපුරට ද අප යමක් දිය යුතු ය. අලුත් දැ නිර්මාණයට අප පෙලඹිය යුතු ය.”

“මෙය වෛද්‍ය විද්‍යාවට ද පොදු විය යුතු ය. අප බටහිර විද්‍යාවට වහල් වීම වැරදි ය. එය

අපේ ම විද්‍යාවක් කර ගැනීමට අපි වෙහෙසෙමු. ජාතික මට්ටමෙන් එය හැඩගසා ගත හැකි ය. පර්යේෂණාත්මකව එය හදාරමු. ආයුර්වේද ප්‍රතිකාර ක්‍රම ගැන ද මා අධ්‍යයන කරනවා" ඔහු තව දුරටත් කී ය.

1954 දී වෛද්‍ය විද්‍යාලයේ ඖෂධවේදය පිළිබඳ අධ්‍යයන අංශයක් බිහි විය. එහි ප්‍රධානියා වූයේ සේනක ය.

ජාතික හා ජාත්‍යන්තර වශයෙන් සේනක බිබිලේ මහා පුරුෂයකු වූයේ ඔහුගේ නායකත්වයෙන් බිහි වූ ජනතාවාදී ඖෂධ ප්‍රතිපත්තිය නිසා ය.

ඖෂධ නිෂ්පාදනය ලොව ඇති දෙවැනි කර්මාන්තය යි. ප්‍රධාන කර්මාන්තය ප්‍රධාන නිර්යාතය ආයුධ නිෂ්පාදනය යි. අමෙරිකාව, බටහිර ජර්මනිය, බ්‍රිතාන්‍යය, ස්විට්සර්ලන්තය, ජපානය සහ ඉතාලිය යන බලවත් රටවල ප්‍රබල සමාගම් සතුව ඖෂධ ව්‍යාපාරය රඳා පැවතිණි. ඖෂධ නිෂ්පාදනයට වඩා ඒ පිළිබඳ ප්‍රචාරයට ඒ සමාගම් වියදම් දැරී ය. මේ සමාගම් එක ම ඖෂධය විවිධ නම්වලින් නිපදවා වෙළෙඳ පොළට එවී ය. ඩයසිපෑම් නමැති ඖෂධ නාමය දැරූ බෙත් පෙත්ත සත දෙකක් මිල වූ අතර, එය ම වැලියම් නමැති වෙළෙඳ නාමයෙන් ඖෂධ සමාගම් රුපියලකට වික්කේ ය. රුපියලේ පෙත්ත අගයෙන් වැඩි බව කීමට ප්‍රචාරක කටයුතු සඳහා විශාල මුදලක් වියදම් කළ සමාගම්, වෛද්‍යවරුන් ලවා මිල වැඩි පෙත්ත රෝගීන්ට නියම කරවී ය.

අතිවිශාල ලාභ ලැබූ මේ සමාගම්වලට රාජ්‍ය නායකයන් හැසිරවීමට පවා හැකි විය. ඔවුන්ගේ ඖෂධ වෙළෙඳාමට බලපෑම් කරන නො දියුණු රටවල පාලකයන්ට සිය රටෙහි පාලකයන් ලවා බලපෑම් කළ හැකි විය. සිය රටෙහි ජනතාවට අහිතකර යයි තහනම් කළ ඖෂධ වර්ග වෙනත් නම් යොදා නො දියුණු රටවල අලෙවි කිරීමට ඒ සමාගම්වලට හැකි වූයේ දේශපාලනික වශයෙන් බලපෑම් කිරීමට ඔවුන්ට වූ ශක්තිය නිසා ය. ඇතැම් රටවල පාලකයෝ සිය සහෝදර රටවැසියන්ට වඩා පිටරට සමාගමකින් ලැබෙන මිල මුදලට ප්‍රිය කළහ. රටට අනවශ්‍ය බෙත් වර්ග ද අලෙවි කිරීමට මේ සමාගම්වලට හැකි විය.

සේනක බිබිලේ මේ තත්ත්වයන් වටහා ගනිමින් ශ්‍රී ලංකාවට ගැළපෙන ඖෂධ ප්‍රතිපත්තියක් සැලසුම් කළේ ය.

**එහි ප්‍රධාන යෝජනා පහක් විය:**

1. ලංකාවට අනවශ්‍ය බෙහෙත් වර්ග ගෙන්වීම නතර කිරීම.
2. රාජ්‍ය ආයතනවලත් පෞද්ගලික අංශයේත් ඖෂධවලට ඖෂධීය හෙවත් නිල නාමය පමණක් යෙදීම.
3. මෙරට ඖෂධ ගෙන්වීම සහ මෙරට ඖෂධ බෙදා හැරීම සම්පූර්ණයෙන් ම රජයේ ආයතනයන්ට පැවරීම.
4. ලංකාවේ ඖෂධ නිෂ්පාදනය, තත්ත්ව පාලන අංශය සහ පර්යේෂණ අංශය දියුණු කිරීම.
5. ඖෂධ ගැන විද්‍යාත්මක කරුණු විශ්වාස කටයුතු ලෙස වෛද්‍යවරුන්ට සහ සෞඛ්‍ය සේවාවන්හි යෙදී සිටින අයටත් මහජනතාවටත් ලබා දී ඔවුන් සතු දැනුම පුළුල් කිරීම.

මෙම යෝජනා ක්‍රියාත්මක කිරීම සඳහා 1971 සැප්තැම්බර් 22 වැනිදා ශ්‍රී ලංකා රාජ්‍ය ඖෂධ නීතිගත සංස්ථාව පිහිටුවනු ලැබී ය. සේනක එහි සභාපතිවරයා විය. ඒ වන විටත්

ඔහු පේරාදෙණිය විශ්වවිද්‍යාලයේ මුල් ම වෛද්‍ය පීඨාධිපති වශයෙන් කටයුතු කරමින් සිටියේ ය.

ශ්‍රී ලංකා රාජ්‍ය ඖෂධ නීතිගත සංස්ථාවේ සභාපති වශයෙන් විශාල වැටුපක් ලබා ගැනීමට සේනක බිබිලේට හැකියාව තිබුණ ද ඔහු එය ප්‍රතික්ෂේප කළේ ය.

"වෛද්‍ය විද්‍යාලයෙන් මට වැටුපක් ලැබෙනවා. එය මට ප්‍රමාණවත්. ජාතික ඖෂධ ප්‍රතිපත්තිය මා සිතන හා පතන ආකාරයට ක්‍රියාත්මක කිරීමට ලැබුණොත් එය සතුටක්. ඒ සතුට මට ඇති. වැටුප එපා" ඔහු කී ය.

1972 ජූලි මාසය තුළ නව ඖෂධ ප්‍රතිපත්තිය නිසා රුපියල් ලක්ෂ 60ක විදේශ විනිමයක් ඉතිරි කිරීමට ලංකාවට හැකි වූ බව ඇන්ක්ටැඩ් සංවිධානය වාර්තා කළේ ය.

සංස්ථාව ඇරඹෙන විට ලංකාවට ඖෂධ වර්ග 4000ක් සමාගම්වලින් ගෙන්වනු ලැබිණි. ලෝක සෞඛ්‍ය සංවිධානය රටකට අත්‍යවශ්‍ය ඖෂධ ප්‍රමාණය 240ක් බව නිර්දේශ කොට තිබිණ. සමාගම්වලින් වැඩිපුර ගෙන්වූයේ අනවශ්‍ය ඖෂධ යි. ලංකාවට ගෙන්විය යුතු අත්‍යවශ්‍ය ඖෂධ ප්‍රමාණය 171ක් බව සේනක කී ය. ඒ අනුව ඒ ප්‍රමාණය පමණක් ගෙන්වීමට ඔහු පියවර ගත්තේ ය.

ලංකාවෙහි ම ඖෂධ නිපදවීම ඔහුගේ ඊ ළඟ අරමුණ විය. වර්ෂයකට රුපියල් ලක්ෂ 19ක් අමුද්‍රව්‍ය පිටරටින් ගෙන්වන බෙහෙත් පෙති සහ කරල් නිපදවන කම්හල් 15ක් සමාගම් සතු ව තිබිණ. රජයේ බෙහෙත් ගබඩාව සහ පෞද්ගලික අංශය රුපියල් ලක්ෂ 71ක බෙත් පිටරටින් ගෙන්වී ය. අමුද්‍රව්‍ය සහ බෙහෙත් ගෙන්වීමට රුපියල් ලක්ෂ 90ක් පිටරටට යැවීම අපරාධයක් සේ සැලකූ සේනක බෙහෙත් සෑදීමට අමුද්‍රව්‍ය ගෙන්වීම මුළුමනින් ම සංස්ථාවට පැවරීමට කටයුතු කෙළේ ය.

1976 දී නො බැඳි ජාතීන්ගේ සමුළුව කොළඹ පැවැත්විණි. නො බැඳි රටවල නායකයන්ගේ නියෝජිතයෝ ලංකාවේ ක්‍රියාත්මක වන ඖෂධ ප්‍රතිපත්තිය පිළිබඳ සොයා බැලූහ.

සේනක ඔවුන්ට කරුණු පැහැදිලි කෙළේ ය. තුන් වසරක් තුළ රුපියල් කෝටි 11ක විදේශ විනිමය රැක දෙමින් අඩු මිලට වැඩි අගයක් ඇති ඖෂධ ලබා දීමෙන්, පෞද්ගලික ඖෂධ සමාගම්වල විවිධ බලපෑම්වලට මුහුණ දෙමින් මේ සංස්ථාව ඉටු කළ ජනතා මෙහෙවර දුටු නො බැඳි රටවල නායකයෝ "අපේ රටවලත් මේ ඖෂධ ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කළ යුතුයි. අපට මඟ පෙන්වන්න,"යි සේනකගෙන් ඉල්ලූහ.

ඊට අනුව වෛද්‍ය විද්‍යාලයෙන් සහ ඖෂධ සංස්ථාවෙන් ඉවත් වී ඇන්ක්ටැඩ් සංවිධානයේ ජ්‍යෙෂ්ඨ ඖෂධ ප්‍රතිපත්ති විශේෂඥයා ලෙස ඔහු ජිනීවා නගරයේ දී වැඩ බාර ගත්තේ ය.

ට්‍රිනිඩෑඩ්, ජැමෙයිකා, බාබේඩෝස්, ඩොමිනිකා, ග්‍රෙනාඩ්, ඇන්ටිගා, පුවටෝරිකෝ, ගයනා යන කැරීබියන් දූපත්වල ජනතාව සඳහා ඖෂධ ප්‍රතිපත්තියක් සකස් කිරීම සේනකට පැවරිණි.

ඒ දූපත්වල ඇවිද වාර්තාවක් පිළියෙල කිරීම පළමු කටයුත්ත විය. අනතුරුව සැකසූ වාර්තාව ඇන්ක්ටැඩ් සංවිධානයේ සාකච්ඡාවට ලක් විය. එය වහා ක්‍රියාත්මක කළ යුතු වැඩපිළිවෙළක් බව සංවිධානය විසින් පිළිගන්නා ලදි.

එහි දී ලද අත්දැකීම් පිළිබඳව ඔහු මෙසේ පැවසී යː

"අප සංචාරය කළ සෑම තැනක දී ම අපට දකින්නට ලැබුණේ අපේ රටේ බිබිලේ දී මා දුටු පීඩාවට ලක් වූ මිනිසුන් ම යි. ඒ අසරණ ජනතාවට ඖෂධ මගින් හෝ සේවය කිරීමට අපට ලැබුණු මේ අවස්ථාව අත හරින්න බැහැ. ඇත්තට ම ඖෂධ ප්‍රතිපත්තියකින් පමණක් මේ ජනතාවගේ ජීවිත සැපවත් කරන්න බැහැ. ඔවුන් මුදා ගැනීමට ලොව පුරා පැතුරුණු මහා ජනතා විප්ලවයක් අවශ්‍ය යි..."

සේනකට තම අදහස ක්‍රියාත්මක කළ නො හැකි විය. හදිසි හෘදයාබාධයකින් ඔහු මිය ගියේ ය.

එක් සේනක බිබිලේ කෙනකු මෙසේ මිය ගිය ද රටවල් කිහිපයක ම සේනක බිබිලේ වැන්නෝ බිහි වුණහ.

ඕස්ට්‍රේලියාවේ ජාතික ඖෂධ ප්‍රතිපත්ති මණ්ඩලයේ නියමු දොස්තර හාටි 1993 දී ලංකාවට පැමිණ මෙසේ කී යː

"ලංකාව කඳු මුදුනකි. සේනක බිබිලේ එහි බැබළෙන පහනකි. අපි ඒ පහනේ එළියෙන් අපේ රටවල ඖෂධ ප්‍රතිපත්ති හදා ගන්නෙමු."

## අවබෝධය

1. මහාචාර්ය සේනක බිබිලේ විසින් දරන ලද තනතුරු මොනවා ද?
2. ඔහුගේ මුළු ජීවිතය ම අයිති යැයි පැවසෙන්නේ කාහට ද? එසේ කීමට හේතුව කුමක් ද?
3. ශ්‍රී ලංකාවට ගැළපෙන පරිදි සැලසුම් කළ ජාතික ඖෂධ ප්‍රතිපත්තියට ඇතුළත් වූ යෝජනා මොනවා ද?
4. විදේශිකයන් පවා මොහු ආදර්ශයට ගන්නා බව දැක්වෙන පාඨය උපුටා දක්වන්න.
5. මෙතුමාගේ චරිතයෙන් ඔබට ලබා ගත හැකි ආදර්ශ මොනවා ද?

## ලිඛිත අභ්‍යාස

**පහත සඳහන් වචනවල අර්ථ පැහැදිලි කරන්න.**

1. ඖෂධ -
2. පර්යේෂණ -
3. නිර්යාත -
4. ප්‍රතිපත්තිය -
5. පෞද්ගලික -
6. විද්‍යාත්මක -

## ප්‍රායෝගික අභ්‍යාස

1. **අප ජීවිතයට ආදර්ශ ගත හැකි චරිතයක් අධ්‍යයනය කරන්න.**
2. **ඔහුගේ/ඇයගේ ජීවිතයෙන් අපට ලබා ගත හැකි ආදර්ශ පිළිබඳව පන්තිය ඉදිරියේ කතාවක් පැවැත්වීමට සූදානම් වන්න.**

# වාර්තාකරණය

වාර්තා යනු කිසියම් සිදුවීමක් පිළිබඳ තොරතුරු ලේඛනගත කිරීමේ ක්‍රමයකි.

පුවත්පත් වාර්තා, රැස්වීම් වාර්තා ආදි විවිධ වාර්තා වර්ග ඇත. පුවත්පත් වාර්තා යනු එදිනෙදා අසන්නට දකින්නට ලැබෙන සිදුවීම් ඇසුරෙන් පුවත්පත් සඳහා සම්පාදනය කෙරෙන වාර්තා ය. පුවත්පත් වාර්තාවක දී අදාළ සිදුවීමට සම්බන්ධ පුද්ගලයන්, එය සිදු වූ ස්ථානය, දිනය, වේලාව, සිදු වූ ආකාරය, පසුබිම් තොරතුරු ආදිය නිරවුල්ව පැහැදිලිව ඇතුළත් කළ යුතු ය. අත්‍යවශ්‍ය තොරතුරු පමණක් සටහන් කර අනවශ්‍ය දීර්ඝ විස්තර බැහැර කිරීම වැදගත් වේ.

රැස්වීම් වාර්තාවක දී ද රැස්වීම පැවැත්වූ කාරණය, දිනය, වේලාව, ස්ථානය, සහභාගි වූ අය සටහන් කිරීම අතිශය වැදගත් වන අතර රැස්වීමේ දී සාකච්ඡා කළ කරුණු සංක්ෂිප්තව නිරවුල්ව හා නිවැරදිව ඉදිරිපත් කළ යුතුය.

මෙහි දී අවධානය යොමු කෙරෙන්නේ පුවත්පත් වාර්තා කෙරෙහි ය.

## ලංකාවේ ශිෂ්‍යයකුගේ නමින් තරුවක්...

■ අකලංක මිද්දෙණිය

ගලෙන්බිඳුණුවැව ප්‍රදේශයේ පාසල් ශිෂ්‍යයකු වන කේ. ජී. දිනේෂ් අනුරුද්ධ චිත්‍රානන්ද කපුගේ විසින් නිර්මාණය කරන ලද යාන්ත්‍රික ට්‍රැක්ටරය ඇමරිකා එක්සත් ජනපදයේ ඇරිසෝනා ප්‍රාන්තයේ ෆීනික්ස්හි දී පැවති ඉන්ටෙල් ජාත්‍යන්තර විද්‍යා ඉංජිනේරු ප්‍රදර්ශනයේ ඉලෙක්ට්‍රික් ඉංජිනේරු අංශයේ ප්‍රථම ස්ථානය දිනා ගැනීමට සමත් වී ඇත. ඔහු එම සම්මානය දිනා ගැනීමෙන් අනතුරුව ඔහුගේ නමින් තරුවක් නම් කිරීමට නාසා ආයතනය කටයුතු කර ඇති බව පැවසේ. එම තරගය සඳහා රටවල් 76ක් නියෝජනය කරමින් 1500කට වැඩි පිරිසක් සහභාගි වී ඇත.

## ප්‍රායෝගික අභ්‍යාස

1. ඔබ පාසලේ වාර්ෂික ත්‍යාග ප්‍රදානෝත්සවය පිළිබඳව පුවත්පතකට යොමු කිරීම සඳහා වාර්තාවක් සකස් කරන්න.
2. විවිධ තේමා ඔස්සේ සම්පාදනය වී ඇති පුවත්පත් වාර්තා එක් රැස් කර ලිපි ගොනුවක් සකස් කර පන්තියේ යහළුවන් සමග හුවමාරු කර ගෙන ඒවා පරිශීලනය කරන්න.

## න්‍යාය පත්‍ර

උත්සවයක්, රැස්වීමක්, වැඩමුළුවක් වැනි කිසියම් විශේෂිත අවස්ථාවක එම අවස්ථාවට අදාළ කාර්යයන් නිශ්චිත කාල රාමුවකට හා අනුපිළිවෙළකට පෙළ ගස්වා සකස් කරන ලද සැලැස්මක් න්‍යාය පත්‍රයක් ලෙස හැඳින්වේ.

පහත දැක්වෙන්නේ රාජ්‍ය සාහිත්‍ය සම්මාන ප්‍රදානෝත්සවයේ න්‍යාය පත්‍රයකි. එහි එක් එක් කාර්යයන් ඊට නියමිත වේලාව සහ ක්‍රියාත්මක කරන්නෝ කවුරු ද ආදි තොරතුරු ඇතුළත් කර ඇති ආකාරය විමසා බලන්න.

**රාජ්‍ය සාහිත්‍ය සම්මාන ප්‍රදානෝත්සවය**

| | | |
|---|---|---|
| ප.ව.2.15 | - | ආරාධිත අමුත්තන් අසුන් ගැනීම |
| ප.ව.2.30 | - | මංගල භේරී සංධ්වනිය හා පහන් දැල්වීම |
| ප.ව.2.40 | - | සමාරම්භක නර්තනය |
| ප.ව.2.45 | - | සාහිත්‍යවේදීන්ට සුබපැතුම්<br>සංස්කෘතික කටයුතු අධ්‍යක්ෂ |
| ප.ව.2.55 | - | සාහිත්‍යවේදීන්ට සුබපැතුම්<br>ලේකම් - සංස්කෘතික හා කලා කටයුතු අමාත්‍යාංශය |
| ප.ව.3.05 | - | නර්තනාංගය |
| ප.ව.3.10 | - | සම්මාන ප්‍රදාන ලේඛනය සාරදීම හා සුබපැතුම්<br>සභාපති - රාජ්‍ය සාහිත්‍ය අනුමණ්ඩලය |
| ප.ව.3.20 | - | නර්තනාංගය |
| ප.ව.3.25 | - | සම්මාන ප්‍රදාන පළමු අදියර |
| ප.ව.4.00 | - | නර්තනාංගය |
| ප.ව.4.05 | - | සම්මාන ප්‍රදාන දෙවන අදියර |
| ප.ව.4.40 | - | නර්තනාංගය |
| ප.ව.4.45 | - | සාහිත්‍යවේදීන්ට සුබපැතුම්<br>සංස්කෘතික හා කලා කටයුතු අමාත්‍යතුමා |
| ප.ව.4.55 | - | සම්මාන ප්‍රදාන තෙවන අදියර |
| ප.ව.5.30 | - | නර්තනාංගය |
| ප.ව.5.35 | - | සුභාශිංසන<br>ජනාධිපතිතුමා |
| ප.ව.5.45 | - | සම්මාන හා සාහිත්‍යරත්න අභිධාන ප්‍රදානය |
| ප.ව.6.20 | - | සම්මාන ප්‍රදානෝත්සවයේ සමාප්තිය<br>ජාතික ගීය |

## ප්‍රායෝගික අභ්‍යාස

1. පන්තියේ සාහිත්‍ය සමිතිය හෝ වෙනත් සමිතියක හෝ රැස්වීමක් සඳහා න්‍යාය පත්‍රයක් සකස් කරන්න.
2. පාසලේ වාර්ෂික ක්‍රීඩා උත්සවය සඳහා න්‍යාය පත්‍රයක් පිළියෙල කරන්න.

# 18 ආපදා කළමනාකරණය

පසුගිය දස අවුරුදු කාලයේ දී ලෝකයේ සහ ශ්‍රී ලංකාවේ ගං වතුර, නායයෑම් සහ සුනාමි වැනි භයානක ස්වාභාවික අනතුරු වැඩි වෙමින් පවතින තත්ත්වයක් දැකිය හැකි ය. හදිසි අවස්ථාවකට අප මුහුණ දෙන ආකාරය සහ එයින් ආරක්ෂා වීමේ ක්‍රියා පිළිවෙළ පිළිබඳව අප සියලු දෙනා ම දැනුවත්ව සිටීම අත්‍යවශ්‍ය ය. ආපදා කළමනාකරණය යනු කුමක් ද යන්නත් ආපදාවක් මැනවින් කළමනාකරණය කර ගන්නේ කෙසේ ද යන්නත් පිළිබඳව කරුණු අන්තර්ගත කරමින් මෙම පාඩම සකස් කර තිබේ.

අප පන්සලට ළඟා වන විට ගමේ ලොකු කුඩා, බාල මහලු හැම දෙනා ම පාහේ එහි පැමිණ සිටියහ. 'ආපදා කළමනාකරණ අමාත්‍යාංශය' යනුවෙන් නම සඳහන් සුදු පැහැ වෑන් රියක් පන්සල් මිදුලේ නතර කර තිබිණි. මඳ වේලාවකින් නිලධාරී මහත්ම මහත්මීහු කිහිප දෙනෙක් ධර්ම ශාලාවේ සිටි පිරිස අබිමුවට පැමිණි අතර, එක් නිලධාරී මහතෙක් ඉතා ප්‍රියමනාප අයුරින් අප අමතා කතා කරන්නට විය:

"අපේ කෙටි දැනුම් දීමට ඔබ සැම ඉතා හොඳ ප්‍රතිචාරයක් දක්වා තිබෙනවා... ඒ සම්බන්ධයෙන් අප ඔබට ස්තුතිවන්ත වෙනවා. අප අද පැමිණියේ ආපදා කළමනාකරණ අමාත්‍යාංශය මගින් පවත්වනු ලබන ප්‍රජාව දැනුවත් කිරීමේ රැස්වීමක් සඳහා යි..."

තවත් නම් මට කට පියාගෙන සිටින්නට බැරි බවක් දැනිණි.

"මාමේ, ආපදාවක් කියන්නේ විපතක්නේ... විපතක් කොහොම ද කළමනාකරණය කරන්නේ...?

"අන්න හොඳ ප්‍රශ්නයක්!" ඔහු වඩාත් උද්යෝගිමත් වනු පෙනිණි. බහු මාධ්‍ය ප්‍රක්ෂේපණ යන්ත්‍රය ක්‍රියාත්මක කළ ඔහු 'ආපදා' යන වචනය සඳහා ඇති නිර්වචන කිහිපයක් අපට ප්‍රදර්ශනය කළේ ය. ඒවායෙහි මෙසේ සඳහන් ව තිබිණි:

> **"ආපදා යනු හදිසි හෝ විශාල අවාසනාවන්ත ව්‍යසනයකි."**
>
> **- ඔක්ස්ෆර්ඩ් ශබ්දකෝෂය**

**"මිනිසා විසින් නිර්මාණය කරන ලද හෝ ස්වාභාවික ව ඇති වන, තාක්ෂණිකව හෝ ක්‍රමානුකූලව වර්ධනය වූ, එයට ගොදුරු වන ජනතාවට විවිධ සුවිශේෂ පියවර අනුගමනය කිරීමට සිදු වන සිදුවීමක් ආපදාවක් වේ."**

**- ආපදා කළමනාකරුවන්ගේ අත්පොත**
**(ආසියානු සංවර්ධන බැංකුව)**

මෙම නිර්වචන පෙන්වා අවසන එම නිලධාරී මහතා 'ආපදා' යන වචනය තව දුරටත් අපට හඳුන්වා දෙමින් කතා කළේ යඃ

"ආපදාවක් කියන්නෙ ක්ෂණිකව හෝ ක්‍රමික වර්ධනයක් විදියට සිදු වන දෙයක්. ඒ මගින් විශාල හානියක් සිදු වෙනවා. එම හානිය දේපළ හානි, ජීවිත හානි යන අංශ දෙකෙන් ම සිදු වෙන්න පුළුවන්. ඒත් පරිසරයේ නිතර සිදු වන උවදුරු හැම එකක් ම අනතුරක් ආපදාවක් වෙන්න නම් කරුණු කිහිපයක් සම්පූර්ණ විය යුතුයි."

"අනේ මහත්තයෝ, මේ කොලු-කුරුට්ටන්ට දැන ගන්නත් එක්ක ඕක ටිකක් විස්තර කොරලම කියන්ටකෝ" යි පිරිස ඉදිරියේ ම සිටි බුරම්පි සීයා කෑ ගැසුවේ ය.

"ඔව් සීයේ, යම් විපතක් ආපදාවක් ලෙස සැලකීමට ජාත්‍යන්තරව පිළිගත් නිර්ණායක තිබෙනවා. ඒ අනුව යම් විපතකින් මිනිසුන් දස දෙනෙකු ජීවිතක්ෂයට පත් වුව හොත්, සිය දෙනෙකුට වැඩි සංඛ්‍යාවකට බලපෑමක් ඇති වුව හොත් එය අපදාවක් ලෙස සැලකෙනවා. එවැනි අවස්ථාවල දී ජාත්‍යන්තර වශයෙන් උදවු ඉල්ලා සිටිය හැකියි. එසේත් නැතිනම් හදිසි අවශ්‍යතාවලින් පෙළෙන රාජ්‍යයක් ලෙස ප්‍රකාශයට පත් කිරීමට ඉඩ තිබෙනවා. මේ කරුණුවලින් අඩු ම තරමින් එකක් වත් පෙන්නුම් කරන විපතක් තමයි ආපදාවක් හැටියට හඳුන්වන්න පුළුවන් වෙන්නෙ."

"ඉතින් මහත්තයෝ, ඕවා අද ඊයෙ වෙන දේවල් යැ?. ආදි කාලෙ හිටන් ම ඕවා වුණා නෙව?. ඉතිං මොකෝ මේ දැන් විතරක් රැස්වීම් පවත්වන්න හේතුව?." බුරම්පි සීයා කේන්තියෙන් විමසුවේ ය.

"සීයා හරි. ආදි කාලෙ ඉඳන් ම ආපදා සිදු වුණා... බෞද්ධ සූත්‍රවලත්, බයිබලයේත් මෙම ආපදා ගැන සඳහන් වෙනවා. විශේෂයෙන් ම අග්ගඤ්ඤ සූත්‍රය, ලක්ඛණ සූත්‍රය, මහා පරිනිබ්බාන සූත්‍රය වගේ සූත්‍රවල ආපදා ගැන සඳහන් වෙනවා..."

"ඇයි මහත්තයෝ, අපේ ජාතක පොත? ඒකෙ තියෙන සංඛ ජාතකේ, එතකොට සමුද්‍රවාණිජ ජාතකේ, මහා ජනක ජාතකේ ඔය විපතක් ගැන කියවෙනව නෙව බොලං..." බුරම්පි සීයා දැන් සාකච්ඡාවට හරිම උනන්දු ය.

"ඇයි අපේ බයිබලෙත් තියෙනවා ආපදා ගැන. උත්පත්ති කතා අතර තියෙන නෝවාගේ කතාව එහෙම එකක්. එකෙත් තියෙනවා විශාල ජල ගැල්මක් ගැන..." මගේ යහළුවා එරික් ද කතාවට සම්බන්ධ විය.

"බොහොම හොඳයි. ඔබ හැම දෙනා ම මට සහාය වෙනවා, ඒක මට පහසුවක්..." නිලධාරී මහතාගේ මුහුණ ප්‍රසන්න සිනාවකින් පිරී ගොස් ය.

"ඇයි මාමේ, විහාර මහා දේවිගෙ කතාව... ඒ ගැන මහාවංශෙ තියෙනවානේ මුහුද ගොඩ ගැලුවා කියලා කැලණිතිස්ස රජ්ජුරුවන්ගෙ කාලෙ..." සිරිමලී අක්කා කතාවට එක් වූවා ය.



සුනාමි අවස්ථාවක්

"මේ ඔක්කොම ඇත්ත. ඒත් අතීතෙ මිනිස්සු ස්වාභාවික විපත්වලට දේවත්වය ආරූඪ කළා. ඒ නිසා ඒවා වළක්වන්නට උත්සාහ කළේ නෑ. නමුත් ආපදා පිළිබඳ දැනුවත් වීමත්, ආපදාවලින් සිදු වන හානි අවම කර ගැනීමේ ක්‍රම ශිල්ප දැන ගැනීමත් නිසා අද වෙනකොට ආපදා අභියෝගයට මනාව මුහුණ දීමේ හැකියාවක් තිබෙනවා."



අකුණු සහ කුණාටු අවස්ථාවක්

"ඔය ආපදා කාණ්ඩ කළ හැකියි නේ ද? ස්වාභාවික ආපදා හා මිනිස් ක්‍රියාකාරකම් ඇසුරෙන් නිර්මාණය වන ආපදා කියලා?" මා පිරිස දෙස හැරී බැලුවේ විස්මයෙනි. ආපදා ගැන මෙතරම් දන්නා කෙනකු අපේ ගමේ සිටිති යි මම නො දැන සිටියෙමි. ඒ චතුර අයියා ය. ඔහු විශ්වවිද්‍යාලයේ ඉගෙන ගනියි. තමා එහි භූගෝල විද්‍යාව හදාරන බව දිනක් ඔහු මට කියා තිබිණි.

"බොහොම හරි!" නිලධාරි මහතා කීවේ ය. "ස්වාභාවික ආපදාත් නැවත කොටස් දෙකකට බෙදන්න පුළුවන් දේශගුණික ආපදා හා භෞතික සහ භූ විද්‍යාත්මක ආපදා කියල..."



ටෝනාඩෝ අවස්ථාවක්

මා ද චතුර අයියා මෙන් විය යුතු යැයි' මගේ සිත කීවේ ය. මම ද අදහස් දැක්වූයෙමි. "මාමේ, දේශගුණික ආපදාවලට උදාහරණ විදියට නියඟ, ජල ගැලීම් එහෙම කියන්න පුළුවන් නේද?"

"ඔව් පුතා. ඒවාට අමතරව ටොනාඩෝත්, අපේ රටට ආගන්තුක වුණත් වෙනත් රටවල තියෙන වැලි කුණාටු, ග්ලැසියර, හිම වැසි, අධික උෂ්ණත්වය, අකුණු ගැසීම් එහෙමත් ගන්න පුළුවන්."

"ටොනාඩෝ? ඒ මොකක් ද මාමේ?"

"ටොනාඩෝ කියන්නෙ පුතේ සුළි සුළංවලට. සුළි සුළඟක් කියන්නෙ උණුසුම් ජල පෘෂ්ඨය මත ඇති වන නිවර්තන කුණාටුවක්. සුළි සුළඟක ලක්ෂණ තමයි අධික වැසි, තද සුළං, ගංගා හෝ ඇළ මාර්ග දිගේ රට තුළට ඇදෙන ඉහළ ගිය මුහුදු රළ වගේ දේවල්. සුළි සුළඟක් දවස් කීපයක් පවතින්න පුළුවන්."

"ඉතිං මාමේ, ඒ වගේ ටොනාඩෝවක් එන බව දැන ගන්න විදියක් නැද්ද?" මම ඇසුවෙමි.

"තියෙනවා, ටොනාඩෝවක් එන බව අහසේ වලාකුළුවල හැඩයෙන් දැනගන්න පුළුවන්. හරියට ම බිම්මලක් වාගේ වලාකුළු කැටි ගැහෙනවා..."

"එතකොට මහත්තයෝ, මොනව ද ඔය කියපු අනිත් ස්වාභාවික ආපදා වර්ගය..." පිරිස අතරින් නැගී සිටි මුල් ගුරුතුමා විමසුවේ ය.

"අනිත් වර්ගය තමයි භූ භෞතික සහ භූ විද්‍යාත්මක ආපදා, නාය යෑම්, භූ කම්පා, සුනාමි, ගිනිකඳු පිපිරීම් ආදිය මේවට උදාහරණ විදියට දක්වන්න පුළුවන්. මේවායින් සමහර ස්වාභාවික ආපදා ක්ෂණික ව සිද්ධ වෙන්න පුළුවන්. සමහර ආපදා දීර්ඝ කාලයක් තිස්සේ ක්‍රමානුකූලව සිද්ධ වෙන්න පුළුවන්."

"ආ... මට තේරුණා... නාය යෑම් ක්ෂණිකව සිද්ධ වෙනවා. නියඟයක් නම් සිද්ධ වෙන්නෙ ක්‍රමානුකූලව. හරි නේද මාමෙ?" මට කියැවිණි.

"හරියට හරි. පුතා මේ ගැන බොහොම උනන්දුයි වගේ...." ඔහු කී ය. මම ප්‍රීතියෙන් පිම්බෙමින් සිටිමි.

"ඔබ කිව් අනෙක් ආපදා වර්ගය පිළිබඳවත් පිරිස දැනුම්වත් කළොත් හොඳයි නේද?" චතුර අයියා විමසුවේ ය.

"ඔව් මුල් කාලෙ නම් තිබුණේ ස්වාභාවික ආපදා පමණයි. ඒත් මිනිසුන් විද්‍යාත්මක හා තාක්ෂණික ඥානයෙන් දියුණු වෙද්දී ආපදා නිර්මාණයට මිනිසුනුත් මැදිහත් වුණා. ඒ අනුව මානව මැදිහත් වීමෙන් සිදු වන ආපදාත් අද බහුලව තිබෙනවා..."

"ඒ ආපදාත් කාණ්ඩවලට බෙදන්න පුළුවන් නේ ද?" චතුර අයියා විමසුවේ ය.

"ඔව්. කාර්මික ආපදා, ප්‍රවාහන ආපදා හා විවිධ ආපදා කියලා බෙදිය හැකියි. ඔය රසායනික ද්‍රව්‍ය පුපුරා යෑම්, රසායනික ද්‍රව්‍ය පිටාර ගැලීම්, විකිරණ හානි, ගිනි ගැනීම් වගේ දේවල්, එතකොට විෂ වායු කාන්දු වීම්, විෂ ශරීරගත වීම්... මේ ඔක්කොම කාර්මික ආපදා; කාර්මික දියුණුව නිසා ඇති වන ආපදා.

"එතකොට මාර්ග අනතුරු, දුම්රිය අනතුරු, ගුවන් අනතුරු වගේ දේවල්, ප්‍රවාහන අනතුරු..."

"විවිධ ආපදා කියන්නෙ නිවාස කඩා වැටීම්, නිවාස ගිනි ගැනීම්, දියේ ගිලීම් වගේ දේවල්."

"මාමේ, ලංකාවට ගොඩක් ම බලපාන්නෙ සුනාමි, සුළි සුළං, භූමිකම්පා, නාය යෑම්, ගං වතුර, නියඟ, අකුණු සැර වැදීම් වගේ ආපදා නේද?" මම ඇසීමි.

"පුතා හරි. මේ ආපදාවලින් මිදෙන්නත් ප්‍රජාව තුළ ආපදාවලින් මිදීමේ ක්‍රම ශිල්පය ගැන දැනුමක් තියෙන්න ඕන."

"ඔය එතකොට මහත්තයෝ, ආපදා කළමනාකරණය තියන්නෙ මොකක් ද?" බුරම්පි සීයාගේ මුහුණේ පුදුමය පිරිලා ය.

නිලධාරී මහතා යළිත් ප්‍රක්ෂේපණ යන්ත්‍රය ක්‍රියාත්මක කර, ආපදා කළමනාකරණය සම්බන්ධ නිර්වචන කිහිපයක් ප්‍රදර්ශනය කළේ ය. සාකච්ඡාව පැවැත්වෙන අතරතුර නිලධාරී මහත්වරුන් විසින් බෙදා දෙන ලද කොළවල මම ඒවා සටහන් කර ගතිමි.

**"ආපදා කළමනාකරණය ව්‍යවහාරික විද්‍යාවකි. එමගින් ආපදා පිළිබඳව ක්‍රමවත් සහ විධිමත් නිරීක්ෂණයන්, ගවේෂණයන් හා විශ්ලේෂණයන් ඇසුරෙන් ආපදාවන් ඇති වීමට පෙර හා පසු ඇති ක්‍රියාවලිය විධිමත් සැලැස්මක් හා ක්‍රමවත් පාලනයක් යටතේ මෙහෙයවනු ලැබේ. ආපදා කළමනාකරණය මගින් ආපදා වළක්වා ගැනීම, ආපදා අවම කිරීම, ආපදා සඳහා සූදානම් වීම, සහනාධාර සැපයීම, පුනරුත්ථාපනය හා ප්‍රතිසංස්කරණය පිළිබඳ තීරණ ගැනීමේ ක්‍රියාවලිය ගැන විමසීමක් ද කරනු ලැබේ.**

**- ජාතික ආපදා කළමනාකරණ මධ්‍යස්ථානය, 2005**

ප්‍රධාන වශයෙන් ම ආපදා අවස්ථාවක් කොටස් තුනකට බෙදා දක්වන්න පුළුවන්. ඒ තමයි පූර්ව ආපදා අවස්ථාව, ආපදාව සිදු වන අවස්ථාව හා පශ්චාත් ආපදා අවස්ථාව වශයෙන්. දැන් බලන්න දෙදහස් හතර වර්ෂයෙ අපේ රටට ඇති වුණු සුනාමි ව්‍යසනයෙන් පස්සෙ අපට ඉක්මනට ම යථා තත්ත්වයට පත් වෙන්න පුළුවන් වුණේ පශ්චාත් ආපදා අවස්ථා සම්බන්ධයෙන් හොඳින් අවධානය යොමු කිරීම නිසා."

"ඒ කියන්නෙ මහත්තයෝ, ආපදා සිද්ධ වෙන්න කලිනුත්, ආපදාව සිදු වන අවස්ථාවෙත්, ආපදාව සිදු වුණාට පස්සෙත් ආපදා කළමනාකරණය කරන්න පුළුවන් කියන එක නේ ද?" එවර ප්‍රශ්නය මුල් ගුරුතුමාගෙනි.

"හරියට ම හරි. ඒත් මේ රටේ ආපදා වැළැක්වීමටත් පුනරුත්ථාපන කටයුතු හා නැවත ඉදි කිරීම් සම්බන්ධයෙනුත් ක්‍රමවත් නීති පද්ධතියක් තිබුණෙ නෑ. මේ අඩුව පුරවන්න පනත් දෙකක් සම්මත කරල තියෙනවා දෙදහස් පහේ ජූනි දහතුන් වෙනිදා ඉඳල ක්‍රියාත්මක වෙන විදියට..."

"ඒ පනත් දෙක මොනව ද මාමේ?" මම ඇසීමි.

"එකක් තමයි පුතේ, 2005 අංක 13 දරන ශ්‍රී ලංකා ආපදා කළමනාකරණ පනත. අනෙක තමයි 2005 අංක 16 දරන සුනාමි (විශේෂ විධි විධාන) පනත."

"මෙතන පාසල් යන වයසෙ දරුවොත් හුඟක් ඉන්න බව මට පෙනෙන නිසා පාසල් ආපදා ආරක්ෂණ වැඩසටහන ගැනත් යමක් කිව්වොත් හොඳයි කියා මට හිතෙනවා."

"අනේ කියන්න මාමේ, එතකොට ඒ ගැන අපි අපේ යාළුවන්ටත් කියන්නම්" මගේ නංගී සුමාලි කීවා ය.

"ඒක හොඳයි. පාසල් ආපදා ආරක්ෂණ වැඩසටහනට අයත් කාර්යයන් තමයිඃ පාසල් ආපදා කමිටු ස්ථාපිත කිරීම, පාසල් පරිසරය තුළ අනතුරුදායක ස්ථාන සොයා ගැනීම, ඒවා ආරක්ෂිත ස්ථාන බවට පත් කිරීම, ගිනි උවදුරෙන් ආරක්ෂා වීම සඳහා ගුරුවරුන් හා දරුවන් දැනුවත් කිරීම, ප්‍රථමාධාර හා හදිසි අවස්ථා සැලසුමක් සකස් කිරීම

ආදි වැඩසටහන් ක්‍රියාත්මක කිරීම. වැඩසටහන්වලට දෙමවුපියන්ට, ගුරුවරුන්ට වගේ ම දරුවන්ටත් සහභාගි වෙන්න පුළුවන්. අප බලාපොරොත්තු වෙනවා මේ ප්‍රදේශයේ පාසල් කිහිපයක ම ඒ වැඩසටහන් පිළිබඳව දැනුවත් කිරීමේ රැස්වීම් පවත්වන්නත්..."

"අනේ හැබැට මහත්තයෝ, අපි පුංචි සන්දියෙ නං නියඟෙන්, භූමිකම්පාවලින්, ජල ගැලීම් වගේ කොයි විපැත්තියෙනුත් බේරෙන්න දෙවි දේවතාවුන්ට පුද පූජා පැවැත්තුවා; බාරහාර වුණා; තොවිල්-පවිල් නැටුවා. ඒත් දැන් රට මොන තරම් දියුණු ද? කියල දැනුයි ඕං තේරුණේ..." බුරම්පි සීයාගේ සතුට ඉහවහා ගොසිනි.

හදිසි ආපදා අවස්ථාවක් ඇති වුව හොත් දැනුම් දිය යුතු දුරකථන අංක හා නාය යෑම්, සුළි සුළං, අකුණු අනතුරු, සුනාමි ආදි දේ පිළිබඳව සැකසුණු කුඩා පොත් සහ පෝස්ටර් තොගයක් ද අපට නොමිලේ ම ලබා දුන් ඔවුහු අපේ සහයෝගයට ස්තුති කරමින් පිටත් ව ගියහ.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| ප්‍රජාව | - ජනතාව |
| ව්‍යසනය | - විපත, කරදරය |
| ජල පෘෂ්ඨය | - ජල තලය |
| ව්‍යවහාරික විද්‍යා | - විද්‍යාත්මක සොයා ගැනීම් සහ දැනුම මිනිසාගේ ප්‍රායෝගික භාවිතය සඳහා යොදා ගැනීම අරමුණු කර ගත් විද්‍යාව |
| නිවර්තන කුණාටු | - නිවර්තන කලාපයේ අඩු පීඩන කේන්ද්‍රයක් වටා සර්පිලාකාරව භ්‍රමණය වන තද සුළං තත්ත්වයක් |

## අවබෝධය

1. **පාඩම කියවා, අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.**

   i. ආපදාවක් යනුවෙන් හැඳින්වෙන්නේ කුමක් ද?
   ii. ආපදා යන වචනයට දිය හැකි නිර්වචනයක් ලියන්න.
   iii. යම් විපතක් ආපදාවක් වීමට කරුණු කිහිපයකින් එකක් වත් සම්පූර්ණ විය යුතු ය. ඒ කරුණු මොනවා ද?
   iv. ආපදා පිළිබඳ ඉතිහාසය පිරික්සීමේ දී අපට හමු වන මූලාශ්‍රයන් මොනවා ද?
   v. ආපදා කළමනාකරණය යන්නට දිය හැකි නිර්වචනයක් පාඩමෙන් සොයා ලියන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පාඩම හොඳින් කියවා ආපදා වර්ගීකරණය පිළිබඳව තොරතුරු දැක්වෙන දළ සටහනක් පිළියෙල කරන්න.**
2. **පන්තියේ සිසුන් කණ්ඩායම් පහකට බෙදෙන්න.**

කණ්ඩායම 01

සුනාමි තත්ත්වයක් යනු කුමක් ද යන්න හඳුන්වා, සුනාමිය යන ආපදාව කළමනාකරණය කර ගත හැකි අයුරු පන්තියට ඉදිරිපත් කරන්න.

කණ්ඩායම 02

අකුණු අනතුරු හඳුන්වා, එම ව්‍යසනය කළමනාකරණය කර ගන්නා ආකාරය පන්තියට ඉදිරිපත් කරන්න.

කණ්ඩායම 03.

නාය යෑම් හඳුන්වා, එම ව්‍යසනය මැනවින් කළමනාකරණය කර ගන්නා අයුරු දක්වන්න.

කණ්ඩායම 04.

සුළි සුළං යන්න හඳුන්වා, එය ඇති වන ආකාරයත් එම ආපදාව කළමනාකරණය කර ගන්නා ආකාරයත් ඉදිරිපත් කරන්න.

කණ්ඩායම 05.

භූමි කම්පා තත්ත්වයක් යනු කුමක් දැයි හඳුන්වන්න. එම ආපදාව මැනවින් කළමනාකරණය කර ගන්නා ආකාරය පන්තියට ඉදිරිපත් කරන්න.

## ශබ්දකෝෂ පරිහරණය

පොතපත පරිශීලනයේ දී ඔබට අවබෝධ කර ගැනීමට දුෂ්කර වන වචන හමු විය හැකි ය. එම වචනවල අර්ථය ඉතා නිවැරදිව ඔබට දැන ගත හැකි හොඳ ම ක්‍රමය වන්නේ ශබ්දකෝෂයක් භාවිත කිරීම යි. සිංහල ශබ්දකෝෂ සියල්ලක ම වචන දක්වා ඇත්තේ අ, ආ, ඇ, ඈ ආදි වශයෙන් අකාරාදි පිළිවෙළට ය.

මෙහි දැක්වෙන්නේ ශබ්දකෝෂයකින් උපුටා ගන්නා ලද පිටුවකි.

–මි (මිකල්)=මිහිකත (ප්‍රාති 19). –**යල්**=1. කාල අකාල; සුදුසු නුසුදුසු අවසථා (සස 40). 2. සුදුසු කාලය (ගුත් 412). 'යල්' –වාග්ලි. 3. යල මාහ දෙක (හංස 155). –**යාමක් ගිය**= කල් ගත වූ (සදධ 141$^{26}$. 188$^{3}$. පූප 129$^{8}$). –**වියෝ**=කානානාවගෙන් වෙන් වූ (ධප්‍ර 280$^{18}$)

**කල**=1. මනසකානත (මයූ 73). 2. බල; දුර්ජන. 3. කමත (රූ 369). 4. කැඳ (රූ 374). 5. කාඹි (පූනා 214). 6. පුත්කලස (රූ 340). 7. මිණිගෙඩිය?. 8. කණුව?. 9. ලූලා. 10. සරසවිය 11. රූවිරණය (රූ 681). 12. කාලවණීය (104). 13 විෂ (රූ 132) 14. කකුළුවා (රූ 151). 15. ගීයෙහි ලැබෙන ලය; මාත්‍රා හතරකට සමාන කාලය (සදධ 311$^{30}$ 688$^{18}$). 16. කලත; දකෂ (සි 558). 17. දහසයෙන් පංගුව. –**අත්**= කමතෙහි කෙළවර. –**කට**= කොවුලා (රූ 245). –**කිරිය**=කාලක්‍රියාව (පූනා 207). –**කෝලාහල**†=දබරය. 'කල' –වාග්ලි. –**ඝොෂ**=මිහිරි ඝොෂය ඇත්තා; කොවුලා. –**දවස**=කාලය. –**දසා**†=ජීවිත තත්ත්වය. –**දහම්**=දුර්ජනසවභාවය (සිය 151). –**පිපි**=කලවිට (දහම් 267$^{14}$). –**භාග**=දහ සයෙන් පංගුවෙනුත් කොටස (ධගැ 267$^{11}$). –**මඬල**=කමය වැනි කලවිට (දජා 360$^{22}$). –**රව,–රාව?** (කාශෙ 2. 10–40), –**රැවු** (රූ 243. පරෙව් 50)=පරෙවියා. –**වන්**=1 කාල වණීය (සිදත් 44$^{3}$). 2†=මිශ්‍ර. –**වැදි**=බලලා වැනි සතෙක් (දජා 52$^{18}$. වෙස 363). –**වැල්**=අගිල් (වෙස 328. සදධ 523$^{23}$). –**විකල**=අවුල්; වියවුල; කලබල (කාශෙ 10–72). –**විට**=කමත (සදධ 577$^{25}$. කඹබා 46$^{17}$. මි 1. 428$^{8-23}$). –°**කාංකානම්**= වෙල්විදානෙ (G). කමතෙහි කටයුතු කර වන්නා (සංසිංකො). –°**මඬල** (ධප්‍ර 98$^{33}$), –°**මඬුලු** (ජාගැ 153$^{18}$)= 'කලමඬල' බ. –**විමු**= 1. කමත; ධාන්‍යාදිය මඬින තැන. 2. මැඩීම; පැගීම; මිශ්‍ර කිරීම? (මිලි 238$^{29}$). –**වී**= යහ පත් (මි 4. 228$^{1-8}$). –**හංස**=රතු වූ තුඩු හා පා ඇති රාජහංසයා. –**හස**=1. කලහංසයා (කව් 21. මුව 56). 2. කාලවණී හංසයා (රූ 247).

**කලංක**=1. කැලැල (සැළ 68). 2. (සදධ 478$^{11}$)='කලඟ' ශුද්ධ.

**කලංබොක්කු?**=ඔසුවෙසෙසක්; අගිල්? (යො 2918).

**කලකල**=1. කලබලය (ධගැ 26$^{27}$). 2. යුද්ධය (පූනා 202). 3. කරවවලය (බෝගැ 40$^{39}$). –**නිනාද**='කලකල' යන ශබ්දය (පරෙව් 106).

**කලකිරි**=1 වෙහෙසුනු (අමා 2. 122$^{4}$). 2. අසතුටු වූ (සඳ 56).

**කලකිරිලි**=1. කොපය (පූනා 70) 2. නොසතුට.

**කලකිරි(රූ)ම්**=1. කලකිරිල්ල. 2. නැසීම; වෙනස් කිරීම (කඹබා 65$^{11}$).

**කලකිරූ** (ධා)=කලකිරීමෙහි– 1. සංවේගයට පැමිණීමෙහි; අසතුටු වීමෙහි (ස්තූ 89$^{34}$). 2. වෙහෙසීමෙහි (අමා 2. 30$^{37}$). 3. සංවේග යට පැමිණීමෙහි; බිය වීමෙහි (ජාගැ 166$^{13}$). 4. නැසීමෙහි; වෙනස් වීමෙහි. 'කලකිරූ' බ. (සිබ 46$^{25}$. කුදු 140. කඹබා 64$^{33}$). අක. 'කලකුරූ' මෙනි. (ප්‍රයොජ්‍ය– **කලකිරූවා**).

**කලකිරෙණු**=වෙහෙසෙනු (අමා 2. 30$^{37}$).

**කලකුරූ**(ධා)=1. වෙහෙසීමෙහි (ජාගැ 15$^{26}$). 2. වෙනස් වීමෙහි (සිබ 45$^{13}$). 3. සංවේග යෙහි; සිහිවිල්ලෙහි (ජාගැ–පූනානාමංස්ථා). අක කලකිරේ, කලකිරෙත්; කලකිරි, කල කිරිණි, කලකිළි, කලකිරූ කලකිරූණු, කලකුළු. (ප්‍රයොජ්‍ය – **කලකුරූවා**) 'කල කුරූ' බ.

**කලකුළු**=වෙහෙසුනු (කව් 700. ධප්‍ර 280$^{36}$).

**කලගොණු**†=කලබල වූ; අවුල් වූ.

**කලගෝවම්**† }
**කලගෝලිච්චා**† }=කරවවලය.

**කලඩක**=කැලැල; ලපය (මි 1. 52$^{2-13}$).

**කලපි**†=නිසිතරමට නොමේරූ පොල්.

**කලණ**=කලණ (සි 627).

**කලණ**=1 කලයාණ (ධගැ 11$^{7}$) 2. රන් (සැළ 77). –**මිත්** (මි 1. 352$^{1-24}$), –**මිතුරූ**= කලයාණමිත්‍රයා –**වි** (=කලණ + ඊ)=කලයාණ සත්‍රී (ධගැ 117$^{29}$).

**කලන්**=1. කලානත (ධගැ 127$^{18}$. 137$^{15}$. 144$^{24}$). 2. කැලැත්; කැලඹුනු (ධගැ 149$^{11}$). 3. කොල්ලු (කාශෙ 5–5). 4 කබල (අභිධාන 61$^{33}$). 5. 'කලම්බ' නම් ගස; විලපලා

## ලිඛිත අභ්‍යාස

1. මෙහි දැක්වෙන ශබ්දකෝෂ පිටුව උපකාර කරගෙන පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

   i පහත දැක්වෙන යෙදුම් සඳහා උචිත තනි වචනය ලියන්න.

   අ. යහපත් මිත්‍රයා
   ආ. මිහිරි ඝෝෂය ඇත්තා
   ඇ. සියලු කලාවන්ට අධිපති දෙවඟන
   ඈ. පොළොව නැමැති කාන්තාව
   ඉ. රතු තුඩු හා පා ඇති හංසයා
   ඊ. ධාන්‍ය මඬින ස්ථානය

2. පහත සඳහන් ශබ්දකෝෂ ඔබගේ විද්‍යාලයීය පුස්තකාලයෙන් ලබා ගෙන ඒවා පිළිබඳව අධ්‍යයනය කරන්න.

   සිංහල ශබ්දකෝෂය - සංස්කෘතික දෙපාර්තමේන්තුව
   ශ්‍රී සුමංගල ශබ්දකෝෂය - වැලිවිටියේ සෝරත නාහිමි
   ප්‍රායෝගික සිංහල ශබ්දකෝෂය - ආචාර්ය හරිස්චන්ද්‍ර විජේතුංග
   සිංහල පාරිභාෂික ශබ්දකෝෂය - ආචාර්ය හරිස්චන්ද්‍ර විජේතුංග

3. ආපදා කළමනාකරණය සම්බන්ධ පහත සඳහන් වචනවල අර්ථ යෝග්‍ය ශබ්දකෝෂයක් පරිශීලනය කරමින් සොයා ලියන්න.

   i. විකරණය/සර්ජන ආරක්ෂණය
   ii. ක්‍රමාංක/දහරු
   iii. භූ කම්පන මානය
   iv. විසර්ජනය
   v. වෝල්ටීයතාව
   vi. ආරෝපණය
   vii. බාදනය
   viii. වසංගත/ජේනුව

   ඉහත වචන යොදා වාක්‍යය බැගින් තනන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. නූතන සිංහල අක්ෂර මාලාව අනුපිළිවෙළින් ලියා දක්වන්න.
2. පාඩමේ ඔබට නො වැටහෙන වචන ලේඛනයක් පිළියෙල කර ගෙන ශබ්ද කෝෂයකින් සොයා අර්ථ ලියන්න.
3. පන්තියේ සිටින ඔබේ හොඳ ම යහළුවන් දහ දෙනකුගේ නම් අකාරාදි පිළිවෙළට සකසා ලියන්න.
4. 'ආපදා කළමනාකරණයේ වැදගත්කම' යන මැයෙන් රචනාවක් ලියන්න.

# 19 සන්ධි

**කිසියම් කාර්යයක් කිරීමේ දී වඩාත් පහසු මං සෙවීම මනුෂ්‍ය ස්වභාවය යි. භාෂා භාවිතයේ දී ද මේ ධර්මතාව බල පවත්වයි. ශබ්ද උච්චාරණයේ දී ඇතැම් ශබ්ද ඉවත් වී වෙනත් ශබ්ද පිවිසීමත් ඇතැම් ශබ්දවල ස්වරූපය වෙනස් වීමත් දැක ගත හැකි ය. මෙය නිරායාසයෙන් සිදු වන්නකි. මෙයින් භාෂා භාවිතය පහසු ද අලංකාරවත් ද සුමට ද වෙයි. ව්‍යාකරණයේ දී 'සන්ධි' යනුවෙන් හැඳින්වෙනුයේ උච්චාරණයේ පහසුව සඳහා සිදු වන ශබ්ද ගැළපීමේ ක්‍රමයකි.**

මෙලෙස ශබ්ද සංවිධානයේ දී ද අපි විවිධ ක්‍රමවලින් ඒවා එකතු කරමු. එලෙස එකතු කිරීම නිසා,




- ★ උච්චාරණ පහසුව ඇති වේ.
- ★ ශබ්ද කෙටි වීම සිදු වේ.
- ★ භාෂාවේ ව්‍යක්ත භාවයක් ඇති වේ.

දිය පහරක් ගලා යන මාර්ගයෙහි ඊට බාධක වන ගල් පර, වළවල්, මුල් ආදිය වෙයි ඒවා ඉවත් කිරීමෙන් දිය පහර පහසුවෙන් ගලා යයි. එමෙන් ම ශබ්ද උච්චාරණයට බාධා කෙරෙන ශබ්ද බැහැර කිරීමෙන්, අලුත් ශබ්ද එක් කිරීමෙන් හා ඇතැම් ශබ්දවල ස්වරූපය වෙනස් කිරීමෙන් පහසුවෙන් උච්චාරණය කිරීමට අවකාශය සැලසේ.

භාෂා භාවිතයේ දී පහසු භාවිතයට බාධක වන අංග ඉවත් කිරීම, අභිනව අංග පිවිසීම හා පවත්නා ශබ්දයක ස්වරූපය වෙනස් වීම සන්ධි කිරීම යනුවෙන් හැඳින්වෙයි. මෙවැනි සන්ධි විධි කීපයකි.

**ශබ්දයක් හෝ ශබ්ද කීපයක් ඉවත් කිරීම ලෝපය යි.**

ගුරු + උතුමා - ගුරුතුමා

**පවතින ශබ්දයක් වෙනුවට වෙනත් ශබ්දයක් පැමිණවීම ආදේශය යි.**

දඩ + කම් - දඩයම්

**පවතින ශබ්ද අතරට අලුත් ශබ්දයක් එක් කිරීම ආගමය යි.**

වි + අවුල් - වියවුල්

සන්ධි වන්නේ පද දෙකක් අතර බව මේ අනුව පැහැදිලි වෙයි. සන්ධි වූ පද දෙක වෙන් කොට ගැනීම විසන්ධිය වේ. සන්ධි වූ පදයක අර්ථය වටහා ගැනීමට විසන්ධිය උපකාරී වේ. විසන්ධියෙහි විවිධ රටා හඳුනා ගත හැකි ය.

**ව්‍යඤ්ජනාක්ෂරයකින් කෙළවර වී ස්වරයකින් ආරම්භ වන ශබ්ද**

අතින් +අත - අතිනත
මල් +අත්ත - මල්ලත්ත
මිනිස් + ආ - මිනිසා

**ස්වරයකින් කෙළවර වී ස්වරයකින් ආරම්භ වන ශබ්ද**

ගුණ +අගුණ - ගුණාගුණ
යන +එන - යනෙන
වැලි + අම්පිටිය - වැල්ලම්පිටිය

**ව්‍යඤ්ජනාක්ෂරයකින් කෙළවර වී ව්‍යඤ්ජනාක්ෂරයකින් ආරම්භ වන ශබ්ද**

ගෙත් +කම් - ගෙත්තම්
දුක් + පත් - දුප්පත්
පස් + සිය - පන්සිය

**ස්වරයකින් කෙළවර වී ව්‍යඤ්ජනාක්ෂරයකින් ආරම්භ වන ශබ්ද**

දඬු +කම් - දඬුවම්
ගඟ + දිය - ගංදිය
බුදු + සරණ - බුත්සරණ

මෙලෙස විවිධ අයුරින් සැදෙන සන්ධි වර්ග කීපයකි. සන්ධි වීම් දෙවැදෑරුම් කොට දැක්වෙයි.

## 1. අභ්‍යන්තර සන්ධි

ප්‍රකෘති - ප්‍රත්‍යය අතර හෝ ප්‍රකෘතියක් ඇතුළත හෝ සිදු වන සන්ධි

ගස් + ඒ > ගසේ
පොත් + ඒ > පොතේ

## 2. බාහිර සන්ධි

ප්‍රකෘති දෙකක් හෝ පද දෙකක් අතර සිදු වන සන්ධි සන්ධි වූ රූපයෙන් මෙන් ම විසන්ධි කළ රූපයෙන් ද ලිවිය හැකි ය.

| උදාහරණ:- සන්ධි වීම් සහිත | සන්ධි රහිත |
|---|---|
| ගුණාගුණ | ගුණ අගුණ |
| ගොක්කොළ | ගොප් කොළ |
| හද්දවස | හත් දවස |
| ධර්මාවබෝධය | ධර්ම අවබෝධය |

## ස්වරයක් මුල්ව සැදෙන සන්ධි විධි හතරකි.

1. ස්වර සන්ධිය (සර සඳ)
2. පූර්ව ස්වර ලෝප සන්ධිය (පෙර සර ලොප් සඳ)
3. පර ස්වර ලෝප සන්ධිය (පර සර ලොප් සඳ)
4. ස්වරාදේශ සන්ධිය (සරදෙස් සඳ)

## ව්‍යඤ්ජනාක්ෂරයක් මුල්ව සැදෙන සන්ධි විධි හයකි.

5. ගාත්‍රාදේශ සන්ධිය (ගතදෙස් සඳ)
6. ගාත්‍රාක්ෂර ලෝප සන්ධිය (ගතකුරු ලොප් සඳ)
7. ආගම සන්ධිය (අගම් සඳ)
8. පූර්ව රූප සන්ධිය (පෙර රූ සඳ)
9. පර රූප සන්ධිය (පර රූ සඳ)
10. ද්විත්ව රූප සන්ධිය (දෙරූ සඳ)

එක් එක් සන්ධිය සිදු වන අයුරු වෙන් වෙන්ව හඳුනා ගනිමු.



### 1. ස්වර සන්ධිය

පද දෙකක මුල් පදයේ අග ඇති ව්‍යඤ්ජන ශබ්දය (හල් අකුර) පසු පදයේ මුල ඇති ස්වරය සමග එක් වීමෙන් මේ සන්ධිය සිදු වේ.

වම්+අත
වම්+අත
ම - හල් අකුරට ස්වරය එක් වීම
වමත - සන්ධි පදය

| | | | |
|---|---|---|---|
| උපන් + උපන් | - උපනුපන් | හිත් + ඇති | - හිතැති |
| වයස් + ඇති | - වයසැති | අතින් + අත | - අතිනත |
| නිල් + උපුල් | - නිලුපුල් | පින් + ඇති | - පිනැති |

- **ප්‍රකෘතිය හා ප්‍රත්‍යය එක් වීම ද මේ සන්ධි විධියෙන් සිදු වේ.**

| | | | |
|---|---|---|---|
| මිනිස් + උන් | - මිනිසුන් | අත් + ඉන් | - අතින් |
| සසුන් + අට | - සසුනට | ගස් + එහි | - ගසෙහි |
| බළල් + උන්ගේ | - බළලුන්ගේ | | |

1.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. සිහින් + ඉඟ
ii. පින් + ඇත්තෝ
iii. එකින් + එක
iv. ඔවුන් + ඔවුන්
v. පවුල් + එහි

1.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න**

i. පසිඳුරන්
ii. රුවනාර
iii. දහමක්
iv. මලසුන
v. ළඳුනට



## 2. පූර්ව ස්වර ලෝප සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පෙර පදයේ අග ඇති ස්වරය (පූර්ව ස්වරය) ලොප් කර ඉතිරි වන හල් අකුරට පර පදයේ මුල ඇති ස්වරය (පර ස්වරය) එක් කිරීමෙන් ගැළපෙන සන්ධිය පූර්ව ස්වර ලෝප සන්ධිය යි.

දකුණු +අත
දකුණ් +උ +අත - පූර්ව ස්වරය වෙන් කිරීම
දකුණ් +~~උ~~ +අත - පූර්ව ස්වරය ලොප් කිරීම
දකුණ් +අත - පර ස්වරය එක් කිරීම
ණ
දකුණත - සන්ධි පදය




යන්න + ඕනෑ - යන්නෝනෑ
ගෙන + ආවා - ගෙනාවා
දින + ඉසුරු - දිනිසුරු
මැද + ඇඟිල්ල - මැදැඟිල්ල
සුර + ඉඳු - සුරිඳු

- **ප්‍රකෘතිය හා ප්‍රත්‍යය එක් වීම ද මෙ සන්ධි ක්‍රමයෙන් සිදු වේ.**

සතුරු + ආ - සතුරා
ලකුණු + එන් - ලකුණෙන්
දුරු + ඉන් - දුරින්
කළ + ඕ - කළෝ

2.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. පොරණ + ඇදුරන්
ii. සුළු + ඇඟිල්ල
iii. සුරු + අත
iv. නළු + අඟන
v. හිඟුරු + අල

2.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. සියැසින්
ii. ගුණැති
iii. දිගා
iv. දිනිඳු
v. අරුණලු



## 3. පර ස්වර ලෝප සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පසු පදයේ මුල ඇති ස්වරය ලොප් කිරීමෙන් ගළපන සන්ධිය පරස්වර ලෝප සන්ධිය යි.

මුනි + උතුමා
මුනි + උ + තුමා - පර ස්වරය ලොප් කිරීම
මුනිතුමා - සන්ධි පදය

මිණි + අබරණ - මිණිබරණ
අනු + අරුත් - අනුරුත්
දිය + ඉති - දියති
පිළි + උතුරු - පිළිතුරු
බුදු + අකුරු - බුදුකුරු

- **ප්‍රකෘති ප්‍රත්‍ය සංයෝගය ද මෙම සන්ධි විධියෙන් ඇතැම් විට සිදු වේ.**

ගුරු + උන් - ගුරුන්
බැති + ඉන් - බැතින්

3.1 **පහත දී ඇති පද සන්ධි කරන්න**

i. පැහැ + ඇති
ii. වියළි + ඉඟුරු
iii. ශාලා + අධිපති
iv. මුදලි + ඉඳු
v. සුර + අඟන

3.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. යතිතුමා
ii. කතාන්දරය
iii. පමණක්
iv. උඩල
v. සිහසුන



## 4. ස්වරාදේශ සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පෙර පදයේ අග ස්වරයත් පසු පදයේ මුල ස්වරයත් වෙනුවට වෙනත් ස්වරයක් පැමිණවීමෙන් ස්වරාදේශ සන්ධිය සිදු වේ.

දෙ+ අත
ද් +එ +අත - පූර්ව ස්වරය වෙන් කිරීම
ද් +එ+අත - ස්වර දෙක වෙනුවට වෙනත් ස්වරයක් පැමිණවීම
ඇ
ද් +ඇ +ත - ස්වර ව්‍යඤ්ජන සංයෝගය
දැ
දැත - සන්ධි පදය

මහ + ඉසුරු - මහෙසුරු (මෙහෙසුරු)
ඒ + අත - ඇත
වට + උර - වටොර
දෙ + අඟුල් - දැඟුල්

4.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. මහ + ඉසිකා
ii. මේ + අතින්
iii. පරම + ඊශ්වර
iv. දෙ + අවුරුදු
v. පල + අපල

4.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. දැඟිලි
ii. ලම්බෝදර
iii. නෝබින
iv. දැවර
v. නෑසූ



# 5. ගාත්‍රාදේශ සන්ධිය

සන්ධි වන පද දෙකෙහි පවත්නා ගාත්‍රාක්ෂරයක් හෙවත් ව්‍යඤ්ජනාක්ෂරයක් වෙනුවට වෙනත් ගාත්‍රාක්ෂරයක් හෙවත් ව්‍යඤ්ජනාක්ෂරයක් පැමිණවීමෙන් සෑදෙන සන්ධිය ගාත්‍රාදේශ සන්ධිය යි.

| | |
|---|---|
| සිති + කම් | |
| සිති +ක් +අම් | - ගාත්‍රාක්ෂරය වෙන් කිරීම |
| සිති + ය් + අම් | - වෙනත් ගාත්‍රාක්ෂරයක් පැමිණවීම |
| සිති + ය් + අම් (ය) | - ස්වර ව්‍යඤ්ජන සංයෝගය |
| සිතියම් | - සන්ධි පදය |

ගාත්‍රාදේශ සන්ධියේ දී පර පදයේ මුල වූ 'ක්' ව්‍යඤ්ජනාක්ෂරය වෙනුවට 'ව්', 'හ්', 'ය්' යන අක්ෂර දෙකෙන් එකක් ද,

ක් > ව් - සිත් + කරු - සිත්වරු
ක් > හ් - දව + කල් - දවහල්
ක් > ය් - ගිනි + කම් - ගිනියම්

පූර්ව පදයේ අග වූ 'බ්', 'ද්' යන ව්‍යඤ්ජනාක්ෂර වෙනුවට 'ප්', 'ත්' යන ව්‍යඤ්ජනාක්ෂර ද,

ද් > ත් - බුදු + සරණ - බුත්සරණ

'ස් වෙනුවට 'න්' හා 'ම්' හෝ 'න්' වෙනුවට 'ං' (අනුස්වාරය) ද ආදේශ කෙරේ.

ස් > න් - පස් + සිල් - පන්සිල්
ම් > ං - දුම් + කොළ - දුංකොළ

**5.1 පහත දැක්වෙන පද සන්ධි කරන්න.**

i. ගම් + ගොඩ
ii. දඩ + කම්
iii. රද් + ගම
iv. පස් + සාළිස්
v. ගොන් + බාන

**5.2 පහත දැක්වෙන පද විසන්ධි කරන්න.**

i. පිරියම්
ii. පන්දහස්
iii. බිලියම්
iv. සුණුවම්
v. සන්නිවේදන



# 6. ගාත්‍රාක්ෂර ලෝප සන්ධිය

'ඟ','ඹ' යන සඤ්ඤක හෙවත් අර්ධානුනාසික ශබ්ද සැදී ඇත්තේ එක් එක් වර්ගයේ ඝෝෂ අල්පප්‍රාණ ව්‍යඤ්ජනයට පෙරටුව ඒ ඒ වර්ගයේ වර්ගාන්ත නාසික්‍ය ශබ්දයෙන් අර්ධයක් එක් වීමෙන් සේ සැලකෙයි. ගාත්‍රාක්ෂර ලෝප සන්ධියේ දී සඤ්ඤකයට අදාළ පදාන්ත ඝෝෂ අල්පප්‍රාණය හා එයට එක් වූ ස්වරය ද ලොප් වීමත් එහි වූ නාසික්‍ය අර්ධය පූර්ණ නාසික්‍යය බවට පත් වීමත් සිදු වේ.

කොළොඹ + තොට

කොළො + ම්+ බ් + අ + තොට - අර්ධානුනාසික්‍ය වෙන් කිරීම

කොළො +ˆ + ~~බ්~~ + තොට - නාසික්‍ය ශබ්දය හා බැඳුණු ඝෝෂ අල්පප්‍රාණ ශබ්දය හා ස්වරය ලොප් කිරීම
↓
ම් - නාසික්‍යය ඉතිරි වෙයි

කොළොම් + තොට - පද එක් කිරීම

කොළොම්තොට - සන්ධි පදය

'ම්' වෙනුවට අනුස්වාරය ද යෙදිය හැකි ය. 'කොළොංතොට' යනුවෙනි.

ගඟ + තෙර - ගංතෙර
මිහිඳු + තලා - මිහින්තලා
ළිඳ + පඩිය - ළිංපඩිය
මඟ + මුළා - මංමුළා
කළඳ + දෙක - කළංදෙක

6.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. ගඟ + පොළ
ii. වඟු + මුතු
iii. සඟ + මිත්
iv. මුඟු + ඇට
v. අඹ + මල්

6.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. වළංදෙක
ii. දංගස
iii. තම්පලා
ii. නෙලුම්මල්
iv. ගංදිය



## 7. ආගම සන්ධිය

සන්ධි වන්නා වූ ශබ්ද දෙකක් අතරට අමුතුවෙන් ම අකුරක් පැමිණ සන්ධි වේ නම් එය ආගම සන්ධිය යි.

කිරිමැටි + ආන
කිරිමැටි + ය් + ආන - පද දෙක අතරට ව්‍යඤ්ජනයක් පැමිණීම
කිරිමැටි + ය් + ආන
යා - ස්වර ව්‍යඤ්ජන සංයෝගය
කිරිමැටියාන - සන්ධි පදය

තුනු + අඟ - තුනුවඟ
දෙ + ආකාර - දෙයාකාර
සූ + අසූ - සුවාසූ
පුන + උත්පත්ති - පුනරුත්පත්ති
කටු + අල - කටුවල

- **ප්‍රකෘති - ප්‍රත්‍යය සංයෝග වීම ද මේ සන්ධි විධියෙන් සිදු වේ.**

හෙළ + ඕ - හෙළයෝ
හී + අට - හීයට
වැ + අක් - වැයක්
කවි + ආ - කවියා
වීර + එක් - වීරයෙක්

**7.1 පහත දැක්වෙන පද සන්ධි කරන්න.**

i. දෙ + උර
ii. ගෙ + උයන්
iii. දරු + ඕ
iv. කටු + අත්ත
v. නැව් + ආට

**7.2 පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. රසිකයාගේ
ii. නළුවෝ
iii. නොයෙන
iv. මියුගුණු
v. දුටුවෙක්

## 8. පූර්ව රූප සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පෙර පදයේ අග ඇති රූපය පර පදයේ මුල ඇති රූපය කරා පැමිණවීමෙන් ගළපන සන්ධිය පූර්ව රූප සන්ධිය යි.

| | |
|---|---|
| වත් + හල | |
| වත් + හල (→) | - පෙර රූපය පර රූපයට පැමිණවීම |
| වත් + තල | - පද ගැළපීම |
| වත්තල | - සන්ධි පදය |

කම් + හල - කම්මල
ඇත් + හල - ඇත්තල
විස් + කම් - විස්සම්

- **ප්‍රකෘති - ප්‍රත්‍යය සංයෝගය ද මෙම සන්ධියෙන් සිදු වේ.**

ගොන් + හු - ගොන්නු
සත් + හු - සත්තු

8.1 **පහත දැක්වෙන පද සන්ධි කර ලියන්න.**

i. සත් + හස
ii. මත් + හල
iii. සිත් + වරු
iv. ගෙත් + කම්
v. ඇත් + හු

8.2 **පහත දැක්වෙන පද විසන්ධි කරන්න.**

i. යක්කල
ii. විස්සම්
iii. සිත්තම්
iv. අස්සල
v. බළල්ලු

## 9. පර රූප සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පර පදයේ මුල අකුර පෙර පදයේ අග අකුර කරා පැමිණවීමෙන් සිදු වන සන්ධිය පර රූප සන්ධිය යි.

| | |
|---|---|
| දුක් + පත් | |
| දුක් + පත් (←) | - පර රූපය පෙර රූපයට පැමිණ වීම |
| දුප් + පත් | - පද ගැළපීම |
| දුප්පත් | - සන්ධි පදය |

කොක් + ගල - කොග්ගල
සත් + දිනක් - සද්දිනක්
ඇත් + දෙමට - ඇද්දෙමට
වප් + කඩ - වක්කඩ
අත් + ගලා - අග්ගලා

9.1 **පහත සඳහන් පද සන්ධි කරන්න.**

i. කන් + මුල
ii. රුක් + පා
iii. අත් + සන
iv. ළිප් + ගල
v. සත් + දහය

9.2 **පහත සඳහන් පද විසන්ධි කරන්න.**

i. ලග්ගල
ii. දුග්ගන්නා
iii. අල්ලස්
iv. ගොක්කොළ
v. ඇද්දළ



## 10. ද්විත්ව රූප සන්ධිය

පෙර පදයේ අග ඇති හල් අකුර දෙකක් බවට පත් කිරීමෙන් පසු පර පදයේ මුල ඇති ස්වරය සමග එක් කිරීමෙන් ගළපන සන්ධිය ද්විත්ව රූප සන්ධිය යි.

පොත් + අල්මාරිය
පොත් + ත් + අල්මාරිය - හල් අකුර ද්විත්ව කිරීම
පොත් + ත් + අල්මාරිය
ත - ස්වරය සමග එක් කිරීම
පොත්තල්මාරිය - සන්ධි පදය

වල් + ඌරා - වල්ලූරා
මල් + අත්ත - මල්ලත්ත
සල් + උයන - සල්ලුයන

- **ප්‍රකෘති - ප්‍රත්‍යය එක් වීම ද මේ සන්ධි විධියෙන් සිදු වේ.**
  උගත් + ඕ - උගත්තෝ
  දුන් + එමි - දුන්නෙමි

පෙර පදයේ අග අකුර ස්වරයක් නම් ඒ ස්වරය ලොප් කිරීමෙන් පසු ඉතිරි වන හල් අකුර ද්විත්ව කිරීමෙන් ද මේ සන්ධිය සිදු වේ.

ඉනි + අල
ඉන් + ඉ + අල - ස්වරය වෙන් කිරීම
ඉන් + ඉ + අල - ස්වරය ලොප් කිරීම
ඉන් + න් + අල - ව්‍යඤ්ජන ද්විත්වය
ඉන් + න් +අල
න - ස්වරය සමග එක් කිරීම
ඉන් + නල - පද ගැළපීම
ඉන්නල - සන්ධි පදය

- **ප්‍රකෘති - ප්‍රත්‍යය ගැන්වීම මේ ක්‍රමයෙන් ද සිදු වේ.**
  වැදි + ආ - වැද්දා සුදුසු + අන් - සුදුස්සන්

10.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. කෙකි + අ
ii. රුක් + අත්තන
iii. පත් + ඉරු
iv. මලු + අ
v. සිගිති + එක්
vi. මල් + උයන
vii. ඇඟිලි + එන්
viii. සුදුසු + ඕ

10.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. තැග්ග
ii. කෙක්කෙන්
iii. ගොක්කත්ත
iv. වැල්ලම්පිටිය
v. මුත්තා
vi. හත්තඩිය
vii. අතිත්තෙක
viii. අත්තට

**මෙම සිංහල සන්ධිවලට අමතරව සංස්කෘත භාෂාවෙන් පැමිණි සන්ධි පද නූතන භාවිතය තුළ දක්නට ලැබේ.**

එම සන්ධි පද ද ස්වර හා ව්‍යඤ්ජන අක්ෂර මුල්ව සිදු වනු දක්නට ලැබේ.

★ **පූර්ව ස්වර ලොප් වීමෙන්**

මරණ + ආසන්න - මරණාසන්න
ප්‍රථම + ආධාර - ප්‍රථමාධාර
උක්ත + ආඛ්‍යාත - උක්තාඛ්‍යාත
වන + ඖෂධ - වනෞෂධ

★ **පර ස්වරය ලොප් වීමෙන්**

සදා + අනුස්මරණීය - සදානුස්මරණීය
කලා + අංශය - කලාංශය
විද්‍යා + අනුකූල - විද්‍යානුකූල

★ **ස්වරාදේශ විධියෙන්**

අමාත්‍ය + අංශය - අමාත්‍යාංශය
සමාන + අර්ථ - සමානාර්ථ

ගුණ + අගුණ - ගුණාගුණ
බුද්ධි + ඉන්ද්‍රිය - බුද්ධීන්ද්‍රිය
ක්‍රිස්තු + උත්පත්තිය - ක්‍රිස්තූත්පත්තිය
පංච + ඉන්ද්‍රිය - පංචේන්ද්‍රිය
ජාතික + උත්සවය - ජාතිකෝත්සවය
පූජා + උපහාර - පූජෝපහාර

★ **පවත්නා ස්වරයක් වෙනුවට ව්‍යඤ්ජනයක් ආදේශ වීමෙන්,**

**'ඉ' වෙනුවට 'ය්' ආදේශය**

අති + අවශ්‍ය - අත්‍යවශ්‍ය
අති + අලංකාර - අත්‍යලංකාර
ප්‍රීති + උත්සවය - ප්‍රීත්‍යුත්සවය
ජාති + ආලය - ජාත්‍යාලය

**'උ' වෙනුවට 'ව්' ආදේශය**

බහු + අර්ථ - බහ්වර්ථ
හේතු + අර්ථ - හේත්වර්ථ

11.1 **පහත දී ඇති පද සන්ධි කරන්න.**

i. ජන + ආදරය
ii. භාෂා + අනුරාගය
iii. කවි + ඉන්ද්‍ර
iv. ශ්‍රවණ + ඉන්ද්‍රිය
v. පූජා + උත්සව
vi. පිතෘ + අර්ථ
vii. පරම + ආයුෂ
viii. විශේෂ + අංග
ix. ගුරු + උපදේශ
x. වීර + උදාර
xi. අනු + ඊක්ෂ
xii. අති + උදාර

11.2 **පහත දී ඇති පද විසන්ධි කරන්න.**

i. අභ්‍යවකාශ
ii. ජාත්‍යන්ධ
iii. පර්යේෂණ
iv. අරුණෝදය
v. මහෞෂධ
vi. දයානුකම්පාව
vii. සන්ධ්‍යක්ෂර
viii. ගුර්වක්ෂර
ix. අධ්‍යක්ෂ
x. සකලෛශ්වර්ය
xi. අතීන්ද්‍රිය
xi. යථාර්ථය

## අවබෝධය

1. **පහත දී ඇති සන්ධි පද සෑදී ඇති අන්දම අනුව කුමන සන්ධි වර්ගයකට අයත් දැයි ලියා දක්වන්න.**

i. නාටෝ්‍යචිත
ii. පර්යේෂණ
iii. පොඩියෙකාගෙ
iv. ගිනියම්
v. යන්නෙපා
vi. බතල
vii. රුප්පා
viii. යතිතුමා
ix. ගුරුළිඳු
x. රසිකයා

2. වැරදි ලෙස සන්ධි කොට ඇති පදයක් ඇතුළත් පද පේළිය තෝරා ලියන්න.

i. වත්තල, උනුන්, රතුපුල්
ii. පංචාංගය, ක්‍රිස්තෝත්පත්තිය, කම්මුල
iii. අරුණෝදය, මෑත, නෝබින
iv. පුනරාවර්ජනය, ලෝකෝත්තර, හබරල

3. දී ඇති පද දෙක ම නිවැරදිව විසන්ධි කර ඇති පද පේළිය තෝරා ලියන්න.

i. විද්‍යායතනය, සමාන්තර - විද්‍යා+යතනය, සම+අන්තර
ii. සීමාසන්න, ස්වර්ණාභරණ - සීමා+ආසන්න, ස්වර්ණ+ආභරණ
iii. යනෙන, අතිශයෝක්ති - යන+එන, අතිශය+ඕක්ති
iv. සුළැඟිල්ල, ප්‍රස්තාවෝචිත - සුළු+ඇඟිල්ල, ප්‍රස්තාව+ ඕචිත

4. සන්ධි නො වූ පදයක් ඇති පද පේළිය තෝරා ලියන්න.

i. ඔවුනොවුන්, සුරගන, පරමාර්ථ, ග්‍රාමෝදය
ii. සහෝදර, පොත්පත්, වක්කඩ, ඉන්නල
iii. ධර්මෝදය, ශාලාධිපති, අනිත්තෙක, ජනාධිපතිතුමා
iv. කොළුවා, මලසුන, කරන්නෑ, ගනඳුර

5. මුලින් දී ඇති සන්ධි විධියට අයත් නො වන පදයක් ඇතුළත් පද පේළිය තෝරන්න.

i. ආදේශ සන්ධි - සමානාර්ථ, අමාත්‍යාංශය, දඩයම්, මුනීන්ද්‍ර
ii. ලෝප සන්ධි - මුනුපුරා, තරිඳු, නෙලුම්මල්, නළඟන
iii. ආගම සන්ධි - මහියංගණ, තොටියෝ, නිරවුල්, හේතුවක්
iv. ආරෝහණ සන්ධි - දවසෙන්, ඉනික්බිති, ඇතැමුන්, දැනුමැති

6. ස්වරාදේශ සන්ධි විධියෙන් වන පද පමණක් ඇති පද පේළිය තෝරා ලියන්න.

i. ගුරූපදේශ, ජාතිකානුරාගය, එන්නෑ, අලුද්දෙයක්
ii. ශ්‍රවණාගාරය, කාලෝචිත, වනෞෂධ, දෑත
iii. දෙවුර, සෝපහාස, ස්වෝත්සාහ, හද්දවස
iv. වීරෝදාර, මුලසුන, නොයෙක්, අරුණෝදය

7. පෙළ පොතෙහි ඔබ මෙතෙක් උගත් පාඩම් ඇසුරෙන් හමු වූ සන්ධි පද දහයක් උපුටා පහත වගුව සම්පූර්ණ කරන්න.

| සන්ධි පදය | විසන්ධි කළ පසු | සන්ධි වර්ගය |
|---|---|---|
| | | |

# 20 ශ්‍රී ලංකාවේ පැරණි නිවාස

**ලංකාවේ ප්‍රාග් බෞද්ධ යුගයේ සිට මේ දක්වා විකාසනය වූ ගොඩනැගිලි ඉදි කිරීමේ ශිල්පයක් හඳුනා ගත හැකි ය. එයින් පැරණි නිවාස ඉදිකිරීම් හා සම්බන්ධ තොරතුරු සමුදායක් මේ පාඩමෙන් ඉදිරිපත් කෙරෙයි. මෙය මහාචාර්ය රාජ් සෝමදේව විසින් ලියන ලද ලිපියකින් උපුටා ගන්නා ලද්දකි.**

නිවාස ඉදි කිරීම සහ ඒවායේ ජීවත් වීම ශිෂ්ටාචාරික ලක්ෂණයකි. දඩයම් කිරීම සහ තැන තැන ඇවිද යමින් ආහාර එකතු කිරීම සිය ජීවනෝපාය කර ගත් ප්‍රාග් ඓතිහාසික යුගයේ මිනිස්සු පසු කාලයක සිය සංචාරක ජීවිතයෙන් මිදී එක් තැනක දීර්ඝ කාලයක් ජීවත් වීමේ පුරුද්දට නැඹුරු වූහ. එය හඳුන්වන්නේ 'ස්ථිරවාසීතාව' යනුවෙනි. කිසියම් ජන කොටසක් ස්ථිරවාසීතාවට පත්වූ බව පෙන්නුම් කරන ප්‍රධානතම දර්ශකය ස්ථිර නිවාස තනා ගැනීම යි.

නිවාස තැනීම පිළිබඳ දීර්ඝ ඉතිහාසයක් ශ්‍රී ලංකාව සතු ය. එම ඉතිහාසය පිළිබිඹු කරන සාක්ෂි සොයා ගෙන තිබෙන්නේ පුරාවිද්‍යාත්මක කැණීම් මගිනි. දැනට අනාවරණය වී ඇති තොරතුරුවලට අනුව ක්‍රිස්තු පූර්ව 1750 වන විට ශ්‍රී ලංකාවේ කඳුකර පළාත්වල ජීවත් වූ ජනතාව නිවාස තනා ගැනීමේ සමත්කම් දැක්වූ බව තහවුරු වී තිබේ. ඒ කාලයට අයත් පැරණි නිවාසයක ගෙබිමක් සොයා ගැනීමට 2011 වසරේ දී පුරාවිද්‍යාඥයෝ සමත් වූහ. එය පිහිටා තිබෙන්නේ බදුල්ල දිස්ත්‍රික්කයට අයත් හල්දුම්මුල්ලේ පිහිටි 'කොස්වත්ත' නමින් හැඳින්වෙන පෞද්ගලික තේ වත්තක ය.



හල්දුම්මුල්ලේ නිවසෙහි අත්තිවාරම.

මෙම නිවාසය සොයා ගැනීමට වසරකට පෙර තවත් පැරණි නිවාසයක ගෙබිමක් කැණීමකින් අනාවරණය විය. එය පිහිටා තිබෙන්නේ රත්නපුර දිස්ත්‍රික්කයට අයත් කුඩා ගම්මානයක් වූ උඩරංචාමඩමේ ය. පවුල් දහයක් පමණ ජීවත් වන මෙම ගම්මානය තිබෙන්නේ කඳු ගැටයකට අයත් සානුවක ය. එම නිවාසය ක්‍රිස්තු වර්ෂාරම්භයට සියවස් දොළහකට පමණ පෙර ඉදි කරන ලදැයි සැලකිය හැකි ය.

වඩා පැරණි කාලයකට අයත් හල්දුම්මුල්ලේ නිවාසය වෘත්තාකාර හැඩයෙන් යුත් ගෙබිමක් සහිත වූවකි. එහි විෂ්කම්භය මීටර් 2.20කි. කැණීම්වලින් එය මතු කරන අවස්ථාවේ ගෙබිම සකස් කිරීමට යොදා ගන්නා ලද ගල්කැබලිති ඇතුරුමට අයත් කොටස් එහි ඉතිරි වී තිබිණි. එහෙත් එම නිවාසයේ ඉතිරි කොටස්වලට අයත් කිසිදු දෙයක් එහි නො තිබීමෙන් පැහැදිලි වන්නේ ඒවා දිරාපත් ව විනාශ වී ඇති බව ය. නිසැකයෙන් ම එහි බිත්ති වරිච්චි මැටිටෙන් තනා තිබෙන්නට ඇත.

අපේ රටේ ගම්බද පළාත්වල තව මත් වරිච්චි මැටියෙන් සෑදූ බිත්ති සහිත ගෙවල් දකින්නට තිබේ. පහසුවෙන් සොයා ගත හැකි වීමත් ස්වභාවධර්මයට වඩාත් ගැළපීමත් යන කරුණු නිසා අපේ ආදි මුතුන්මිත්තෝ සිය නිවාස තැනීමට වරිච්චි මැටි භාවිත කළහ. මෙම නිවාසයේ වහල කිසි යම් කොළ අතු වර්ගයක් භාවිත කර දැව දඬුවලින් තනා තිබෙන්නට ඇතැයි ද ඒවා පහසුවෙන් දිරා යන සුලු ද්‍රව්‍ය නිසා අතුරුදන්ව ගොස් ඇතැයි ද සිතිය හැකි ය. ඉලුක්, මානා, පිදුරු සහ පොල් අතු ආදියෙන් වහල සෙවිලි කිරීම අපේ රටේ මෑතක් වන තුරු ප්‍රචලිතව පැවතිණි. ගම්බද පළාත්වල දැනුදු ඒ ක්‍රමය භාවිත වේ.

ගෙබිමේ ඇතුළත තිබී පැරණි වළං කැබැලිති, යකඩ උපකරණයකට අයත් කොටස් සහ මැටියෙන් සාදා පුලුස්සා ගත් පබළු කිහිපයක් ද සොයා ගත හැකි විය. සොයා ගන්නා ලද වළං කටු අතර සුදු පැහැති පසුබිමක රතු පැහැයෙන් වර්ණ ගැන්වූ වළං කැබලිති කිහිපයක් ද තිබිණි. පුළුල් ලෙස කැණීම් කටයුතු සිදු කිරීමේ දී පෞද්ගලික තේ වත්තට ඇති විය හැකි හානිය සැලකිල්ලට ගෙන නිවාසයේ සම්පූර්ණ ගෙබිම මතු කර ගැනීමේ අදහස පසුව අත්හැර දැමිණි.

උඩරංචාමඩමෙන් සොයා ගන්නා ලද්දේ ද පැරණි නිවාසයක ගෙබිමකි. එය ආයත චතුරස්‍රාකාර හැඩයකින් යුක්තව තනන ලද්දකි. එහි ගෙබිමට කළුගල් අතුරා තිබිණි. නිවාසය දිගින් මීටර් 10.20කින් ද පළලින් මීටර් 6.80කින් ද සමන්විත ය. එහි ඇතුළත අවකාශය කොටස් දෙකකට බෙදා ඇත. ඊට යොදා ගෙන තිබෙන්නේ බිත්තියකි. එම බිත්තියට අයත් අත්තිවාරම කැණීමේ දී මතු කර ගැනීමට හැකි විය. එම අත්තිවාරමේ මැද කොටසේ කණු වළවල් දෙකක් තිබිණි. ඒ එම බිත්තිය මැද වූ දැවමය උළුවස්සට අයත් කණු වළලා තිබූ තැන් ය. මෙම උළුවස්ස භාවිත කොට තිබෙන්නේ නිවාසයේ ඉදිරිපස කොටසින් පසුපස කොටසට ප්‍රවේශ වීම සඳහා ය. ඉදිරිපස කොටසේ තිබී සොයා ගන්නා ලද පුරාවස්තු අතර කාන්තාවන් ඇස් අඳුන් තැබීමට භාවිත කරන ලෝහ කූරක්, ශරීරය වර්ණ ගැන්වීමට යොදා ගත් කහ සහ රතු පැහැති ගුරුගල් කැබලි දෙකක්, මැටියෙන් සාදා පුලුස්සා ගත් පබළු කිහිපයක් සහ පිලිස්සූ මැටියෙන් තැනූ මූර්තියක් ද විය. මෙම අවශේෂවල ස්වරූපය සැලකිල්ලට ගත් විට පෙනෙන්නේ මෙම නිවසේ ඉදිරිපස කොටසේ කාන්තාවන් විසූ බව ය.




උඩරංචාමඩම නම් ගම්මානයේ තිබී කැණීම් කොට මතු කර ගත් පැරණි නිවාසයක අත්තිවාරමෙහි සිතියම්ගත සැලැස්ම.



උඩරංචාමඩම නිවසෙහි අත්තිවාරම

නිවසේ පිටුපස කොටස භාවිත කර තිබෙන්නේ මුළුතැන්ගෙයක් ලෙස ය. කැණීම්වල දී ඊට අයත් ළිප සොයා ගැනීමට පුරාවිද්‍යාඥයෝ සමත් වූහ.ළිප අවට තිබී යකඩ පිහි කැබලි කිහිපයක් සහ ගල්මෙවලම් කිහිපයක් හමු විය. මුළුතැන්ගෙයින් පිටතට ජලය ගලා යෑමට කානුවක් සකස් කර තිබිණි. මෙම නිවාසය තුළ තිබී රතු පැහැයෙන් වර්ණ ගැන්වූ ඉතාමත් විසිතුරු කුඩා මැටි බඳුනක් ද සොයා ගැනිණි. බිම් සැලැස්ම පරීක්ෂා කරන විට ඉතා පැහැදිලිව පෙනෙන්නේ මෙම නිවෙස ඉදි කර තිබෙන්නේ ඉදිරිපස කොටස දකුණු දිශාවටත් පිටුපස කොටස උතුරු දිශාවටත් වන පරිද්දෙන් බව යි.

පාදා ගන්නා ලද ගෙබිමේ අවට කැණීම් කිරීමේ දී පිලිස්සී ගිය වරිච්චි කැබලි කිහිපයක් හමු විය. නිසැකයෙන් ම ඒවා නිවාසයේ බිත්තිවලට අයත්ව තිබූ ඒවා යි. එම වරිච්චි කැබලි දැවී ගිය බවට සාක්ෂි තිබෙන හෙයින් එම  නිවාසය ගිනි ගැනීමකට ලක් වීමෙන් විනාශයට පත් වූ බව පෙනේ.

හම්බන්තොට දිස්ත්‍රික්කයට අයත් තිස්සමහාරාමයේ පිහිටි කිරින්දගොඩාන සහ වලගම්පත්තුව නමින් හැඳින්වෙන ගම්මානවල තිබී තවත් පැරණි නිවාස දෙකකට අයත් සාක්ෂි සොයා ගැනීමට පුරාවිද්‍යාඥයෝ සමත් වූහ. ඒ 2000 වසරේ දී ය. මෙම ස්ථාන දෙකෙන් ම හමු වූ නිවාස වටකුරු හැඩයේ ගෙබිම්වලින් සමන්විත ය. කිරින්දගොඩානේ නිවාසය ක්‍රිස්තු පූර්ව 240දී ඉදි කරන ලද්දක් බව අනුමාන කෙරේ. එහි ගෙබිම බොරලු දමා යහමින් තළා සකස් කර තිබිණි. එය ද වරිච්චියෙන් තැනූ නිවෙසකි.

වලගම්පත්තුවේ නිවස මෙහි විස්තර කළ අන් සියලු නිදර්ශනවලට වඩා වෙනස් ය. එහි ගෙබිම සකස් කර තිබෙන්නේ සෙන්ටිමීටර් 35ක් පමණ ගැඹුරට පොළොව සෑරීමෙනි. එහි දී සෑදෙන නො ගැඹුරු වළේ පතුලේ සහ ඉවුරුවල ගොම-මැටි ආලේප කර ගෙබිම නිමවා ගෙන තිබේ. පොළොව සාරා ගෙබිම සකස් කර ගැනීමෙන් අත් වන වාසිය නම් අදාළ නිවාසයේ වහල නුස් වීම ය. කොළ අතු සෙවිලි කළ නිවාසයක වහල උසට පිහිටීමෙන් එය සුළඟට හසු වී ගසාගෙන යෑමට තිබෙන අවකාශය මහත් ය. වලගම්පත්තුවේ නිවාසය ඉදි කර තිබෙන්නේ ක්‍රිස්තු වර්ෂයෙන් 240 දී පමණ ය.

මේ සම්ප්‍රදායට අයත් නිවාසවල ගෙබිම් කිහිපයක් දකුණු ඉන්දීය අර්ධද්වීපයේ ඉනැම්ගඹන් නමින් හැඳින්වෙන ප්‍රදේශයෙන් ද සොයා ගෙන තිබේ. මෙවැනි නිවාස හැඳින්වීම සඳහා වළ - වාසස්ථාන (Pitdwellings) යන යෙදුම භාවිත කෙරේ. වළ - වාසස්ථාන ඉදි කිරීමට මිනිසුන් පෙලඹීමට හේතුව අධික වියළි සුළං සහිත කාලගුණික තත්ත්වය යි.

ඉහතින් සඳහන් කරන ලද සෑම ඉදිකිරීමක් ම පැල්පතක ස්වරූපයෙන් එකල පිළිබිඹු වන්නට ඇත. එහෙත් ඒ සෑම අවස්ථාවක් ම පශ්චාත් කාලීනව වඩා ස්ථිරසාර ගොඩනැගිලි ඉදි කිරීමට අවශ්‍ය කරන මඟ පෙන්වී ය.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| අනාවරණය | - | සොයා දැන ගැනීම/සැඟවී තිබුණු දෙයක් දැන ගැනීම |
| ප්‍රාග් ඓතිහාසික | - | ලිඛිත ඉතිහාස වාර්තාවල දැක්වෙන අවධියට පෙර කාලය |
| වරිච්චි | - | බිත්ති බැඳීමේ දී මැටි පිඬු රඳා සිටීම පිණිස බිත්තියේ පමණට ලී කණු සිටුවා හරස් අතට රිටි බැඳ සාදන සැකිල්ල. |
| ආයත චතුස්‍රාකාර | - | සෘජුකෝණාස්‍රාකාර/දික් හතරැස් |
| ගුරුගල් | - | පොළොවේ ස්වභාවිකව පවතින ඉතා සියුම් අංශුවලින් සැදුණු වර්ණවත් ගල් විශේෂයක් |

## අවබෝධය

1. 'ස්ථිරවාසීතාව' යනුවෙන් හඳුන්වන්නේ කුමක් ද?
2. වැළලී ගිය අතීත තොරතුරු සොයා ගැනීම සඳහා අනුගමනය කරනු ලබන ක්‍රමවේදයක් ලියන්න.
3. ආදි මුතුන්මිත්තන් නිවාස තැනීමට වරිච්චි මැටි භාවිත කිරීමට හේතු වූ කරුණු 2ක් සඳහන් කරන්න.
4. පැරණි නිවෙසක පිටුපස කොටසෙහි මුළුතැන්ගෙයක් තිබුණු බවට සාධක මොනවා ද?
5. උළුවස්ස යොදා තිබුණේ ඇයි? එය සවි කර තිබුණේ කෙසේ ද?
6. 'වළ වාසස්ථාන' ලෙස හැඳින්වූ නිවාසවල සුවිශේෂත්වය කුමක් ද? එවැනි නිවාස සෑදීමට මිනිසුන් පෙලඹීමට හේතු මොනවා ද?
7. කැණීම් කරන ලද නිවෙසෙහි වහල පිළිබඳ තොරතුරු අතුරුදන්ව ඇත්තේ ඇයි?

## ලිඛිත අභ්‍යාස

1. **පහත දැක්වෙන පද යෝග්‍ය පරිදි විසන්ධි කර ලියන්න.**
   i. ජීවනෝපාය    ii. වෘත්තාකාර    iii. චතුරස්‍රාකාර
2. **මෙහි දැක්වෙන පද අයත් වන ක්‍රියා පද වර්ග ලියන්න.**
   i. යමින් ..............................    iv. වූහ ....................................
   ii. තනා ..............................    v. කළහ ....................................
   iii. තිබී ................................    vi. හසු වී ....................................
3. **පහත සඳහන් වචනවල අනුක්ත රූප ලියන්න.**
   i. පුරාවිද්‍යාඥයෝ ..............................
   ii. මිනිස්සු ..............................
   iii. කාන්තාවෝ ..............................

4. **පහත සඳහන් වාක්‍ය කියවන්න. අදහස හැකි තාක් කෙටියෙන් එක් වාක්‍යයකින් දක්වන්න.**

නිවාස තැනීම පිළිබඳ දීර්ඝ ඉතිහාසයක් ශ්‍රී ලංකාව සතු ය. එම ඉතිහාසය පිළිබිඹු කරන සාක්ෂි සොයා ගෙන තිබෙන්නේ පුරාවිද්‍යාත්මක කැණීම් මගිනි.

වලගම්පත්තුවේ නිවස මෙහි විස්තර කළ අන් සියලු නිදර්ශනවලට වඩා වෙනස් ය. එහි ගෙබිම සකස් කර තිබෙන්නේ සෙන්ටිමීටර් 35ක් පමණ ගැඹුරට පොළොව සෑරීමෙනි.

කුඩා ගම්මානයක් වූ උඩරංචාමඩමෙන් ද පැරණි නිවෙසක ගෙබිමක් සොයා ගන්නා ලදි. එය ආයත චතුරස්‍රාකාර හැඩයෙන් යුක්තව තනන ලද්දකි. ගෙබිම ගල් අතුරා තිබිණි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **ඔබ ප්‍රදේශයේ නිවාස තැනීම සඳහා භාවිත කෙරෙන අමුද්‍රව්‍ය වර්ග 10ක් වැඩිහිටියන්ගෙන් අසා ලේඛනයක් පිළියෙල කරන්න.**
2. **අතීතයේ සිට වර්තමානය දක්වා නිවාස තැනීම සඳහා භාවිත කෙරුණු තාක්ෂණය පිළිබඳ බිත්ති පුවත්පතට ලිපියක් සකස් කරන්න.**

## අව්‍යය පද

වෙනස් නො වන එනම් වර නො නැඟෙන පද අව්‍යය පද ලෙස හැඳින්වෙයි. සිංහල භාෂාවේ අව්‍යය පද දෙවර්ගයකි.

අව්‍යය පද

නිපාත | උපසර්ග

නිපාත යනු නාම පද හා ක්‍රියා පද අතර සම්බන්ධතාව ගොඩ නැඟීම සඳහා ඉවහල් වන පද විශේෂයකි. කාලය හැඟවීමට, ප්‍රශ්නාර්ථය දැනවීමට, නිෂේධාර්ථය දැනවීමට සමාන අර්ථය හැඟවීමට, කාලාර්ථය හැඟවීමට, සීමාව දැක්වීමට ආදි විවිධ අරුත් දැනවීමට නිපාත භාවිත කෙරේ. ඒවා වාක්‍යයක මුල, මැද හෝ අග හෝ යෙදිය හැකි ය.

උදාහරණ:- **ඉක්බිති** ඔහු **මෙන් ම** අම්මා **ද** පාසලට ගියා **ය**.
**ඊයේ** විහඟි **සහ** යෙසඳි සෙල්ලම් කළා **ද?**

නිපාත ලේඛනයක් පහත දැක්වේ.

| | | | |
|---|---|---|---|
| අතර | කෙරෙහි | පරිදි | වඩා |
| අන්න | කොල | පසු | වත් |
| අනුව | ගානේ | පවා | වන් |
| අනේ | ගැන | පාහේ | වනාහි |
| අපොයි | තකා | පාසා | වශයෙන් |
| අරබයා | තවා | පැසුළු | වස් |
| අහා | තව | පිණිස | වහා |
| අහෝ | තවත් | පිළිබඳ | වැනි |
| ඇත | තාක් | පුන | වැළි |
| ඇති | තුරු | පුරා | විට |
| ඇතුළත් | තෙක් | පෙර | විනා |
| ඇතුළු | ද | බඳු | විරූ |
| ඇයි | ද (?) | බැගින් | විසින් |
| ඉක්බිති | දක්වා | බැහැ/බෑ | වූකලී |
| ඉතා | දී | ම | වෙත |
| ඉතින් | දු | මන්ද | සඳහා |
| ඉඳින් | දෝ | මැනවි | සමග |
| ඉඳුරා | නම් | මිස | සහ |
| ඉහත | නමුත් | මුත් | සහසා |
| ඉහි | නමුදු | මෙන් | සා |
| උදෙසා | නැත | මෙන්න | සිට |
| එක්කෝ | නැවත | ය | සෙද |
| එපා | නැවතත් | යත් | සේ |
| එම්බල | නැහැ/නෑ | යන | සේක |
| එම්බා | නිතර | යනු | හතික |
| එව් | නිති | යනුවෙන් | හරි |
| එහෙත් | නිසා | යළි | හා |
| ඔන්න | නේ/නෙ | යි | හුදු |
| ඔව් | නො | ල | හෙයින් |
| ඔස්සේ | නොහොත් | ලු | හෙවත් |
| කරා | පටන් | ලවා | හොත් |
| කැටුව | පතා | ලා | හෝ |
| කැලම | පමණ | ලෙස | |
| කෙරෙන් | පමණක් | වගේ/වාගේ | |

අව්‍යය පද ගණයෙහි ලා සැලකෙන අනෙකුත් පද වර්ගය උපසර්ග යි. මේවා නිපාත පද මෙන් තනිව නො යෙදෙන අතර ප්‍රකෘතියක මුලට යෙදී අර්ථය වෙනස් කරයි.

ප්‍රබල - ඉතා බලවත් අබල - බලය නැති
සුදන - යහපත් තැනැත්තා දුදන - අයහපත් තැනැත්තා

ඇතැම් අවස්ථාවල උපසර්ගයක් යෙදුණ ද පදයේ අර්ථයේ වෙනසක් සිදු නො වන අවස්ථා ද දැකිය හැකි ය.

විරහිත විරචිත

සිංහලයේ භාවිත කෙරෙන උපසර්ග ලේඛනයක් පහත දැක්වේ. සංස්කෘත භාෂාවෙන් සිංහලයට පැමිණි උපසර්ග ද එහි දැක්වෙයි.

| **සංස්කෘත** | |
|---|---|
| අති | දුර් |
| අධි | නි |
| අනු | නිර් |
| අප | ප්‍ර |
| අපි | ප්‍රති |
| අභි | පරා |
| අව | පරි |
| ආ | වි |
| උත් | සම් |
| උප | සු |

| **සිංහල** | |
|---|---|
| අ | නි |
| අති | ප |
| අදි | පර |
| අනු | පි |
| අප | පිරි |
| අබි | පිළි |
| අව | වි |
| උ | ස |
| උප | සු |
| දු | |

## ලිඛිත අභ්‍යාස

1. **උපසර්ග සහ නිපාත පද වෙන් කොට දක්වන්න.**

   i. වන මැද වැඩුණු සුවිසල් ගස්, ගැමියන්ට නිර්ලෝභීව මල් ඵල පිරිනමයි.
   ii. ඔහු වහා ම ක්‍රියාත්මක වූ බැවින් ප්‍රතිවාදියාගේ ප්‍රයත්නය අසාර්ථක විය.
   iii. මොහොතක නිහඬතාවට පසු ලෙනේ ඈත අන්තයෙන් ප්‍රතිචාරයක් ලැබිණි.
   iv. යාත්‍රිකයා උපද්‍රවවලින් විනිර්මුක්තව ගොඩබිමට ළඟා විය.
   v. සුන්දර යුවතිය විරල රෝගයෙන් අසාධ්‍යව මිලාන වූ කුසුමක් මෙන් දිස් විය.

2. **ඔබ කැමති පොතක් හෝ පුවත්පතක් තෝරා ගෙන එයින් උපසර්ග යෙදුණු වචන 10ක් සහ නිපාත 10ක් සොයා ලියන්න.**

21

# මිණි ගණ සඳෙස් වැනුමෙන්

යම් කිසි සත්ත්වයකු හෝ වස්තුවක් හෝ දූත කාර්යයෙහි යොදවා ගෙන පණිවිඩයක් යවන සේ වර්ණනාත්මකව රචිත කාව්‍ය විශේෂය 'සන්දේශ කාව්‍යය' ලෙස හැඳින්වේ. දැනට හමු වී ඇති පැරණි ම සිංහල සන්දේශ කාව්‍යය සේ පිළිගැනෙන්නේ ගම්පොළ යුගයේ රචිත මයූර සන්දේශය යි. එය 'කවීශ්වර' නම් අයකු විසින් රචනා කරන ලද්දකි. තිසර සන්දේශය ඊට පසු රචනා කොට ඇත. කෝට්ටේ යුගයේ රචිත සන්දේශ කාව්‍ය පහකි. තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන්ගේ පරෙවි හා සැළලිහිණි සන්දේශ, ඉරුගල්කුලතිලකයන්ගේ කෝකිල සන්දේශය, කතුවරයකු සඳහන් නො වන ගිරා සන්දේශය, වීදාගම හිමියන්ගේ හංස සන්දේශය එම යුගයට අයත් ය. සීතාවක යුගයේ දී අලගියවන්න මුකවෙටි පඬිතුමා විසින් රචනා කරන ලද සැවුල් සන්දේශය ද සම්භාව්‍ය සිංහල සන්දේශ කාව්‍ය අතර වේ.

සන්දේශ කාව්‍යවල විවිධ වර්ණනා ඇතුළත් වේ. ඒවා සාමාන්‍යයෙන් සන්දේශය රැගෙන දූතයා ගමන් කරන මාර්ගයෙහි ඇසූ දුටු දේ පිළිබඳව සිදු කෙරෙන වර්ණනා ය. එක් එක් කවියාගේ ප්‍රතිභා ශක්තිය අනුව එම වර්ණනා විවිධ වේ. ඒ ඒ වර්ණනා ඇසුරෙන් ඉස්මතු කෙරෙන අත්දැකීම් ද බොහෝ ය.

මෙම පාඩම සඳහා මයූර, පරෙවි, හංස, සැළලිහිණි යන සන්දේශ කාව්‍යවල සැඳෑ වැනුම්වලින් තෝරාගත් පද්‍ය කීපයක් අන්තර්ගත ය. එක ම සිදුවීම විවිධ අත්දැකීම් ඔස්සේ වර්ණනා කර ඇති අයුරු සිත් ගන්නා සුලු ය.



## මයූර සන්දේශයේ සැඳෑ වැනුම්

මයූර සන්දේශය, ගම්පොළ යුගයේ දී පස්වන බුවනෙකබා රජු සමයේ රචනා වූවකි. එහි කතුවරයා ගුරුළුගෝමී පඬිවරයාගේ මුනුපුරකු වූ කවීශ්වර නමැත්තකු ලෙස සැලකේ. පද්‍ය 164කින් සමන්විත මේ සන්දේශය ගඟසිරිපුර (ගම්පොළ) සිට දෙවිනුවර උපුල්වන් දේවාලය දක්වා රැගෙන ගොස් ඇත. පස් වන බුවනෙකබා රජු හා රජ පවුල ද මහා සංඝයා වහන්සේ ද යුද සේනාව ද ජනනායකයන් ද වෙනත් නායකයන් ද යන සියලු දෙනාගේ ආරක්ෂාව හා සැපත සලසා දිගාසිරි ලබා දෙන ලෙස දෙවිනුවර උත්පලවර්ණ දිව්‍යරාජයාට ආයාචනය කිරීම මෙහි අරමුණ වී ඇත. කතරගම දෙවියන් සිය ශරීරයෙන් උසුලමින් සිටින නිසා මොනරා යහපත් කුලයකට අයත් බවත් උසස් පුද්ගලයන්ට උපකාර කිරීමට හුරු පුරුදු අයකු ලෙසත් පවසන කවියා තම දූතයා ලෙස මයූරා හෙවත් මොනරා තෝරා ගෙන ඇත. මයූර සන්දේශයේ සන්ධ්‍යා වර්ණනයේ එන 97 හා 100 පද්‍ය මෙහි ඇතුළත් ය.

දවස පුරා දිව වහළෙ’වි උදය වරා
අවර ඔරා පත් වර තරඟ’තින් දරා
සරත දුරා කැරැ නහවනුව සමුදුරා
සහසකරා කර ඇදි වැන්නැ තම කරා

කුඹුයොන් සයුරු බොත එහි මිණි සේ අනත
නුබ කැට තෙලෙහි දිසි මෙන් තුරු පහන් වත
සැඳෑ සඳුට සදමින් මග නිසා කත
ඉසි වැනි නිමල් මලිගිය මල් සිය දිමුත

**අර්ථය-**

“දවස පුරා වෙහෙසුණු සූර්යයා බටහිර අහසට පිවිසුණු විට, සමුද්‍රය තම තරංග නමැති අතින් උසුලා ගෙන සූර්යයාගේ වෙහෙස දුරු කර දිය නාවනු සඳහා රශ්මිය නමැති අතින් තමන් කරා ඇද ගත්තා වැනි ය.

අගස්ති ඍෂිවරයා සාගරයේ ජලය තම අත්ලට ගෙන පානය කරන විට පත්ලෙහි තිබූ බොහෝ මැණික්වල ඡායාව ආකාශය නමැති කැටපතෙහි දර්ශනය වූවාක් මෙන් ද රාත්‍රිය නමැති කාන්තාව සන්ධ්‍යාවේ පායා එන චන්ද්‍රයාට මාර්ගය සරසමින් දීප්තිමත් මල් සමූහයක් විසුරුවා හැරියාක් මෙන් ද තාරකා සමූහය බබළයි.”

සන්ධ්‍යාවේ ඉර බැස යන ආකාරයත් සඳ හා තරු පායා ඒමත් කවියා මෙම පද්‍යවලින් වර්ණනා කරයි. පැරණි හින්දු දේව කතාවන්ට අනුව සමුද්‍රය සූර්යයාගේ ඥාතියෙකි. එනිසා සූර්යයාගේ වෙහෙස දුරු කර ඔහු නැවීම සඳහා ඔහුගේ රශ්මිය නමැති අතින් තමා වෙත ඇද ගන්නාක් ලෙස කවියා ඉර බැස යෑම තම කවි ඇසින් දකී. හිරු බැස යෑමත් සමග සඳ පෑයීමත් තරු පායා ඒමත් ස්වාභාවික සිදුවීමකි. කවියා එය අපූර්ව කාව්‍ය සංකල්පනයකට නඟා ඇත. සංස්කෘත දේව පුරාණයේ එන පුරාවෘත්තයක් කවියා මෙහි දී උපකාර කර ගනී, එනම්: අගස්ති ඍෂිවරයා දිනක් කෝපයට පත්ව සමුද්‍රයේ ජලය තම අත්ලට ගෙන පානය කළේ ය. එවිට සාගර පත්ලේ තිබූ මැණික්වල ඡායාව අහස නම් වූ කැටපතෙහි දර්ශනය විය. ඒ අහසේ තාරකා සමූහය යි. එම තාරකා කවියා තවත් අයුරකින් දකී. එනම් රාත්‍රිය නමැති කාන්තාව චන්ද්‍රයා එන මාර්ගයෙහි සමන් මල් ඇතුරුවාක් මෙනි. අහසේ තරු දර්ශනය වීම දෙයාකාරයකින් දැකීම දෙවන පද්‍යයේ විශේෂත්වය යි.



## පරෙවි සන්දේශයේ සැඳෑ වැනුම්

පරෙවි සන්දේශය කෝට්ටේ යුගයේ දී ෂඩ්භාෂාපරමේශ්වර තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන් විසින් රචනා කරන ලද සන්දේශ කාව්‍යයකි. සිංහල සාහිත්‍යයේ ස්වර්ණමය අවධිය ලෙස සැලකෙන කෝට්ටේ යුගය දේශපාලන, ආර්ථික හා සංස්කෘතික වශයෙන් ද උසස් තැනක් ගත් කාල පරිච්ඡේදයක් ලෙස සැලකේ. මෙකල රාහුල හිමියන් රචනා කළ සිංහල කාව්‍යයන් නිසා මේ යුගයේ සාහිත්‍යය අතිශයින් පොහොසත් විය. තුරුණු වියේ දී ම

එතුමා විසින් පරෙවි සන්දේශය ලියනු ලැබුවේ සවැනි පැරකුම්බා රජතුමාගේ වැඩිමහල් දියණියන් වූ චන්ද්‍රවතී කුමාරියට සමාන වංශික සැමියකු ද අනාගත රාජ්‍ය පාලනයට සුදුසු පුත් කුමරකු ද ලබා දෙන ලෙසත් යුවරජු ඇතුළු රට රැක දෙන ලෙසත් ඉල්ලා දෙව්නුවර උපුල්වන් දෙවියන් යදිනු සඳහා ය. මෙම සන්දේශයේ ගමන් මග වූයේ ජයවර්ධන පුරයේ සිට දෙව්නුවර උපුල්වන් දේවාලය දක්වා ගමන් මාර්ගය යි. එය පද්‍ය 208කින් සමන්විත ය. 'කලරැව් සඳෙස' ලෙස කවියා හැඳින්වුව ද එය වඩා ජනප්‍රිය වූයේ 'පරෙවි සන්දේශ' නමිනි. කලරැව් යනු, පරෙවියාට සිංහලයෙහි යෙදෙන පර්යාය නාමයකි. මෙම පාඩමට ඇතුළත් වන්නේ එහි සන්ධ්‍යා වර්ණනයෙහි එන 137 හා 139 යන පද්‍යයන් ය.

නුබ සා මඬුලු සඳ වෙල ළපලු පැහැපත
උදය'ග රුක සඳ මල් කැනක සිරි ගත
තර පතරින් සඳ'දර තර පහර දෙත
දිවගත එව් බියෙනැ'ලළෙමිනි දස අත

හැම ගනඳුරු බොන වර නිසයුරා ගත
පහන් බැවින් පිටතට සස ලෙසින් වත
පුල් නිලුපුල් සම් වන් කතක වුවනත
කලදෝ කැට තෙලෙක දිසි වැනි පැහැ දිමුත

අර්ථය-

"අහස නමැති ශාඛා මණ්ඩල ද ප්‍රභා සම්පන්න සන්ධ්‍යා වලාකුළු නමැති ළා දලු ද සහිත උදය පර්වත නමැති ගසෙහි මල් කිනිත්තක ශෝභාව ගත්තා වූ චන්ද්‍රයා, රශ්මි සමූහයෙන් තද පහර දෙන කල්හි සැඳෑ අඳුර බියෙන් තැති ගනිමින් දස අතෙහි දිව ගියාක් මෙනි.

සඳ සියලු ඝනාන්ධකාරය බොන කල්හි සිරුර ප්‍රසන්න නිසා සස ලපයේ ආකාරයෙන් පිටතට පැමිණෙත් ම පිපුණු නිල් මානෙල් වැනි ශ්‍යාම වර්ණ ළඳකගේ මුහුණ පැහැයෙන් දීප්තිමත් රිදී දර්පණ තලයක පෙනුණාක් වැනි ය."

පළමු පද්‍යයෙන් කවියා උදය පර්වතය ගසකටත් එහි අතුපතර අහසටත්, සන්ධ්‍යා වලාකුළු ළා දලුවලටත් සඳ එම ගසෙහි මල් කිනිත්තක ශෝභාවටත් උපමා කර දක්වයි. එම සඳෙහි රශ්මිය පැතිරී යන විට ඊට බියෙන් තැති ගෙන සැඳෑ අඳුර දස අත ගලා ගියා සේ කවියා වර්ණනා කරයි.

දෙවන පද්‍යයෙන් සන්ධ්‍යා වර්ණනය දක්වන්නේ නව අර්ථ කථනයක් සහිතව ය. චන්ද්‍රයා ස්වභාවයෙන් ම පැහැපත් ය. ඔහු සියලු ගන අඳුර උරා බොන විට එය සස ලපයේ ආකාරයෙන් පිටතට දර්ශනය වේ. එය නිල්වන් කාන්තා මුහුණක් රිදී කැටපතක දර්ශනය වූවාක් වැනි ය.



## හංස සන්දේශයේ සැඳෑ වැනුම්

හංස සන්දේශය ද කෝට්ටේ යුගයට ම අයත් වූ සන්දේශ කාව්‍යයකි. මෙය සවැනි පරාක්‍රමබාහු රජ සමයෙහි ක්‍රි.ව. 1415 දී පමණ රචනා වූවක් ලෙස සැලකේ. මෙහි කතුවරයා වීදාගම මෛත්‍රේය මහා නාහිමියන් ලෙස සැලකේ. පද්‍ය 208කින් සමන්විත මෙය රචනා කිරීමේ නිමිත්ත වනුයේ කැරගල වනරතන හිමියන් ලවා සමන්, විභීෂණ, උපුල්වන් හා ස්කන්ධ කුමාර යන දෙවිවරුන්ට පිරිත් කියා පින් දී පැරකුම්බා රජතුමාට කරුණාව දක්වා සෙත සලසා දෙන ලෙස කරන ඉල්ලීමකි. ශ්‍රී ජයවර්ධන පුරයේ සිට කැරගල පද්මාවතී පිරිවෙන දක්වා ගමන්මග මෙහි වර්ණිත ය. සංස්කෘත කාව්‍ය රීතියෙන් තරමක් ඈත් වූ බෞද්ධ ලක්ෂණ පිළිබිඹු කරන නිසා මෙය බෞද්ධ දූත කාව්‍යයක් ලෙස ද සමහරු සලකති.

සිඳු තුළ නො සිට නැගි මෙන් වළබ ගිනි වැට
දිසි යළ පබළ කලඹෙව් ලෙළ තරඟ පිට
බැඳ හළ රතු ගලක් ලෙස සඳ වෙලෙන වට
පැහැදුළ රිවි මඬල සකි පෙනෙය ත-නෙතට

සුනෙර මතින් අලළන සඳ කිරි සයුර
ඉතිර වෙරළ දිව යන මෙන් රළ පතර
පැතිර උදය ගිරි සිරසින් දිලි නො හැර
මිතුර බලා ලව එන සඳ රස් වතුර

අර්ථය-

"මිතුර, වඩබා ගිනි පෙළ සමුද්‍රය තුළ නො සිට නැගුණාක් මෙන් ද නොහොත් සෙලවෙන්නා වූ දිය රැළි මත පබළු සමූහයක් මෙන් ද සැන්දෑ වළාකුළුවලින් බඳින ලද රතු ගලක් මෙන් ද, ප්‍රභාවෙන් බබළන සූර්යයා ඔබේ නෙත්වලට පෙනෙනු ඇත.

මිතුර, මහාමේරු පර්වතය මන්ථය ලෙස ගෙන කිරි සයුර කලඹන විට වෙරළ ඉතිරී පැන දුවන රළ පතර මෙන් අත් නො හැර දිලිසෙන්නා වූ උදය පර්වතයාගේ මුදුනින් එන්නා වූ සඳරැස් බලන්න."

බොහෝ සන්දේශ කවීන් වර්ණනා කළ ආකාරයට ම සූර්යයා බැස යන අයුරු හංස කවියා පළමු පද්‍යයෙන් විස්තර කරයි. මෙහි වළබ ගින්න යනු මුහුද අභ්‍යන්තරයෙහි ඇතැයි සැලකෙන ජලය ඇද ගන්නා ගින්නකි. 'මකර කට' යනුවෙන් ද එය හැඳින්වේ. බටහිර සූර්යයා අහසට නැගුණ වළබ ගිනි සමූහය මෙන් ද සන්ධ්‍යාවේ බටහිර අහසේ වලාකුළු අතර රතු පැහැති ගලක් ලෙස ද චංචල වන සාගර ජලය ඈති ආලෝකය පබළු සමූහයක් ලෙස ද කවියා දකී.

දෙවන පද්‍යයෙහි කෙරෙන්නේ කැලණි පුරවරයට සඳරැස් පතිත වූ ආකාරය යි. මෙහි දී කවියා හින්දු දේව කතාවල එන පුරාවෘත්තයක් ඇසුරු කර ගෙන ඇත. එක්තරා අවස්ථාවක

මහමෙර දමා කිරිසයුර කලඹන විට එහි නැගුණු පෙණ සහිත සුදු පැහැ ජල ධාරාවට සඳරැස් සමාන කර දක්වයි. සන්දේශකරුවන්ට සංස්කෘත කවි සමය අමතක කිරීමට නො හැකි වූ බව මෙයින් පැහැදිලි වේ.



## සැළලිහිණි සන්දේශයේ සැඳෑ වැනුම්

සැළලිහිණි සන්දේශය තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන් කෝට්ටේ යුගයේ දී රචනා කළ සන්දේශයකි. සමස්ත සිංහල සන්දේශ කාව්‍යාවලියේ ම මුදුන් මල්කඩ, සැළලිහිණි සන්දේශය ලෙස සැලකේ. මෙහි අන්තර්ගත පද්‍ය සංඛ්‍යාව 108කි. සවැනි පැරකුම්බා රජුගේ කනිටු දියණියන් වූ උලකුඩය දේවියට පින්වත් පුත් කුමරකු ලබා දෙන ලෙස ඉල්ලා කැලණියේ විභීෂණ දෙවියන් අයදිමින් සන්දේශය රචිත ය. ජයවර්ධන පුරයේ සිට කැලණි පුරවරය දක්වා ගමන් මග වර්ණිත ය. ආසිරි ගීය හැරුණු විට සියලු පද්‍ය එක් පදයක දාහතකින් හෝ මාත්‍රා දහඅටකින් යුක්ත වන සේ රචනා කර තිබීම විශේෂ ලක්ෂණයකි. මාත්‍රා දාහත හෝ දහඅට ඇතුළත කාලය වෙනස් කිරීමෙන් අවස්ථාවට යෝග්‍ය වර්ණනාත්මක භාවය ලබා ගනී. සංක්ෂිප්ත ම සන්දේශ කාව්‍යය මෙය වන අතර, රාහුල හිමියන්ගේ නිර්මාණ කෞශල්‍යය හා ප්‍රතිභාපූර්ණ කවිත්වය ද මේ සන්දේශයෙන් ඉස්මතු වේ. එහි එන සැඳෑ වැනුමෙන් උපුටා ගත් 47 හා 50 යන පද්‍ය දෙක මෙහි අන්තර්ගත ය.

වදිමින් සවස නල හැසිරෙන දිගතු වල
සොබමන් සුනිල් මිණි නිල් නුබ තුර විපුල
පතසන් අවරගිරි නැටියෙන් වැටෙන කල
විලිකුන් සුරත් පල වැනි වේ රිවි මඬල

උදුළ සොමි කැලුම් නිසයුරු හිමි පුවළ
පහළ වන බැවින් තම වෙත නිසඹු දොළ
ලකළ ගුවන් තල සිරි යහන නිකසළ
අතුළ කුසුම් විලසින් සැදෙත තුරුවැළ

අර්ථය-

සූර්ය මණ්ඩලය, ශෝබමාන වූ තද නිල් පාට මැණික් මෙන් නිල් පාට වූ විශාල අහස නමැති වෘක්ෂයෙහි දිශා නමැති අතුවල සංචාරය කරන හවස් කාලයේ හමන සුළඟ වැදීමෙන් අස්ත පර්වතය නමැති නටුවෙන් වැටීමට ආසන්න වූ ඉදුණු තද රතු ගෙඩියකට සමාන වේ.

බබළන සෞම්‍ය කාන්තියෙන් යුතු උසස් චන්ද්‍රයා නමැති ස්වාමියා තමා කරා එන නිසා අධික ආශා ඇති රාත්‍රිය නමැති කාන්තාව අලංකාර අහස් තලය නමැති නිර්මල ශ්‍රී යහනෙහි අතුරන ලද මල් මෙන් තාරකා පන්තිය සැදී ගෙන එයි.

සැළලිහිණි කවියා සන්ධ්‍යා වර්ණනය තුළින් අපූර්ව කාව්‍ය සංකල්පනා මැවීමට සමත් වේ. එතුමා අහස දකින්නේ ගසක් ලෙසයි. එහි බටහිර දිසාව නමැති අත්තෙහි ඉදුණු තද රතු

පාට ගෙඩියක් ඇත. එය සැඳෑ සුළඟ වැදීමෙන් වැටෙන්නට ළං ව ඇත. ඒ වෙනෙකක් නො ව සූර්යයා ය. එය කොතරම් අර්ථ පූර්ණ වර්ණනයක් ද?

මෙවැනි ම විසිතුරු සොබා සොඳුරු වැනුමක් අපූර්ව ලෙස ඊ ළඟ කවියෙන් ද දැක්වීමට කවියා සමත් වේ. සඳ උත්තම ස්වාමියෙකි. ඔහු තමා වෙත පැමිණෙන නිසා, රාත්‍රිය නමැති කාන්තාව ඉතා සන්තෝෂයෙන් යුතුව අලංකාර අහස්තලය නම් වූ පිවිතුරු වූ තම සිරියහන මත මල් මල් ඇතිරිල්ලක් එළයි. ඒ මල් නම් අහසේ පායා ඇති තරු සමූහය යි.

## අවබෝධය

1. **පද්‍ය පන්තිය ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට වඩාත් නිවැරදි පිළිතුර දී ඇති වරණ අතරින් තෝරා ලියන්න.**

(i) සමුද්‍රය සූර්යයා තමා වෙත ඇද ගන්නේ,
- (අ) දවස පුරා වෙහෙසීම නිසා
- (ආ) වෙහෙස දුරු කර නෑවීම සඳහා
- (ඇ) අපරාකාශයට යන නිසා
- (ඈ) සූර්යයා තමාගේ ඥාතියකු නිසා

(ii) මලිගිය මල් සමූහයක් ලෙස කවියා වර්ණනා කළේ,
- (අ) නිශා කාන්තාව
- (ආ) චන්ද්‍රයා
- (ඇ) තාරකා සමූහය
- (ඈ) මැණික්වල ඡායාව

(iii) උදය පර්වතය නම් ගසෙහි මල් ඉත්තක් ලෙස කවියා දකින්නේ,
- (අ) වලාකුළු
- (ආ) අන්ධකාරය
- (ඇ) අහස
- (ඈ) චන්ද්‍රයා

(iv) මෙහි වළඹ ගිනි වැට යනු,
- (අ) තරංග සමූහයකි.
- (ආ) සූර්යයා ය.
- (ඇ) සමුද්‍රය පත්ලේ ඇති ගින්නකි.
- (ඈ) සන්ධ්‍යා වලාකුළු ය.

(v) කවියා බැස යන සූර්යයා හැඳින්වීමට භාවිත නො කළ උපමාව වන්නේ,
- (අ) ඉදී වැටෙන්නට ආසන්න ඵලයක් මෙන්
- (ආ) සැඳෑ වලාකුළුවලින් බඳින ලද රතු ගලක් මෙන්
- (ඇ) උදය පර්වතයේ මල් කිනිත්තක් මෙන්
- (ඈ) දිය රැළි මත පබළු සමූහයක් මෙන්

(vi) විෂ්ණු දෙවියන් විසින් කලඹනු ලැබුවේ,
- (අ) චන්ද්‍රයා
- (ආ) උදය පර්වතය
- (ඇ) මහාමේරු පර්වතය
- (ඈ) කිරි සයුර

(vii) සැළලිහිණි කවියා අහස දැක ඇත්තේ,
 (අ) නිල්පාට මැණිකක් ලෙස
 (ආ) වෘක්ෂයක් ලෙස
 (ඇ) අස්ත පර්වතය ලෙස
 (ඈ) තද රතු ගෙඩියක් ලෙස

(viii) රාත්‍රිය නමැති කාන්තාව තම යහන සරසන්නේ,
 (අ) අධික ආශාව ඇති නිසා
 (ආ) තාරකා පායා එන නිසා
 (ඇ) චන්ද්‍රයා නමැති තම ස්වාමියා පැමිණෙන නිසා
 (ඈ) අලංකාර කරනු සඳහා

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් යෙදුම්වල අර්ථ ලියන්න.**

   i. කුඹුයොන් සයුර බොත එහි අනත මිණි සේ
   ii. උදයග රැක සඳ මල් කැනක සිරි ගත
   iii. කලදෝ කැට තෙලෙක දිසි වැනි
   iv. පැහැදුළ රිවි මඬල සකි පෙනෙය තනෙතට
   v. උදය ගිරි සිරසින් පැතිර එන සඳරැස් බලව
   vi. නිකසළ සිරි යහන අතුළ කුසුම් විලසින් තුරුවැල සැදෙත

2. **පහත සඳහන් යෙදුම් පිළිබඳ විග්‍රහ කරන්න.**

| | |
|---|---|
| i. කුඹුයොන් | iv. මලිගිය මල් |
| ii. නිසයුරා | v. වළඹ ගිනි වැට |
| iii. සුනෙර | vi. අවරගිර |

3. **එක් එක් පද්‍යයෙහි ඇතුළත් උපමා ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.**

| සන්දේශ කාව්‍යය | උපමානය | උපමේය |
|---|---|---|
| | | |

4. **පද්‍ය පන්තියෙහි ඇති රූපක 3ක් උපුටා දක්වන්න.**
5. **ඔබ කැමති එක් පද්‍යයක් තෝරා ගෙන, එය රසවින්දනය කරන්න.**
6. **පහත දී ඇති ක්‍රියා පද කුමන වර්ගයට අයත් දැයි ලියන්න.**

| | |
|---|---|
| i. බොත | iv. සදමින් |
| ii. බැඳහළ | v. අලළන සඳ |
| iii. ඉතිර | vi. බලාලව |

7. නුබසා මඬුලු <u>සඳ</u> වෙල ළපලු පැහැපත
   උදය'ග රැක <u>සඳ</u> මල් කැනක සිරි ගත
   ඉහත පද්‍යයෙහි ඉරි ඇඳි පද සමාන බවක් පෙනුණ ද එහි අරුත් වෙනස් ය.
   සඳ - සන්ධ්‍යාව සඳ - සැදුණු

8. මෙලෙස සඤ්ඤක හා සඤ්ඤක නොවන අකුරු සහිත පද යුගල 10ක් ලියා, ඒවායේ අර්ථ දක්වන්න.

| සඤ්ඤක අකුරු සහිත | | සඤ්ඤක නොවන | |
|---|---|---|---|
| උදා - මුනිඳා | බුදුරජාණන් වහන්සේ | මුනිදා | සර්වඥ ධාතු |
| 1. | | | |
| 2. | | | |
| 3. | | | |
| 4. | | | |
| 5. | | | |
| 6. | | | |
| 7. | | | |
| 8. | | | |
| 9. | | | |
| 10. | | | |

9. පහත දී ඇති සන්ධි පද විසන්ධි කර, සන්ධි වර්ගය ද ලියන්න.

| සන්ධි පදය | විසන්ධිය | සන්ධි වර්ගය |
|---|---|---|
| උදා- වහළෙව් | වහළ + එව් | පූර්ව ස්වර ලෝප සන්ධිය |
| අවර'ඹරා | | |
| බියෙනැ'ලළෙමිනි | | |
| ගනඳුරු | | |
| නිලුපුල් | | |
| කලඹෙව් | | |
| පැහැදුළ | | |
| නිසඹු | | |
| තරඟ'තින් | | |

## ප්‍රායෝගික අභ්‍යාස

1. මයූර, පරෙවි, හංස, සැළලිහිණි සන්දේශ කාව්‍ය පිළිබඳ පහත ශීර්ෂ යටතේ කරුණු ගොනු කරන්න.
   දූතයා, කර්තෘ, යුගය, අරමුණ, ගමන් මාර්ගය, පද්‍ය ගණන
2. 'මා දුටු සුන්දර සන්ධ්‍යාවක්' මැයෙන් පද්‍ය පන්තියක් නිර්මාණය කරන්න.

# 22 දීපාවලි උත්සවය

**යම් කිසි රටක පැවැත්වෙන උත්සව, චාරිත්‍ර, වත් පිළිවෙත් හා ඇදහිලි එම රටේ වසන ජනයාගේ අනන්‍යතාව පිළිබිඹු කරන කැටපතක් බඳු ය. මේ පිළිබඳ අවබෝධයෙන් කටයුතු කිරීම සාමකාමී සහජීවනයට මෙන් ම ජාතික, ආගමික සංහිඳියාවට ද ඉවහල් වෙයි. හින්දු ජනයාගේ ජාතික හා ආගමික උත්සවයක් වන දීපාවලිය හා බැඳුණු චාරිත්‍ර විධි හා සංකල්ප ඉදිරිපත් කෙරෙන මේ පාඩම අන්තර්ජාලයෙන් ලබා ගත් තොරතුරු ඇසුරෙන් සකස් කරන ලද්දකි.**

හින්දු උත්සව අතුරෙන් දීවාලි හෙවත් දීපාවලිය ඉතා වැදගත් හා වර්ණවත් උත්සවයකි. නව සඳ උදා වීමට සමගාමීව ඔක්තෝබර් හා නොවැම්බර් මාසවලට යෙදෙන මෙම දිනය ලොව අඳුර නසා ආලෝකය උදා වූ ද අඥානය නැති කොට ඥානය පහළ වූ ද දිනය ලෙස හින්දු භක්තිකයෝ සලකති. හින්දූන්ට අමතර ව ජෛනයන්ගේ ද උත්කර්ෂවත් උත්සවයක් ලෙස දීපාවලිය සැලකෙයි.

පහන් හෙවත් ආලෝකය යන අර්ථ ඇති 'දීප' යන පදයත් පේළිය හෙවත් දාමය යන අර්ථ ඇති 'ආවලි' යන පදයත් එක් වීමෙන් සැදුණු දීපාවලි යන්නෙන් 'ආලෝක පේළිය' යන අරුත ප්‍රකාශ වෙයි. නිවෙස් තුළ පමණක් නො ව වීථි හා නගර පුරා දහස් ගණන් ආලෝක පේළිවලින් දීප්තිමත් වූ දීපාවලිය සැබැවින් ම ආලෝක පූජාවකි.



දීපාවලියේ උත්සවශ්‍රීය ඒ හා බැඳුණු වත් පිළිවෙත් නිසා විචිත්‍රත්වයට පත් වෙයි. එම වත් පිළිවෙත් හා චාරිත්‍ර වාරිත්‍ර ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් මුහුණුවරක් ගනී. දීපාවලි

සමයෙහි පැවැත්වෙන පුද පූජා, මන්ත්‍ර ජප කිරීම් හා ස්තෝත්‍ර ගායනා වෙනත් දිනවල සිදු කෙරෙන ආගමික වත් පිළිවෙත්වලට වඩා ප්‍රබල බව හින්දූන්ගේ විශ්වාසය වේ.

හින්දු භක්තිකයන්ට අනුව දීපාවලිය සැමරීම වසර 3500කට පෙර සිට පැවත එන සිරිතකි. ඒ සඳහා පාදක වන පුරාවෘත්ත කීපයක් ම හින්දු සමාජයේ ප්‍රචලිත ය. ඔවුන්ට අනුව ශ්‍රී සම්පත්තියේ දෙවඟන වන ශ්‍රී ලක්ෂ්මිය හෙවත් ශ්‍රි කාන්තාව ක්ෂීර සාගරයෙන් ප්‍රාදුර්භූත වූයේ දීපාවලි දිනයක ය. කෘෂ්ණ දෙවිඳු නරකාසුරයා පරාජය කිරීමේ පුවත ද මෙදිනට යෙදේ. රාවණා පරාජය කිරීමෙන් අවුරුදු 14කට පසු රාමා, සීතා හා ලක්ෂ්මන් යළි ඔවුන්ගේ නිජබිම වන අයෝධ්‍යාවට පැමිණෙන්නේ ද දීපාවලි දිනයක බව හින්දූහු විශ්වාස කරති. මේ හැර දීපාවලියෙහි සුවිශේෂත්වය විදහා පාන තවත් සිදුවීම් පවතී.

දීපාවලිය දින පහක් පුරා සැමරෙන උත්සවයකි. එක් එක් දිනයට අදාළ පිළිවෙත් හා චාරිත්‍ර විධි ඊට ඇතුළත් වෙයි. දෙවිවරුන් හා දිව්‍යාංගනාවන් උදෙසා කෙරෙන පුද පූජා, සුවිශේෂ ආහාර පාන, ආලෝක පූජා හා ගිනි කෙළි දර්ශනවලින් මේ උලෙළ අලංකාර වෙයි. හින්දු ව්‍යාපාරිකයෝ දීපාවලියෙන් ඇරඹෙන අභිනව වර්ෂයේ සෞභාග්‍යය අත් කර ගනු වස් නව ගිණුම් ආරම්භ කරති.

එළඹෙන දීපාවලි උත්සවය වෙනුවෙන් හින්දු ජනයාගේ ප්‍රධාන කාර්යය වනුයේ සිය නිවෙස් සම්පූර්ණයෙන් ම පිරිසිදු කොට අලංකාර කර ගැනීම යි.

දීපාවලි උත්සවයේ ප්‍රථම දිනය කෘෂ්ණ පක්ෂයේ හෙවත් අවපක්ෂයේ 13 වන දිනය යි. ධානත්‍රයෝදර්ශි හෙවත් ධාන් ටෙරස් යනුවෙන් හඳුන්වනු ලබන මේ දිනයෙහි හින්දු භක්තිකයෝ අලුත් ඇඳුම් මිල දී ගනිති. ලෝහමය ද්‍රව්‍ය ජීවිතයට වාසනාව ගෙන දේ යැයි සිතන ඔවුහු සිරිතක් වශයෙන් රන්, රිදී භාණ්ඩ මිල දී ගැනීමට පුරුදු වී සිටිති. සන්ධ්‍යාවෙහි 'දියාස්' නම් පහන් කුඩු දල්වා, සිය භක්ති පූජා පවත්වන ඔවුහු තමන් අපේක්ෂා කරන දෙවිවරුන් තමන් වෙත කැන්දා ගැනීමට එකට එක් වී යදිති. පවුල කේන්ද්‍රගත වූ මේ කාර්යය දීපාවලියේ සත්‍යාපේක්ෂාව ඔවුන්ට සිහි කර දෙයි.

දීපාවලියෙහි දෙවන දිනය කෘෂ්ණ පක්ෂයේ හෙවත් අවපක්ෂයේ 14 වන දිනය යි. මේ දවස 'නරක චතුර්දශි' යනුවෙන් නම් ලබයි. විෂ්ණුගේ අවතාරයක් වන කෘෂ්ණ විසින් නරකාසුරයා පරාජය කරනු ලැබීම සිහි ගන්වන මේ දිනය නරක අබිබවා යහපත ද අඳුර අබිබවා ආලෝකය ද ජයග්‍රහණය කළ දිනය ලෙස සැලකෙයි.

අරුණෝදයට පෙර අවදිව ඇඟෙහි සුවඳ තෙල් ගල්වා අලුත් ඇඳුමෙන් සැරසෙන හින්දූහු නිවෙස් වටා කුඩා පහන් දල්වති. අනතුරුව රංගෝලි හෙවත් කෝලම් සිත්තම් නිවෙස් වටා අඳිති. නරකාසුරයාගෙන් ලෝකය නිදහස් කර දීම වෙනුවෙන් විෂ්ණු දෙවිඳුන්ට හා කෘෂ්ණ දෙවිඳුට විශේෂ පූජා පවත්වති. තරු කැට අහසෙහි දිදුලන හිමිදිරියේ ශුද්ධ ගංගා ජලයේ ස්නානය ශුභ කටයුත්තක් ලෙස සිතන හින්දු ජනයා හිරු උදා වීමට පෙර ඒ කාර්යයේ යෙදෙන්නේ පව් සෝදා හැරීමක් ද වේ ය යන විශ්වාසයෙනි. පූජාවෙන් පසු ව හින්දු දරුවෝ රතිඤ්ඤා දල්වමින් නරකාසුරයා පරාජය කිරීම සංකේතවත් කරති. පවුලේ අය හා හිතමිතුරන් සමග එක් ව ආහාර ගනිමින් මේ දිනයෙහි ප්‍රීති ප්‍රමෝදය ඔවුහු භුක්ති විඳිති. රංගෝලි සිත්තම් නිර්මාණ මගින් බිම හා බිත්ති හැඩ කිරීම සඳහා හින්දු කාන්තාවෝ හාල් පිටි, සුදු පැහැ ගල් කුඩු හෝ වර්ණවත් පාට හුණු උපයෝගි කර ගනිති;

ඉන් පසු ධාන්‍ය පබළු, මල් හෝ තවත් ද්‍රව්‍ය එම සැරසිලි සඳහා එක් කරති. වරකට මඳක් වැටෙන සේ පිටි හෝ කුඩු ඉස රංගෝලි සිත්තමෙහි බාහිර රේඛාව සදා ගත් පසු මෝස්තරයක් නිමැවෙන සේ අනෙක් ද්‍රව්‍ය යොදා එම තිත් යා කෙරේ. සම්පූර්ණ සිත්තම නොකැඩුණු ඉරිවලින් යුක්ත වීම වැදගත් කොට සැලකෙන්නේ එවිට නරක ආත්මයන්ට හිඩැස් තුළින් ඇතුළු වීමට නොහැකි වේ යැයි විශ්වාස කෙරෙන බැවිනි. බොහෝ රංගෝලි සැරසිලි අවුරුදු සිය ගණන් පැරණි පාරම්පරික ඒවා ය. කැලයේ අනන්ත ස්වභාවය සංකේතවත් කෙරෙන බැවින් රවුම් හැඩැති රංගෝලි සිත්තම් වඩා ජනප්‍රිය වන අතර රංගෝලි තේමාවන් සඳහා ඉර, හඳ, තාරකා ද ඇතුළත් වෙයි. ඇතැම්, ප්‍රදේශවල මාළුන්, කුරුල්ලන්, අලිඇතුන්, මල් හා මිදිවැල්වල රූප ද රංගෝලි සිත්තම්වල දක්නා ලැබේ.





නෙලුම් මල රංගෝලි සැරසිලිවල ප්‍රධාන තේමාවකි. එය සුන්දරත්වය, සමෘද්ධිය හා සශ්‍රිකත්වය කියාපාන සංකේතයක් ද සේ පිළිගැනේ. හින්දූන්ගේ ප්‍රධාන දෙවඟනක් වන ශ්‍රී ලක්ෂ්මිය බොහෝ විට පෙනී සිටින්නී අතින් දරා ගත් නෙලුමක් සහිතව හෝ නෙලුම් මලක් මත වැඩ හිඳින ස්වරූපයෙනි. එබැවින් ඇය දීපාවලි උත්සවයෙහි ඉතා ම වැදගත් දෙවඟන වන්නී ය. ශ්‍රී ලක්ෂ්මිය අත් හතරක් සහිතව නිරූපිත ය. එක් එක් හස්තය මගින් ධර්ම, කාම, අර්ථ, මෝක්ෂ යන ගුණාංග කියාපාන බව හින්දු භක්තිකයන්ගේ විශ්වාසය යි.

දීපාවලි උත්සවයෙහි තුන්වන දිනය යෙදෙන්නේ අදාළ මාසයේ අමාවක පොහෝ දිනයෙහි ය. කෘෂ්ණ පක්ෂයේ හෙවත් අව පක්ෂයේ 15 වන දවස වන මෙදින සඳ නැති අහසක් දිස් වෙයි. හින්දූහු තම නිවෙස්වලට ආශීර්වාදය හා වාසනාව ගෙන එන ශ්‍රී ලක්ෂ්මිය පිළිගැනීම සඳහා සූදානම් වන මේ දිනය ලක්ෂ්මී පූජා උදෙසා වෙන් වෙයි. ඒ සඳහා හින්දු නිවෙස්වල විවිධ වර්ගයේ සාම්ප්‍රදායික ප්‍රණීත ආහාර හා රසකැවිලි සකස් කෙරේ. ලක්ෂ්මී පූජාව මගින් සිය නිවෙස්වල ජීවිතවලට සමෘද්ධිය, යහපත හා සතුට උදා වේ යැ යි ඔවුහු විශ්වාස කරති.

මෙදින දීපාවලි උත්සවයේ ප්‍රධාන දිනය යි. 'දියාස්' නමින් හැඳින්වෙන පහන් කුඩුවලින් විහිදෙන දීප්තියෙන් නිවෙස් ගම් දනවු, වීථි, නගර ඒකාලෝක වීමෙන් උත්සව ශ්‍රීය විදහා දැක්වෙයි. මේ දහස් ගණන් වූ පහන් කුඩු දැල්වීමෙන් තම නිවෙස්වලට දෙවිවරුන් පැමිණෙන මාර්ගය ආලෝකවත් වේ යැයි ද අභ්‍යන්තර පාරිශුද්ධියට මග පෑදෙන්නේ යැයි ද හින්දූන්ගේ විශ්වාසය වේ.

අහස ගන අඳුරින් වැසී ඇති රාත්‍රියෙහි සෑම නිවෙසක ම 'දියාස්' නම් පහන් කුඩු දැල්වීමෙන්

තම තමන්ගේ නිවෙස්වලට එන මග සොයා ගැනීමට ලක්ෂ්මී දෙවඟනට හැකි වෙතැයි හින්දූහු විශ්වාස කරති. ඇයට ඇතුළු වීමට හැකි වන සේ ඇතැම් නිවස්වල ජනේල ද විවෘත ව තැබෙයි. ශ්‍රී ලක්ෂ්මීය වෙනුවෙන් නිවෙස තුළ සරසන ලද පූජාසනය මත පලතුරු, මල්, විලඳ හා රිදී කාසි සහිත රිදී පැහැ බන්දේසියක් තබා ඇයට පූජා පැවැත්වීම ද සිදු කෙරේ. ඇය කැලඹුණු ක්ෂීර සාගරයෙන් නෙලුම් මලක් අත දරා උපන්න යි හින්දූන් විශ්වාස කරන බැවින් ලක්ෂ්මියගේ රුව සහිත කාසි, පිළිරූ දැඩි භක්තියෙන් යුතු ව කිරි දියෙන් නහවා නෙලුම් මලේ පැහැයට සමාන වන සේ රතු පාටින් වර්ණ ගැන්වෙයි.

මෙදින රාත්‍රියෙහි හින්දු නිවෙස්හි පියා රාමායණයේ පාඨ කියවන අතර, මව පවුලේ සාර්ථකත්වය හා සමෘද්ධිය පතා යාතිකා හා ගීතිකා කියැවීමට මූලිකත්වය සපයයි. පූජාසනය වටා සිට කෙරෙන භක්තිමත් පූජා විධිවලින් පසු හින්දු පවුල්වල සාමාජිකයෝ භෝජන සංග්‍රහ හා සංගීතමය අවස්ථාවන්ට සහභාගි වීම සඳහා බාහිර සමාජය හා එකතු වෙති.




නව සඳ උදා වීමත් සමග එළඹෙන ශුක්ල පක්ෂයෙහි හෙවත් පුර පක්ෂයෙහි ආරම්භක දිනය දීපාවලි උත්සව සමයෙහි සිවු වන දිනය යි. හින්දූන්ගේ අලුත් අවුරුද්ද ලෙස ද සැලකෙන මෙම දිනය ගෝවර්ධන පූජා පැවැත්වීම සඳහා වෙන් වෙයි. ඒ හා බැඳි කතා පුවතකට අනුව ගවපල්ලකුගේ පුත්‍රයකු වන කෘෂ්ණාගේ නෑයෝ වර්ෂාවට හා කුණාටුවට අධිපති දෙවියා ලෙස සැලකෙන ඉන්ද්‍ර දෙවියාට පූජා පැවැත්වුව ද ඔහුගෙන් සිය අස්වනු හා ගවයන් රැක ගැනීමට පිහිටක් නො ලබති. වඩාත් අර්ථවත් වනුයේ කුඹුරු, කඳු හා පූජනීය වූ ගවයන් උදෙසා පූජා පැවැත්වීම බව කෘෂ්ණ ඔවුන්ට ඒත්තු ගන්වයි. එමගින් අස්වනු සරු වෙයි. එහෙත් මෙම ක්‍රියාව තමාට කළ නින්දාවක් යැයි සිතන ඉන්ද්‍ර ඔවුන්ට දඬුවම් කිරීම සඳහා භයානක කුණාටුවක් හා අකුණු සහිත වැස්සක් මවයි. බියට පත් ජනයා කෘෂ්ණගෙන් පිහිට යදිති. ඔහු ගෝවර්ධන පර්වතය දින හතක් තිස්සේ සුළැඟිල්ලෙන් අහසට ඔසවා ගෙන ගොවීන්ට හා ගවයන්ට ආරක්ෂාකාරී සෙවණක් සලසා දෙයි. සැබෑ ගෞරවය ලැබිය යුත්තා කෘෂ්ණ බව වටහා ගත් ඉන්ද්‍ර වර්ෂාව වහා නවතයි. මේ පුරාවෘත්තය ගෝවර්ධන පූජා පැවැත්වීම සඳහා හේතු වෙයි.

දීපාවලියේ අවසාන දිනය ලෙස සැලකෙන්නේ භායිදූජ් හෙවත් සහෝදරයන්ගේ දිනය යි. පවුල තුළ සබඳතා ගොඩ නැංවීමට අදාළ චාරිත්‍ර මේ දිනයෙහි විශේෂත්වයක් උසුලයි. හින්දු නිවෙස්වල පිරිමි දරුවන් සිය සහෝදරියන්ට තෑගි බෝග ලබා දීම ඒ අනුව සිදු

වෙයි. බොහෝ විට තෑගි ලෙස ලබා දෙන්නේ ස්වර්ණාභරණ, රස කැවිලි හෝ ඇඳුම් ය. මෙදින පාසල් ද වසා තැබෙයි.

ශ්‍රී ලාංකික දෙමළ ජනයා තෛපොංගල් හැරුණු විට උත්කර්ෂයෙන් සමරන උත්සවය දීපාවලිය යි. ඔවුන්ගේ දීපාවලි චාරිත්‍ර බොහෝ විට එක් දිනක් තුළ සිදු වෙයි. දීපාවලි දිනයෙහි උදේ පාන්දරින් අවදි වන ඔවුහු හිස තෙල් ගල්වා ස්නානය කොට ඉෂ්ට දේවතාවුන් වැඳ කෝවිල්වලට ගොස් දේවාශීර්වාද ලබා ගනිති; රස කැවිලි කමින් එදින ප්‍රීතියෙන් ගත කරති. නරකාසුරයා පරාජය කිරීම සංකේතවත් කරමින් සන්ධ්‍යා කාලයෙහි පහන් පේළි දල්වා දීපාවලිය සමරති.

දීපාවලිය හින්දු ජනයා තුළ භක්තිය දැල්වෙන දිනයකි. මිනිස් සිත් සතන් ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, මානය, වෛරය ආදි දුර්ගුණවලින් පිරී පවතී. දෙවියන් සිහි කරමින් බැතිමත්ව පුද පූජාවන්හි යෙදෙන විට භක්තිය නමැති දීපයෙන් නොහොත් ආලෝකයෙන් මිනිස් හදවත් වෙළා ගෙන ඇති යට කී දුර්ගුණ සහිත මෝහාන්ධකාරය දූරීභූත වී යන බව හින්දූහු විශ්වාස කරති.

ඒ අනුව ලොවට ඉසුරත්, ඥානයත්, ජීවිතයට අවැසි සංහිඳියාවත් ලබා දෙතැයි පිළිගැනෙන දීපාවලිය අගනා සංස්කෘතික උත්සවයකි. වාද භේද දුර ලා, වෛර ගිනි නිවා, සාමය සතුට හා සෞභාග්‍යය ප්‍රාර්ථනා කිරීමටත් සමාජයේ වසන එකිනෙකා අතර අන්‍යෝන්‍ය අවබෝධය හා සුහදත්වය වර්ධනය කර ගැනීමටත් දීපාවලිය අතිශය උපකාරී වේ.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| කෘෂ්ණ පක්ෂයේ | - | චන්ද්‍රයාගේ කලා පිහිටීම සිද්ධ වන පෑළවිය පටන් අමාවක තෙක් වූ දින පහළොවකින් යුත් කළුවර පක්ෂයෙහි |
| අවපක්ෂයෙහි | - | පුර පසළොස්වක හා අමාවක අතර හඳ කෙමෙන් මැකී යන කාලයෙහි |
| ශුක්ල පක්ෂයෙහි | - | අමාවක හෙවත් මාසේ පෝය පසු වූ පෑළවිය දිනයේ පටන් පසළොස්වක පොහෝ දා තෙක් ඇති සඳ එළිය ක්‍රමයෙන් වැඩි වන දින පහළොවක කාලයෙහි |
| පුර පක්ෂයෙහි | - | චන්ද්‍ර මාසයෙහි ක්‍රමයෙන් සඳ වැඩෙන පහළොස් දවසෙහි |

## අවබෝධය

1. දීපාවලි යන්නෙහි අර්ථය කුමක් ද?
2. දීපාවලිය සැමරීම සඳහා පාදක වන පුරාවෘත්ත තුනක් සඳහන් කරන්න.
3. දීපාවලිය නිමිත්තෙන් කෙරෙන පූජා විධි මොනවා ද?
4. ශ්‍රී ලක්ෂ්මියගේ අත් හතරින් සංකේතවත් කෙරෙන ගුණාංග දක්වන්න.
5. හින්දු බැතිමතුන් ශ්‍රී ලක්ෂ්මිය පිදීමේ අපේක්ෂාව සඳහන් කරන්න.

## ලිඛිත අභ්‍යාස

1. පහත දැක්වෙන යුගල පද යොදා වාක්‍ය තනන්න.

| | | |
|---|---|---|
| පුද පූජා | චාරිත්‍ර වාරිත්‍ර | තෑගි බෝග |
| ආහාර පාන | මිල මුදල් | ශුද්ධ පවිත්‍ර |
| වත් පිළිවෙත් | ඇඳුම් පැලඳුම් | ගේ දොර |
| සැප සම්පත් | ඉඳුම් හිටුම් | වන්දනා මාන |

2. මුලින් දී ඇති නාම ප්‍රකෘති ඇසුරෙන් 'තා' හා 'ත්ව' යන ප්‍රත්‍ය සහිත තද්ධිත නාම සකස් කරන්න.

| ප්‍රකෘතිය | 'තා' ප්‍රත්‍යය සහිතව | 'ත්ව' ප්‍රත්‍යය සහිතව |
|---|---|---|
| නිපුණ<br>විශේෂ<br>විචිත්‍ර<br>පවිත්‍ර<br>ප්‍රවීණ<br>ප්‍රබල<br>සුහද<br>ශූර | | |

3. පහත සඳහන් පද අතුරෙන් එක් එක් පේළියේ ඇති සන්ධි නො වන පදය තෝරන්න.
   1. දැවුරුදු, දීපාවලියේ, පුරාවෘත්ත, දෙවිඳු
   2. දිව්‍යාංගනාවෝ, අභිනව, නරකාසුරයා, ව්‍යාපාරිකයෝ
   3. අහසෙහි, හිතමිතුරු, සිත්තම්, ගුණාංග
   4. නෙලුම්මල, පූජාසනය, උත්සවශ්‍රීය, සුළැඟිල්ලෙන්
   5. සංගීතමය, ස්වර්ණාභරණ, දේවාශීර්වාද, මෝහාන්ධකාරය

## ප්‍රායෝගික අභ්‍යාස

1. පහත සඳහන් උත්සව අතරින් එකක් පිළිබඳව හැඳින්වීමක් කොට, ඔබ ඊට අදාළ චාරිත්‍ර ඉටු කරමින් එදින ගත කරන ආකාරය විස්තර කරන්න.
   වෙසක් උත්සවය
   තෛපොංගල් උත්සවය
   අවුරුදු උත්සවය
   රාමසාන් උත්සවය

2. "සංස්කෘතික උත්සව ආගමික සහජීවනයට හේතු වේ." මේ අදහසට අදාළව වචන 150කින් පමණ යුතු රචනයක් ලියන්න. සුදුසු මාතෘකාවක් ද යොදන්න.

සමාජයේ දැනුවත් කිරීමට යොදා ගැනෙන විවිධ සන්නිවේදන ක්‍රම අතර අත්පත්‍රිකා ද වෙයි. අත්පත්‍රිකා යනු අතින් අත යන පත්‍රිකා ය. විවිධ විද්‍යුත් ක්‍රම ඇතත් ප්‍රබල සන්නිවේදන මාධ්‍යයක් ලෙස අත්පත්‍රිකාවේ අගය නො නැසී පවතී.

අධ්‍යාපනය, දේශපාලනය, සෞඛ්‍යය, වෙළදාම ආදී කරුණු සම්බන්ධයෙන් ප්‍රජාව දැනුවත් කිරීම සඳහා විවිධාකාරයේ අත්පත්‍රිකා සමාජයේ හුවමාරු වෙයි. නිවසේ දී, බසයේ දී, මහමග දී හෝ වෙනත් ස්ථානයක දී මෙබඳු අත්පත්‍රිකා ඔබ අතට ද පත් වී තිබිය හැකි ය. පහත දැක්වෙන අත්පත්‍රිකාව පිරික්සන්න.

**වෛද්‍ය නිර්දේශ රහිතව හිතුමතයේ ඖෂධ ලබා ගැනීම හා භාවිත කිරීම**

**නීති විරෝධී ක්‍රියාවකි**
**ඔබේ මරුවා ළං කර ගැනීමකි**

වෛද්‍ය වට්ටෝරුවක් රහිතව ඖෂධ අලෙවි කළ හොත් දඬුවම

රුපියල් 5000 සිට 50,000 දක්වා දඩ හෝ අවම මාස 03 සිර දඬුවම හෝ දඩය හා සිර දඬුවම යන දෙක ම



වෛද්‍යවරයකු නිකුත් කරන වට්ටෝරුවක් රහිතව පැරසිටමෝල් හෝ විටමින් වර්ග නො වන ඖෂධ (පළමු කාණ්ඩයේ ඖෂධ) ලබා දෙන ලෙසට ඖෂධ ශාලාවලට බලපෑම් නො කරන්න...

**වට්ටෝරුවක් රහිතව ඖෂධ අලෙවිය මෙන් ම ඖෂධ ඉල්ලීම ද නීති විරෝධී ක්‍රියාවකි. එලෙස නීති විරෝධීව ඖෂධ ලබා දෙන ඖෂධ ශාලා පිළිබඳව පහත දුරකථන අංකවලට දන්වන්න...**

**එය ඔබේත් රටේත් යහපත වෙනුවෙන් කරන යුතුකමකි...**

පොදු දුරකථන **011 2 698 896**
**011 2 698 897**

නීති ක්‍රියාත්මක කිරීමේ අංශය **011 2 676 498**

ව්‍යවස්ථාපන අධිකාරිය 120,
නොරිස් කැනල් පාර, කොළඹ 10
විද්‍යුත් ලිපිනය **: cdda@health.gov.lk**
වෙබ් අඩවිය **: www.cdda.gov.lk**

## අත්පත්‍රිකාවේ ආකෘතිය

1. මාතෘකාව හෙවත් තේමා පාඨය
   (අන්තර්ගතය ඉස්මතු වන සේ මාතෘකාව හෝ තේමා පාඨය යෙදිය යුතු වෙයි)
2. නිකුත් කරන්නාගේ තනතුර හා ස්ථානය/ආයතනය හෝ සංවිධානයේ නම හා ලිපිනය

## අන්තර්ගත කරුණු

තොරතුරු මාතෘකාවට හෝ තේමාවට අනුකූලව නිරවුල්ව පැහැදිලිව දැක්විය යුතුය. අත්පත්‍රිකාව මගින් අමතනු ලබන පිරිසට තේරුම් ගත හැකි වන බස් වහරක් යොදා ගැනීම අවශ්‍ය වේ.

වර්තමානයේ සමාජය දැනුවත් කිරීම සඳහා බෙදා හැරෙන අත්පත්‍රිකා බෙහෙවින් ආකර්ෂණීය ස්වරූපයක් ගනී. පරිගණක හා මුද්‍රණ ශිල්පීය උපක්‍රම යොදා ගනිමින් විවිධ ප්‍රමාණයේ හා විවිධ හැඩයේ අකුරු, පින්තූර, චිත්‍ර වර්ණ ආදී උපක්‍රම මගින් ඔප් නැංවූ එම අත්පත්‍රිකා කියවා ගැනීමට පොලඹවන අයුරින් සැකසේ. එමෙන් ම සමාජයේ දැනුවත් කිරීම පිටුවකින් හෝ දෙකකින් හෝ සකස් කරන ලද අත්පත්‍රිකා ද සමාජයේ හුවමාරු වේ. ඉහත දක්වා ඇත්තේ එබඳු කාලීන වැදගත්කමකින් යුත් අත්පත්‍රිකාවකි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පහත දැක්වෙන්නේ හටන්බැද්ද එක්සත් සුභසාධක සමිතියේ කාරක සභා රැස්වීමේ දී ඇති වූ කතාබහෙන් කොටසකි. ඉන් අදාළ කරුණු පමණක් තෝරා ගෙන ප්‍රදේශවාසීන් අතර බෙදා හැරීම සඳහා වචන 125කින් පමණ යුතු අත්පත්‍රිකාවක් සකස් කරන්න.**

   "අවුරුදු පතා කරන මේ කටයුත්ත මේ අවුරුද්දෙත් හොඳට කරන්නෝනෑ"
   "ඔව් ගිය අවුරුද්දෙ ළමා නිවාසෙට දානයක් දුන්නා."
   "ඊට ඉස්සෙල්ලා අවුරුද්දෙ ඉස්පිරිතාලේ වාට්ටුවක් සුද්ද පවිත්‍ර කෙරුවා."
   "මේ සැරේ අපි ගමේ පාර හදමු"
   "මේ පාරවල් හදන එක අපට අයිති වැඩක් නෙවෙයි. ඒක ප්‍රදේශීය සභාවේ වැඩක්"
   "කාට අයිති උණත් පාරේ යන්න ඕන අපිනේ."
   "ඔව් පාරේ හැම තැනම වළවල්. දෙපැත්තෙ කාණුත් වැහිලා යම්තම් වැස්සක් ආවොත් මඩ වෙනවා"
   "ගමේ ඔක්කොම එකතු වුණොත් බැරි කමක් නැහැ. මේකට අපේ සමිතියයි පෙරමුණ ගන්න ඕන"
   "හොඳයි ශ්‍රමදානය යොදා ගන්නවා නම් පහසු දවසක් වෙන්න ඕනෑ"
   "එහෙනම් ලබන 12 වෙනිදා දාගමු. එදා ඉරිදාවක්නෙ"
   "අටයි තිහ වෙන කොටවත් වැඩේ පටන් ගමු."
   "කවුරු කවුරුත් උදැල්ලක්, කැත්තක්, රේක්කයක්, කුඩා වගේ දේවල් අරගෙන එන්න ඕනෑ"
   "එතකොට ශ්‍රමදානයට සහභාගි වන අයට කෑම බීම"
   "සමිතියේ අරමුදලින් හෝ දෙමු. පාන් ගෙඩි පනහක් හැටක් බේකරියෙන් ම ගන්න පුළුවනි."
   "පොල් සම්බල් එක්ක ඉඳිආප්ප හොඳ නැද්ද?"

"නරක ද, ප්‍රදේශීය සභාවට කියලා මෝටර් ග්‍රේඩරයක් ගෙන්න ගත්තොත්"
"ඔව් ඒකත් නරක නැහැ. සභාපතිතුමා අපට උදව් කරයි."
"එතුමාට මේ හරියෙන් ඡන්ද හම්බ උණා නේ"
"එහෙනම් අපි මේ ගැන ගමේ හැමෝටම කියමු"
"මෙහෙම එකතුවක් තියෙනවා නම් සමගි මාවත හදන්න පැය තුන හතරකින් පුළුවන් වේවි."
"කටින් කියනවාට වැඩිය හොඳයි මේ ගැන පත්‍රිකාවක් ලියලා බෙදා හරිමු."
"එහෙනම් ලේකම් විජේතුංග මහත්තයාට පුළුවන් මේ පත්‍රිකාව හදන්න."

2. **ඔබේ පාසලේ සිංහල සාහිත්‍ය සමිතිය නව මුහුණුවරකින් පවත්වා ගෙන යාම සඳහා සිසුන් දැනුවත් කිරීමේ අරමුණින් අත්පත්‍රිකාවක් සකස් කරන්න.**
3. **දිනෙන් දින ඉහළ යන ඩෙංගු උවදුරෙන් ගැලවීම සඳහා ප්‍රජාව දැනුවත් කිරීමේ අරමුණින් අත්පත්‍රිකාවක් සකස් කරන්න.**
4. **අත්පත්‍රිකා භාවිතයට ගත හැකි අවස්ථා 5ක් සඳහන් කරන්න.**

# දැන්වීම්

ජනතාවට නොයෙක් දේ පිළිබඳව දැනුම් දීම සඳහා දැන්වීම් යොදා ගැනේ. රජයේ, ව්‍යාපාරික හා පෞද්ගලික වශයෙන් දැක්විය හැකි මෙම දැන්වීම් යටතට රැකියා ඇබෑර්තු, බැංකු කටයුතු, මිල ගණන් කැඳවීම්, උත්සව හා රැස්වීම්, අවමඟුල් දැන්වීම් හා වෙළෙඳ දැන්වීම් ආදිය ඇතුළත් වෙයි. මේ විවිධ වර්ගයේ දැන්වීම්, ආයතනික දැන්වීම් පුවරුවල ද පුවත්පත් වැනි මුද්‍රිත මාධ්‍යවල ද රූපවාහිනිය හා අන්තර්ජාලය වැනි විද්‍යුත් මාධ්‍ය ඔස්සේ ද දැක ගත හැකි ය.

## වෙළෙඳ දැන්වීම්

භාණ්ඩ හා සේවා පිළිබඳව පාරිභෝගිකයන් දැනුවත් කිරීමේ අරමුණෙන් වෙළෙඳ දැන්වීම් නිර්මාණය කෙරේ. දිනපතා පුවත්පත්වල මෙන් ම සඟරා, දුරකථන නාමාවලි හා සමරු කලාප ආදියෙහි ද වෙළෙඳ දැන්වීම් සුලබව දැකිය හැකි ය. මේවා විවිධ ස්වරූපයෙන් ඉදිරිපත් වෙයි.

වෙළෙඳ දැන්වීම් භාෂා භාවිතයත් නිර්මාණශීලි ගුණයත් ප්‍රකට කෙරෙන ප්‍රායෝගික ලේඛන විශේෂයකි. එහි ලා කරුණු තුනක් ප්‍රධාන වෙයි.

### අන්තර්ගතය

වෙළෙඳ දැන්වීම භාණ්ඩයක් පිළිබඳව නම් භාණ්ඩයේ නම ද සේවාවක් පිළිබඳව නම් සේවාවේ නම ද පැහැදිලිව සඳහන් විය යුතු ය. නිෂ්පාදන ආයතනයේ හෝ සේවා ආයතනයේ නම ද ඇතුළත් විය යුතු වෙයි. එම භාණ්ඩ හා සේවාවන් ලබා ගැනීමෙන් අත් වන ගුණ, වාසි හා ප්‍රතිලාභ ද අන්තර්ගතයට ඇතුළත් වීම අවශ්‍ය වේ.

## නිර්මාණශීලීත්වය

වෙළෙඳ දැන්වීමක් පාරිභෝගිකයාගේ ආකර්ෂණයට ලක් වන පරිදි සකස් කළ යුතු වෙයි. එහි දී සරල ලෙස මෙන් ම සිත් ගන්නා පරිදි බස යොදා ගැනීම, විවිධ හැඩරුවෙන් යුත් අකුරු, රූප, චිත්‍ර යොදා ගැනීම මෙන් ම සිත් ගන්නා ආකෘතියක් පිළිබිඹු වීම ද අපේක්ෂා කෙරේ.

## නිවැරදි භාෂා භාවිතය

වෙළෙඳ දැන්වීමක දී ද භාෂාව නිවැරදිව භාවිත කිරීම අත්‍යවශ්‍ය ය. නිර්මාණාත්මක මෙන් ම නිරවද්‍ය භාෂා භාවිතය පාරිභෝගික ආකර්ෂණයට පාත්‍ර වීමට ද හේතු වේ. නිරවද්‍ය අක්ෂර වින්‍යාසය, පද සාධනය හා වාක්‍ය යෝජනය වෙළෙඳ දැන්වීමක දී ද නො සලකා හළ හැකි අංග නො වේ.

පුවත්පත්වල පළ වන හා රූපවාහිනී, අන්තර්ජාල ආදි මාධ්‍යයන්හි දක්නට ලැබෙන වෙළෙඳ දැන්වීම් නිරීක්ෂණය කිරීමෙන් ඉහත ගුණාංග ඒවාහි ඇතුළත් වී ඇත්දැයි ඔබට නිරීක්ෂණය කළ හැකි ය.



1. **නව නිෂ්පාදනයක් හඳුන්වා දීම සඳහා වෙළෙඳ දැන්වීමක් නිර්මාණය කරන්න.**

   (පොත් හා ලිපි ද්‍රව්‍ය, දන්තාලේප, සබන් වර්ග, ආහාර ද්‍රව්‍ය, ගෘහ උපකරණ හෝ වෙනත් අදාළ නිෂ්පාදනයක් මේ සඳහා යොදා ගන්න)

2. **යම් ආයතනයක් තම සේවාව ප්‍රචාරය කොට සේවාලාභීන්ගේ ආකර්ෂණය දිනා ගැනීමට අපේක්ෂා කරයි. ඒ සඳහා සුදුසු වෙළෙඳ දැන්වීමක් සකස් කරන්න.**

## සටහන් (Memo)

ඉංග්‍රීසි භාෂාවෙන් Memorndom යනුවෙන් ද හැඳින්වෙන්නේ කිසියම් ආයතනයක් තුළ භාවිත කෙරෙන අභ්‍යන්තර සන්නිවේදන ක්‍රමයකි. සිංහල ව්‍යවහාරයේ දී මෙය මෙමෝ පත, සිහි පත ආදි නම්වලින් හඳුන්වනු ලැබේ. කිසියම් කණ්ඩායමකට තොරතුරක් දැනුම් දීම එහි මූලික කාර්යභාරය යි. කිසියම් විශේෂිත ගැටලුවක්, ප්‍රතිපත්තියක්, තීරණයක්, දිරි ගැන්වීමක්, අගය කිරීමක් එහි අන්තර්ගතය යි.

ලොව පුරා භාවිත කෙරෙන මෙමෝ පත් විවිධ ආකෘතිවලින් යුක්ත ය. ඒ අතරින් එක් ආකෘතියක් පහත දැක්වේ.

**මෙමෝ පත**

යොමුව : (ලබන්නාගේ නම සහ තනතුර)

වෙතින් : (යවන්නාගේ නම සහ තනතුර)

කාරණය : ....................................................

දිනය : ....................................................

පිටපත් : (පිටපත් ලබන අයගේ නම්/තනතුරු)

පණිවිඩය

ඉහත ආදර්ශනයේ දැක්වෙන පරිදි අදාළ තොරතුරු ඇතුළත් කිරීමෙන් මෙමෝ පත සම්පූර්ණ කළ යුතු ය. පණිවිඩය සරලව හා පැහැදිලිව ද නිරවුල්ව හා සංක්ෂිප්තව ද දැක්වීම වැදගත් වේ.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **ඔබ සමාජ සේවා අමාත්‍යාංශයේ ලේකම්වරයා යැයි සිතා ලෝක වැඩිහිටි දිනය සඳහා පාසල් සිසුන් අතර රචනා තරගයක් සංවිධානය කළ යුතු බව ඔබ අමාත්‍යාංශයේ සහකාර ලේකම් (මානව සම්බන්ධතා) වෙත දැනුම් දීම සඳහා මෙමෝ පතක් සකස් කරන්න.**

2. **ඔබ අධ්‍යාපන අමාත්‍යාංශයේ ලේකම්වරයා යැයි උපකල්පනය කර සිංහල භාෂා දිනය සාර්ථකව පැවැත්වීම පිළිබඳව අධ්‍යාපන අමාත්‍යාංශයේ භාෂා හා මානව ශාස්ත්‍ර අංශයේ අධ්‍යක්ෂ ඇතුළු කාර්ය මණ්ඩලය ඇගයීම සඳහා මෙමෝ පතක් සකස් කරන්න. (සියලු ම අතිරේක ලේකම්වරුන්ට පිටපත් යොමු කිරීම අවශ්‍ය වේ.)**

# 23 සාහිත්‍ය නිර්මාණ විචාරය

**සහෘද මනසේ රසවත් වූ හැඟීම් ඇති කිරීමට සමත් ගද්‍ය සහ පද්‍ය කෘති සාහිත්‍ය නිර්මාණ ගණයෙහි ලා සැලකේ. එය නිර්මාණාත්මක වූ කාර්යයකි. එම නිර්මාණ වින්දනය කිරීමෙන් ඉස්මතු වූ හැඟීම් සමුදාය හා එයින් මතු කර ගන්නා අර්ථ සමුදාය විචාරයේ අන්තර්ගතය වේ. සාහිත්‍ය නිර්මාණය හා සාහිත්‍ය විචාරය එකිනෙකට බැඳුණු අංග දෙකකි. සාහිත්‍ය විචාරය පිළිබඳ මෙම පාඩම මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍රගේ *සාහිත්‍ය විද්‍යාව* හා ජී.බී. සේනානායකගේ *නවකතා කලාව* යන කෘති ඇසුරෙන් සකස් කර ඇත.**

"අවක්තාපි ස්වයං ලොකඃ කාමං කාව්‍යපරීක්ෂකඃ
රසපාකානභිඥොපි භොක්තා වෙත්ති න කිං රසම්"

විචාරයේ ක්ෂේත්‍රය හා එහි සීමාව මේ ශ්ලොකයෙන් මැනවින් ප්‍රකාශ වේ. අහර ඉදි කළ හැක්කේ ස්වල්ප දෙනාට ය. එහෙත් සැම දෙනා ම අහර බුදිති, අහරේ රස දනිති. අහර පිසිනු ලබන්නේ බුදින්නන් සඳහා ය. එබැවින් අහර පිසන අය ය, අහර බුදින අය ය යනුවෙන් කොටස් දෙකක් ඇත. අහර බුදින අය යම් අහරක් රසවත් ද නැද්ද කියා පවසත්. එහෙත් ඔවුහු පිසීමෙහි නොපොහොසත් වෙති. අසවල් ද්‍රව්‍ය ගෙන අසවල් ලෙස ඉදි කළහොත් රසවත් වෙතියි කියන්ට ඔවුහු නො දනිති.

සාහිත්‍ය ක්ෂේත්‍රයෙහි ද මීට සමාන තත්වයක් පවතී. එහි ද රසවත් කොට කාව්‍ය නිර්මාණය කරන අය ය. රස විඳින අය ය යනු වශයෙන් කොටස් දෙකක් ඇත. රස විඳින අය, තමන් නිර්මාණ කාර්යයෙහි අසමත් වුව ද රස නීරස භේදය දනිති. එනම්, අසවල් කෘතිය රසවත් ය, අසවල් කෘතිය නීරස ය කියා පැවසීමට ඔවුන්ට පුළුවන. මක් නිසා ද යත් සාහිත්‍යය නිර්මාණය කොට තිබෙන්නේ ඔවුන්ගේ වින්දනය සඳහා බැවිනි. කවියාට උපදෙස් දීමට ඔවුහු නො දනිති. එහෙත් කාව්‍යය පරීක්ෂා කිරීම ඔවුන් සතු කාර්ය ය නොවෙතියි කිව නො හැකි ය.

විචාරය යි කියන්නේ කාව්‍යයේ රසය සම්බන්ධයෙන් ඒ විඳින්නන් විසින් කරන ලද ප්‍රකාශනයට ය. එහෙත් රස විඳින හැම දෙනාට ම මේ කාර්යය මනා ලෙස ඉටු කළ නො හැකි ය. බස දන්නා සියලු දෙන ම කාව්‍යයේ රස විඳිති. එහෙත් තමා විඳි රසය කෙබන්දක් දැයි ප්‍රකාශ කිරීම වූකලි හැම දෙනාට ම කළ හැක්කක් නො වේ. ඊට ආත්මාන්වීක්ෂණය අවශ්‍ය ය. විචාරකයා තමාගේ හදවත දෙස බලා එහි හටගත් භාවමය අත්දැකීම සුදුසු වචනයෙන් කියා පෑ යුතු ය.

බස දන්නා සියලු දෙනා ම රස විඳිත් නම් විචාරය කුමට දැයි කෙනෙකු අසන්ට පුළුවන.

බස දන්නා සියලු දෙනාට රස වින්දනයේ ශක්‍යතාව තිබෙන නමුත් නිර්මාණ විෂයයෙහි මෙන් වින්දන විෂයයෙහි ද පරිචය ඇති නම් මැනවි. බස දැනීම වූකලි එක් එක් කෙනා තුළ එක් එක් ප්‍රමාණයට පිහිටා තිබිය හැක්කකි. යන්තම් වචනාර්ථය තේරුම් ගැනීම ද බස දැනීමක් වේ. එහෙත් බස සම්පූර්ණයෙන් දැන ගැනීමට නම් බස් වහරේ විවිධාර්ථ වටහා ගත මනා ය. මතු පිටින් පෙනෙන වාච්‍යාර්ථය නොව ව්‍යංග්‍යාර්ථය ද අවබෝධ කළ යුතු ය. බසේ බුද්ධිගෝචර වන කොටස පමණක් නො ව හෘදයගෝචර වන කොටස ද දත යුතු ය.

රස වින්දනයට බස දැන ගැනීම අවශ්‍ය වන අතර කාව්‍ය රස වින්දනය හේතු කොටගෙන බස පිළිබඳ දැනුම ද වර්ධනය වේ. මක් නිසා ද යත් බස ඉතා සූක්ෂ්ම ලෙස පරිහරණය කරන්නේ කවීන් වන බැවිනි. කවියා භාෂාවේ ඇති මුළු ශක්‍යතාවෙන් ප්‍රයෝජන ගන්නා කෙනෙකි. පිසමන් දන්නා අරක්කැමියා නොයෙක් ද්‍රව්‍ය ගෙන නොයෙක් අයුරින් මිශ්‍ර කොට, අපූරු රසයෙන් යුත් අහර පිසන්නා සේ ම කවියා ද නොයෙක් වදන් ගෙන, නොයෙක් අරුත් ගෙන, විවිධ ලෙස මිශ්‍ර කොට, පෙර නුවූ විරූ ව්‍යංග්‍යාර්ථ, ශබ්ද ධ්වනි ඇති කොට අපූරු රසයක් නිර්මාණය කරයි.

එබැවින්, විචාරය යි කිව යුත්තේ කාව්‍ය රස වින්දනයේ මනා පරිචය ඇති අයගේ ප්‍රකාශනයට විය යුතු ය. එම ප්‍රකාශනවලින්, විවිධ රස විඳ පළපුරුද්ද නැති අයට එබඳු වින්දනයකට මග පෑදේ. සාමාන්‍ය ලෝකයාට විෂය නුවූ වින්දනයක් යම් කාව්‍යයක ඇතැයි විචාරකයා පවසයි. ඔහුගේ කීම ඔස්සේ ගොස් සාමාන්‍ය ලෝකයා ද වින්දනයක් ලබා ගනී. අසවල් කෘතිය රසවත් ය අසවල් කෘතිය නීරස යයි කියන්නාවූ විචාරකයා තමාගේ ප්‍රකාශනය සනාථ කිරීම් වස් යම් යම් හේතු දක්වයි. එහෙත් ඔහු තර්කානුකූල න්‍යායයක් අනුගමනය නො කරයි. රසය වූකලි භාවමය වින්දනයකි. එය තර්ක බුද්ධියට හසු වන සත්‍යයක් නො වේ. විචාරකයා කියන්නේ අසවල් කවියෙන් අසවල් වින්දනයක් ලබාගත හැකි ය කියා ය. ඇත්ත වශයෙන් ඔහු කියන්නේ “මම මේ කවියෙන් රස වින්දනයක් ලැබුයෙමි. ඔබට ද එබඳු වින්දනයක් ලැබිය හැකි ය” කියා යි. එපමණක් නො වේ. “මම කවියෙන් රස වින්දනයක් ලැබුයෙමි. මා දක්වන කරුණු සලකතොත් ඕනෑ ම කෙනෙකුට එම රසය විඳිය හැකි” යි ද ඔහු කියයි.

කෙබඳු ‘කරුණු’ ද ඔහු දක්වන්නේ? “මේ කවියේ අසවල් ලක්ෂණ තිබේ. මෙහි පද සංයෝජනය මෙසේ ය. මේ පද සංයෝජනයෙන් මෙබඳු ව්‍යංග්‍යාර්ථයක් දැනවේ. මේ අලංකාරයෙහි මේ ව්‍යංග්‍යය ඇත. මේ වචනයේ ශබ්ද ධ්වනිය මෙසේ ය” යනාදි කරුණු ය ඔහු දක්වන්නේ. “මගේ වින්දනයට හේතු වූයේ මේ කරුණු ය. එම කරුණු සලකතොත් ඔබට ද එබඳු වින්දනයක් ඇති විය යුතු ය.”යි ඔහු කියයි.

විචාරයේ ප්‍රයෝජනය මේ යි. සාමාන්‍ය පාඨකයාට නො පෙනෙන කරුණු කවි බස හැදෑරූ අයට, කාව්‍ය රස වින්දනයේ පළපුරුද්ද ඇති අයට, එනම්: විචාරකයන්ට පෙනේ. එවැන්නන්ගේ විවේචන කියවීමෙන් පොදු ලෝකයාත් කාව්‍ය රස වින්දනයට පෙලඹේ. නැතහොත් විචාරයෙන් පොදු ලෝකයාගේ වින්දනය වඩාත් තීව්‍ර වේ. වඩාත් ගැඹුරු වේ. විචාරය සාර්ථක වන්නේ ඊට ආශ්‍රය වූ කාව්‍යය කිසි යම් ප්‍රමාණයකට වත් රසවත් වූ විට ය. යම් කාව්‍යයක් නීරස යයි පෙන්වා දීමට කැප වූ විචාරය නියම විචරය නො වේ.

නීරස රචනාවන් විවේචනය කරන්ට සිදු වීම විචාරකයාගේ අභාග්‍යය ය. රසයෙහි ආවිෂ්ට වී කරන විචාරය පමණ ය සාර්ථක වන්නේ. පාඨකයා රස වින්දනයට පෙලඹවීමේ ශක්තිය ඇත්තේ ද එබඳු විචාරයෙහි ය.

සාහිත්‍යකාරයන්ගේත් සාහිත්‍ය රසිකයන්ගේත් උසස්කමට හෝ පහත්කමට හෝ අනුකූලව සාහිත්‍යය නැගෙයි; වැටෙයි. පරම්පරාවක ජීවිතය පිළිබඳ අවබෝධය ඔවුන්ගේ බුද්ධි මහිමයට අනුව උසස් හෝ පහත් හෝ වෙයි. එහෙයින් සාහිත්‍යකාරයන් ද සාහිත්‍ය රසිකයන් ද බුද්ධි මහිමයෙන් දියුණු වූ කලක නිපදවූ සාහිත්‍යය එසේ දියුණු නොවූ කලක නිපදවූ සාහිත්‍යයට වඩා ජීවිත දැනුමෙන් පෝෂිත ය.

එහෙත් සාහිත්‍යකාරයන් ජීවිතය විස්තර කරන්ට හෝ විවරණය කරන්ට හෝ යොදන බුද්ධියෙහි තියුණු බව පමණක් සලකා සාහිත්‍යයක ශ්‍රේෂ්ඨත්වය මැනීම සුදුසු නො වේ. සාහිත්‍යකාරයන්ගේ බුද්ධියට විෂයය වන ජීවිත ප්‍රදේශයෙහි විශාලත්වය ද සාහිත්‍යයක ශ්‍රේෂ්ඨත්වය මැනීමෙහි දී සලකා බැලිය යුතු යුතු ය. ජීවිතයෙහි සුළු කොටසක් විවරණය කරන කිසියම් සාහිත්‍යයක් ඒ සුළු කොටස ඉතා තියුණු ප්‍රභාවකින් පරීක්ෂා කොට විවරණය කරන්නක් විය හැකි ය. ජීවිතයෙහි විශාල කොටසක් විවරණය කරන සාහිත්‍යයක් එපමණ තියුණු ප්‍රභාවකින් යුක්ත නො වන්නක් විය හැකි ය. මෙවැනි සාහිත්‍ය දෙකක ශ්‍රේෂ්ඨත්වය සම කොට බලා නිසැක තීරණයකට බැසීම දුෂ්කර යයි සිතමි. නවීන සාහිත්‍යයන් ද පැරණි සාහිත්‍යයන් ද සම කරන්නවුන් විසින් බොහෝ විට මේ දුෂ්කරත්වයට මුහුණ පෑ යුතු වෙයි.

සාහිත්‍යකාරයන් ජීවිතය විවරණය කිරීමට යෙදූ ප්‍රතිභාවෙහි තියුණු බව මෙන් ම, විවරණයට භාජන වූ ජීවිත ප්‍රදේශයෙහි විශාලත්වය ද සාහිත්‍යයක ශ්‍රේෂ්ඨත්වය මැනීමෙහි දී එක ලෙස වැදගත් කොට සැලකිය යුතු ය.

සාහිත්‍යයක ගැබ් වන ප්‍රතිභාවෙන් සාහිත්‍යකාරයාගේ ප්‍රතිභාව මෙන් ම, සාහිත්‍ය රසිකයාගේ ප්‍රතිභාව ද මැනිය හැකි ය. එසේ ම සාහිත්‍යයක විවරණයට භාජන වූ ජීවිත ප්‍රදේශයේ ප්‍රමාණයෙන් දැන ගත හැක්කේ සාහිත්‍යකාරයා විසින් වැදගත් කොට සැලකූ ජීවිත ප්‍රදේශයෙහි ප්‍රමාණය පමණක් නො වේ. සාහිත්‍යකාරයා විසූ සමාජය විසින් වැදගත් කොට සැලකූ ජීවිත ප්‍රදේශයෙහි ප්‍රමාණය ද දැන ගත හැකි ය.

සාහිත්‍ය විද්‍යාව, එදිරිවීර සරච්චන්ද්‍ර

පොත පත කරනු ලබන්නේ රසාස්වාදය සඳහා ය. එහෙයින් සාහිත්‍යකාරයා පොතක් කිරීමේ දී තම ප්‍රතිභාව හා රුචි අරුචිකම් මෙන් ම සමාජයෙහි රුචි අරුචිකම් හා ප්‍රතිභාව ද සැලකිය යුතු ය. මේ කරුණු නො සලකා කළ ග්‍රන්ථයක් සාහිත්‍යකාරයාගේ පරම්පරාවට නො ගැළපෙයි. කිසියම් පරම්පරාවක් විසින් නො සලකා හළ ඇතැම් ග්‍රන්ථකාරයන් පසුව ආ පරම්පරාවක් විසින් පෙර සිටියවුන් නො දුටු සත්‍ය ද රස ද ඒ සාහිත්‍යකාරයන්ගේ ග්‍රන්ථවල දැකීම මීට හේතුව ය. ඒ ග්‍රන්ථකාරයන් තමන්ගේ සමකාලීන රසිකයන් විසින් නො සලකා හළේ ප්‍රතිභාවෙන් ද රුචිකත්වයෙන් ද ඔවුන්ගේ ග්‍රන්ථ ඔවුන්ගේ සමාජයට නො ගැළපුණු හෙයිනි. සාහිත්‍යකාරයා තියුණු බුද්ධියකින් වටහා ගත් දෙයක් රසිකයා විසින් ද වටහා ගන්ට නම් ඔහු ඊට සෑහෙන පමණ බුද්ධියකින් යුක්ත වූවකු විය යුතු ය. සාහිත්‍යකාරයා තම රුචි අරුචිකම්වලට අනුව කළ ග්‍රන්ථයක

රස විඳින රසිකයා ද සාහිත්‍යකාරයාගේ රුචිකත්වයට සමාන රුචිකත්වයක් ඇත්තකු විය යුතු ය. කිසියම් ග්‍රන්ථයකින් විස්තර කරන ජීවිත ප්‍රදේශය සමාජයට රුචි නො වේ නම් ඒ ග්‍රන්ථය ද ඔවුන්ට රුචි නො වේ. එහෙයින් කිසි සාහිත්‍යයකට විෂයය වන ජීවිත ප්‍රදේශයෙහි ප්‍රමාණය සමාජයේ රුචි අරුචිකම්වලට අනුව සීමා වෙයි.

නවකතා කලාව, ජී.බී. සේනානායක

## අවබෝධය

1. 'සාහිත්‍යය' යන්න කෙටියෙන් විස්තර කරන්න.
2. සාහිත්‍යකරුවාගේ ප්‍රධාන මාධ්‍යය වන්නේ කුමක් ද?
3. නිර්මාණකරුවකු තුළ තිබිය යුතු මූලික ගුණාංග මොනවා ද?
4. 'සාහිත්‍ය නිර්මාණ විචාරය' යන්න ඔබට හැඟෙන්නේ කෙසේ ද?
5. විචාරයේ දී අවධානය යොමු විය යුතු අංග මොනවා ද?

## ලිඛිත අභ්‍යාස

1. **සාහිත්‍ය නිර්මාණයක 'රසය' ඇති කිරීමට යොදා ගනු ලබන උපක්‍රම කවරේ දැයි සාකච්ඡා කරන්න.**
2. **'සාහිත්‍ය විචාරය' පිළිබඳ ලිපි සොයා ගොනුවක් සාදන්න.**
3. **තෝරා ගත් ලේඛකයන්ගේ නිර්මාණ කිහිපයක් පිළිබඳ විචාරය කරමින් බිත්ති පුවත්පතෙහි අතිරේකයක් සකසන්න.**

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පහත දැක්වෙන්නේ වංග ලේඛක විභූති භූෂණ බන්දොපාධ්‍යායගේ 'පොථේර් පංචාලි' නවකතාවේ සිංහල පරිවර්තනය වන 'මාවතේ ගීතය' කෘතියෙන් උපුටා ගන්නා ලද කොටසකි. එහි දැක්වෙන පරිසර වර්ණනය පිළිබඳ ඇගයීමක් කරන්න.**

   'ගං ඉවුරේ නැමුණු මුදුන් ඇති ගස්, නදියේ සිහිල් කාලවර්ණ ජලය මත මල් විසුරුවා දමා ඇත. සෝනාඩංගා තැනිතලාව මැද මගීන්ගේ නුග ගස පිටුපසින් විශාල රක්තවර්ණ සූර්යයා මුවා වෙයි.
   එය පෙනෙන්නේ කිසියම් දේව දරුවෙක්, රතු පැහැයින් ගිනියම් වූවාක් මෙන් පෙනෙන සාගරයෙන් බුබුලක් ගෙන සෙල්ලමට පිඹ අහසට යැවූ සේ ය.'

   (පරිවර්තනය : චින්තා ලක්ෂ්මී සිංහආරච්චි)

2. **ඔබ කියවූ පොතක ඇතුළත් රසවත් පරිසර වර්ණනයක් බිත්ති පුවත්පතට ඇතුළත් කිරීම සඳහා සකස් කරන්න.**

Suraksha
සුරක්ෂා
சுரக்ஷா

# සදා සුරකිමු - දැයේ දරුවන්

## தேசத்தின் பிள்ளைகளை - என்றென்றும் காத்திடுவோம்



අධ්‍යාපන අමාත්‍යාංශය වෙතින් ශ්‍රී ලාංකේය පාසල් දූ පුතුන් වෙනුවෙන් නොමිලේ ලබාදෙන රක්ෂණාවරණය දැන් වැඩි ප්‍රතිලාභ සමගින් ඉදිරියට ම

- රජයේ රෝහලක ප්‍රතිකාර සඳහා දිනකට රු. 3,000ක් ඇතුළුව රෝහල්ගතවීමක දී සිසුවෙකුට රු.200,000ක ආවරණයක්.
- බාහිර රෝගියෙකු ලෙස ප්‍රතිකාර ලබා ගැනීමේ දී සිසුවෙකු සඳහා රු. 20,000ක්.
- දෙමාපියන්ගේ/භාරකරුගේ වියෝවක දී රුපියල් 200,000ක ආවරණයක් සහ සිසු වියෝවක දී රු. 150,000ක්.
- අසාධ්‍ය හෝ දිගුකාලීන රෝගාබාධ සඳහා වන ආවරණය රුපියල් 200,000ක් හෝ ඊට වැඩි (සමස්ත අවශ්‍යතාව මත)

**වැඩි විස්තර සඳහා**

අධ්‍යාපන අමාත්‍යාංශය - 011641555

கல்வி அமைச்சின் மூலம் இலங்கையில் பாடசாலை மாணவர்களுக்காக வழங்கும் இலவசக் காப்புறுதித் திட்டம் இப்பொழுது மேலும் அதிக பிரதிலாபங்களுடன் தொடர்கிறது.

- அரச மருத்துவமனை ஒன்றில் சிகிச்சைக்காக நாளொன்றிற்கு ரூ. 3,000 உள்ளடங்கலாக, மருத்துவமனையில் தங்கி சிகிச்சை பெறுமிடத்து ஒரு மாணவருக்கு தலா ரூ.200,000 காப்புறுதி.
- வெளி நோயாளராக சிகிச்சை பெறும் ஒரு மாணவருக்கான காப்புறுதி ரூ.20,000.
- பெற்றோர்/பாதுகாவலர் மரணத்தின்போது ரூ.200,000 காப்புறுதி. மாணவரது மரணத்தின்போது ரூ.150,000 காப்புறுதித் தொகையாகும்.
- பாரதூரமான அல்லது நீண்டகால நோய்களுக்கான காப்புறுதி ரூ.200,000 அல்லது அதற்கு மேல் (முழுமையான தேவையைப் பொறுத்தது.)

**மேலதிய தகவல்களுக்கு**

கல்வி அமைச்சு - 011641555

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education